භදන්තාචරිය අරියවංස ස්ථවිරපාදයන් විසින් විරචිත

# සුත්තසඞ්ගහට්ඨකථා

## (සිංහල පරිවර්තනය)



ප්‍රකාශනය

**බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය**

## සුත්තසඞ්ගහට්ඨකථා සිංහල පරිවර්තනය

පාලි අට්ඨකථා සිංහලට පරිවර්තනය කිරීමේ ව්‍යාපෘතිය යටතේ, බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානයේ ඉල්ලීම පරිදි, සුත්තසඞ්ගහට්ඨකථා, සිංහලයට පරිවර්තනය කළ කළුතර සුසීමාරාමාධිපති ආදාවල දේවසිරි මහා ස්ථවිරයෝ 1968 දී විද්‍යෝදය පිරුවන් හි අවසාන විභාගයෙන් භාෂාත්‍රයෙන් උසස් ලෙස සමත් වැ, රත්මලානේ භික්ෂු අභ්‍යාස විද්‍යාලයෙන් ලත් පුහුණුවෙන් පසුව, කළුතර ධර්ම විජය පිරිවෙනේ ද, රත්මලානේ පරමධම්මචේතිය පිරිවෙනේ ද පරිවේනාධිපති පදවි ඉසුලූහ.

ප්‍රාචීන පණ්ඩිත උපාධිය ද ලබාගත් උන්වහන්සේ කැළණිය විශ්වවිද්‍යාලයෙන් පාලි ගෞරව ශාස්ත්‍රවේදී උපාධිය ලබා ගත්හ. විශ්‍රාම ගැනීමෙන් පසුව දඹදිව බුද්ධගයා සාරානාත් ආයතන වල ධර්ම උපදේශකවරයෙකු හා ආචාර්ය වරයෙකු වශයෙන් වසර හතක් සේවය කළහ. පූජ්‍ය දේවසිරි හිමියෝ,

**හේතු ඵල ධර්ම විභාගය**
**බෝමැඩ කරා**
**දඹදිව බුදු සමයේ ඉතිහාසය**
**(පර්යේෂණ කෘතිය)**

යන ග්‍රන්ථවල කතුවරයාණෝය. කලුතර බෞද්ධ ජනතාවගේ ප්‍රසාදයට පත් උන්වහන්සේ ප්‍රදේශයේ ආගමික හා ශාසනික සේවයේ යෙදෙන ගෞරවණීය මහා ස්ථවිරයන් වහන්සේ නමකි.

---

Vol XXV

භදන්තාචරිය අරියවංස ස්ථවිරපාදයන් විසින් විරචිත

## පරමත්ථජෝතිකා නම් වූ

# සුත්තසංගහට්ඨ කථා

(සිංහල පරිවර්තනය)

*බුද්ධශාසන අරමුදලේ භාරකාර මණ්ඩලයේ අනුග්‍රහයෙනි.*

පාලි අට්ඨකථා සිංහල පරිවර්තන - 32

භදන්තාචරිය අරියවංස ස්ථවිරපාදයන් විසින් විරචිත

## පරමත්ථජෝතිකා නම් වූ

# සුත්තසංගහට්ඨ කථා

(සිංහල පරිවර්තනය)

*සිංහල පරිවර්තනය*

**පූජ්‍ය ආඳාවල දේවසිරි නායක මාහිමි**

*අධීක්ෂණය*

**විජිතනන්ද සරත්චන්ද්‍ර**

*ප්‍රකාශනය*



බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය
125, ඇන්ඩර්සන් පාර, නැදිමාල, දෙහිවල.
දුරකථන: 2734256 ෆැක්ස්: 2736737

භදන්තාචරිය අරියවංස ස්ථවිරපාදයන් විසින් විරචිත

**පරමත්ථජෝතිකා නම් වූ**

# සුත්තසංගහට්ඨ කථා

(සිංහල පරිවර්තනය)

**ප්‍රථම මුද්‍රණය 2008**

I S B N - 978-955-1604-34-9

*පරිගණක අකුරුකරණය*

**උපමාලි කුලසේකර - කටුගස්තොට.**

*පිටකවරය*

**සුසිල් ජයශාන්ත පෙරේරා - මහරගම.**

මුද්‍රණය

**අජිත් ප්‍රින්ටර්ස්**

85/4, පරණ කැස්බෑව පාර, ගංගොඩවිල, නුගේගොඩ.

දුරකථනයඃ 0112517269

*ප්‍රකාශනය*

**බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය**

125, ඇන්ඩර්සන් පාර, නැදිමාල, දෙහිවල.

දුරකථනඃ 2734256, 2728468, 2726234 ෆැක්ස්ඃ 2736737

විද්‍යුත් තැපැලඃ bcc456@sltnet.lk

www.buddhistcc.com

# ප්‍රස්තාවනා (අට්ඨකථා)

පාළි භාෂාව මධ්‍යතන ඉන්දු ආර්ය පූර්ව අවධියට අයත් ප්‍රාකෘත විශේෂයක් බවත්, එම ප්‍රාකෘතය වූ කලී එකල උත්තර භාරතයේ ඒ ඒ ප්‍රදේශවල පැවති පොදු ජනයාගේ කථා ව්‍යවහාරය බවත්, පිළිගත් විද්වත් මතයයි. ප්‍රාකෘත ව්‍යවහාරය පොදු ජනතාවගේ හා ශ්‍රමණ සම්ප්‍රදාය ගරු කළ චින්තකයන්ගේ ද භාෂා මාධ්‍යය විය. එය උත්තර භාරතයේ පැතිරී ගිය ඉන්දු යුරෝපීය භාෂා ව්‍යවහාරයෙන් ජනිත වූවක් සේ සැලකිය යුතුය. මෙම ප්‍රාකෘත ව්‍යවහාරයේ ලිඛිත සාධක අනුව මූල අවස්ථාවක් සේ පෙනෙන පාළි භාෂාව උත්තර භාරතයේ කිසියම් විශේෂ ප්‍රදේශයක කථා ව්‍යවහාරයේ මාධ්‍යයක් විය.

1. පාළි භාෂාව ක්‍රි.පූ. 6 වැනි 7 වැනි සියවස්වල කොසොල් රට පැවති කථා ව්‍යවහාරය පදනම් කොට ඇති වූවෙකැයි ද එය නොයෙක් ජනපදවල ජනයාගේ පොදු භාෂා මාධ්‍යය වී යැයි ද මහාචාර්ය රීස් ඩේවිඩ්ස් තුමා පවසයි.

2. පාළිය උජ්ජයිනී ප්‍රදේශයේ භාෂාව යැයි වෙස්ටර් ගාඩ් සහ ඊ කුන් සහ ඔටෝ ෆ්‍රොන්කේ වැනි විචාරකයෝ පවසති.

3. පාළිය මගධයේ කථා ව්‍යවහාරයයි යන බුද්ධඝෝෂ හිමියන්ගේ මතය මහාචාර්ය ගෛගර් තුමා අනුමත කරයි.

4. බුදුරජාණන් වහන්සේ මුලදී කොසොල් රට බසින් දහම් දෙසන්නට ඇතැයි සලකන වින්ටර්නිට්ස් පාළි ත්‍රිපිටකයේ භාෂාව පැරණි මගධ ව්‍යවහාරය බව පදනම් කොට වෙනත් ප්‍රදේශ ව්‍යවහාරයන්ගේ සම්මිශ්‍රණයද ඇතිව ගොඩනැගුණු බෞද්ධයන්ගේ සාහිත්‍යයික භාෂාවකැයි පවසයි.

5. බුදුන් වහන්සේ ධර්ම ප්‍රචාරයේ යෙදුණු පන්සාළිස් වසින් වැඩි කොටසක් කොසොල් මගධ ප්‍රදේශවල සැරිසැරූ බව බෞද්ධ සාහිත්‍යයේ පෙනෙන බැවින් පාළි භාෂාව කොසොල් මගධ දෙරට

කථා ව්‍යවහාරය පදනම් කොටගෙන බිහි වූවාක් සේ සැලකීමට පුළුවන් බව ඊ කුත් නම් විචාරකයා පෙන්වා දෙයි.

මෙම විග්‍රහයන් ශාස්ත්‍රීය වශයෙන් වැදගත් වන අතර විශේෂයෙන් සැලකිය යුත්තේ බුදුන් වහන්සේගේ මතයයි. බුදුරජාණන් වහන්සේ දක්වා වදාළ ආකල්ප විග්‍රහ වන්නේ මජ්ඣිම නිකායේ අරණ විභංග සූත්‍රයෙනි. මෙම සූත්‍රයෙන් පෙන්වන්නේ උන්වහන්සේ භාෂා මාධ්‍යයෙහි අනවශ්‍ය ලෙස දැඩිව එල්බ ගත් ශාස්තෘවරයෙකු නොවන බවයි. එකම දෙය විවිධ ජනපදවල නාම කීපයකින් හඳුන්වනු ලබන කල ඒ එක නාමයක් දැඩිව අල්ලා නොගෙන ඒ ඒ ලෙසට ව්‍යවහාර කළ යුතු බවත් ලෝක ව්‍යවහාරය නොඉක්මවිය යුතු බවත් අරණ විභංග සූත්‍රයෙහි උගැන්වෙයි.

බුද්ධ පරිනිර්වාණයෙන් පසුව ත්‍රිපිටකය සංගීත වූ භාෂාව වන පාළි භාෂාව ථේරවාදීන්ගේ ආගමික භාෂාව විය. එය සමස්ත ත්‍රිපිටකය පුරා රැඳී ගියේය. ථේරවාදීන්ගෙන් බිඳී ගිය මහායානිකයෝ බුද්ධ ධර්මය සංස්කෘතයට පෙරළා ගත්හ. ඔවුන්ගේ සංස්කෘත සාහිත්‍යය දියුණුවීමත් මුස්ලිම් ආක්‍රමණ වැනි ආක්‍රමණත් මහායානික දර්ශනය විශ්ව විද්‍යාල මගින් රට මුළුල්ලෙහි බෙදා හැරීමත්, මහායානිකයන් ආමිස පූජා යන්ත්‍ර, මන්ත්‍ර ආදියෙන් පෘථග්ජන ප්‍රසාදය දිනාගැනීමත්, භික්ෂු විනය නීති ලිහිල් ලෙස මහායානිකයන් විසින් සකස් කිරීමත් ආදිය නිසා බුද්ධ ධර්මයත් පාළි භාෂාවත් බුද්ධජන්මභූමියෙන් අතුරුදහන් විය. එය ශ්‍රී ලංකාද්වීපයේ තහවුරු විය.

## හෙළඅටුවා

සම්බුද්ධ පරිනිර්වාණයෙන් දෙසිය පන්තිස් වැන්නෙහි අශෝක අධිරාජයාගේ දායකත්වයෙන් පැලලුප් නුවරදී තුන්වන සංගායනාව පැවැත්විය. මොග්ගලීපුත්තතිස්ස මහ රහතන් වහන්සේගේ ප්‍රධානත්වයෙන් රහතන් වහන්සේලා දාහක් සම්බන්ධ වෙමින් මෙම සංගායනාව පවත්වා ඇත. සාහස්සිකා නමින් හඳුන්වන මෙම සංගායනාව නව මසකින් සම්පූර්ණ විය.

තෘතිය සංගායනාවසානයේ දඹදිව ථේරවාදාචරිය පරම්පරාවේ අවසන් පුරුෂයා වූ මොග්ගලීපුත්තතිස්ස මහ රහතන් වහන්සේගේ ශිෂ්‍ය

මිහිඳු මහ රහතන් වහන්සේ විසින් තෘතීය සංගායනාවේදී තෝරා බේරා ගෙන සංග්‍රහ කළ, ථේරවාදී ත්‍රිපිටකය ශ්‍රී ලංකාවට ගෙන එන ලදි. මිහිඳු හිමියන් විසින් ලක්දිවට ගෙන එන ලද පාළි ත්‍රිපිටකය මහා අරිට්ඨ රහතන් වහන්සේ ප්‍රමුඛ කොට ඇති සිංහල භික්ෂූන් වහන්සේලා උගත්හ. පාළියෙන් තිබූ ත්‍රිපිටකයේ ගැටලු තැන් සිංහල ජනතාවට පැහැදිළි කර දීම අවශ්‍ය විය. බුද්ධ කාලයේ සිට වාචනා මාර්ගයෙන්, ආචාර්ය පරම්පරා වලින් පැවත ආ අර්ථ විවරණ ක්‍රම මිහිඳු හිමියන්ගෙන් සිංහල භික්ෂූන් වහන්සේලා උගෙන ත්‍රිපිටකයේ ගැටලු තැන් හෙළ බසින් අරුත් විවරණය කළහ. හෙළටුවා නමින් මේවා හඳුන්වයි.

අටුවා වනාහි ත්‍රිපිටකයට අයත් පොත් වලට ලියා ඇති ව්‍යාඛ්‍යාන සංග්‍රහ සමූහයයි. අටුවාවල පරමාර්ථය පෙළෙහි ඇති දුරවබෝධ වචන සහ ධර්මයේ ගැඹුරු තැන් විස්තර කිරීමත් අවශ්‍ය තැන්වලදී විස්තරාර්ථ සැපයීමත්ය. මෙම පරමාර්ථයෙන් ලියන ලද හෙළටුවා නම්,

මහා අට්ඨකථා
කුරුන්දි අට්ඨකථා
පච්චරිය අට්ඨකථා නම් වේ.

හෙළ අටුවා අතුරින් ප්‍රමුඛ ස්ථානය දරුවේ මහා අට්ඨකථාව හෙවත් මූල අට්ඨ කථාවයි. බුද්ධඝෝෂ හිමියන්ගේ අට්ඨ කථා සියල්ලටම පාහේ ශරීරය කරගෙන ඇත්තේ මෙම අටුවාවයි. තුන් පිටකයටම අයත් අට්ඨ කථාවන්හි මහා අට්ඨකථාව ගැන සඳහන් වන බැවින් එය තුන්පිටකයම අළලා සකස් වුනු හෙළටුවාවක් වශයෙන් සැලකිය හැකිය. වස්තු විෂය අතින් සෙසු හෙළටුවාවන්ට වඩා පරිපූර්ණ වී තිබුණ මහා අට්ඨකථාවේ ලක්දිව සිදුවූ දේ පිළිබඳව බොහෝ වෘතාන්ත ද සඳහන්ව තිබුණ බව සිතා ගත හැකිය.

මහා පච්චරිය අට්ඨකථාවට එම නම ලැබුනේ පච්චරියක් හෙවත් පහුරක් උඩදී එය ලියන ලද බැවිනි. කුරුන්දිවේලු විහාරයේදී ලියන ලද හෙයින් කුරුන්දි අටුවා නම් විය.

මෙම ප්‍රධාන හෙළටුවාවන්ට අමතරව තවත් අටුවා කීපයක් දක්නට ඇත. අන්ධ අට්ඨකථාව එයින් එකකි. දකුණු ඉන්දියාවේ කාඤ්චිපුර

(කොන්ජිවරම්) යෙහි පැවති අටුවාවයි. එය ආන්ධ්‍රා භාෂාවෙන් ලියා ඇතැයි සැලකේ.

## බුද්ධඝෝෂ හිමි

දඹදිව බෝමැඩට නුදුරු ඝෝෂ නම් ග්‍රාමයේ බමුණු කුලයක උපත ලද බුද්ධඝෝෂ වාදයෙහි දක්‍ෂ වූ රේවත නම් මහා තෙරපාණන් වෙත පැවිදි වූ බව ප්‍රචලිත මතයයි. බුද්ධඝෝෂ මහාබෝධි මණ්ඩපයට දකුණුදිග බමුණුගම උපන් බව සද්ධම්මසංගහ නම් පොතෙහි සඳහන් වේ. බෝමැඩට නුදුරෙහි ඝෝෂ නම් වූ ගමේ උපන් බව බුද්ධඝෝසුප්පත්ති නම් කථාවේ ද සඳහන් වේ. මෙවැනි විවිධ කරුණු විමංශනයෙන් පසුව බුද්ධඝෝෂ ජන්ම භූමිය මොරණ්ඩඛේටක නම් ගම බව පිළිගෙන ඇත. ආන්ධ්‍ර දේශයේ ගුන්ටූර් දිස්ත්‍රික්කයේ පාල්නාඩ් තලුන් පෙදෙසේ "කෝටනේමලී පුරිගුන්ඩිලු පල්ලි" යන ලඟ පිහිටි ගම් දෙක මොරන්ඩඛේටක යැයි පැවසේ. උන්වහන්සේ උපන් පෙදෙස මොරන්ඩඛේටක යැයි විසුද්ධි මග්ගයෙන් පෙනේ. මජ්ඣිමනිකායට්ඨ කථාවේ කර්තෘ සංදර්ශක ගාථාවක මයූර සුත්ත පට්ඨන හෝ මයූර රූප පට්ඨන සඳහන් වන බැවින් එතුමා එහි විසූ බව ද සිතිය හැකිය.

ව්‍යාකරණ විෂයෙහි ද දර්ශන ශාස්ත්‍රයෙහි ද වෛදික ග්‍රන්ථ විෂයෙහි ද ඉතිහාස පුරාවිද්‍යා විෂයෙහිද න්‍යාය ව්‍යවච්ඡේද විද්‍යාවත් හීද ලක්‍ෂණ ශාස්ත්‍රයෙහිද පැතිරී ගිය බුද්ධි ප්‍රභාවයක් එතුමා කෙරෙහි පැවති බව පැහැදිලිය. බුද්ධඝෝෂ හිමියන් ලංකාවට පැමිණීමට පෙර ඤාණෝදය නම් ධර්ම ප්‍රකරණයත් අත්ථසාලිනී අටුවාවත් දඹදිව දී කළ බවද සඳහන්ය. බුද්ධඝෝෂ හිමියන් කලින් සර්වාස්ති වාදියෙකුව සිට පසුව ථේරවාදී වූ බව ඇතැම් විචාරකයන්ගේ පිළිගැනීමයි.

බුද්ධඝෝෂ හිමියන් ලක්දිවට පැමිණියේ අනුරාධපුරය රාජධානිය කරගත් මහානාම රජ දවසය. බුද්ධවර්ෂ 953-975 අතර කාලයේය. උන්වහන්සේ ලංකාවට වඩින විට අට්ඨකථා සංහිතා කීපයක්ම මේ දිවයිනේ පැවති බවත් ඒවා හෙළ බසින්ම උගත් බවත් මෙයින් සමහරක් ග්‍රන්ථ ස්වරූපයෙන්ද සමහරක් පූර්වාචාරීන්ගේ මතවාද ඇතුලත් වුන සාහිත්‍යය වශයෙන්ද පැවති බවත් ආචාර්ය අදිකාරම් මහතා පවසයි.

මිහිඳු හිමියන් දවසම ආරම්භ වූ සිංහල අටුවා කථා වසර 700ක පමණ කාලයක් සිංහල ත්‍රිපිටකය හෙළි පෙහෙළි කරමින් පැවතියහ. ත්‍රිපිටක පාළියට සිංහල අටුවා ලියා ඇති බව දඹදිව විසූ රේවත හිමියන්ද දැන ගැනීමෙන් සිංහල අටුවා පාළියට පරිවර්තනය කිරීම, බුදුදහම චිරස්ථායී වීමට හේතුවක් යැයි උන්වහන්සේ ද සලකා හෙළටුවා පාළියට පරිවර්තනය කිරීම සඳහා බුද්ධඝෝෂ හිමියන් ලක්දිවට එවන්න ඇතැයි සැලකිය හැකිය.

බුද්ධඝෝෂ හිමියන් මෙහි පැමිණ බුදුන් වදාල දෙලක්‍ෂ පන්සැත්තෑ දහස් දෙසියපනස් ග්‍රන්ථ සංඛ්‍යාවක් ඇති ආගමයට තුන්ලක්‍ෂ එක්සැටදහස් සත්සියපනස් ග්‍රන්ථ සංඛ්‍යාවක් පමණ අටුවා කථා ලියා ආගමයෙහි පහන් නැගූ සේකැයි දත යුතු යැයි පූජාවලියේ සඳහන්ව තිබේ.

සංස්කාරකයෙකු හා අනුවාදයකු වශයෙන් බුද්ධඝෝෂ හිමියන්ගේ කාර්යය වූයේ තමන් ඉදිරියෙහි වූ හෙළටුවාවන්හි අන්තර්ගත වූ විවරණ වෙනස් කිරීම නොව, ඒවා සකස් කිරීම සහ අවශ්‍ය ස්ථාන පිඬු කරමින්, අවශ්‍ය ස්ථාන විස්තරාර්ථ දක්වමින්, විධිමත්ව සුගමව පාළි භාෂාවට නැඟීමයි. බුද්ධඝෝෂ හිමියන්ට අට්ඨකථා සකස් කරන්නට මහාවිහාරයෙන් ඉඩ ලැබී ඇත්තේ මහාවිහාර වාචනා 'මාර්ගයට විරුද්ධ මත ඒවායේ ඇතුලත් නොවිය යුතුය' යන කොන්දේසිය ද සහිතවය.

"මහා අට්ඨකථාව ශරීරය කොටගෙන මහාපච්චරිය කුරුන්දි ආදී විශ්‍රැතඅර්ථ කථාවන්හි යම් විනිශ්චයක් වේද එහි යුක්තාර්ත සහ ඇතුලත් වන්නා වූ ස්ථවිර වාදයද අත්නොහරිමින් සංවර්ධනය හොඳින් ආරම්භ කරන්නෙමු."

තව ද එම අර්ථ කථාවලින් භාෂාන්තරය පමණක් අත්හැර විස්තර තැන් පිඬුකොට සියලුම විනිශ්චයන් ඇතුලත් කොට කිසිම තන්හි යුත් අත් නොඉක්මවා සංවර්ණනය කරන්නෙමු යි බුදුගොස් හිමියෝ පවසති.

බුද්ධඝෝෂ හිමියන් විසින් කරන ලද අට්ඨකථා සියල්ලම මිහිඳු මාහිමියන් විසින් ලක්දිවට ගෙන එන ලදුව මහා විහාරිකයන් විසින් ආරක්ෂා කරනු ලැබූ හෙළටුවාවන්හි පාළි අනුවාද බවත් මහා අට්ඨකථාවේ සාරය ගෙන පාළි අට්ඨකථා රචිත බවත් මෙම අට්ඨකථාවල සඳහන් වේ.

මේ අනුව බුදුඝොස් හිමියන්ගේ කාර්යය වූයේ බුදුසමය පිළිබඳව අමුතුවෙන් පොත් ලිවීම නොව එතෙක් හෙළටුවාවන්හි ආ කරුණු විධිමත්ව හා සුගමව පාළි භාෂාවට නැගීම වෙයි. පාළි අටුවා පොත්වලින් අඩකටත් වඩා සපයා ඇත්තේ බුදුඝොස් හිමියන් විසිනි. බෞද්ධ අට්ඨකථාචාරීන් අතුරෙන් එතුමා ශ්‍රේෂ්ඨතමයායි. එතුමාගේ ජීවන චරිතය වටා විවිධ ජනප්‍රවාද ගෙතී ඇත්තේ ඒ නිසාමය. එතුමා මෙලොව පහළ වූයේ බුදුන්ගේ පර්යාප්ති ශාසනය දීර්ඝ කාලයක් නිර්මලව පවත්වාගෙන යාම සඳහා පාළි අට්ඨකථා ලිවීමටමය යන ජන ජනප්‍රවාදයක් ද ඇත.

## අටුවා විස්තරය

### විනය පිටකය

| | පෙළ | | අටුවාව | කර්තෘ | කාලය |
|---|---|---|---|---|---|
| උභය විභංග | 1 පාරාජිකා පාළි | 1 ආණා දෙසනා | සමන්තපාසාදිකා | බුද්ධඝෝෂ හිමි | 5වන ශ.ව. |
| | 2 පාචිත්තිය පාළි | 2 යථාපරාධ සාසන | විනය අට්ඨකථා | | |
| ඛන්ධක | 3 චුල්ල වග්ග පාළි | 3 සංවරාසංවර කථා | | | |
| | 4 මහාවග්ග පාළි | | | | |
| පරිවාර | 5 පරිවාර පාළි | | | | |
| | | භික්ඛුපාතිමොක්ඛ | කඞ්ඛා විතරණී | බුද්ධඝෝෂ හිමි | 5වන ශ.ව. |
| | | භික්ඛුණී පාතිමොක්ඛ | (මාතිකට්ඨ කථා) | | |

### අභිධර්ම පිටකය

| | | | | |
|---|---|---|---|---|
| 1 ධම්මසංගණිප්පකරණ | 1 පරමත්ථ දේසනා | අට්ඨසාලිනී | බුද්ධඝෝෂ හිමි | 5වන ශ.ව. |
| 2 විභංගප්පකරණ | 2 යථාධම්ම සාසන | සම්මොහ විනොදනී | බුද්ධඝෝෂ හිමි | 5වන ශ.ව. |
| | 3 නාමරූප පරිච්ඡේද කථා | | | |
| 3 කථාවත්ථුප්පකරණ | | | බුද්ධඝෝෂ හිමි | 5වන ශ.ව. |
| 4 පුද්ගලපඤ්ඤත්තිප්පකරණ | | | | |
| 5 ධාතුකථාප්පකරණ | | පරමත්ථදීපනී | | |
| 6 යමකප්පකරණ | | පඤ්චප්පකරණට්ඨකථා | | |
| 7 පට්ඨානප්පකරණ | | | | |

## සූත්‍ර පිටකය

| | | | |
|---|---|---|---|
| 1 දීඝනිකාය | 1 වොහාරා දේශනා | සුමංගල විලාසිනී | බුද්ධඝෝෂ හිමි 5වන ශ.ව. |
| 2 මජ්ඣිමනිකාය | 2 යථානුලෝමසාසන | පපඤ්ච සූදනී | බුද්ධඝෝෂ හිමි 5වන ශ.ව. |
| 3 සංයුක්තනිකාය | 3 දිට්ඨි විනිවෙඨන කථා | සාරත්ථප්පකාසිනි | බුද්ධඝෝෂ හිමි 5වන ශ.ව. |
| 4 අංගුත්තරනිකාය | | මනෝරථපූරණී | බුද්ධඝෝෂ හිමි 5වන ශ.ව. |
| 5 ඛුද්දක නිකාය | | | |
| 1 ඛුද්දකපාඨ | පරමත්ථ ජෝතිකා | | බුද්ධඝෝෂ හිමි 5වන ශ.ව. |
| 2 ධම්මපද | ධම්මපදට්ඨ කථා | | බුද්ධඝෝෂ හිමි 5වන ශ.ව. |
| 3 උදාන | පරමත්ථ දීපනී | | ධම්මපාල ආචාර්ය 5වන ශ.ව. |
| 4 ඉතිවුත්තක | පරමත්ථ දීපනී | | ධම්මපාල ආචාර්ය 5වන ශ.ව. |
| 5 සුත්තනිපාත | පරමත්ථ ජෝතිකා | | බුද්ධඝෝෂ හිමි 5වන ශ.ව. |
| 6 විමානවත්ථු | පරමත්ථ දීපනී | | ධම්මපාල ආචාර්ය 5වන ශ.ව. |
| 7 පේත වත්ථු | පරමත්ථ දීපනී | | ධම්මපාල ආචාර්ය 5වන ශ.ව. |
| 8 ථේර ගාථා | පරමත්ථ දීපනී | | ධම්මපාල ආචාර්ය 5වන ශ.ව. |
| 9 ථේරී ගාථා | පරමත්ථ දීපනී | | ධම්මපාල ආචාර්ය 5වන ශ.ව. |
| 10 ජාතක | ජාතකට්ඨකථා | | බුද්ධඝෝෂ හිමි 5වන ශ.ව. |
| 11 නිද්දේස (චූල්ල-මහා) | | සද්ධම්ම ජෝතිකා | උපසේන ආචාර්ය 6වන ශ.ව. |
| 12 අපදාන (ථේර-ථේරී) | | විසුද්ධ ජන විලාසනී | මහානාම ආචාර්ය 7වන ශ.ව. |
| 13 පටිසම්භිදා මග්ග | | සද්ධම්මප්පකාසිනී | ධම්මපාල ආචාර්ය 5වන ශ.ව. |
| 14 බුද්ධවංස | | මධුරත්ථප්පකාසිනී | බුද්ධදත්ත හිමි 5වන ශ.ව. |
| 15 චරියාපිටක | | පරමත්ථ දීපනී | ධම්මපාල ආචාර්ය 5වන ශ.ව. |
| | | විසුද්ධි මග්ග | බුද්ධඝෝෂ හිමි 5වන ශ.ව. |
| නෙත්තිප්පකරණ | නෙත්තී අට්ඨකථා | | ධර්මපාල ආචාර්ය 5වන ශ.ව. |
| චතුභාණවාරපාළි | චතුභාණවාර අට්ඨකථා | | ආනන්ද වනරතන 8වන ශ.ව. |

බුද්ධඝෝෂ හිමියන් විසින් පාළියට නොනගන ලද අට්ඨ කථා පාලියට නගන ලද්දේ බුද්ධදත්ත ධම්මපාල උපසේන සහ මහානාම තෙරවරුන් විසින්ය.

## බුද්ධදත්ත හිමි

බුද්ධඝෝෂ හිමියන්ගේ සමකාලීනයෙකි. මධුරත්ථ විලාසිනි නම් බුද්ධවංශ අටුවාව උන්වහන්සේ ලියා ඇත.

## උපසේන හිමි

සද්ධම්මජෝතිකා නම් නිද්දේශ අට්ඨකථාව මහාපරිවේනවාසී උපසේන හිමියන් විසින් කරන ලදි.

## මහානාම හිමි

පටිසම්භිදාමග්ග අට්ඨකථාව වන සද්ධම්මප්පකාසනිය මුන්වහන්සේ විසින් ලියන ලදී.

## ධම්මපාල හිමි

පරමත්ථදීපනී අට්ඨකථා - උදාන - ඉතිවුත්තක - විමානවත්ථු - ප්‍රේතවත්ථු - ථෙර ථෙරී ගාථා අට්ඨකථා මුන්වහන්සේ ලියන ලදී.

මෙම අට්ඨකථාවන් උගෙන ඒවා ආරක්ෂා කළ අය අට්ඨකථිකා නමින් හඳුන්වා ඇත. අට්ඨකථාචරියා යනු අට්ඨකථා සම්පාදනය කළ ආචාර්යවරයෝය. ආචරිය වාද, ආචරිය මත, ආචරිය වාද යන නම්වලින් කියවෙන්නේ අට්ඨකථාවන් මැයි.

අට්ඨකථාවන් පිළිබඳ විවිධ විවේචන හා මතවාද උගතුන් අතර පවතී. මෑතකාලීන වියතුන් අතුරින් අග්ගමහාපණ්ඩිත පොල්වත්තේ බුද්ධදත්ත හිමියෝ එවැනි විවේචකයෙකි. උන්වහන්සේගේ අටුවා පරීක්ෂණ නම් පොතෙන් එවැනි විවේචන ඉදිරිපත් කර ඇත. අටුවාකථා බුදුන් වහන්සේගේ දේශනා නොවන බව කවුරුත් පිළිගනිති. අටුවාචාරීන් වහන්සේලා අතරද විවිධ මතභේද තිබූ බව දක්නට ඇත. වසර හත්අට සියයක් ගෙන ආ ලිඛිතව නොතිබූ අර්ථ කථා සාහිත්‍යයට එවැනි දේ ඇතුළත් වන්නට පහසුකම් තිබේ. මිහිඳු හිමියන් විසින් ගෙන එන ලද පාළි විවරණ මහාවිහාරික භික්ෂූන් විසින් සිංහලට පරිවර්තනය කොට එම හෙළටුවා පස්වන සියවසේ බුද්ධඝෝෂ හිමියන් විසින් නැවත පාළි භාෂාවට පරිවර්තනය කළ බව පිළිගත් සම්ප්‍රදායයි. මේ තැන්වලදී එම මතිමතාන්තර ඇතුළත් වන්නට ඇති බව සිතිය යුතුය.

මහාවිහාරීය සම්ප්‍රදාය එකකි. අභයගිරි ජේතවන පරම්පරා හිද එවැනි සම්ප්‍රදායන් පැවතුණු බවට සැකයක් නැත. ස්වකීය පාරම්පරික මතවලට පටහැනි සූත්‍ර ධර්මයන් පෙළෙහි ඇති බව දැන දැනත් සිය මතය

තහවුරු කරනු සඳහා ඒවා මදකිතිදු වෙනස් නොකර, ඉවත් නොකර, සංගායනාවලදී පැවති තත්ත්වයෙන්ම ත්‍රිපිටකය රැකගෙන ඒම ගැන මහාවිහාරීය පරම්පරාවට බෞද්ධයාගේ ප්‍රණාම පූර්වක ගෞරවය හිමිවිය යුතුය.

මේ අන්දමින් පැවතගෙන ආ අට්ඨකථා අපේ හාමුදුරුවරු තවත් වර්ෂ සිය ගණනක් තම ආරාමවල පොත්ගුල්වල තබා පුස්තකාලවල තැන්පත්කොට උදේ සවස සුවඳ දුම් අල්ලා ධර්ම ගෞරවයෙන් ධර්ම රත්නය රැකගෙන ආහ. අනගාරික ධර්මපාලතුමාගේ ජාතික ආගමික වැඩපිළිවෙළ ආරම්භ වීමෙන් පසුව එතුමාගේම පවුලේ නෑයන් විසින් අට්ඨකථා මුද්‍රණය කිරීමේ වැඩපිළිවෙළ ආරම්භ කර ඇත. ඒ ධර්මපාලතුමා විසින් ඇතිකරන ලද ආගමික ප්‍රබෝධයේ එක් ආභාෂයකි. 1916 ජූලි 05 දින ත්‍රිපිටක මුද්‍රණසභා නම් ආයතනයක් සයිමන් ඇලෙක්සැන්ඩර් හේවාවිතාරණ මහතුන්ගේ මැදහත්වීමෙන් කොල්ලුපිටියේ පාම් හවුස්හි පිහිටුවා ඇත. 1929 ජූනි 29 දින මෙම ත්‍රිපිටක සභාවේ රැස්වීමක් කොළඹ ඩික්මන් පාරේ තක්සලාහිදී පවත්වා තිබේ. මෙම රැස්වීමට අති පූජ්‍ය හික්කඩුවේ ශ්‍රී සුමංගල මහා නාහිමියන්ද, රත්මලානේ ශ්‍රී ධම්මානන්ද ධර්මාලෝක නායක හිමියන්ද ප්‍රධාන පණ්ඩිත ධර්මධර භික්ෂූන් වහන්සේලා 25 නමක් සහභාගී වූ බව සඳහන් වේ. අනගාරික ධර්මපාලතුමා ප්‍රධාන සාසනමාමක පිරිස්ද මෙම රැස්වීමට සහභාගී වී ඇත. මෙම නායක පණ්ඩිත ස්වාමීන් වහන්සේලා එක් එක් අටුවා ග්‍රන්ථ සංස්කරණය භාරගත් බවද සඳහන් වේ.

සයිමන් හේවාවිතාරණ මහතාගේ අභාවයෙන් පසුව සෝමලතා හේවාවිතාරණ ළමාතැනී විසින් ත්‍රිපිටක මුද්‍රණය සඳහා අරමුදල පිහිටුවිය. එම අරමුදල මගින් හේවාවිතාරණ අට්ඨකථා ග්‍රන්ථ සමූහය මුද්‍රණය කර ඇත. ආගම ධර්මය, ඉතිහාසය, පුරාවිද්‍යාව, සාහිත්‍යය ආදී ශ්‍රී ලංකා සංස්කරණ විවිධ ක්ෂේත්‍රයන් පර්යේෂණාත්මක අධ්‍යයනවලට යොමු කරමින් ශාස්ත්‍රීය පොතපත සපයා සංස්කෘතිය පිළිබඳව අවබෝධයක් ජනතාවට ලබාදීමේ අරමුණින් 1845 දී ආරම්භ කළ ශ්‍රී ලංකා රාජකීය ආසියාතික සමිතියේ සිංහල අට්ඨකථා සිංහලට පරිවර්තනය කිරීමේ ව්‍යාපෘතිය මගින් පොත් දහයක් මුද්‍රණය කිරීම මහඟු කාර්යයකි.

අභාවයට යන පැරණි බෞද්ධ පොත්පත් හා අලුතින් ලියැවෙන බෞද්ධ පොත්පත් මුද්‍රණය කරවීමත් ඉංග්‍රීසි බෞද්ධ පොත්පත් සිංහලට

පරිවර්තනය කර මුද්‍රණය කිරීමත් පරපුරෙන් පරපුරට බුද්ධ ධර්මය ගෙන යාමත් බෞද්ධ සංස්කෘතියේ ආරක්ෂාවත් සඳහා පිහිටුවා ඇති අප ආයතනය වන බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය මගින් බුද්ධ ජයන්ති ත්‍රිපිටකයේ පුනර්මුද්‍රණය නිමවීමෙන් පසු අට්ඨකථා සිංහලට පරිවර්තනය කොට මුද්‍රණය කිරීමට ප්‍රතිපත්ති සකස් කරන ලදී. සිංහලෙන් මුද්‍රණය අවසන් කොට අටුවා කථා ඉංග්‍රීසියට පරිවර්තනය කර මුද්‍රණය කිරීම අපේ අදහසයි.

"කථා පවත්තිනී" නම් පාඨයක් ත්‍රිපිටකයේ අංගුත්තර නිකායේ සඳහන් වෙයි. ධර්මදේශකයා පෙළත් අටුවාවත් දනී නම් දහම් අසන්නා පෙළත් අටුවාවත් දනී නම් දහම් දෙසන්නාත් අසන්නාත් දෙදෙනාම පෙළත් අටුවාවත් දනීනම් එම ධර්ම දේශනාව සාර්ථක දේශනාවක් වන බව මෙහි සාමාන්‍ය අදහසයි. තථාගත ධර්මය වඩාත් ප්‍රකට වීම විවෘත වීම එහි පැවැත්මට හා උත්තරීතර භාවයට හේතුවන බව සඳහන්ය. මෙම කරුණු පිළිබඳ විමසිලිමත් වනවිට අට්ඨකථා පරිවර්තනයේ හා මුද්‍රණයේ අවශ්‍යතාව වඩාත් පැහැදිලි වන්නේය. එයට අමතරව විශ්ව විද්‍යාලවල පාළි හා බෞද්ධ අධ්‍යයනාංශවල උසස් අධ්‍යාපනය ලබන ශිෂ්‍යයන්ට විෂය නිර්දේශානුකූල අට්ඨකථාවල සිංහල පරිවර්තන නොමැතිකමේ බාධාවද, එම ගුරු ශිෂ්‍ය දෙපිරිසටම මේ මගින් දුරු කිරීමද අපේ පරමාර්ථයකි.

අපගේ ඉල්ලීමද පූජ්‍ය රාජකීය පණ්ඩිත වැළමිටියාවේ කුසලධම්ම නාහිමියන්ගේ අනුශාසනාවද අනුව අටුවා කථා සිංහලට පරිවර්තනය කර මුද්‍රණය කරවීමේ භාරදූර කර්තව්‍යය ශ්‍රී ලංකා ජනරජයේ වර්තමාන ආගමික අමාත්‍යාංශය මගින් ඉතාම කෙටි කාලයක් තුළ අවසන් කිරීම සඳහා අපට පවරන ලදී. බුද්ධ ජයන්ති ත්‍රිපිටක පුනර් මුද්‍රණය මගින් අප දක්වූ ආදර්ශයත් ගොඩනැගූ විශ්වාසයත් මෙයට හේතු වූ බව නිසැකය. මෙම කාර්යය අපට පැවරීම පිළිබඳව ශ්‍රී ලංකා ජනරජයේ ගරු ජනාධිපතිතුමන්ට, ගරු අගමැතිතුමන්ට, ගරු බුද්ධශාසන නියෝජ්‍ය ඇමතිතුමන්ට, ආගමික අමාත්‍යාංශයේ ලේකම් මහතාට සහ අමරහේවා මද්දුම මහතාට ද අපේ කෘතඥතාවය, පුණ්‍යානුමෝදනාපූර්වකව පළකරමු.

අටුවා පරිවර්තනයේදී ආමිෂ ලාභයම නොව ශාසනික සේවයම සලකා එක් එක් පොත භාරගෙන මැනවින් සිංහලට පරිවර්තනය කරදුන් පණ්ඩිත ස්වාමීන් වහන්සේලාට ද, උගත් ගිහි මහතුන්ට ද අපගේ

කෘතඥතාව හිමිවේ. සිංහල අටුවා පරිවර්තන සමීක්ෂණය කළ උගත් ගිහි පැවිදි දෙපිරිසටම අපගේ කෘතඥතාව හිමිවේ.

අටුවා කථා පරිවර්තන කාර්යය සම්බන්ධීකරණය කරමින් කටයුතු කළේ විජිතනන්ද සරත්චන්ද්‍ර මහතාය. එම ග්‍රන්ථාවලිය මුද්‍රණය කරවීමේ කාර්යය භාරවූයේ අප ආයතනයේ මුද්‍රණ කටයුතු අධ්‍යක්‍ෂ පාලිත ලියනගේ මහතාටය. මෙම මහත්වරු දෙපළම ඉතා උනන්දුවෙන් මෙම කටයුතුවල නියැලීම පිළිබඳව එම මහත්වරුන්ටද මාගේ කෘතඥතාවය පළවේ. මෙයට අමතරව මෙම කාර්යයට හොඳහිතින් අවංකව සහාය දුන් සියලු දෙනාටම පින් පුරවමින් ආසිරි පතමිහ.

මෙයට,

ශාසනස්ථිතිකාමී,

**කිරම විමලජෝති ස්ථවිර,**
අධ්‍යක්‍ෂක, බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය,
නැදිමාල, දෙහිවල.

# බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානයේ අට්ඨකථා පරිවර්තක මණ්ඩලය

පූජ්‍ය රාජකීය පණ්ඩිත අම්බලන්ගොඩ ශ්‍රී සුමංගල නායක මාහිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත යටගම ධම්මපාල අනුනායක මාහිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත ආදාවල දේවසිරි නායක මාහිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත කුඹුල්ලේ ධම්මානන්ද නායක මාහිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත යාලේගම චන්දකිත්ති හිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත මැදඋයන්ගොඩ විජයකිත්ති හිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත වටගෙදර විමලබුද්ධි හිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත විදුරුපොල ආනන්ද හිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත හත්තොටුවේ ඉන්දරතන හිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත පල්ලේගම සමිත හිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත මාවනානේ සෝමින්ද හිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත බලපිටියේ සිරිසීවලී හිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත බමුරුගම ධම්මවංස හිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත මැදගම්පිටියේ විජිතධම්ම හිමිපාණන් වහන්සේ
පූජ්‍ය රාජකීය පණ්ඩිත පන්නල සුමේධ හිමිපාණන් වහන්සේ

| | |
|---|---|
| රාජකීය පණ්ඩිත | කීර්ති නාරම්පනාව මහතා |
| ශාස්ත්‍රවේදී | ඇන්.එච්. පෙරේරා මහතා |
| පණ්ඩිත | ජේ.පී. නිමල්ලාල් රංජිත් මහතා |
| පණ්ඩිත | ටී.ජී. ජයතිලක මහතා |
| පණ්ඩිත | ඒ.ඇම්.ඩී.වයි. සරත්චන්ද්‍ර අමරතුංග මහතා |
| පණ්ඩිත | බී.ඇම්.පී. බාලසූරිය මහතා |
| පණ්ඩිත | සෝමරත්න ගම්ලත් වෙලගෙදර මහතා |
| පණ්ඩිත | දයා ගුණසේකර මහතා |
| පණ්ඩිත | ඩබ්ලිව්. ඇල්.පී. ධර්මදාස මහතා |
| පණ්ඩිත | ජිනදාස ගොඩකන්ද මහතා |
| පණ්ඩිත | ලසිත් නලන්ත මහතා |
| පණ්ඩිත | පී.ඇල්.කේ. පෙරේරා මහතා |

සම්බන්ධීකරණය:- විජිතනන්ද සරත්චන්ද්‍ර මහතා

# බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානයේ
# අට්ඨකථා පරිවර්තක සමීක්ෂණ මණ්ඩලය

1. පූජ්‍ය මැදගම්පිටියේ විජිතධම්ම හිමිපාණන් වහන්සේ
(පේරාදෙණිය ශ්‍රී ලංකා විශ්වවිද්‍යාලයේ කථිකාචාර්ය)
2. පූජ්‍ය කොටියාගල උපරතන හිමිපාණන් වහන්සේ
(කැලණිය විශ්වවිද්‍යාලයේ කථිකාචාර්ය)
3. පූජ්‍ය මැදඋයන්ගොඩ විජයකිත්ති හිමිපාණන් වහන්සේ. (ශාස්ත්‍රපති)
4. පූජ්‍ය ඇස්වත්තේ රේවත හිමිපාණන් වහන්සේ. (ශාස්ත්‍රපති)
5. හේමචන්ද්‍ර දිසානායක මහතා. (ශාස්ත්‍රවේදී)
6. පණ්ඩිත දයා ගුණසේකර මහතා (රාජ්‍ය භාෂා දෙපාර්තමේන්තුව)
7. පණ්ඩිත ඒ ලසිත් නලන්ත මහතා (රාජ්‍ය භාෂා දෙපාර්තමේන්තුව)
8. පණ්ඩිත සිරිමෙවන් සේනක මහතා (ශාස්ත්‍රවේදී)
9. අභිධර්මාචාර්ය බුද්ධික විජේසිංහ මහතා (ශාස්ත්‍රවේදී-විද්‍යාවේදී)

# සංඥාපනය

සූත්‍ර සංග්‍රහ සහ එම අටුවාව ඒකකර්තෘ කෘතියක් බැව් පෙනේ. භදන්තාචරිය, අරියවංසනම් තෙරනමක් එහි කර්තෘ බැව් සඳහන් වේ.[1] උන්වහන්සේ විසින්ම තමන්වහන්සේගේ සූත්‍ර සංග්‍රහවට පෙරවදනක් ඉදිරිපත් කරමින් අනතුරුව සූත්‍ර එකතුව දක්වයි. එහි සිංහල අනුවාදය මෙහි දැක්වේ.

'මහණෙනි, නිසෙන් මිදෙන්නා වූ මහණුන් විසින් පක්‍ෂයෙහි දිනයන්හි බණ අසනු පිණිස සූත්‍ර පිටකයෙන් බණවර සතරක් ද, පැමිණෙන අයට බණ කීම සඳහා අන්ධකවින්ද මහාරාහුලෝවාද අම්බට්ඨ සූත්‍රයන්ට සමාන වූ එක් කථා මාර්ගයක් ද සංඝභත්ත, මංගල ආදි අවස්ථාවල අනුමෝදනා කිරීම සඳහා ත්‍රිවිධ අනුමෝදනාවෝ ද ඉගෙනගත යුත්තාහු යයි වදාළ හෙයින් සාසනය බබළවනු කැමැත්තා වූ නිසෙන් මිදෙන්නා වූ ද මහණුන්ට නොපැහැදූ වූවන්ගේ පැහැදීම සඳහා ද, පැහැදුන වුන්ගේ අධිකතර පැහැදීම පිණිසද, ධර්ම දේසනා කරනු කැමැත්තවුන්ට පහසුව සඳහාද දාන-සීල ආදි පුණ්‍ය ක්‍රියාවන්ගේ මනා දක්‍ෂබවක් ගෙන දෙන්නා වූ උපාසක උපාසිකාවන්ගේ ද, පුත්‍ර ප්‍රතිපත්ති ප්‍රකාශ කරන්නා වූ දාන කථාව ද, සීල කථාව ද කාමයන්ගේ ආදීනවයන් ද නෛෂ්ක්‍රම්‍යයේ ආනිසංසද යන මේ පිළිවෙල කථාවට අනුකූල වූ සතර බණවරකට අධික වූ අසූපහක් පමණ සූත්‍රයෝ මෙසේ දත යුත්තාහුය.

අනුන්ට දහම් දෙසීම පහසු නොවේ. අනුන්ට දහම් දෙසන්නෝ අර්ථයෙහි දක්‍ෂවිය යුත්තෝය. ධර්මයෙහි දක්‍ෂවිය යුත්තෝය. පූර්වාපර සන්ධි ගැලපීමෙහි දක්‍ෂ වූවාහු විය යුත්තෝය. කල්දත්තහු විය යුත්තෝය. පිරිස හැඳිනගත් කෙනෙකු වීමද විය යුතුය. ව්‍යඤ්ජන ශක්තීන් නොනසා වෙනස් නොකොට ශ්‍රමණ සාරූප්පයෙන් යුතුව දේශනාව මනාව ඇඟවීමට යෝග්‍ය වූ පැතුරුණා වූ කණට හිතවත් වූ නාගරික වචනයෙන් පරිමණ්ඩලාකාර ලක්‍ෂණයෙන් යුක්තව ඉතා මඳ නොවූ ඉතා යුහුසුලු නොවූ ස්වරයෙන් පිරිස අළලා අහස් ගඟ බස්වන්නාක් මෙන්, උපමා හේතු උදාහරණයන්ගෙන් විස්තරකොට ගැල්මග යන්නහු මෙන් කය-

1 සුත්ත සංගහට්ඨ කථා විඤ්ඤාපනයේ 9,10,16,17,18 ගාථා

හිස අතපය සැලීම් නැත්තාහු බුද්ධ ලීලාවෙන් දේසනා කරන්නකු මෙන් ලාභ හේතු හැර නිස්සරණා ශිර්ෂයෙහි සිට කරුණු පසක් තමා කෙරෙහි උපදවා ගෙන අනුන්ට ධර්ම දේශනා කළයුතුය. එබැවින් භාග්‍යවතුන් වහන්සේ විසින් මෙසේ වදාරණ ලදී.

'ආනන්දයෙනි, පරහට දම්දෙසනු සුකර නොවේ. ආනන්දයෙනි, පරහට ධර්මදේශනා කරන්නහු විසින් තමා තුළ ධර්ම පහක් එළවාගෙන මෙරමා හට දම් දෙසිය යුතු කවර පසෙක් ද යත්?

අනුපුබ්බ (පිළිවෙල) කථාව කියන්නෙමි'යි පරහට ධර්මය දෙසිය යුතුයැ. පර්යාය දක්වන්නෙමි. කථා කියන්නෙමියි පරහට දම් දෙසිය යුතුය. ලාභ අපේක්‍ෂා නැතිව ධර්මකථා කියන්නෙමි'යි පරහට දහම් දෙසිය යුතුය. තමා හා මෙරමා නොගටා ධර්මකථා කියන්නෙමි යි. පරහට ධර්මය දෙසිය යුතුයැ. මහණෙනි. මාත්‍රා දෙකක් මෙන් දික් වූ ගීත ස්වරයෙන් ධර්මය දේසනා නොකට යුත්තේ යයි ද, එහි මේ සූත්‍රයෝ වෙත්.[2] (මෙසේ පවසා සූත්‍ර සංග්‍රහයේ අසූපහක් සූත්‍ර ධර්මයන් සංග්‍රහ කර ඇත.

ක්‍රි.ව. 1903 දී බදුරලියේ ධීරානන්ද මහාස්වාමීන් වහන්සේගේ[3] සංශෝධනයෙන් මුද්‍රිත සහ සංග්‍රහ පාලියට උන්වහන්සේ පාලි භාෂාවෙන්ම කෙටි විඥාපනයක් ඉදිරිපත් කර ඇත. එය ඒ වූ පරිද්දෙන්ම මෙහි පහත දැක්වේ.

## විඥාපන

සුගත සාසන වචරානං සද්ධම්ම පරියාපුණනමයුතතානං කුලපුතතානං ධමමකථිකතෙන පටුතත මිච්ඡනතානං තදත්ථ සාධකො විවිත්තපටිභාජනකොයං සුතතසංගහො ඉතො තෙරසනතං වසසානං පුබ්බපි ලෙඛකදොසාපහරණෙන විසදීකතො මුද්දාපෙතවාසිතොපි සමානො සීසෙනෙව පරික්ඛයං ගතො කිතතතාබහූහි නවදානි සකතා පොත්ථික වාණිජානං සනතිකෙ හියේ‍යා පරියෙසිත්වාපි ලද්ධුං

2 සුතත සංගහ. 1903 - 1 පිටුව බදුරලියේ ධීරානන්ද ථෙර සංස්කරණය

3 මුන්වහන්සේ පසුකලෙක ජයවර්ධනපුර කෝට්ටේ ශ්‍රී කල්‍යාණි සාමාග්‍රී ධම්මහා සංඝ සභාවේ මහානායක ධුරය හෙබවූහ.

දිසනෙනවස්ස පඨම පටිසංඛරණෙ පමාදෙන අවිසදී කතානිපි නෙකථානාති කතො පුස්සදෙවපුරගාමෙ ආයස්මතා සද්ධානන්දෙන භික්ඛුනා සමුපපාහිතොහං එවම්දං දුතියාභි සංඛරණ පාරිසුද්ධිමස්සෙසමපි ආගතාගතමානං පණ්ඩිතානං ථෙරවරනමුපත්ථමහමුපගම්ම යථා බලමකාසිං.

යඡෙවං සන්තෙපි ඉමස්මිං පුථුජ්ජනානං සතං නො පමාදතො අවිසදිකතං යමුපලබ්භෙය්‍ය තං නොබලිතං ඛමනතු පණ්ඩිතා සොධෙනතුචා ධුනිකාදීනමනුකම්පාය සාසනස්ස ච චිරංතියාති.

ඉහත සඳහන් ධීරානන්ද නාහිමියන්ගේ විඥප්තාපනය අනුව 19 සියවසේ අගභාගය වනවිට සුත්ත සංගහ පරිහරණය ප්‍රචලිතව පැවැති බැව් පෙන්නුම් කරයි. අද මෙන් එදා ත්‍රිපිටක පෙල සුලභව නොපැවතින. තිබුනේද පුස්කොළ පිටපත්ය. එම නිසා මෙහි අගය තවත් වැඩි වූ බව පෙනේ. ක්‍රි.ව. 1913 නේ වර්ෂයට අවුරුදු දහතුනකට පෙර එනම් ක්‍රි.ව. 1900 දී පමණ මෙය මුද්‍රණය වී තිබුන බවත් ඉන් පිටපතක් සොයා ගැනීම දුෂ්කර බවත් ඉහත දැක්වූ විඥප්තාපනයෙහි දැක්විනි. සුත්ත සංගහ පාලියට සන්න ග්‍රන්ථද ලියවී ඇත. ඉන් එක සන්නයක් බු.ව. 2455 දී වස්කඩුවේ මෙධාවී තිස්ස නායක ස්වාමීන්ද්‍රයන් වහන්සේ විසින් ලියා ඇත.

වැලිවිට අසරණ සරණ සරණංකර සංඝරාජ මාහිමියන්ගෙන් ඇරඹූ නව ධර්මශාස්ත්‍ර උන්නතිය නිසා ඇතිවූ ප්‍රබෝධය නිසා 19 වන සියවස උදාවනවිට මෙවන් කෘතියක අවශ්‍යතාව පෙනීගියෙන් භදන්තාචරිය අරියවංස දෙක සම්පාදනය කරන්ට ඇතැයි අනුමාන කළ හැකිය. උන්වහන්සේගේ හිමියන් විසින් සූත්‍ර සංග්‍රහ සහ එහි අට්ඨකථාවෙන් උදාර සාසනික මෙහෙවරක් ඉටුකළ බව කිවයුතුය.

සූත්‍ර සංග්‍රහයේ ධර්ම කොටස් සංග්‍රහ කර ඇත්තේ බුදුරදුන්ගේ ආනුපුබ්බී කථා ඇසුරු කරමින් මාතෘකා හතක් යටතේය. එනම්:-

| | |
|---|---|
| 1. දාන කථා සූත | 06 කි. |
| 2. සීල කථා සූත්‍ර | 06 කි. |
| 3. සග්ග කථා සූත්‍ර | 05 කි. |
| 4. කාමයන්ගේ ආදීනව සූත්‍ර | 05 කි. |
| 5. ගිහියන්ට බණකීමට අවශ්‍ය කරුණු | 32 කි. |
| 6. අනුමෝදනා සූත්‍ර | 13 කි. |
| 7. පැවිද්දන් උදෙසා ප්‍රතිපත්ති ප්‍රකාශන සූත්‍ර | 18 කි. |
| | එකතුව 85 කි. |

සුත්ත සංගහ කෘතියෙන් ඉදිරිපත් කරන සූත්‍ර ධර්මයන් පෙළගැස්ම අනුව සූත්‍රය - එය උද්ධාන ස්ථානය එමෙන්ම ඒවායේ ඇතුලත්වන ප්‍රධාන කරුණු ගැන සාරාංශයක් මෙහි පහත දැක්වේ.

දානකථා 1 සූත්‍ර

1. කාලදාන සූත්‍රය - අංගු: 5.1.4.6 බු.ජ.

"මහණෙනි, මේ කාලදානයෝ පස්දෙනෙක් වෙති. කවර පස්දෙනෙක් ද යත්, ආගන්තුකයා හට දන්දෙයි. ගමික හට දන්දෙයි. ගිලනා හට දන්දෙයි. දුර්භික්ෂයෙහි දන්දෙයි. නව සශ්‍ය නවඵල පළමුකොට සිල්වතුන්ට දන්දෙයි යනුයි."

2. සුමනා සූත්‍රය අංග: 5.1.4.1

"සුමනාවෙනි, දන්දිය යුතුමය. සුමනාවෙනි පින්කළ යුතුමය. දෙවියන්ට ද පින් උපකාර වෙයි. මිනිසුනට ද පින් උපකාර වෙයි. පැවිදි වූවහුට ද පින් උපකාර වෙයි. භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක."

3. සප්පුරිස දාන සූත්‍රය. අංගු: 5.3.5.8.

"මහණෙනි, සත්පුරුෂ දාන පසකි. කවර පසෙක්ද යත් ශ්‍රද්ධාවෙන් දන්දෙයි. සකසා දන්දෙයි. නිසිකල්හි දන්දෙයි. (මුත්ත චාගී ව) දෙන දෙය පිළිබඳව ආගමක් නොමැතිව දන්දෙයි. තමාද මෙරමාද නොපෙලා දන්දෙයි යනුයි.

4. වෙලාම සුතත. අංගු: 9.1.2.10

මෙම සූත්‍රයෙහි තුණුරුවන් නොපවත්නා සමයක වේලාම බමුණා දුන් මහාදානයක් ගැන විස්තර කෙරේ. මෙහි අගට දක්ෂිණාර්හ පුද්ගලයන් පිළිබඳ දෙන දන්වල ආනිශංස පිළිබඳව විග්‍රහයක් කෙරේ. වේලාම බමුණාගේ මෙම දාන විෂයෙහි නොදුන් දෙයක් නැත්තේ යයි කියති.

5. දක්ෂිණ විභංග සූත්‍රය මජ්ඣිම, 3.4.12

මෙම දේශනාවෙහි ප්‍රධාන කරුණ මහප්‍රජාපතී ගෝතමියගේ සිවුරු පූජාවයි. 'සංඝෙ ගොතමී දෙහි, සංඝෙ තෙ දින්නෙ අහංචෙව පූජිතො භවිස්සාමි' ගෝතමිය සංඝයා විෂයෙහි දෙව තොප විසින් සංඝයා විෂයෙහි දුන්කල මම ද පූජා ලැබුවේ වෙමි' බුදුරදුන්ට පිදූ දෙයට වඩා සංඝයා විෂයෙහි දුන්දෙය ආනිසංස වැඩියයි මිථ්‍යා විශ්වාසයක් ගොඩනැගී ඇති බව පෙනේ. අටුවාකරු විශේෂයෙන් මෙම මිථ්‍යා මතය ඛණ්ඩනය කර ඇත. 'ආනන්දය, අනාගත කාලයෙහි ගෝත්‍රභූ වූ දුස්සීල වූ පාප ස්වභාව ඇති කාෂාව කණ්ට කෙනෙක් වෙති. ඒ දුස්සීලයන් කෙරෙහිත් සඟුන් උදෙසා දන් දෙති. ආනන්දය, මම එකල්හිත් සංඝගත දක්ෂිණාව අසංඛෙය්‍ය අප්‍රමෙය ඇත්තේ යයි කියමි.'

6. සුභ (චූලකම්ම විභංග) සූත්‍රය: මජ්ඣිම: 3.4.5

සමාජ විෂමතාවලට ප්‍රධාන හේතුව කර්මය බැව් පෙන්වා දී ඇත. 'මානවකය, සත්ත්වයෝ කර්මය ස්වකීයකොට ඇත්තාහ. කර්මය දායාදකොට ඇත්තාහ. කර්මය කාරණ කොට ඇත්තාහ. කර්මය බන්ධුකොට ඇත්තාහ. කර්මය පිළිසරණ කොට ඇත්තාහ. කර්මය මේ හීන ප්‍රණීතභාවය පිණිස සත්ත්වයන් වර්ග කෙරේ යයි වදාළහ.

ඉහත දැක්වූ සූත්‍ර හයෙන් දානකථා පිළිබඳ දක්‍ෂභාවයක් ලබාගත යුතුයයි සඳහන් කරන සුත්ත සංගහකරු පකිණ්ණක කථාවක් ඉදිරිපත් කරමින් දානකථාවේ අඩුපාඩු සපුරා ඇත. ඒ සඳහා සුත්ත-විනය අභිධම්ම ටීකාගාගත කරුණු ඉදිරිපත් කර ඇත. බුද්ධවංස, ඉතිවුත්ත චරියාපිටක ආදී අටුවාවන් මෙහිදී ඇසුරුකර ඇත. මෙහි ඇති විශේෂත්වය නම් පසුකාලීනව වර්ධනය වූ පින්කම් පිළිබඳව වැඩි අවධානයක් යොමු කිරීමයි. ඉදිරිපත් කර ඇති කරුණු භුක්තානුමෝදනා සඳහා ඉතා වැදගති.

7. සීලකථා 111 සූත්‍ර සංඛ්‍යාව හයකි.
මහානාම සූත්‍රය. මහාවගග සංයුතත 11-4.7
"වහන්ස, කෙතෙකින් පාසක වේදැයි? මහානාමය, බුදුන් පිහිට කොට ගියේ වේද? මහානාමය මෙතෙකින් උපාසක වේ. පංචසීලය උපාසක සීලය වශයෙන් දක්වා ඇත. (නිත්‍ය) පොහෝ දිනයන්හි වෙනත් සීලයන් සමාදන්වීම සිරිතකි. මෙහි අටුවාවේ සරණ සීලය පිළිබඳ දීර්ඝ විස්තරයක් දක්නට ලැබේ. සීලය බෞද්ධ වන්නේ සරණ සීලය එක්වීමෙනි.

8. උපාසක චණ්ඩාල සූත්‍රය. අංගු: 5.4.3.5
කරුණ පසකින් යුත් උපාසක තෙම උපාසක චණ්ඩාලයෙක් වෙයි. කවර පසකින්ද යත්,
ශ්‍රද්ධා නැත්තෙක් වෙයි. දුශ්ශීල වෙයි. කොතුහලමංගලිකයෙක් (දිය-සුත-මුත) වෙයි. මේ සසුනෙන් බැහැර දක්ෂිණාර්හයකු සොයයි. ඔහුට ප්‍රථමයෙන් දන් දී පසුව භික්ෂූන්ට දන්දෙයි.

9. උපාසත රතන සුත්ත,[4] අංගු: 5.4.3.5
කරුණු පසකින් යුත් උපාසක තෙම උපාසක රත්න හා උපාසක පද්ම හා උපාසක පුණ්ඩරීක වෙයි. කවර පසකින් ද යත් ශ්‍රද්ධාව ඇත්තේ වෙයි. සිල්වත් වෙයි. කොතුහල මංගලික නොවෙයි. මෙම සස්නෙන් බැහැර දක්ෂිණාර්හයකු නොසොයයි.

10. වාණිජ්ජ සුතත - අංගු: 5-4-3.7
නොකටයුතු වෙළෙඳම පසකි. හිංසාව පිණිස අවි ආයුධ වෙළඳම. වහල් වෙළෙඳම, මස් පිණිස සතුන් විකිණීම, මත්පැන් හා මත්ද්‍රව්‍ය වෙළෙඳම, වසවිස වෙළෙඳම යනුයි.

11. විසාඛුපොසථ අංගු: 3-2-2-10
මෙහි දී විසාඛා උපාසිකාවට උපොසථ තුනක් පිළිබඳ කරුණු පැහැදිලි කර ඇත. ගෝපාල උපෝසථ නිඝණ්ඨුපොසථය. අරියුපොසථයයි මේවා පිළිබඳ විසඳුම් සූත්‍රයෙහි සඳහන් වේ.

---

4 ත්‍රිපිටක මුද්‍රණය බුද්ධ ජයන්ති - මෙම සූත්‍ර දෙකම එකක් වශයෙන් දක්වා ඇත.

12. සිඟාලෝවාද සුතත - දීඝනිකාය 3-8

සිගාල ගෘහපතියාට දෙසූ ගිහිවිනය මෙහි සවිස්තරව සඳහන් වේ. ඉමස්මිං සුතෙත ගිහීනතා කතතබබං කමමං නාම, තං අකථිතං නඅථි" ගිහියන් විසින් කළ යුතු යමක් ඇද්ද ඒ සියල්ල සිගාලෝවාද සූත්‍රයෙහි දැක්වෙන බව මෙයින් පැවසේ. ගිහි විනය නමින් ද මේ සූත්‍රය හඳුන්වා ඇත.[6]

සගග කථා (III) සූත්‍ර පහකි.

13. ධමම හදය විභංග - විභංග ප්‍රකරණ. 6-394 පිටුව සිට.

මෙහිදී ස්වර්ගගාමී පින්කම් පිළිබඳව විස්තර කථාවක් ඉදිරිපත් කර ඇත. දිව්‍යලෝක බ්‍රහ්මලෝක සුද්ධාවාස ආදි ස්වර්ග මාර්ගයන් පිළිබඳව විස්තර දක්නට ලැබේ. ඤාත පරිඤ්ඤා, තීරණ පරිඤ්ඤා, පහාන පරිඤ්ඤා පිළිබඳ විස්තර කථාවක් ද හමුවේ. සියලු ධර්මයන්ගේ අනිත්‍ය-දුක්ඛ-අනාත්ම භාවය පැහැදිලි කිරීමෙන් දේශනාව අවසන් කෙරේ. ඒ ඒ දේව කොටස්වල ආයුෂ මෙහි සඳහන් වේ.

14. ඡතත විමාන වණණනා විමානවත්ථු අටඨකථා 183-194

මෙම විමාන වස්තු වර්ණනාවෙන් තිසරණ සීලය ආනිසංස ප්‍රකට කෙරේ. ඉගෙනීම අවසන් කර ගෙදර පැමිණි ඡතතමානවක ගුරු පූජා සඳහා මව්පියන්ගෙන් ලද කහවණු පොට්ටනියක් ගෙන පිටත්වෙයි. මෙය දැනගත් සොරු ඔහු මරා කහවණු පැහැර ගැනීමට මග රැඳී සිටිති. මෙය දැනගත් බුදුරද ඡතත මානවක තිසරණ සීලයෙහි පිහිටුවා ගාථා තුනක් ඉගැන්වූහ.

සොරු ඔවුන්ගේ සාකච්ඡා පරිදි ඡතත මානවක මරා කහවණු පැහැර ගත්හ. ඔහු තිසරණ සීලයෙන් යුතුව මියගිය හෙයින් දෙව්ලොව දෙව් විමනක උපන්හ. ඡතත මානවක විමානය යයි එයට කියනු ලැබේ.

ඡතත මානවක බුදුරදුන් හමුවට පැමිණ තිසරණ සීලයෙහි පිහිටීම නිසා තමන් ලද සම්පත් ප්‍රකාශ කළහ.

---

5 සුතත සංගහ අටඨකථා 61 පිටුව

6 ගිහිවිනයො නාම අයං සුතතනෙතා
සු.අ. 61 පිටුව.

15. රේවතිවිමාන වණ්ණනා - විමානවත්ථු අට්ඨකථා 176-183

රේවතියගේ ස්වාමියා පින්කොට දිව්‍යලෝකයෙහි උපනි. රේවතිය පව්කොට අපායේ උපදී. ඊට පෙර දේවදූතයෝ රේවතිය දෙව්ලොව ගෙනගොස් තම ස්වාමියාගේ විමානය පෙන්වා අපායට යවයි.

16.' ගුත්තිල විමානවස්තු වර්ණනා - වි.ව.අ. 110-119

ගුත්තිල විමාන වස්තුව ජාතක කථාවක් සම්බන්ධ වූවකි. දිව්‍යාංගනාවන් ලවා තමන් කළ පින් ප්‍රකාසනයට පත් කර ඇත.

17. අනෙකවණ්ණ විමාන වර්ණනා - වි.ව.අ. 256-259

මෙම විමාන වස්තු වර්ණනාවෙන් එක් දෙවඟනක් මිනිස් ලොවදී කිසිදු දානයක් නොදී ධාතු චෛත්‍යයක් දැක ඒ පිළිබඳව සිත පහදවාගෙන දෙව්ලොව උපන් බව සඳහන් කරයි. විමාන වස්තුවල එන මෙවන් කථාවලින් මහජනතාව කුසල කර්මයන්ට යොමුකිරීමට උපකාරී වේ.

කාමයන්ගේ ආදීනව iv සූත්‍ර සංඛ්‍යාව පහකි.

18. දේවදූත සුත්ත - ම.නි. 3.3.10

මෙය අමුතු ආකාර දේසනාවකි. මහාචාර්ය ඩබ්.එස්. කරුණාරත්න ගුරින් මෙසේ පවසයි. 'සමාජ විඥානය මිනිසුන් අතර සංවර්ධනය කරලීම පිණිසත් ඔවුන් තුල අධ්‍යාත්මගත අභිවෘද්ධිය උද්දීපනය කරලීම පිණිසත්, ප්‍රබල අවියක් ලෙස කර්මවාදය උපයෝගී කිරීමට බුදුන් දැක්වූ උපාය ඥානය දේවදූත සංකල්පයන් ඇසුරින් පොදු ජනතාවට විෂය වන අයුරින් මෙහිලා බෞද්ධ කර්මවාදය පිළිබඳ උද්වේගවත් වූද, අනුවේදනීය වූද විවරණයක් ඉදිරිපත් කර ඇත. කාය සුචරිත, වචී සුචරිත හා මනෝ සුචරිත යන ත්‍රිවිධ සුචරිතයෙන් යුත් පුද්ගලයන් දෙව්ලොව හෝ මිනිස් ලොව උපත ලබන අතර ත්‍රිවිධ දුෂ්චරිතයෙන් යුත් පුද්ගලයන් තිරිසන් යෝනියෙහි හෝ ප්‍රේත ලෝකයෙහි උපත ලබන අයුරු බුදුහු දිවැසින් දකිති. කුසල කර්ම කිරීමෙන් මිනිසුන් සත් මාර්ගගත කිරීමට උපකාරී වන දේවදූතයන් පස්දෙනෙකු මිනිස් ලොවට එවයි. පව්කොට නිරයට පත් පුද්ගලයකු අමතා යමරජ මෙම දූතයන් ගැන කරුණු පහදයි. කුමාර කාලය, ජරාවට පත් වයෝවෘද්ධ බව, ලෙඩදුකට පත් දුබල බව රජුන් අතින් වධ බන්ධනයට පත් සොරබව හා මලබව. පංච දේවදූතයන් වශයෙන් යමරජු හඳුන්වා දෙයි. 'බෞද්ධ කර්ම ධර්මය සංකේතවාදයක් මගින් මෙහිලා මූර්තිමත් කොට දැක්වී ඇති බව පැහැදිලිය.

කම්මකාරණ යනු පව්වු කර්මඵල වශයෙන් පනවනු ලබන දඬුවම් රසය. බුද්ධකාලීන සමාජයෙහි ප්‍රචලිත වූ දණ්ඩන ක්‍රම අනුව යමින් නිරිපල්ලන් විසින් පව්කම් කළ පුද්ගලයන්ට තීව්‍ර වූ දුක්වේදනා දෙන දඬුවම් පනවනු ලැබේ. උල්කළ යකඩ උල් ශරීරයේ අවයව ඇතුලට යවා සිරුරු උඩ යටිකුරුකොට ගිනිගෙන දැවෙන රත්වූ අඟුරු පර්වත මත බහා එයින් ඉක්බිතිව ඔවුන් ලෝසැලිතුල තම්බන අයුරු මෙහි ලා විස්තර කොට දැක්වේ. පව්කම් පල කෙළවර වනතුරු පව්වු පුද්ගලයෝ මෙම දුක් විඳ විඳ වුවද, නොමැරෙති. ඉක්බිතිව මහානිරය, ගුථනිරය, කුක්කුල නිරය, සිම්බලී වනය, අසිපත්ත වනය, ඛාරොදක නදිය යනාදී ස්ථානවලදී තවදුරටත් පව්වු පුද්ගලයෝ විවිධ දුක් විඳිති. මෙවැනි දුක්විඳ පව්කම් ඵල ගෙවූ පුද්ගලයෝ අවසානයේ දී මනුෂ්‍යාත්ම භාවයේ වටිනාකම අවබෝධ කරගනිති. මිනිසුන් වශයෙන් ඉපදී බුදුන් දැක එතුමන්ගේ ධර්මය අනුව ධර්මානුකූලව ජීවිත හැඩගස්වා ගැනීමට ඔව්හු අදිටන් කරති. කළ කම් නියත වශයෙන් විපාක දෙන බව ඔව්හු වටහා ගනිති.

යමරජු විසින් දෙන ලද අවවාදය අනුව තමා විඳින දුකට හේතුව මව හෝ පියා හෝ සොහොයුරා හෝ සොහොයුරිය මිත්‍රයන් හෝ ඤාතීන් හෝ ශ්‍රමණ බ්‍රාහ්මණයෝ හෝ දේවතාදීන් හෝ කළ කර්ම නොව තමා විසින්ම කළ අකුසල කර්ම බව අකුසල් කළ පුද්ගලයෝ මනාව වටහා ගනිති.

'ඔබ විසින් මෙම කර්මය කරන ලද්දේ වෙයි. ඔබ විසින්ම එබැවින් එහි විපාක විඳිය යුත්තේ මැයි' යනුවෙන් යමරජ ප්‍රකාශ කරයි.

'තයා වෙ තං පාපං කම්මං කතං ත්වඤ්ඤෙව එතස්ස විපාකං පටිසංවෙදිස්සති'[7]

20. අට්ඨිපුඤ්ජ සුත්ත - අනමතග්ග සංයුත්ත 1.10

මෙහි දී සත්ත්වයෙකුගේ සසර ගමනේ මුල් කෙළවර නොපෙනෙන බවත් එකම සත්ත්වයෙක් එක එක ආත්මභාවවල දී මරණයෙන් එකතු වූ ඇට ගොඩ 'වෙපුල්ල' පර්වතය තරම් වේයයි

---

7 සිංහල විශ්වකෝෂ 6 - 379 පිටු.

පැවසීමෙන් එක් සත්ත්වයෙක් සසර දී මරණදුකට පත්වූ අවස්ථා කොපමණ දැයි අවධාරණය කෙරේ. මෙසේ කාමයන්ගේ ආදීනවයන් පිළිබඳව අවධානය යොමු කිරීමෙන් සත්ත්වයා නිවන් මගට යොමු කෙරේ.

21. පාවෙය්‍යක (තිංසමත්ත) සුත්ත නිදාන සංයුත්ත 3-2-3

'මහණෙනි, මේ සසර නොදත හැකි අග ඇතියේය. අවිද්‍යාවෙන් වැසුන තෘෂ්ණාවෙන් බැඳුන දිවෙන සැරිසරණ සත්ත්වයාගේ පූර්වකෝටිය නොපෙනේ. මහණෙනි, ඒ කිමැයි හඟිවුද? මේ දිගුකල් දිවෙන සැරිසරන තොපගේ වැහුණු වැගුරුණු යම්පමණ ලෙයක් වේද, සිවුමහ සයුරෙහි යම්පමණ ජලයක් වේද, මෙයින් කිමෙක් ඉතා වැඩිවේද,

වහන්ස, අපි භාග්‍යවතුන් වහන්සේ විසින් දේසනා කරන ලද ධර්මය යම්සේ දනිමු නම් මේ දිකලක දිවෙන සැරිසරණ හිසසුන් අපගේ වැහුණු වැගුරුණු යම් ලෙයක් වේද, ඒ ලෙයම ඉතා වැඩිය. සිවු මහ සයුරෙහි ජලය නොව වැඩිය.'

සසර ඉතා දිගුබවත් වින්ද දුක් අධික බවත් මෙයින් අවධාරණ කෙරේ. දෙසුම් අවසන තිසක් පමණ වූ පාවෙය්‍යක භික්ෂූහු රහත් වූහ.

22. සූකර පොතිකා වත්ථු - ධම්ම පදට්ඨකථා II 598-601

ධම්ම පදට්ඨ කථාවේ එන මෙම කථා වස්තුවෙන් තෘෂ්ණාව සමුච්ඡේද වශයෙන් දුරුකරන තුරු සත්ත්වයාට වරින්වර විඳින්ට සිදුවන දුක්කරදර පිළිබඳව විස්තරයක් මෙම කථා වස්තුවෙන් ඉදිරිපත් කරයි. ඒ සියල්ල කාමයන්ගේ ආදීනවයෝය. කාමයන්ගේ ආදීනව කථාව මෙතෙකින් අවසන් වේ.

ගිහියන්ට ධර්මය පැහැදිලි කිරීම සඳහා V.
මෙම මාතෘකාව යටතේ සූත්‍ර 32 සංග්‍රහ කර ඇත.

23. පරාභව සුත්ත සුත්ත නිපාත - උරගවග්ග 1-6

පරාභව සූත්‍රය මංගල සූත්‍රය මෙන් ඉතා ප්‍රසිද්ධය. මංගල සූත්‍රය දෙසූ දිනට පසුදින මෙම දේශානව කළ බව අටුවාව සඳහන් කරයි. දේවතාවෝ ප්‍රශ්න ගාථා දොලොසකින් ඉදිරිපත් කරති. බුදුරජාණන් වහන්සේ ගාථා දොලොසකින් පිරිහීමේ දොරටු වදාළහ.

24. අග්ගප්පසාද සුත්ත ඉතිවුත්ත 3-51

අග්‍ර වූ පැහැදීම් තුනක් මෙහි සඳහන් වේ. එනම් තුනුරුවන් කෙරෙහිය. අග්‍ර වූ තුනුරුවන් කෙරෙහි පූජාකරන තැනැත්තේ දෙවියන් අතර වුවත් මිනිසුන් අතර වුවත් අග්‍ර බවට පැමිණ සතුටු වේ.

25. සබ්‍රහ්මක සුත්ත ඉති: 4-1-7

පුත්‍ර ප්‍රජාවට අනුකම්පා කරන මව්පිය ප්‍රජාව දරුවන්ට බ්‍රහ්මයයිද පූර්ව ආචාර්යවරයෝ යයි ද ආහුනෙය්‍ය පුද්ගලයෝ යයි ද මෙම සූත්‍රයෙහි සඳහන් වේ.

26. නිරයූපපත්ති සුත්ත - ඉති: 1-2-10

අපිරිසිදු වූ සිත් ඇති කල්හි කළුරිය කළේ නම් හෙතෙම අපායේ උපදින බව සඳහන් කරයි.

27. සුගතූපපත්ති සුත්ත : 1.3.1

පිරිසිදු සිතක් ඇතිකල්හි පරලොව යන්නෝ සුගතියෙහි උපදිති.

28. දෙවාවචන සුත්ත, ඉති: 3.4.4

චුතවන දෙවියාට මිනිස්ලොව ඉපිද පින්කරන ලෙස දෙවියෝ කියා සිටිති.

29. පට්ඨාන සුත්ත - ඉති: 3-3-7

පව්ටු මිතුරන් ඇසුරු නොකිරීමත් සත්පුරුෂයන් ඇසුරු කිරීමත් සඳහන් කරයි.

30. මා පුඤ්ඤානං භායි. ඉති: 1.3.1 2

පිනෙන් ලැබෙන අසීමිත ප්‍රතිඵල නිසා පිනට භය නොවන්න යයි මෙයින් අවධාරණය කෙරේ.

31. අප්පමාද සුත්ත ඉති: 1-3-3

මෙලොව පරලොව දෙකට පිහිටවන එකම ධර්මය අප්පමාදයයි.

32. පඨම සතුල්ලපකායික (සබ්භි) සුත්ත. දෙවතා සංයුත්ත 1.4-1

සතුලපකායික නම් දේවතා පිරිස තමතමන්ගේ අත්දැකීම් ඇසුරෙන් සත්පුරුෂයන් ඇසුරු කිරීමෙන් තමන් ලත් ප්‍රතිඵල ප්‍රකාශ කළහ. බුදුරදුන් ඒ සියල්ල අනුමත කරමින් මෙසේ වදාළහ.

'සත්පුරුෂයන් සමගම එක්වන්නේය. සත්පුරුෂයින් සමගම මිත්‍ර සන්ථවය කරන්නේ සත්පුරුෂයන්ගේ සද්ධර්මය දැනීමෙන් සියලු දුකින් මිදෙයි.

33. දුතිය සතුලපකායික (මච්ඡරිය) සුත්ත දෙවතා සංයුත්ත 1.4.2

දානය පිළිබඳව බුදුරදුන් හමුවේ මෙම දේවතා පිරිසේ අදහස් ප්‍රකාශ කළහ. බුදුරදුන් එම අදහස් අනුමත කරමින් ඒවායේ අඩුපාඩු සපුරමින් මෙසේ වදාළහ. 'යමෙක් කළවිට ශුද්ධකිරීම්, පිදුරු පෙලීම් ආදියකින් දුකසේ ජීවිකාව ගෙවමින් අඹුදරුවන් පෝෂණය කරමින් හැසිරෙන්නේද, සහශ්‍රයාග ලක්ෂයක් දෙනෙකුගේ එම යාග ක්‍රියාවෝ එබඳු දිලින්දාගේ දාන ක්‍රියාවෙන් සියයෙන් පංගුවකුදු නොඅගී.'

34. ආදිත්ත සුත්ත - දේවතා සංයුත්ත 1-5.1

මෙයින් දාන විෂයෙහි දුන් වස්තුව අගය කරයි. නොදුන් වස්තුව නොයෙක් උවදුරුවලට ගොදුරුවන බව පෙන්වා දෙයි. මෙය දත් තැනැත්තේ අනුභවද කරන්නේය. දීමද කරන්නේය. අනිත් දිනම ස්වර්ගයට පැමිණෙන්නේය.

35. මච්ඡර (මච්ඡරී) සුත්ත දෙවතා සංයුත්ත 1-5-9

නරකයට තිරිසන් ලෝකයට යම ලෝකයට යන්නෝ සහ දිළිඳු බවට පත්වන්නෝ, කවරහුද, මිනිස්ලොව ස්වර්ගවල උපදින්නෝ ද මිනිස්ලොව උසස් කුලවල උපදින්නෝ කවරහුදැයි මෙහි පැහැදිලි කර ඇත.

36. යාව ජරා (ජරා) සුත්ත - දේවතා සංයුත්ත 1.6.1

ජරාවට පත්වන තෙක් සීලය, ශ්‍රද්ධාව, ප්‍රඥාව මැනවි. පින සොරුන් විසින් පැහැරගත නොහැක.

37. පවාසිමිත්ත (මිත්ත) සුත්ත දේවතා සංයුත්ත 1.6.3

බැහැර වසන්නහුට තවලම මිතුරාය. ගෙදර මිතුරා මමය. කටයුතු ඇත්තහුට යහළුවා නැවත නැවත මිතුරා වෙයි.

38. මච්චුනාබ්භාහත (අබ්භාහත) සුත්ත දේවතා සංයුත්ත, 1.7.6 ලොව මරහු විසින් ලුහුබඳින ලදී. ජරාවෙන් පිරිවරණ ලදී. තෘෂ්ණා හුලෙන් බැසගන්නා ලදී. තෘෂ්ණාවෙන් හැමකල්හි දුවන ලදී.

39. සද්ධීධ විත්ත (විත්ත) සුත්ත - දේවතා සංයුත්ත. 1-8-3

මෙලොව සත්ත්වයාට ශ්‍රද්ධාව ශ්‍රේෂ්ඨ ධනය වේ. දහම මැනවින් ප්‍රගුණ කරන ලද්දේ, සුව එළවයි. රසයන් අතුරෙන් සත්‍යය ඒකාන්තයෙන් ඉතා මිහිරිය. නුවණින් ජීවත් වන්නහු ශ්‍රේෂ්ඨ ජීවිත ඇත්තෝය.

40. රූප ජීරණ (නජීරති) සුත්ත. දේවතා සංයුත්ත. 1.8.6

සත්ත්වයන්ගේ රූපය දිරයි. නාමගෝත්‍රය නොදිරයි. රාගය නොමග යයි කියනු ලැබේ. ලෝභය දහමට උවදුරකි. වයස දිවා රෑ දෙකෙහි ගෙවෙයි. ස්ත්‍රිය බඹසරට කිලුටකි. සත්ත්ව සමූහයා මෙහි ඇලේ. තපසද බඹසරද යන දෙක දිය නොමැති නෑමකි.

41. පාථෙය්‍ය සුත්ත. දේවතා සංයුත්ත 1.8.9

'ශ්‍රද්ධාව මාර්ගෝපකරණ බදී ඓශ්වර්ය භෝගයන්ට පිහිටයි. තෘෂ්ණාව සත්ත්වයා ඇදගන්නේය. ලොවැ තෘෂ්ණාව දුරුකිරීමට දුෂ්කරය. මළපුඩුවෙන් බැඳුන ලිහිණියකු මෙන් බොහෝ සත්ත්වයෝ තෘෂ්ණාවෙන් බැඳුමෙන් බැඳුනෝය.

42. ධම්ම රථ (අච්ඡරා) සුත්ත දේවතා සංයුත්ත 1-5-6

ඒ මාර්ගය උජුක නම් වේ. දිශාව අභය නම් වේ. ධර්මචක්‍රයෙන් යුත් එම රථය අක්ජන නම් වේ. හිරි ඔතප් දෙක රථයේ වැතිරගන්න පුවරු (ඇදී) වෙති. සිහිය එම රථයේ පිරිකරයි. (සැරසිල්ලයි.) විදර්ශනා සම්‍යක් දෘෂ්ටිය පෙරටුව යන ලෝකෝත්තර ධර්ම මාර්ගය එහි රියදුරා යයි මම කියමි.

යම් ස්ත්‍රියකට හෝ පුරුෂයෙකුට මෙබඳු යානයක් වේනම් හෙතෙම ඒකාන්තයෙන් මේ යානයෙන් නිවන සමීපයට යේ.

43. න උඤ්ඤාතබ්බ (දහර) සුත්ත කෝසල සංයුත්ත. 3-1-1

සිවුදෙනෙකු ළදරුහයි අවමන් නොකළ යුතුය. පරිභව නොකළ යුතුය. ක්ෂත්‍රිය, සර්ප, ගිනි, ශ්‍රමණ යන හතර කොටසයි.

44. ජරාමරණ (රාජ) සූත්ත. කෝසල සංයුත්ත. 3-1-3
උපන්නහුට ජරා මරණ හැර කිසිවක් නොමැත.

45 අත්තපපිය (පිය) සුත්ත - කො.සං 3-1-4
තිදොරින් අකුසල් කරන්නාට තමා අප්‍රිය වෙයි. කුසල් කරන්නාට තමා ප්‍රිය වෙයි. පින් පව් දෙක එයම ඔහුට ඔහුගේ වෙයි.

46. පමාද (අප්පක) සුත්ත - කොසල සංයුත්ත. 3.1.6
කාම වස්තූන්හි ඇලුණු ගිජු වූ මුසපත් වූ සත්ත්වයෝ කුසල් ඉක්මයාම නොදනිත් දමන ලද පාසය පිළිබඳ නොදන්නා මුවන් මෙන් පසුව ඔවුන්ට දුක වෙයි. එහි විපාකය ඉතා ලාමකය.

47. අප්පමාද සුත්ත. කොසල සංයුත්ත. 3-2-7
මෙලොව අභිවෘද්ධියත් පරලොව අභිවෘද්ධියත් ගෙන එකම දහම අප්‍රමාදයයි. සියලු සත්ත්වයන්ගේ පාදයන් ඇත්පාදයේ ඇතුලත් කළ හැක්කා සේ සියලු කුසල් දහම් අප්‍රමාද පදයෙහි සංග්‍රහ වෙති.

48. අපුත්තක (දුතිය) කෝසල සංයුත්ත. 3.2.10
සැවැත්නුවර අපුත්තක සිටුතෙම ඔහු පෙරකළ කර්මය විස්තර කොට පරලොව යයි. පරලොව යනවිට කරන ලද කුසල් අකුසල දෙක පමණක් ගෙන යන බව අවධාරණය කරයි.

49. තමොතම (පුගගල) කොසල සංයුත්ත 3-3-1
මෙහි පුද්ගලයන් හතර දෙනෙකු ඉදිරිපත් කරයි.

1. අඳුරෙන් අඳුරට යන පුද්ගලයා (තමො තම)
2. අඳුරෙන් එළියට යන පුද්ගලයා (තමො ජොති පරායණ)
3. එළියෙන් අඳුරට යන පුද්ගලයා (ජොති තම පරායණ)
4. එළියෙන් එළියට යන පුද්ගලයා (ජොති ජොති පරායණ)

50. පබ්බතුපම - කොසල සංයුත්ත. 3-3-5
යමසේ මහත් වූ අහසෙහි හැපී සිටි, සියලු සතුන් විනාස කරමින් ඉදිරියට ගමන් කරන භයානක අවස්ථාවක කුසල ක්‍රියා හැර වෙන කළයුත්තක් නොමැති බව සඳහන් කරයි.

51. ලොකානු විචරණ - අංගු: 3-1-4-8

පක්‍ෂයෙහි තුදුස්වක පසලොස්වක අටවක ප්‍රාතිහාර්ය පක්‍ෂය යන අවස්ථාවලදී පෙහෙවස් සමාදන් විය යුතු බව සඳහන් කරයි. සතර වරම් දෙවිවරුන්ගේ ඇමතිවරු අටවක දිනවලද, සතරවරම් දෙවිවරුන්ගේ පුත්‍රයෝ චාතුද්දසී දිනවලද සතරවරම් දෙවිවරු පසලොස්වක දිනවලද, මිනිස්ලොව සැරිසරමින් පින් පව් කරන අය පිළිබඳ සංගණනයක් කරන බැව් මෙහි සඳහන් වේ.

52. සුපුබ්බණ්හ - සුත්ත - අංගු: 3-3-5-10

පින්කරන මොහොත ශුභ මොහොත බව මෙහි දැක්වේ.

53. සල්ල සුත්ත - සුත්ත නිපාත 3-8

ජීවත්වීම හේතු සමූහයක් නිසා සිදුවන්නකි. එක හේතුවක් වෙනස් වීමෙන් එය පවත්වාගත නොහැකි බවත් ඉදුනු ගෙඩිය එය රැඳී සිටීමට හේතු වූ කාරණා අඩුවීමෙන් එය බිමට පතිත වන්නාක් මෙන් සත්ත්වයාට මරණ භය ඇතිවේ. පුත්‍ර වියෝගයෙන් පෙළෙන උවසුවකුගේ ශෝකය දුරුකිරීමට මෙය දේශනා කර ඇත.

54. නඛසිඛා සුත්ත - නිදානවග්ග සංයුත්ත ඔපම්ම - 2

බුදුරදුන් නිය මතුපිට තැබූ පස් ස්වල්පයක් උපමා කොට මිනිස්ලොවින් චුතව මිනිස්ලොව, දෙව්ලොව උපදින අය නියපිට රැඳවූ පස් ස්වල්පය මෙන් අල්ප බවත් සතර අපායෙහි උපදින අය ඉතිරි මහපොළවේ පස්මෙන් අධික බවත් පෙන්වා ඇත. මෙතෙකින් ගිහියන්ට ධර්මකාරණා විස්තර කිරීමට ඉදිරිපත් කළ දෙතිසක් සූත්‍රයෝ අවසන් වේ.

අනුමෝදනා සඳහා දෙසූ දෙනා (vi) සූත්‍ර සංඛ්‍යාව 13 යි.

55. නිධිකණ්ඩ සුත්ත - ඛුද්දක පාඨ 8.

සැවැත් නුවර ධනවත් කෙළෙඹි පුත්‍රයෙක් බුදුපාමොක් මහසඟනට දන් දෙයි එසමයෙහි කොසොල් රජුට ඔහුගෙන් ධනය අවශ්‍ය වී ඔහුට පණිවුඩය යැවීය. එකල්හි ඔහු තමාදෙන දානය සලකා, මම නිධානයක් තැන්පත් කරමියි යැයි රජුට දන්වා යැවීය. දන් වළඳ අවසන්හි ඔහුට අනුමෝදනා වශයෙන් මේ සූත්‍රය දේශනා කළහ. ධනය පින්කම්වල යෙදීම නියම නිධන් කිරීමක් බවත් එය කවරෙකුට වත් පැහැරගත

නොහැකි බවත් එය තම පසුපස එන අනුගාමික පුණ්‍යනිධානයක් බවත් මෙහිදී පැහැදිලි කර ඇත.

56. චරිධාලොව (දාන සංවිභාග) සුත්ත - ඉතිවුත්ත 1-3-6

"මහණෙනි, බෙදා දී වැළඳීමෙහි අනුසස් මම යම්සේ දනිම් ද, එසේම සෙස්සෝත් දනිත්නම් නොදී නොවළඳන්නාහුය. මසුරුමල ඔවුන්ගේ සිත හාත්පසින් අල්ලා ගෙන නොසිටින්නේය. ඔවුන්ගේ අවසන් යම් බත්පිඩක් වෙයිනම් පිළිගන්නෝ වෙත්නම් ඒ බත් පිඩෙන්ද කොටසක් බෙදාදී වළඳන්නේය. මෙයයි දාන සංවිභාගයා.

57. පඤ්චවට්ඨානදාන (භොජන) සුත්ත අංගු: 5-1-4-7

බොජුන් දෙන දායකතෙම - ආයු - වණ්ණ - සුඛ - බල - පටිභාන යන කරුණු පසක් දෙයි. එම දීම හේතුවෙන් දිව්‍යමය වූ ද මනුෂ්‍යමය වූ ද ආයු වර්ණාදිය ලබයි.

58. බලදාන (කිංදද) සුතත දෙවතා සංයුක්ත 5-X[2]

ආහාර දෙන්නේ බලය දෙන්නේ වේ. වස්ත්‍ර දෙන්නේ වර්ණ දෙන්නේ වේ. යාන දෙන්නේ සැපදෙන්නේ වේ. පහන් දෙන්නේ ඇස් දෙන්නේ වේ. යමෙක් ආවාස දේද හේ සියල්ල දෙන්නේ වේ. යමෙක් ධර්මහසනය කෙරේද, හෙතෙම අමෘතය දෙන්නේ වේ.

59. පුප්ඵවඩ්ඪන (වනරොප) සුත්ත, දෙවතා සංයුත්ත, 1-5.7 යමෙක්හු මල් එල උයන් වවන්නෝ වෙත් ද, පියවි වන වගාකොට දෙන්නෝ වෙත් ද, ඒදඬු, පාලම් කරන්නෝ වෙත්ද, පැන්හල් පැන් පොකුණු, ආවාසත් දෙත්ද, ඔවුනට හැමකල්හි දිවා රෑ දෙක්හි පින් වැඩේ. දහමිහි පිහිටි සීල සම්පන්න වූ ඒ ජනයෝ ස්වර්ගයට යෙත්.

60. යාගුදාන අනුමොදනා (මහාවගග භෙසජ්ජකඛන්ධකා) 562

කැඳෙහි ආනිසංස දසයෙක් වෙයි. කැඳ දෙන්නෝ ආයු-වර්ණ-සැප-බල-නුවණ දෙයි. පානය කළ කැඳ බඩගිනි නසයි. පිපාසාව දුරුකරයි. වාතය අනුලොම් කරයි. වස්තිය පිරිසිදු කරයි. නොපැසී ශේෂව සිටි ආහාර පැසවයි. මේ කැඳෙහි ආනිසංස දහයයි.

61. වස්සකාර අනුමෝදනා මහාවග්ග භෙසජ්ජක්ඛන්ධක 576

සුනීධ - වස්සකාර යන මගධ මහාමාත්‍යවරුන් දෙදෙනාට බුදුරදුන් මෙය වදාළහ.

"යම් පෙදෙසක පණ්ඩිත වූවෙක් වාසය කෙරේනම් එහි සිල්වත් සංයත වූ බ්‍රහ්මචාරීන් වළඳවා එහි යම් දේවතාවෝ වූවහුද, ඔවුන්ට පින් දෙන්නේය. මෙසේ පුදන ලද දෙවියෝ ඔහු ද පුදත්. බුහුමන් කරන ලද දෙවියෝ ඔහුට බුහුමන් කරත්. මව්තොමෝ ලෙහි හොවා වඩන පුතුට මෙන් ඔහුට අනුකම්පා කෙරෙත්. දෙවියන් විසින් අනුකම්පා කරන ලද පුරුෂ තෙම සියලු කල්හි යහපත.දකී.

62. විහාරාදානානුමොදනා - චුල්ලවග්ග සෙනාසනක්ඛන්ධක

රජගහ සිටුවරයාගේ ඉදිරිපත්වීම නිසා බුදුරදුන්ගේ අනුමැතිය ලැබ එක දවසින් විහාරස්ථාන හැටක් කරවා සතරදිගින් වඩින සංඝයාට පූජා කළේය. බුදුරදුන් විහාරදාන අනුසාසනාවක් පවත්වා ඇත. එය මෙහි සඳහන් වේ.

63. වෙළුවන දානානුමොදනාව - බුද්ධ වංසට්ඨකථා නිදාන

බිම්බිසාර රජතුමා වෙළුවනය භාග්‍යවතුන් වහන්සේට පූජාකිරීම නිමිත්තෙන් බුදුරදුන් දෙසූ දේශනාවක විලාසයෙන් විහාරදානානි සංඝ ගාථා දහයකින් පමණ දැක්වේ.

64. ගිහි පටිපදා සුත්ත. අංගු: 4-2-1-10

'මනාව පිළිපන් සිල්වත් ප්‍රතිග්‍රාහකයන්ට සිව්පසයෙන් උපස්ථාන කරන පණ්ඩිත ගිහියෝ ගිහි සාමීචි පිළිවෙත පිළිපදිත්.'

65. මහාසමය සුත්ත දීඝනිකාය 20

කිඹුල්වත් පුර මහාවනයේ දී එදිනම රහත් වූ පන්සියයක් කෝලිය ශාක්‍ය භික්ෂූන් සමග බුදුවරයන් විසින් පවත්වනු ලබන අසිරිමත් රැස්වීම පැවැත්විනි. නොයෙක් සක්වලවලින් පැමිණි අප්‍රමාණ දෙවියෝ එහි වූහ. මේ රැස්වීමේදී සිදුවී ඇත්තේ පැමිණි දේවනිකායයන්ගේ නම්ගොත් ප්‍රකාශකිරීම පමණි. බුදුරදුන් එදා දෙසූ ධර්මය මහාසමය සූත්‍රයේ සංග්‍රහවී නොමැති බව කිව යුතුය. චරිත හයට ගැලපෙන පරිදි දෙසූ සූත්‍රවල නම් මෙම අටුවාවේ සඳහන් වේ.

66. තිරොකුඩ්ඩ සූත්‍රය. ඛුද්දක පාඨ 7 සූත්‍රය

සසර බොහෝ පෙර සංසයාට වෙන්කළ දන්වැට කෑ ජනකොටසක් මැරී නිරයෙහි ඉපිද නිරයෙන් නිරයට ගොස් අනතුරුව ප්‍රේතව ඉපිද බොහෝ කලක් දුක්වින්දහ. බුදුරදුන් රජගහ නුවරට වැඩ බිම්සර රජු සහිත පිරිසට දම්දෙසා ඔවුන් සෝවාන් පලයෙහි පිහිටවූහ. එයින් දෙවෙනි දින රජ බුද්ධ ප්‍රමුඛ පිරිසට දන් දුන්හ. එහෙත් යටකී පූර්ව ජාතියක ඤාති වූ ප්‍රේතයනට පින් අනුමෝදන් නොකරවිය. එහෙයින් ඔවුහු එදා රෑ රජගෙදර බිහිසුණු හඬ පැවැත්වූහ. රජු පෙරදින එම පුවත බුදුරදුන්ට දැන්විය. බුදුරද එය පින්ගන්ට බලාපොරොත්තුව ඤාති ප්‍රේතයන්ගේ හඬ බව වදාරා දන් දී ඔවුන්ට පින් අනුමෝදන් කරවිය යුතුයයි වදාළහ. රජද එසේ කළේය. ඒ පින් අනුමෝදන් වූ ප්‍රේතයන්ට දිව්‍ය ආහාර පාන පහල විය. එහිදී බුදුරජාණන් වහන්සේ රජුට අනුමෝදනා බණ වශයෙන් මෙම තිරෝකුඩ්ඩ සූත්‍රය දේශනා කළහ.

67. ජාණුසෙසාති සූත්‍රය අංගු. 10-4-1-10

දෙනු ලබන පින් ලැබිය හැක්කෝ හා නොලැබිය හැක්කෝ කවරහුදැයි මෙම සූත්‍රයේදී පැහැදිලි කර ඇත.

මෙසේ අනුමෝදන් පටිසංයුත්ත දේසනා 13 නිමාවට පත්වේ.

පැවිද්දන්ට ප්‍රතිපත්ති ප්‍රකාශන දෙසනා vii සූත්‍ර 18 කි.

68. අන්ධකවින්දක සුත්ත අංගු 5-3-2-4

අළුත සසුනට ඇතුලත් වූ නවක භික්ෂූන් කරුණු පහක පිහිටවිය යුතු බැව් වදාළහ.

1. සීල සංවරය 2. ඉන්ද්‍රිය සංවරය 3. සීමාසහිත කථා ඇතිබව
4. ආරණ්‍ය සෙනසුන් ඇසුරු කරවීම.
5. සම්‍යක් දෘෂ්ටියෙහි පිහිටුවීමයි යන කරුණු පහයි.

69. මහා රාහුලෝවාද සුතත - මජ්ඣිම. 2-2-2

අධ්‍යාත්මක වූ ද බාහිර වූ ද පඨවි - ආපෝ - තේජෝ - වායෝ - ආකාස පඤ්ච මහාධාතූහු එකම ධාතූහු බවත් එය මගේ නොවේ. මම නොවෙමි. මගේ ආත්මය නොවේ යයි සම්‍යක් ඥානයෙන් දැක්ක යුතු බව වදාළහ. ධාතු සමකොට භාවනා කරන ලෙස මෙයින් රාහුල හිමියන්ට අනුශාසනා කර ඇත.

70. ධම්ම විහාරි සුත්ත - අංගු. 5-2-3-3

'මහණ තෙම මෙම සස්නෙහි භික්ෂුවක් සුත්ත - ගෙය්‍ය ආදි පර්යාප්ති ධර්මය ප්‍රගුණ කරයි. හෙතෙම එයින්ම දවස නොගෙවයි. අධ්‍යාත්මික චිත්ත සමථයෙහි (සමථ විදර්ශනා) භාවනාවන්හි යෙදෙයි. ඒ භික්ෂුව මෙහි ධම්ම විහාරියයි කියනු ලැබේ.

71. රාහුල සුත්ත - සුත්ත නිපාත 2-11

හත් අවුරුදු වයසේ දී පැවිදි වූ රහල් හිමියන්ට නිතර නිතර දුන් අවවාද මෙම සූත්‍රයෙහි සංග්‍රහ වී ඇති බව පෙනේ.

72. නන්දා (විජය - කායවිච්ඡන්දනී) සුත්ත නිපාත. 1.11

රූපමදයෙන් මත්ව සිටි නන්දා නමින් හැඳින්වූ භික්ෂුණීන් තිදෙනෙකු එයින් මුදවා රහත් කරවීමට දෙසූ දහම් මෙහි සංග්‍රහ වී ඇත. අනඳ තෙරුන්ගේ නැගණිය වූ නන්දා ඛෙමක ශාක්‍යයන්ගේ දුහිතෘ වූ නන්දා සහ ජනපද කල්‍යාණි නම් වූ නන්දා යනු එම නන්දාවරුන් තිදෙනායි.

73. තුවටක සුත්ත. සුත්ත නිපාත. 4-14

කපිල වස්තුපුර මහාවනය මහාසමය දේසනා කල සමාගයෙහි දෙසූ දහමක් බැව් පෙනේ. නිර්මිත බුදුරදුන් ඇසූ ප්‍රශ්නවලට බුදුරදුන් පිළිතුරු දෙන අයුරින් මෙම සූත්‍රයේ ධර්ම කරුණු විස්තර වේ. එදා බුදුරදුන් දෙසූ දහම් මහාසමය වාර්තාවේ නැත. එහි ඇත්තේ දෙවිවරුන්ගේ නාමගෝත්‍ර පමණි. භික්ෂු විනය පිළිබඳ කරුණු මෙහි සාකච්ඡා වේ.

74. අනත්ත සුත්ත, ඛන්ධකවග්ග සංයුත්ත මජ්ඣිම ප. 1-7

බරණැස ඉසිපතනයේ දී ධම්ම චක්ක දේසනාවෙන් පසු පස්වග මහණුන් රහත් කරවීමට මෙම සූත්‍රය දේසනා කළහ. ආත්මවාදී සංකල්පයේ ගිලීසිටි පිරිසකට අනාත්ම ලක්ෂණයත් බුදුරදුන් දේසනාව ආරම්භ කර ඇත. අනතුරුව අනිත්‍ය දුක්ඛ භාවය ද අවබෝධ කරවා මගේය. මම වෙමි. මගේ ආත්මය යන වැරදි සංකල්ප මුලිනුපුටා රහත් මගට යොමු කළ සේක.

75. චූල රාහුලෝවාද සුත්ත. මජ්ඣිම. 3-5-7

නුවණ මුහුකුරා ගිය රහල් තෙරුණුවන් රහත් කරවීම සඳහා මෙම සූත්‍රය දේසනා කළහ.

චක්ඛු - රූප - චක්ඛු විඤ්ඤාණ, ඵස්ස, වේදනා, සඤ්ඤා සංඛාර විඤ්ඤාණ මේ ධර්ම අනිත්‍ය දුක්ඛ, අනාත්ම යන ත්‍රිලක්ෂණයට නගා පෙන්වූහ. මේ අයුරින්ම සොත-ඝාන-ජිව්හා, කාය, මන යන මේ ඉන්ද්‍රිය ධර්මයන් පිළිබඳව ද මේ අයුරින්ම දෙසුම් මහ විහිදුවා දේසනාව නිම කෙලෙන් දෙසුම් අවසන රහල් හිමියෝ රහත් වූහ. පැතුම් බලයෙන් රහල් හිමියන් පසුපස ආ දේව සමූහයා ද මෙහිදී මාර්ගඵල ලැබුවාහුය.

76. අජ්ඣත්තිකංග (පඨමසෙඛ) සුත්ත ඉතිවුත්ත 1-2-6

සෙඛ භික්ෂුවගේ අභ්‍යන්තරයේ උපන් උසස්ම අංගය යෝනිසෝ මනසිකාරය බැව් පැවසේ.

77. බාහිරංග (දුතියසෙඛ) ඉතිවුත්ත. 1.2.7

යොනිසො මනසිකාරය අධ්‍යාත්මික අංගය වූවා සේම බාහිර අංගය වශයෙන් කලණ මිතුරන් ඇති බව සඳහන් කරයි.

78. පිණ්ඩියාලොප (ජීවිකා) ඉතිවුත්ත 3.5.2

දුසිල්ව සිට පිණ්ඩපාතය වැළඳීමේ ආදීනව පෙන්වා දී ඇත.

79. ආරද්ධ විරිය (චර) සුත්ත. ඉතිවුත්ත 4-1-11

සිවු ඉරියව්වේ දීම ඇතිවන කාම - ව්‍යාපාද - විහිංසා යන විතර්කයන් ඉවසන තැනැත්තේ කුසීත වූ වීර්ය නැති කෙනෙකු බව පැවසේ. එම විතර්කයන් නොඉවසන බැහැර කරන තැනැත්තේ, කෙලෙස් තවන වීර්ය ඇති, පවෙහි බිය ඇති, සතර පටන්ගත් වීර්ය ඇති, නිවන් කරා මෙහෙයූ සිත් ඇති කෙනෙකැයි පැවසේ.

80. ජාගරණ (ජාගරිය) සුත්ත, ඉතිවුත්ත 2-2-16

සිහි ඇති නිදිවරමින් බෝධිපාක්ෂික ධර්මන් මෙනෙහි කරන තැනැත්තේ මොහඳුර නසන්නේ වේ.

81. සලල (දුතිය වේදනා) ඉතිවුත්ත 3-1-4

'යමෙක් සැපවෙදනා දුක් වශයෙන් දකී ද, දුක්වේදනා (සල්ල) හුල් වශයෙන් දකී ද නොදුක් නොසැප වූ ශාන්ත වූ ඒ වේදනාව අනිත්‍ය වශයෙන් දකී ද, ඒ මහණ තෙම ඒකාන්තයෙන් සම්‍යග් දර්ශී වෙයි. වේදනාවෙන් සමුච්ඡේද වශයෙන් මිදේ ද එබැවිනි.

82. හිදුර සුතත - ඉතිවුතත - 3-3-8

"මහණෙනි, මෙම සිරුර බිඳෙන සුලුය. විඤ්ඤාණය (චිත්ත චෛතසික) නැසෙන සුළුය. සියලු උපධීහු අනිත්‍යහ. දුකඛයහ. පෙරලෙන ස්වභාව ඇත්තාහුය.'

83. දසධම්ම සුතත - අංගු: 10-5-8

මහණහු විසින් නිතර මෙනෙහි කළයුතු ධර්ම දහයක් මෙහි ඉදිරිපත් කර ඇත.

84. ආරඤ්ඤික (පඨම අනාගත භය) සුත්ත අංගු: 5-2-3-7

ආරණ්‍යවාසී භික්ෂූන්ට සිදුවන භය පහක් දක්වා ඉන් එකකිනුදු ජීවිතය තොරවීමට පෙර මගඵල ලබාගැනීමට උත්සාහ කළයුතු බැව් දැක්වේ. ආරණ්‍ය අතහැර නිර්භය තැනකට යාම නොව භය පැමිණීමට පෙර මගඵල ලබාගැනීමට උපදෙස් දීම මෙහි විශේෂ ලක්‍ෂණයකි.

85. දසබල සුතත - 2, නිදාන සංයුත්ත 1-3-3

මෙහිදී බුදුරදුන්ගේ සීහ නාදයක් වශයෙන් පටිච්ච සමුප්පාද න්‍යායක් පෙන්වා ඇත.

මෙම සූත්‍ර ධර්ම 18 න් භික්‍ෂුවගේ ප්‍රතිපත්ති ප්‍රකාශනය අවසන් වේ.

**පණ්ඩිත ආඳවල දේවසිරි මහා ස්ථවිර**

සුසීමාරාමය, කටුකුරුන්ද

කළුතර.

# පටුන

පිටු අංකය

## 'සුතත සංගහ' ග්‍රන්ථයට සූත්‍ර උපුටා ගත් මුල් ග්‍රන්ථ පිළිබඳ විස්තරය

| | | | පණ්ණාසකෙ. | වගගසස. | සුතතං. |
|---|---|---|---|---|---|
| 1. | කාලදාන | පංචකංගුතතරෙ | 1 | 4 | 6 |
| 2. | සුමනා | පංචකංගුතතරෙ | 1 | 4 | 1 |
| 3. | සපපුරිසදාන | පංචකංගුතතරෙ | 3 | 5 | 8 |
| 4. | වෙලාම | නවකංගුතතරෙ | - | 2 | 10 |
| 5. | දකඛිණාවිභංග | මජඣිමනිකායෙ උපරි | | 4 | 12 |
| 6. | සුභ(චූලලකමම විභංග) | මජඣිමනිකායෙ උපරි | | 4 | 5 |

ඉමානි ඡ දානකථා පටිසංයුතතානි

| | | | | | |
|---|---|---|---|---|---|
| 7. | මහානාම | මහාවගගසංයුතෙත | | | |
| 8. | උපාසකචණ්ඩාල | පංචකංගුතතරෙ | 4 | 3 | 5 |
| 9. | උපාසකරතන | පංචකංගුතතරෙ | 4 | 3 | 5 |
| 10. | වණිජජ | පංචකංගුතතරෙ | 4 | 3 | 7 |
| 11. | විසාඛූපොසථ | තිකකංගුතතරෙ | 2 | 2 | 10 |
| 12. | සිගාලොවාද | දීඝනිකායෙ | - | - | 31 |

ඉමානි ඡ සීලකථාපටිසංයුතතානි

| | | | |
|---|---|---|---|
| 13. | ධමමහදයවිභංග | විභංගපපකරණෙ | පිට්ඨංකා |
| 14. | ඡතත විමාන වණ්ණනා (මුද්‍රිත) | විමානවතථු අට්ඨකථා | 183-194 |
| 15. | රෙවතී විමාන වණ්ණනා | විමානවතථු අට්ඨකථා | 176-183 |
| 16. | ගුතතිල විමාන වණ්ණනා | විමානවතථු අට්ඨකථා | 110-119 |
| 17. | අනෙකවණ්ණ වණ්ණනා | විමානවතථු අට්ඨකථා | 256-259 |

සගගකථා පටිසංයුතතානි

| | | | පණ්ණාසකෙ. | වගගසස. | සුතතං. |
|---|---|---|---|---|---|
| 18. | දෙවදූත | මජඣිම නිකායෙ | උපරි | 3 | 10 |
| 19. | මහා දුකඛකඛනධ | මජඣිම නිකායෙ | මූල | 2 | 3 |
| 20. | අට්ඨිපුඤ්ජ | අනමතගග සංයුතෙත | - | 1 | 10 |
| 21. | පාචෙය්‍යක | අනමතගග සංයුතෙත | - | 2 | 3 |
| 22. | සූකරපොතිකාය වතථු (මුද්‍රිත) | ධමමපදට්ඨකථාය 2 භාගෙ පිට්ඨෙසු 598-601 | | | |

කාමාදීනව පටිසංයුතතානි

| | | | | | |
|---|---|---|---|---|---|
| 23. | පරාභව | සුත්තනිපාතෙ | 1 | උරග | 6 |
| | | ඉතිවුත්තකෙ | නිපාතෙ | වග්ගස්ස. | සුත්තං |
| 24. | අග්ගප්පසාද | ඉතිවුත්තකෙ | 3 | 5 | 1 |
| 25. | සබ්‍රහ්මක | ඉතිවුත්තකෙ | 4 | 1 | 7 |
| 26. | නිරයූපපත්ති | ඉතිවුත්තකෙ | 1 | 2 | 10 |
| 27. | සුගතූපපත්ති | ඉතිවුත්තකෙ | 1 | 3 | 1 |
| 28. | දෙවාවචන | ඉතිවුත්තකෙ | 3 | 4 | 4 |
| 29. | පට්ඨාන | ඉතිවුත්තකෙ | 3 | 3 | 7 |
| 30. | මා පුඤ්ඤභායි | ඉතිවුත්තකෙ | 1 | 3 | 2 |
| 31. | අප්පමාද | ඉතිවුත්තකෙ | 1 | 3 | 3 |
| 32. | පඨම සතුල්ලපකායික | දෙවතා සංයුත්ත | | 4 | 1 |
| 33. | දුතිය සතුල්ලපකායික | දෙවතා සංයුත්ත | | 4 | 2 |
| 34. | ආදිත්ත සතුල්ලපකායික | දෙවතාසංයුත්ත | | 5 | 1 |
| 35. | මච්ඡර | දෙවතාසංයුත්ත | | 5 | 9 |
| 36. | යාවජරා | දෙවතාසංයුත්ත | | 6 | 1 |
| 37. | පවාසිමිත්ත | දෙවතාසංයුත්ත | | 6 | 3 |
| 38. | මච්චුනාබ්භාහත | දෙවතාසංයුත්ත | | 7 | 6 |
| 39. | සද්ධීධවිත්ත | දෙවතාසංයුත්ත | | 8 | 3 |
| 40. | රූපජීරණ | දෙවතාසංයුත්ත | | 8 | 6 |
| 41. | පාථෙය්‍ය | දෙවතාසංයුත්ත | | 8 | 9 |
| 42. | ධම්මරථ | දෙවතාසංයුත්ත | | 5 | 6 |
| 43. | න උඤ්ඤාතබ්බ | කොසලසංයුත්තෙ | | 1 | 1 |
| 44. | ජරාමරණ | කොසලසංයුත්තෙ | | 1 | 3 |
| 45. | අත්තපිය | කොසලසංයුත්තෙ | | 1 | 4 |
| 46. | පමාද | කොසලසංයුත්තෙ | | 1 | 6 |
| 47. | අප්පමාද | කොසලසංයුත්තෙ | | 2 | 7 |
| 48. | අපුත්තක | කොසලසංයුත්තෙ | | 2 | 10 |
| 49. | තමොතම | කොසලසංයුත්තෙ | | 3 | 1 |
| 50. | පබ්බතූපම | කොසලසංයුත්තෙ | | 3 | 5 |
| 51. | ලොකානුවිචරණ | තිකංගුත්තර 1 පණ්ණාසකෙ | | 4 | 8 |
| 52. | ලොකානුවිචරණ | තිකංගුත්තර 3 පණ්ණාසකෙ | | 5 | 10 |
| 53. | සල්ල | සුත්තනිපාතෙ | | 3 | 8 |
| 54. | නඛසිඛා | නිදානවග්ග ඔපම්මසංයුත්තෙ | | - | 2 |

ගහට්ඨානං පරිකථාපටිසංයුත්තානි

| | | | | |
|---|---|---|---|---|
| 55. | නිධිකණ්ඩ | ඛුද්දකපාඨෙ | - | 8 |
| 56. | චරිමාලොප | ඉතිවුත්තකෙ 1 නිපාතෙ | 3 | 6 |
| 57. | පඤ්චට්ඨානදාන | පඤ්චකංගුත්තරෙ 1 පණ්ණාසකෙ | 4 | 7 |
| 58. | බලදාන | දෙවතාසංයුත්ත | 5 | 2 |
| 59. | පුඤ්ඤවඩ්ඪන | දෙවතාසංයුත්ත | 5 | 7 |

| | | | වග්ගස්ස. | සුත්තං. |
|---|---|---|---|---|
| 60. | යාගුදානානුමොදනා | මහාවග්ගෙ භෙසජ්ජක්ඛන්ධකෙ | | |
| 61. | වස්සකාරානුමොදනා | මහාවග්ගෙ භෙසජ්ජක්ඛන්ධකෙ | | |
| 62. | විහාරදානානුමොදනා | චුල්ලවග්ගෙ සෙනාසනක්ඛන්ධකෙ | | |
| 63. | වෙළුවනදානානුමොදනා | බුද්ධවංසට්ඨකථාය නිදානවණ්ණනායං | | |
| 64. | ගිහිපටිපදා | චතුක්කංගුත්තරෙ 2 පණ්ණාසකෙ | 1 | 10 |
| 65. | මහාසමය | දීඝනිකායෙ | - | 20 |
| 66. | තිරොකුඩ්ඩ | ඛුද්දකපාඨෙ | - | 7 |
| 67. | ජානුස්සොණි | දසකංගුත්තරෙ 4 පණ්ණාසකෙ | 7 | 10 |

අනුමොදනා පටිසංයුත්තානි

| | | | පණ්ණාසකෙ | වග්ගස්ස. | සුත්තං |
|---|---|---|---|---|---|
| 68. | අන්ධකවින්ද | පඤ්චකංගුත්තරෙ | 3 | 2 | 4 |
| 69. | මහාරාහුලොවාද | මජ්ඣිමනිකායෙ මජ්ඣිම | " | 2 | 2 |
| 70. | ධම්මවිහාරී | පඤ්චකංගුත්තරෙ 2 | " | 3 | 3 |
| 71. | රාහුල | සුත්තනිපාතෙ - | " | 2 | 11 |
| 72. | නන්දා | සුත්තනිපාතෙ - | " | 1 | 11 |
| 73. | තුවටක | සුත්තනිපාතෙ - | " | 4 | 14 |
| 74. | අනත්ත | ඛන්ධවග්ගසංයුත්ත-මජ්ඣිම | | 1 | 7 |
| 75. | චූලරාහුලොවාද | මජ්ඣිමනිකායෙ උපරි | " | 5 | 5 |
| 76. | අජ්ඣත්තිකංග | ඉතිවුත්තකෙ 1 නිපාතෙ | - | 2 | 6 |
| 77. | බාහිරංග | ඉතිවුත්තකෙ 1 නිපාතෙ | - | 2 | 7 |
| 78. | පිණ්ඩියාලොප | ඉතිවුත්තකෙ 3 නිපාතෙ | - | 5 | 2 |
| 79. | ආරද්ධවිරිය | ඉතිවුත්තකෙ 4 නිපාතෙ | - | 1 | 11 |
| 80. | ජාගරණ | ඉතිවුත්තකෙ 2 නිපාතෙ | - | 2 | 10 |
| 81. | සල්ල | ඉතිවුත්තකෙ 3 නිපාතෙ | - | 1 | 3 |
| 82. | හිදුර | ඉතිවුත්තකෙ 3 නිපාතෙ | - | 3 | 8 |
| 83. | දසධම්ම | දසකංගුත්තරෙ පඨම පණ්ණාසකෙ | | | 8 |
| 84. | ආරඤ්ඤික | පඤ්චකගුත්තරෙ දුතිය පණ්ණාසකෙ3 | | | 7 |
| 85. | දසබල | නිදානවග්ගසංයුත්ත | | දසබලවග්ගස්ස | 2 |

පබ්බජිතානං පටිපත්තිපටිසංයුත්තානි.

## පරමත්ථජෝතිකා නම් වූ

# සුත්ත සංගහට්ඨ අටුවාව

## (සිංහල පරිවර්තනය)

### නමෝ තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස

**ඒ භාග්‍යවත් වූ අරහත් වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේට නමස්කාරය වේවා !**

එවං මෙසුතං, කාලදාන සූත්‍රයයි. සූත්‍ර දේශනාවෝ දේස, දේසක, පටිගගාහක, අත්ථ, ගුණ වශයෙන් හඳුන්වනු ලබත්. එහි කාලකාරාම, අන්ධකවින්ද ආදී සූත්‍ර දේශ වශයෙන් ද හඳුන්වනු ලබත්. කච්චායන භද්දේකරත්ත ආදී සූත්‍ර දේශකයන් වහන්සේගේ වශයෙන් ද, සිගාලෝවාද අම්බට්ඨ ආදි සූත්‍ර පටිගගාහකයන්ගේ වශයෙන් ද හඳුන්වනු ලබත්. මංගල සූත්‍ර ආදිය අර්ථයාගේ වශයෙන් ද නම් ලබන්නේ යයි දතයුතුය. මධුපිණ්ඩික සූත්‍ර ආදිය ගුණ වසයෙනි. මේ අන්දමින් සූත්‍ර නම් ලබන්නේ යයි දතයුතුයි.

මෙම සූත්‍රයන්ගේ උපත කවරේද යත්, අත්තජ්ඣාසය පරජ්ඣාසය, අට්ඨුප්පත්තික, පුච්ඡාවසික යනුවෙන් හතරවැදෑරුම් වන්නීය. එහි දේවදූත, ආකංඛෙය්‍ය ආදි සූත්‍රයන්ගේ උපත අත්තජ්ඣාසය නම් වන්නීය. භාග්‍යවතුන් වහන්සේ අනිකෙකු විසින් ආරාධනය කරනු නොලැබ තුමූදක් තමන් වහන්සේගේම අදහසින් චූලරාහුලෝවාද ආදි සූත්‍ර වදාළ සේක.

මෙහි උපත පරජ්ඣාසය නම් වන්නීය. මෙරමාගේ අදහස් ද ධර්මය අවබෝධ කරන බව ද පරීක්ෂාකොට දේසනා කරන ලද බැවිනි. දක්ඛිණ විභංග, ධම්මදායාද ආදි සූත්‍ර අට්ඨුප්පත්ති නම් වන්නීය. මංගල සූත්‍රාදිය අත්තජ්ඣාසය වශයෙන් උත්පත්ති කථා දතයුත්තීය. දාන එහි ප්‍රභේද ආනිසංස පිළිබඳ භාග්‍යවතුන් වහන්සේ ප්‍රත්‍යක්ෂ ඥාණ ඇත්තේමය. අනුන් විසින් ආරාධනා නොකරණ ලද්දේ පිරිවරා හුන් භික්ෂූන්ට දානයාගේ ප්‍රභේද ද ආනිසංස ද දෙසනු කැමැත්තේ මෙම සූත්‍රය වදාළ සේක.

තත්‍ථ එහි 'එවං මෙ සුතං -පෙ- එතදවොච යනු ප්‍රථම ධර්ම සංගීති කාලයෙහි මහකසුප් තෙරුන් ප්‍රමුඛ පන්සියයක් මහරහතුන් වහන්සේ, 'කාලදාන සූත්‍රය, ඇවැත්නි, ආනන්දය, භාග්‍යවතුන් වහන්සේ කොහි ද වදාරණ ලද්දේ ද. කවරෙකු අරභයා දැයි, නිදානය ද, පුද්ගලයාද, ආයුෂ්මත් මහකසුප් තෙරුන් විසින් විචාරණ ලදී. එහෙයින් එම නිදානය විස්තරකොට 'යම් මේ සූත්‍රය. යම් කලෙක්හි දෙසන ලදද, යමකු විසින් දෙසන ලදද, යම් තැනෙක්හි දෙසන ලදද, යමෙකුට දෙසන ලදද, යනුවෙන්, 'මෙසේ මෙම සූත්‍රය එක් සමයෙක්හි වදාරණ ලදහ. භාග්‍යවතුන් වහන්සේ දෙසන ලදහ. සැවැත්නුවරදී දෙසන ලදැයි භික්ෂූන්ට දෙසන ලදයයි මෙසේ ඒ සියලු අර්ථය දක්වන්නා වූ ආනන්ද තෙරුන් වදාරණ ලදී. යම් හෙයකින් ආයුෂ්මත් මහා කාශ්‍යප තෙරුන් විසින් නිදානය ද, පුද්ගලයන් ද, විචාළ කල්හි, රහත් ගණයා පිරිවරා ධර්මාසනයෙහි හුන් ආයුෂ්මත් අනඳ තෙරුන් දැක, ඇතැම් දේවතාවන්ට මෙවන් සිතක් උපනි. 'ආයුෂ්මත් වෛදේහ මුනි වූ අනඳ හිමි ප්‍රකෘතියෙන්ම ශාක්‍ය වංසයට අයත්ය. භාග්‍යවතුන් වහන්සේගේ දායාදයට හිමිකරුවෙකි. භාග්‍යවතුන් විසින් පස්වරක් අගබැව්හි නිර්දේශ කරන ලද්දේය. සිවුවැදෑරුම් අච්ඡරිය - අබ්භූත ධර්මයෙන් සමන්විතයහ. සිවු පිරිසටම ප්‍රියය. මනාපය. දැන් වනාහි භාග්‍යවතුන්ගේ ධර්ම දායාදයට පත්ව බුදුවූයේ යයි හඟිම් යයි යනුවෙන්. එබැවින් අනඳ තෙරණුවෝ එම දේවතාවන්ගේ සිතිවිලි දැන එම අභූත ගුණ සම්භාවනාව නොඉවසන්නේ තමාගේ සාවක භාවයම දක්වන්නම් 'එවං මෙ සුතං -පෙ- එතදවොච යනුවෙන් ප්‍රකාශ කළහ. පඤ්චිමානි භික්ඛවෙ යනුවෙන් ආදියෙහිම භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරන ලදී. මෙම දෙකරුණේම සම්පිණ්ඩනය කාලදාන සුත්ත නම්.

එහි එවං යනු ආකාර නිදසසන, අවධාරණ, අර්ථයන්හි දතයුත්තේය. මෙහි ආකාර අර්ථයෙන් එවං ශබ්දයාගේ අරුත් දක්වයි. නානා නයෙහි

දක්‍ෂ වූ අනේක අජ්ඣාසයන්ට හේතුවූ අර්ථයෙන් බ්‍යඤ්ජනයෙන් ද පරිපූර්ණ වූ විවිධ ප්‍රාතිහාර්යයන්ගෙන් යුත් ප්‍රතිවේධ වශයෙන් ගැඹුරු වූ ධර්ම - අර්ථ දේසනා තොමෝ සියලු සත්ත්වයන්ට තම තම භාෂාවන්ට අනුරූපවන පරිදි කණට ඇසෙන්නා වූ, ඒ භාග්‍යවතුන් වහන්සේගේ වචනය සර්වප්‍රකාරයෙන් දැනගැනීමට කවරෙක් නම් සමත් වෙත් ද? ඉක්බිති එවං මෙ සුතං මවිසින්ද එක් ආකාරයකින් අසන ලදී යනුයි. නිදර්ශන අර්ථයෙනි. මම සර්වඥ නොවෙමි. මෙය මා විසින් අවබෝධ නොකරන ලදී. තමා මුදන්නේ මා විසින් මෙසේ අසන ලදැයි දැන් කිවයුතුය. මුළු සූත්‍රය නොදක්වයි අවධාරණ අර්ථයෙනි.

'මහණෙනි, යම් මේ ආනන්ද නම් මහණ කෙනෙක් වේද? බොහෝ ඇසූ පිරූ තැන් ඇති මගේ ශ්‍රාවක මහණුන් අතුරෙහි මේ ආනන්ද අග්‍ර වෙයි. බොහෝ ස්මෘති ඇති මගේ ශ්‍රාවක වූ මහණුන් අතුරෙහි මේ ආනන්ද වේ. යහපත් පැවතුම් ඇති මගේ ශ්‍රාවක සමූහයා අතුරෙහි මේ ආනන්ද අග්‍ර වෙයි. බොහෝ උත්සාහවත් වූ ප්‍රඥා ඇති මගේ ශ්‍රාවක භික්ෂූන් අතරෙහි මේ ආනන්ද අග්‍ර වෙයි. බොහෝ උපස්ථායක වූ මගේ ශ්‍රාවකයන් අතුරෙහි මේ ආනන්ද අග්‍ර වෙයි.

මෙහි වූ කලී මෙ ශබ්දය මා විසින් යයි ද මගේ යයි ද, අර්ථ දෙකක වැටේ. සුත ශබ්දය සෝත විඥාන පූර්වංගම වූ මනො විඥාන වීථියෙන්, සලකා බැලූ, සලකාබලන යන අර්ථ දෙකෙහි වැටේ. එහි යම්කලෙක්හි මෙ ශබ්දයාගේ මවිසින් යන අර්ථය ලැබේද එකල්හි මෙසේ මවිසින් අසන ලදයයි සලකා බලන ලදැයි යන අර්ථය යෙදේ. යම්විටක ශබ්දය මගේ යන අර්ථයෙහි වේද, එකල්හි මගේ ඇසීම මගේ බැලීම යයි යෙදේ. එවං මෙසුතං යන සියලු වචනයෙන් තෙරහු තමන් විසින් උපදවන ලද්දක් බව නො හඟවන්නේ පළමු ශ්‍රවණය ප්‍රකට කරමින් 'මවිසින් චතුවෙසාරජ්ජ විසාරද, දසබලධාරී, සද්ධර්මචක්‍රවර්ති සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ හමුවේ දී අසා පිළිගතිමි. මෙහි අර්ථයෙහි හෝ ධර්මයෙහි හෝ පදයෙහි හෝ බ්‍යඤ්ජනයෙහි හෝ සැකයක් හෝ විමතියක් හෝ නොකළ යුතුයයි සියලු දෙව් මිනිසුන්ගේ මෙම ධර්මයෙහි අශ්‍රද්ධාව විනාශ කෙරේ. සද්ධා සම්පත්තිය උපදවයි යනුවෙන් දතයුත්තේ වෙයි. මෙහි මෙසේ කියන ලද්දේ වෙයි.

**විනාසයති අසසද්ධං සද්ධං වඩ්ඪති සාසනෙ**
**එවමෙමසුතම්වචවං වදං ගොතම සාවකොති**

"ගෞතම ශ්‍රාවක තෙමේ එවං මෙ සුතං යනුවෙන් කියන්නේ අශ්‍රද්ධාව විනාස කෙරෙයි. සසුනෙහි ශ්‍රද්ධාව වඩවයි."

එකෙ සමයං යනු මව්කුසට බැසගැනීම ජාති සංවෙග, අභිනික්ඛමන, දුක්කරකාරික, මාරවිජය අභිසම්බෝධි, දිට්ඨධම්මසුඛ විහාර, දේසනා, පරිනිබ්බාන යන සමයන් අතුරෙහි දේසනා කාල නම් වූ එක් සමයෙක්හි යම්කිසි සමයක භාග්‍යවතුන් වහන්සේ මෙම සූත්‍රය හෝ අන්‍ය සූත්‍රයක් හෝ දේසනා කළ සේක් ද, අත්‍යන්තයෙන්ම එම සමය කරුණා විහරණයෙන් වැඩසිටි සේක. එහෙයින් එම කරුණ ප්‍රකට කරනු වස් මෙහි උපයෝග (දුතියා) වචනය නිද්දේස කරන ලද්දේය. එහෙයින් මෙසේ කියනු ලැබේ.

**තං තං අත්ථ මපෙක්ඛිත්වා භුමෙමන කරණෙනච,**
**අඤ්ඤත්‍ර සමයො වුත්තො උපයොගෙන සො ඉධා**

යනුවෙන්

"කාලාර්ථය හැර ඒ ඒ අර්ථයන් අපේක්‍ෂාකොට සත්තමියෙන්ද කරණයෙන්ද කියන ලදී. එය මෙහි (උපයොග) කර්මයෙන් වේ."

"ඒ ඒ අර්ථය පරීක්‍ෂාකොට මෙයින් පිටත අන්‍ය වූ අභිධර්ම විනය දෙක්හි ආධාරයෙන් ද කරණයෙන් ද සමය ශබ්දය කියන ලද්දේය. මෙහි ඒ සමය ශබ්දය කර්මයෙන් කියන ලද්දේය."

භගවා යන සර්වගුණ විශිෂ්ඨ හෙයින් සියලු සත්ත්වයන් ගරුවේ ද එබැවින් මෙය බුදුරදුන්ට නමකි. සාවත්ථියං යනු එනම් නගරයෙහි. එය වනාහි සවත්ථ නම් ඍෂිවරයාගේ වාසස්ථානය විය. එබැවින් සාවත්ථි යයි කියනු ලැබේ. යම්හෙයකින් වෙළඳුන් රැස් වූ කල්හි කිනම් භාණ්ඩයක් ඇත්දැයි විචාලවිට සියල්ල ඇත යන වචනය සාවත්ථි වීයයි කියනු ලැබේ. මෙයින් ගොදුරු ගම දක්වන ලදී. විහරති යනු මෙය සිටීම ගමන

නිසීදන - සයන ප්‍රභේද ගතවූ විහරණයන් අතුරෙන් එක්තරා විහරණයකින් යුක්ත වූ බව දක්වයි. යම්හෙයකින් භාග්‍යවතුන් වහන්සේ එක් ඉරියව්වක් පීඩාවක් වේනම් අනිත් ඉරියව්වකින් හිඳ ආත්මභාවය වැටිය නොදී ආත්ම භාවය පරිහරණය කරනසේක් ද, පවත්වන සේක්ද, එහෙයින් විහරති යයි කියනු ලැබේ. ජෙතවනෙ යනු ජේතනම් රාජකුමාර තෙම ඔහු විසින් රෝපනය කරන ලද්දේ වර්ධනය කරන ලද්දේ පරිපාලනය කරන ලද්දේ වීද ජේත නම් තැනැත්තාගේ වනය ජේතවන නම් වේ. එම ජේතවනයෙහි අනාථ පිණ්ඩිකසස ආරාමෙ මෙහි, සුදත්ත නම් ගෘහපති කෙනෙක් හැමකල්හි අනාථයන්ට පිණ්ඩදානය දුන්නේය. එහෙයින්, අනාථ පිණ්ඩික යයි ප්‍රසිද්ධියට පත්විය. පුෂ්ප - ඵල - මල් පල්ලව ගුණ සම්පත්තිය නිසා මෙහි ප්‍රාණීහු විශේෂයෙන් ප්‍රව්‍රජිතයෝ හෝ සිත් අලවා වෙසෙත්නුයි 'ආරාම' නම් වේ. පැවිද්දෝ පැමිණ උකටලී නොවී වෙසෙත්නුයි එහෙයින් ද ආරාම නම් වේ. එම ආරාමය අනාථ පිණ්ඩික ගෘහපතිහු විසින් ජේතනම් රජකුමරා අතින් දහඅට කෝටියක් කහවනු ගෙවා මිලට ගෙන, දහඅටකෝටියක් වියදම්කොට සෙනසුන් කරවා අටලොස් කෝටියක් අමුරන් වියදම්කොට විහාර පූජාව නිමවා, මෙසේ සූපනස් කෙලක් රන් පරිත්‍යාගයෙන් බුදුපාමොක් සඟනට පාවා දුන්නේ ද, එබැවින් අනේපිඬු සිටුගේ ආරාමයයි කියනු ලැබේ. ජේත කුමාර තෙම එහි දොර කොටු ප්‍රාසාද නිර්මාණයේ දී භූමිය විකිණීමෙන් ලැබූ අටලොස් කෝටියක් රන් අටලොස් කෙලකි. නොයෙක් කෝටිගණන් වටිනා වෘක්ෂයෝ ද ජේත කුමාරයාගේ පරිත්‍යාග යයි. මෙසේ ඔවුන් දැක්වීමෙන් මෙසේ පුණ්‍යකාමීහු පින් කෙරෙත් යයි දක්වන්නා වූ ආනන්ද තෙරණුවෝ අන්‍ය වූ පුණ්‍යකාමීන්ද ඔවුන්ගේ දෘෂ්ටානුගතියට (දැන අනුගමනය කිරීමට) පැමිණීමෙහි යොදවත්. මෙසේ දැක්වීමෙහි ප්‍රයෝජනය මෙහි මෙසේ කියන ලදී. 'යදි තාව භගවා සාවත්ථියං විහරති ජෙත වනෙ' යනු න කිව යුතුය. අථ නත්‍ථ විහරති සාවත්ථියං යනු ද න කිව යුතුය. මෙසේ කියනු ලැබේ. මෙහි සමීපාර්ථයෙහි සත්තමී වචනයයි. ගඟ සමීපයෙහි හැසිරෙන ගව සමූහයන් ගංගාය චරනති යයි කියනු ලැබේ. එසේම මෙහි ද යම් මේ සැවත් නුවර සමීපයේ ජේතවනයෙහි එහි භාග්‍යවතුන් වහන්සේ වාසය කරන්නේ සාවත්ථියං විහරති ජෙතවනෙති වෙදිතබ්බා ගොදුරුගම දැක්වීම සාවත්ථි යනුවෙන් ද පැවිද්දන්ට අනුරූප වූ වාසස්ථාන සෙසු වචනයන්ගෙන් දතයුතුයැ.

තත්‍ර යනු එම ජේතවනයෙහි බො අධිකාරන්තර (අධිකාරය පවතිද්දී) නිදසසන අර්ථයෙහි නිපාතයකි. එහෙයින් එහි භාග්‍යවතුන් වහන්සේ වාසය කරද්දී මෙම අධිකාරන්තරය පහළ වීයයි දක්වයි. එය කිමෙක්ද ධර්ම දේශනය භික්ෂූන්ට ආමන්ත්‍රණයයි. භගවා යනුවෙන් මෙම සූත්‍රයාගේ දේසක වූ සමමා සම්බුද්ධරදුන් දක්වයි. භිකඛූ ආමනෙතසි යනු භික්ෂූන්ගේ ආසන්න භාවය ද හැමකල්හි එක්රැස්වෙන බැවින් ද ප්‍රධාන බැවින් ද ඇසීමෙහි නියෝජනය කරනු පිණිස ආමන්ත්‍රණය කෙරේ. භාග්‍යවතුන් වහන්සේ පිරිවරා සිටි භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේ කථා නොකරන කල කර්මස්ථානයම මෙනෙහි කරත්. එසේ හෙයින් ඔවුන්ගේ ශ්‍රවණයෙහි සිහිය උපදවමින් භාග්‍යවතුන් වහන්සේ ආමන්ත්‍රණය කළ සේක. භිකඛවෙ යන මෙයින් සම්මා සම්බුද්ධරජාණන් වහන්සේගේ භික්ෂූන්ට ආමන්ත්‍රණය කිරීම දක්වයි. සමමා සම්බුද්ධරදුන් භික්ෂූන් අමතන්නේ භිකඛවො, භිකඛවෙ යනුවෙන් ආමන්ත්‍රණය කෙරෙත්. සාවකයෝ වනාහි ආවුසෝ කියා ද (අමතත්) භදනෙතති, තෙ භගවතො පචචසොසාසුං යනුවෙන්, යම් භික්ෂුවක් භාග්‍යවතුන් වහන්සේ ආමන්ත්‍රණ කළේ ද ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේ සමීපයෙහි භාග්‍යවතුන් වහන්සේ ගේ දේසනය ප්‍රාර්ථනා කරන අදහසින් එම ආමන්ත්‍රණය අසා සතුටු සිත් ඇත්තාහු. එක් අයෙකු නොව දෙදෙනකු නොව අනේක සියගණන් පිරිස ඉක්බිති භදනෙත යන වචනයෙන් පෙරලා ඇසූහ. සතුටින් පිලිගත්තාහුය. පිලිවදන් දුන්නාහුය. භගවා එතදවොච යනු ඔවුන් ශ්‍රවණයෙහි හටගත් උත්සාහ ඇත්තවූන් බව දැන භාග්‍යවතුන් වහන්සේ, දැන දෙසිය යුතු සූත්‍ර දේශනාව දේසනා කළ සේක. වදාළ සේක.

කාලදානානි යනු යෝග්‍ය, සුදුසු පරිදි සුදුසු යන අර්ථ ලැබේ. දානය වූ කලී කිසිතැනක දානවස්තුවයි කිසිතැනක දානචේතනාය. යසා දානංදෙති අනනං පානං වඣං යානං යනාදි තන්හි දානවස්තු අදහස් කෙරේ. දෙති යන පදයෙහි පරිත්‍යාග කෙරේ. අයිතිය අත්හරී යන අර්ථ දතයුතුය. යසා දානං දඣා සීලංසමාදියිඣා උපොසථ කමමං කඣා තං ගරුං කඣා යනාදි තන්හි දාන චේතනා අර්ථයෙහි වේ. එහි දඣා යන පදයාගේ සෝධනය කොට අරුත්ගැනීම සුදුසුය. මෙහි දාන වස්තු යන අදහස අදහස් කෙරේ. ආගනතුකසස දානං දෙති ආදි තන්හි යම්හෙයකින් ආගන්තුක තෙමේ තමාගේ ආගන්තුක බව නිසා ගොදුරුගම පිළිබඳ දැනුමක් නොමැත. මාර්ගයෙහි කරදරයට පත්ව පැමිණිය නොහැකි

වෙයි. එහෙයින් ඔහුට දුන් දානය කාලදාන නම් වේ. ගමනයෙහි යෙදුන භික්ෂුව විදේශයකට යනු කැමැත්තේ ගමෙහි පිඬු පිණිස හැසිර ගියේ බලාපොරොත්තු අර්ථය පිරිහෙයි. කැමති තැනට යා නොහැකි වෙයි. යම්විටක පිඬු පිණිස නොහැසිර අළුයමින්ම දුන් දනක් වළඳ ගියේ ද, එවිට තම බලපොරොත්තුව නොපිරිහෙයි. බලාපොරොත්තු තැනට පැමිණේ. එබැවින් ඔහුට දුන් දානය කාලදාන නම් වේ. ගිලනා ද ගිලන් බැවින් පිඬු පිණිස හැසිරීමට අසමත් බැවින් සිඳුනු භික්‍ෂා ඇත්තේ වේ. හැසිරීමට හැකි වුවත් රෝගය හෝ වැඩිවේ. (කිපේ) මිශ්‍ර ආහාරය ද නොසුදුසු වේ. එබැවින් (එම ගිලනාට) දුන් දානය කාලදාන නම් වේ.

දුබ්භික්ඛෙ, දුර්භික්‍ෂ කාලයෙහි මිනිස්සු ආහාර දුර්ලභ හයින් දන්දෙන්ට නොහැකිවෙත්. භික්‍ෂූහු ආහාර නොලැබීමෙන් ක්ලාන්ත වෙති. යමෙක් දීමට සමර්ථ වේද, සැදැහැ සිතින් මසුරු මල අභිභවනය කොට දෙයි. එබැවින් එම කාලයෙහි දුන් දානය කාල දාන නම් වේ. නව සස්සානි යනු පළමු උපන් අග්‍ර ශස්‍යයයි. නව ඵලානි ඵලාරාමවලින් පළමු උපන් අග්‍රඵලයි. පඨමං සීලවනෙතසු පට්ඨපෙති යනු, පළමු සිල්වතුන්ට දී පසුව තමා විසින් අනුභව කරනු ලබත් ද, එම දානය කාලදාන නම් වේ. දානයෙහි මහත්ඵල බලාපොරොත්තු වන තැනැත්තහු විසින් පළමුව ප්‍රතිග්‍රාහකයන්ට නොදී අනුභව නො කළයුතුය. ඉමානි ඛො භික්ඛවෙ යනුවෙන් ආදියෙහි කියන ලද නිගමන වශයෙන් භාග්‍යවතුන් වහන්සේ විසින් දේශනා කරන ලදී. ඉදමවොච යනු ආදි සංගීති කරුවන්ගේ වචනයි. එහි පඤ්චිමෙ භික්ඛවෙ යනාදියෙන් ඉදං මේ කාලදාන ලක්ඛණය, අවොච වදාළ සේක. ඉදං මේ ලක්‍ෂණය. වත්වා අථාපරං කීමෙන් අනතුරුව එතං මෙය ගාථා බන්ධන වශයෙන්, අවොච සත්ථා ශාස්තෘන් වහන්සේ වදාළහ.

එය ත්‍රිවිධ වේ. කියන ලද අර්ථයාගේ සංග්‍රහ කිරීම නොකියන ලද අර්ථයාගේ සංග්‍රහ කිරීම ඒ දෙදෙනාගේම සංග්‍රහ වශයෙනි. එහි ගාථා රුචිකයන්ට ද, පසුව පැමිණි අයට ද, දැන් නැවත කියන්නේ නම් මැනවයි, කියන ලද අරුත ග්‍රහණයට අසමත් වූ බැවින් නැවත බලාපොරොත්තු වන්නවුන්ට ද කලින් කියන ලද්ද විසිරුණු සිත් ඇත්තවුන්ට ප්‍රයෝජනය පිණිසද යම්කිසි කරුණක් නිසා නොකියන ලද අර්ථයාගේ පැහැදිලි කිරීම පිණිස ද නොකියන ලද අර්ථයක් සංග්‍රහ

කිරීම පිණිසද, එම උභය අර්ථය ද, එම උභය අර්ථය සංග්‍රහ කිරීම පිණිස ද යන අර්ථයන් අදහස් කරන ලදී. එහි මේ සූත්‍රය සමග මෙය යෙදීමේ අර්ථයයි සපපඤ්ඤා කළාවූ කර්මය දන්නා වූ පැණවත් ජනයෝ, වදඤ්ඤූ ප්‍රතිග්‍රාහකයන්ගේ භාසිතය දන්නා වූ වීතමච්ඡරා සිය සම්පත් සඟවන ලක්ෂණ ඇති මසුරුබව දුරුකළ. කාලෙ සුදුසු කාලයෙහි දානය, දදන්ති දෙති, කය වචන සිත වච්කභාවය ප්‍රහීණ කළ උජුභූතෙසු, ඍජු සිත් ඇති ඉටු අනිටු දැයෙහි ඇලීමක් හෝ ප්‍රතිඝයක් (ක්‍රෝධයක්) නැත්තා වූ තාදිගුණ ඇති ආර්ය පුද්ගලයන් විෂයෙහි. විපපසනන මහා පූර්වංග, මුඤ්චන (දීමට පෙර, දීමට පසු) දෙන අවස්ථාවෙහිද අපරභාග (දී අවසානයෙහිද) සද්ධාවෙන් පැහැදුනු සිතින් දන්දෙත් ද, තසස ඒ පුද්ගලයාගේ දක්ඛිණ, දාන චේතනාව විපුලා මහත්ඵල දායක හොති වෙයි.

කථා, එම දානයෙහි යෙ ජනා යම් ජනකෙනෙක් ඊර්ෂ්‍යා මසුරු බව ආදිය දුරුවීමෙන් වූ පහන් සිතින් සාධු සුටධූ, (හොඳය මැනවයි) අනුමෝදනති අනුව සතුටු වෙත් ද, යමෙක් කයින් වෙය්‍යාවච්චං කරොනති, වතාවත් කෙරෙත් ද තෙන, එයින් අනුන් අනුමෝදන් කරවීමෙහි වතාවත් කෙරෙත් ද, දක්ඛිණා ඌනා දක්ෂිණාවෙහි අඩුවක් න නොවේමය. ඉක්බිති දක්ෂිණාව පරිපූර්ණ වේමය. යම්සේ එක් පහනකින් අනිකුත් පහන් දැල්වූ කල්හි ද එම පහනෙහි ආලෝකය නො පිරිහෙයි. ඉක්බිති එම ආලෝකය මේ පහනෙහි ආලෝකයත් සමග එක්ව විශාල වේ. මෙසේ මෙම දක්ෂිණාව ඒ හේතුවෙන් ඌනතාවයක් ඇති නොවේ. තෙපි අනුමෝදන් කරන්නහු ද වතාවත් කරන්නහු ද පුඤ්ඤසස භාගිනො පින්කමේ කොටස්කරුවෝ ද පින්පල ලබන්නෝ ද වෙති.

දැන් සත්ත්වයන්ට හිතෛෂී වූ බුද්ධරජාණන් වහන්සේ මහා කාරුණික වූයේ සැප කැමැත්තේ දාන ප්‍රතිපත්තියෙහි අවවාදය තබන්නේ තසමා දදෙ‍ාති යනුවෙන් වදාළහ. එහි යම්හෙයකින් මෙවන් දානය මහත්ඵල මහානිසංසය වේද, එහෙයින් යථා යම්තැනෙක්හි සිල්වතුන් විෂයෙහි දින්නං දෙන ලද දානය, මහපඵලං මහත්ඵල වේ. එහි හිතසැප කැමති පුද්ගල තෙමේ නොපසුබස්නා වීර්යයෙන් යුත් සිතැත්තේ, යම් හෙයකින් ලෝභ හා මසුරු මලින් යුත් දානයෙහි තොම ඇලේ. ඒ මල අභිභවනය කොට දාන විෂයෙහි උකටලී නොවූයේ ඇලුණු සිතින් යුතුව

දෙන්නෝ ද, පුඤ්ඤානි පින් පරලොකසම්ං පරලොව ගිය පාණීනං ප්‍රාණීන්ට සම්පත්ති සැප ගෙනදෙන බැවින් පතිට්ඨා පිළිසරණ, හොනති වෙත්. අත්තමනා යනු තම තමාගේ සිත් සතුටු සිතින් යුක්ත වූවාහු අභිනන්දුං යනු සාධු සාධු යන වචනයෙන් යුතුව සතුටින් පිළිගත්තාය.

කාලදාන සූත්‍ර වර්ණනාව නිමි.

## 2

සුමනා සුතෙත සුමනා සූත්‍රයෙහි සුමනා රාජකුමාරි යනු මහත් සත්කාරකොට ප්‍රාර්ථනා තබා ලැබුවා වූ නම් ඇති රාජ කන්‍යාවකි. විපසසි සමමා සම්බුදුරදුන් ලොව පහළ වූ කල්හි, උන්වහන්සේගේ පියතුමන් වූ, බන්ධුමා රජතුමා මෙසේ සිතීය. මගේ දෙටුපුත් තෙමේ ගිහිගෙයින් නික්ම සම්මා සම්බුද්ධ විය. දෙවන පුත් අගසව් වූහ. පුරෝහිත පුත්‍රතෙම දෙවන සාවක විය. මේ සෙසු භික්ෂූහු ද ගිහිකල මගේම පුතුන් මෙන් පිරිවර කොට හැසුරුණාහුය. මොවුහු පෙරද දැනුදු මටම අයත් වූවාහුය. මම ම ඔවුන් සිවුපසයෙන් සංග්‍රහ කරමි. අන් අයට අවකාශ නොදෙමි යයි, විහාර දොරටුවේ සිට රජගෙදර දොරටුව දක්වා, දෙපස කිහිරි ලීයෙන් ප්‍රාකාරයක් කොට වස්ත්‍රවලින් වසා රත්තරුවලින් විසිතුරු වූ සමාන ලෙස එල්බෙන තල්කඳ පමණ වූ විවිධ පුෂ්ප දාමයන් කරවා, යට භූමිය සිතුවම් සහිත ඇතිරි අතුරුවා ඇතුල දෙපස මල් රුඳවූ පුන්කලස්ද, මුලු මාර්ගයම සුවඳ පිණිස සුවඳ අතර මල් ද, මල් අතර සුවඳ ද, තබවා බුදුරදුන්ට කල් දැන්වීය. භගවත්හු භික්සඟන පිරිවරා තිරය ඇතුළින් රජගෙදරට ගොස් බත්කිස කොට පෙරලා විහාරයට වඩිති. අන්කිසිවකු එය දක්නට ද නො ලබති. නගරවැසියෝ මෙසේ සිතූහ. 'අදට ශාස්තෘන් ලොව පහල වී සත්මසක් අධිකකොට ඇති අවුරුදු හතකි. අපි ශාස්තෘන් වහන්සේගේ දැකීම් මාත්‍රයකුදු නොලබමු. භික්ෂූන්ට දන්දීම හෝ පූජා පාවැත්වීමට හෝ බණ ඇසීමට හෝ නොලබමු. දන්දීම පිළිබඳව කියනුම

කවරේද? ශාස්තෲන් වහන්සේ ලොව පහලවන්නේ, දෙවියන් සහිත ලෝකයාගේම හිතවැඩ පිණිස පහල වන්නේ වෙයි. රජුට පමණක් නිරය උණුසුම් වේ. අන්‍යයන් නිලුපුල් වන සමාන වන්නේ නොවේය. (ඔවුන්ටද නිරය උණුසුම් මැයි) එබැවින් රජුට මෙසේ කියමු. 'ඉදින් අපටද ශාස්තෲන් වහන්සේ දෙන්නේ ද, එසේ වුවොත් යහපති. ඉදින් නොදෙන්නේ ද රජු සමග යුද්ධකොට හෝ සංඝයාට දන් දීම් ආදී පින් කරමු' යි.

නාගරවැසියන්ට පමණක් තනිව මෙසේ යුද්ධ කළ නොහැක. එක් දෙටු පුරුෂයකු මෙයට සම්බන්ධ කරගනිමු යයි ඔවුහු සේනාපති වෙත ගොස් ඔහුට මෙම කරුණ කියා, ස්වාමීනි, ඔබතුමා අපට පක්ෂ වන්නෙහි ද, නැතහොත් රජුට පක්ෂ වන්නෙහි ද? යනුවෙන් ඇසූහ. හෙතෙම, මම තොපට පක්ෂ වෙමි. නමුත් පළමු දවස මට දිය යුතුය. ඔවුහු එය පිළිගත්හ. ඒ සේනාපති තෙම රජු වෙත එළඹ, 'නාගරිකයෝ ඔබතුමාට කිපී ඇතැයි කීහ' දරුව කුමක් නිසාද? ශාස්තෲන් වහන්සේට ඔබවහන්සේ පමණක් උපස්ථාන කරන්නාහුය. අපි එය නොලබමු' යයි කියති. ඉදින් දැන් හෝ එම අවස්ථාව ඔවුන්ට ලැබෙන්නේ නම් නොකිපෙත්. (විරුද්ධ නොවෙත්) නො ලැබෙන්නේ නම් දේවයන් වහන්ස, ඔබ සමග යුද්ධ කරනු කැමැත්තාහුය. දරුව, යුද්ධ කරමි. බික්සඟන නොදෙමි යයි කීහ. දේවයන් වහන්ස, ඔබතුමන්ගේ දාසයෝ ද ඔබතුමා සමග යුද්ධ කරමු යයි කියති. ඔබතුමා කවරෙකු ගෙන යුද්ධ කරන්නෙහි ද? ඇයි ඔබ සේනාපතිය, නාගරිකයන් නොමැතිව එය කළ නොහැක මහරජතුමනි.

ඉක්බිති රජතුමා, බලවත් වූ නාගරිකයෝ ද සේනාපති ද ඔවුන්ගේ පක්ෂයේ යයි දැන තවත් සත් මසක් අධික කොට ඇති සත් අවුරුද්දක් භික්ෂු සංඝයා මට දෙන්න යයි කීහ. නාගරිකයෝ එය පිළිනොගත්හ. අනතුරුව රජතුමා අවුරුදු හය, පහ, හතර, තුන, දෙක, එක දක්වා අඩුකළහ. එයද පිළිනොගත්හ. සත් දවසක් ඉල්ලීය. ඉතා නපුරුය. රජු සමග (මේ ගැන) කථාකිරීම නො සුදුසු යයි ඔවුහු එයට කැමති වූහ. රජතුමා සත්මසක් අධික කොට සත් අවුරුද්දක් දුන් දානය පිළිඳ වියදම මෙම සත්දවස පුරා වියදම්කොට දවස් හය තුල කිසිවෙකුට නොපෙනෙන සේ දන් දී සත්වන දවසෙහි නාගරිකයන් කැඳවා මෙසේ දන්දීමට තොපට හැකිදැයි ඇසූහ. ඔවුහුද, දේවයිනි, ඒවා අප නිසාම උපන්නේ නොවේදැයි කියා හැකි වෙමුයයි පැවසූහ.

රජතුමා අල්ලෙහි පිටිපසින් කඳුලු පිස දමමින් භාග්‍යවතුන් වහන්සේ වැඳ ස්වාමීනි, හැටඅට ලක්‍ෂයක් භික්‍ෂූන් අනෙකෙකුට වාරයක් නොදී දිවි ඇතිතාක් සිව්පසයෙන් උපස්ථාන කරමියි සිතුවෙමි. දැන් එය නාගරිකයන් එය කළයුතුයයි මවිසින් අනුමත කරන ලදී. නුවරවැස්සෝ වනාහි අපි දන්දීම නොලබමු යයි කිපෙත්. හෙට පටන් ඔවුන්ට අනුග්‍රහ කරනු මැනව'යි කීහ.

ඉක්බිති දෙවන දවස සේනාපති තෙම මහදන් පිළියෙල කොට අද යම්සේ එකද භික්‍ෂුවක් අන් කිසිවෙකු නොලබන අයුරින් ආරක්ෂා කරවයි හැම පුරිසයන් තැබීය. එදවස සිටු බිරිය අඬමින් පන්සියයන් කුමාරිකාවන් සමග පැමිණි දියණියට කීහ. 'ඉදින් දරුව ඔබගේ පියා ජීවත් කරවා ගන්ට නම් පළමුකොට දසබලයන් වහන්සේම වළඳව යයි, මැණියනි, ඒ ගැන අමුත්තක් නොසිතව. එසේ කරමි යයි කීවාය. බුදුපාමොක් බික්සඟන අපගේ දන පළමුව වළඳන්නේ යයි ලක්‍ෂයක් අගනා රන් බඳුනක පැන් නොමුසු කිරිබත පුරවා ගිතෙල් මීපැණි සකරු ද පිළියෙල කොට වෙනත් බඳුනකින් වසා එය සමන්මල් ගුලාවක් මෙන් පිළියෙළ කොට බුදුරදුන් ගමට පිවිසෙන කල්හි තමාම ඔසවාගෙන දාසී සමූහයා පිරිවරාගෙන ගෙදරින් නික්මිය. අතරමග සෙන්පතිහුගේ උවටැන් කරන්නෝ මෙයින් එහාට නොඑව යයි කියත්. මහා පුණ්‍යවන්තයෝ වූ කලී මනාප කථා ඇත්තෝ වෙති. නැවත නැවත කථා කරනවිට කථාව ප්‍රතික්‍ෂෙප කිරීමට නොහැකි වෙති. ඕ තොමෝ සුළු පියාණෙනි, මහපියාණෙනි, මයිලනුවනි, කවරෙකුට තොප යන්ට නොදෙව්දැයි ඇසුවාය. සේනාපති විසින් අන් කිසිවෙකුට කැයුතු බුදිය යුතු දේ දෙන්ට ඉඩ නොදෙව් යයි අපව තබන ලදී මැණියෙනි. කිම මා අතෙහි කැයුතු දේ දකිව් දැයි, ඇසීය. නැත මල්ගුලාවත් පමණක් දකිමු යයි කීහ. කිම තොපගේ සේනාපතිතෙම මල්පූජාව කරන්ට නොදෙන්නෙහිද? දෙයි මැණියනි, එසේනම් ඉවත් වන්න, භාග්‍යවතුන් වහන්සේ වෙත එළඹ මල්ගුලාව පිළිගන්න යයි ස්වාමීනි බුදුරද එක් සෙන්පතියාගේ උවටැන් කරන්නකු දෙස බලා මල්ගුලාව පිළිගැන්වීය. ඕ තොමෝ බුදුරදුන් වැඳ භවයෙහි උපනුපන් ආත්මයන්හි මගේ සිහියෙහි තැති ගැනීමක් නම් නොවේවා, මේ සමන් මල් ගුලාව මෙන් උපනුපන් ආත්මයන්හි පියමනාප තැනැත්තියක් වෙමි. නමින් සුමනා නම් වේවායි ප්‍රාර්ථනා කළාය. බුදුරද නැගණිය සුවපත් වේවායි වදාරණ ලදී. ඕ තොමෝ වැඳ පැදකුණු කොට නික්ම ගියාය.

භාග්‍යවතුන් වහන්සේ ද සේනාපතිහුගේ ගෙදරට ගොස් පනවන ලද ආසනයෙහි වැඩසිටියේය. සෙන්පති තෙම කැඳ අතේ ඇතිව භාග්‍යවතුන් වහන්සේ වෙතට පැමිණියේය. බුදුහු පාත්‍රය වසා ගත්තේය. ස්වාමීනි, භික්ෂු සංඝයා වැඩ සිටින්නාහුය. මට අතරමග ලැබුන පිණ්ඩපාතයක් ඇත. මල් ඉවත්කොට පිණ්ඩපාතය දුටුවේය. චූල උපාසක තෙම කීය. 'ස්වාමීනි, මල්මාලා යයි මට කියා මාගමක් මා රැවටී යයි, කිරිබත බුදුරදුන් ආදිකොට සියලු බික්සඟනට ප්‍රමාණවත් විය. සේනාපති තම දානයද දුන්නේය. බුදුරජාණන් වහන්සේ දන් වළඳ ආශිර්වාද කොට නික්ම ගියේය. සේනාපතිතෙම, කවර තැනැත්තියක් පිණ්ඩපාතය දුන්නේ දැයි විචාළහ. ස්වාමීනි, සිටු දියණියයි. පැණවත් කතකි. මෙවන් තැනැත්තියක් ගෙදර වසන කල්හි පුරුෂයාට ස්වර්ග සම්පත්තිය දුර්ලභ නොවේයයි ඇය ගෙන්වා දෙටු තැන්හි තැබීය. ඕ තොමෝ පියාගේ ගෙදරද සේනාපති නිවසේ ද ධනය ගෙන දිවි ඇතිතාක් බුදුරදුනට දන් දී පින්කොට එයින් චුත වූවාහු කාමාවචර දේවලෝකවල උපත ලැබුවාය. උපනුපන් තැන උපනුපන් කෙනෙහිම දනක් පමණ ප්‍රමාණයෙන් මුළු දෙව්ලොව පුරවමින් සමන්මල් වැසි වැස්සේය. දෙවිවරු මෝතොමෝ තමාම තමාගේ නම ගෙන ආයේ යයි සුමනා යනුවෙන් ඇයට නම් තැබූහ. ඇය අසූනව කල්පයක් දෙව් මිනිස් දෙගතියෙහි සැරිසරන්නී උපනුපන් තැන සමන්මල් වැසි වූ බැවින් සුමනා යනුම ඇගේ නම විය.

මෙකල ඕ කොසොල් රජුගේ අගමෙහෙසිය කුස පිළිසිඳ ගත්තීය. පන්සියයක් කුමාරිකාවෝ ද එදිනම ඒ ඒ කුලයන්හි පිලිසිඳ ගෙන එකදවසෙහිම සියල්ලෝ මව්කුසින් නික්මුනාහුය. එකෙනෙහිම දනක් ප්‍රමාණයෙන් සමන්මල් වැසි වැස්සේය. එය දැක රජතුමා පෙර කළ අභිනීහාර ඇති තැනැත්තියක් වන්නී යයි සතුටුසිත් ඇති රජතුමා මගේ දුව තම නමද රැගෙන ආයේ වනැයි ඇයට සුමනා යයි නම් තබා, මගේ දියණිය තනියම නූපදින්නී යයි නගරයෙහි පරීක්ෂාකොට බලවා පන්සියයක් දැරියන් උපන්නාහු යයි අසා සියල්ලන් තමන්ම පෝෂණය කරවා මාසයක් මාසයක් පාසා ගෙනවුත් මගේ දියණියට පෙන්වව් යයි කීහ. මෙසේ ඕ තොමෝ මහත් සත්කාර කොට ප්‍රාර්ථනා තබා මෙසේ ලැබූ නම් යයි දතයුතුය.

ඇයගේ සත් අවුරුදු කාලයෙහි අනේපිඬු සිටුතුමා විහාර

කර්මාන්තය නිමවා බුදුරදුන් වෙත දූතයන් යැවූ කල්හි ශාස්තෘන් වහන්සේ භික්ෂු සංඝයා පිරිවරා සැවතට වැඩි සේක.

අනේපිඬු සිටුතුමා ගොස් කොසොල් රජතුමාට මෙසේ කීහ. 'මහරජතුමනි, ශාස්තෘන් වහන්සේ මෙහි වැඩම කරවීම ඔබතුමාට ද අපට ද යහපත්කමය. සුමනා රාජකුමරිය පන්සියයක් දැරියන් සමග පුන්කලස්ද, සුවඳ මල් ආදිය ද ගෙන දශබලයන් වහන්සේට පෙර ගමන් කිරීම සඳහා යවන්න යැයි. රජතුමා එය පිළිගෙන එසේ කළේය. ඕ තොමෝ ද රජතුමා කී පරිදිම ගොස් බුදුරදුන් වැඳ සුවඳ මල් ආදිය පුදා එකත්පසක සිටියාය. ශාස්තෘන් වහන්සේ ඇයට ධර්ම දේශනා කළහ. ඕ තොමෝ පන්සියයක් කුමාරිකාවන් සමග සෝවාන් පලයෙහි පිහිටියාහුය. අනිකුදු දැරියන් පන්සියයක් ද කාන්තාවන් පන්සියයක් ද පන්සියයක් උපාසකයන් ද එකෙනෙහිම සෝවාන්පලයට පැමිණියාහුය. මෙසේ එදවස අතරමගදීම දෙදහසක් සෝවාන් පලයට පැමිණියාහුය. ඕතොමෝ යෙන භගවා තෙනුපසකංමි යනුවෙන් කුමක් හෙයින් භාග්‍යවතුන් වහන්සේ එළඹියේ ද, ප්‍රශ්න ඇසීම සඳහාය.

කාශ්‍යප බුදුරදුන් දවස යහලු භික්ෂූන් දෙදෙනෙක් සිටියාහුය. එක් භික්ෂුවක් සාරාණීයධම්ම (=සිහිකළයුතු දැහැමි කථා) නම් වත පුරයි. අනිත් භික්ෂුව භත්තග්ග වත්ත (දාන ශාලාවේදී පැවැත්විය යුතු) වත පුරයි. ඒ සාරාණීය වත පුරන භික්ෂුව අනිත් තැනැත්තාට කීහ. 'ඇවැත්නි, නොදෙන්නවුන්ට ප්‍රයෝජනයක් නැත. තමා ලද දෙය අනුන්ට නොදී වැළඳීම නොසුදුසුය. අනිත් තැනැත්තේ මෙසේ කීහ. 'ඇවැත්නි, නොදන්නෙහි ද, දානොපකරණ විනාශ කිරීම නුසුදුසුය. තමන්ට යැපෙන පමණක් ගන්නහු භත්තග්ගවත පිරීම සුදුසුය. මේ දෙදෙනා අතුරෙන් එකෙකුදු අනිකා තමාගේ අවවාදයෙහි පිහිටුවීමට නොහැකි විය. දෙදෙනාම තම තමාගේ ප්‍රතිපත්ති සම්පූර්ණ කර එයින් චුතව කාමාවචර දිව්‍ය ලෝකයෙහි උපන්හ. ඔවුන් අතුරෙන් සාරාණීය ධර්මය පිරූ තැනැත්තා අනිකාට වඩා කරුණු පහකින් ඉහළින් සිටියේය. මෙසේ ඔවුහු දෙව් මිනිස් දෙගතියෙහි සැරිසරමින් එක් බුද්ධාන්තරයක් ගෙවා මේ කාලයෙහි සැවැත් නුවර උපන්නාහුය. සාරාණීය ධර්මය පිරූ තැනැත්තේ කොසොල් රජුගේ අගමෙහෙසි කුස පිළිසිඳ ගත්තේය. අනිත් තැනැත්තේ ඔහුගේම උපස්ථායක ස්ත්‍රියකගේ කුස පිළිසිඳ ගත්තේය. ඔව්හු එකම දිනයෙහි උපන්හ. ඔවුහු නම් තබන දවසෙහි නහවා සිරියහන මත තබා

දෙදෙනාගේම මව්පියෝ බොහෝ සත්කාර විධි සංවිධානය කළහ. ඔවුන් අතුරෙන් සාරාණීය ධර්ම සම්පූර්ණ කළ තැනැත්තේ ඇස් හැර මහත් වූ සේසත යට මනාව පනවන ලද සිරිසයනය ද අලංකාර කරන ලද නිවෙස ද දැක එක් රජගෙදරක උපන්නේ වෙමියයි සිතීය. හෙතෙම කිනම් කර්මයක් කොට මෙහි උපන්නේදැයි ආවර්ජනා කරන්නේ සාරාණීය ධර්මයාගේ නොසිඳී පැවත එන (විපාකය යයි) දැන මගේ සහායක තෙම කොහි උපන්නේ දැයි ආවර්ජනා කරන්නේ තමාට වඩා පහත් තැනක ඉපදී ඇතැයි දැන, දැන් මෙහි දී ඔහුට සංග්‍රහ කිරීම වටීයයි සිතා යහළු මගේ වචනය නොකළේ යයි කීහ. ඉක්බිති හෙතෙම කුමක් උපන්නෙහිද, බලන්න මගේ සම්පත්තිය සේසත යට සිරිසයනෙහි උපන්නේ වෙමි. ඔබ පහත් ඇඳක තද ඇතිරිලි මත හොත්තේ වෙහිය. කිම ඔබ මේ ගැන මානය උපදවන්නෙහිද? උණ පතුරුවලින් තනා රෙදිවලින් ඔතන ලද්දේ, ඒ සියල්ල පඨවි ධාතු මාත්‍රයක් නොවේදැයි (කීය.) සුමනා තොමෝ ඔවුන්ගේ කථා අසා මගේ සොහොයුරන් සමීපයෙහි කිසිවක් නැත යයි ඔවුන් සමීපයට යන්නී, දොරටුව අසල සිටි ඕ තොමෝ ධාතු යන වචනය අසා මේ ධාතු යන වචනය බාහිර සසුන්වල නැත. මගේ සහෝදර වූ ශ්‍රමණ දිව්‍ය පුත්‍රයෝ වන්නාහු යයි සිතා, ඉදින් මම මොවුන් මෙසේ කථා කරන්නාහු යයි මව්පියන්ට කියන්නෙම් නම්, මොවුන් අමනුෂ්‍යයෝ යයි ඉවත් කරවත්, මෙම කරුණ අන් හට නොකියා සැකසිඳ දමන්නා වූ, රන් පරීක්ෂා කරන්නකු වැනි වූ මාගේ පිය වූ මහාගෝතම දශබලයන්ගෙන්ම විචාරමි යයි උදය ආහාරයෙන් පසු රජු වෙත එළඹ දශබලයන් වහන්සේට උපස්ථාන සඳහා යන්නෙමියි කීහ. රජතුමා රථ පන්සියයක් පිළියෙල කරවීය. ඕතොමෝ සුවඳමල් ආදිය ගෙන රථයෙහි සිටියාය. පන්සියයක් රථ පිරිවරාගෙන මෙම පැනය විමසන්නෙමි යයි භාග්‍යවතුන් වහන්සේ වෙත එළඹියේය.

ඉධසසු යනු මෙහි වන්නාහුය. එකො දායකො යනු එක් අයෙක් තමන්ට ලැබුන ලාභයෙන් අනුන්ට ද දී අනුභව කරන්නා වූ සාරාණීය වත පුරන්නෙකි. එකො අදායකො යනු එක් අයෙක් තමන් ලද දෙය අනුන්ට නොදී අනුභව කරන්නා වූ හතහගග වත පුරන්නෙකි. අධිගණ්හාති යනු ශක්‍රදේවරාජයා මෙන් සෙසු දෙවියන් (ආයු-වර්ණ-යස-සැප-ආධිපත්‍ය) යන කරුණු පසින් (ආදායකයන්) මැඩගෙන සිටින්නේය. අධිපතිව වෙසෙයි. අධික ලෙස වින්දනය කෙරෙයි. ආධිපතෙය්‍යෙන යනු දෙවු බැවින් (අධිපති බැවින්) මානුසකෙන යනාදියෙහි ආයුසින් මහා කාශ්‍යප

තෙරුන් මෙන් ද, වර්ණයෙන් මහා අභය තෙරුන් මෙන් ද, සැපයෙන් සොණ සිටුපුත්‍රයා මෙන් ද යසසින් ධර්මාසොක රජු මෙන් ද ආධිපත්‍යයෙන් ද ධර්මාශෝක රජු මෙන් ද මෙම කරුණු පහට අතිරේකව දෙවූ තැන් ලබන්නෙක් වෙයි. යාචිතොව, බහුලං යනු බක්කුල සීවලී තෙරවරුන් මෙන් අනුන්ගේ පැවරීමෙන් ම චීවර පරිභෝග කරන්නේය.

යදිදං විමුත්තියා විමුත්තිං යනුවෙන් එකෙකුගේ විමුත්තිය හා අනිකෙකුගේ විමුත්තිය අරබයා නානාකරණයක් කිවයුත්තේ ද, එය නොකියමි යයි කියමි යන අර්ථය වේ. (මෙයින් රහත්බැව්හි වෙනසක් නොවේම යයි යන අර්ථය ගම්‍යමාන වේ.) විමුත්තිය ලැබූ සත්අවුරුදු වයසැති දරුවකු හෝ සියක් අවුරුදු වයසැති තෙර කෙනෙකු වේවා උපාසකයෙකු වේවා උපාසිකාවක වේවා දෙවියෙකු හෝ වේවා මාරයෙකු හෝ වේවා බ්‍රහ්මයෙකු හෝ වේවා අවබෝධ කළ ලොව්තුරු මගෙහි නානා භාවයක් නැත්තේය. ථනයං ගර්ජනා කරන්නේ, විජ්ජුමාලී යනු මාලා වැනි මේඝ මුඛයෙන් නික්මෙන්නා වූ විජ්ජුලතාවන් පිරිවරාගත්, සතකකකු සියගණන් මේඝකූටයෝ එහෙන් මෙහෙන් නැගීඑන වලාකුළු නැමති කුට වලින් සමන්විත වූයේය යන අර්ථයි. දසසත සමපනෙනා යනු සෝවාන් වූයේ භොග පරිබ්බූලෙහා යනු ජල ඕඝයක් මෙන් දාන විෂයන්හි දෙනු ලබන දාන නැමති ඕඝයෙන් පමුණුවනු ලැබුවේ. දෙව්ලොවට පමුණුවන ලද්දේය යන අර්ථයි. පෙච්ච පරලොව ගොස් සුගතියෙහි (සතුටුවෙයි.)

සුමනා සූත්‍ර වර්ණනාව නිමි.

## 3

සපපුරිස දාන සුතෙත සප්පුරිස දාන සූත්‍රයෙහි සද්ධාය යනු දානයද, දානඵලයද විශ්වාස කොට සකකචචං සකසා, දෙය්‍ය ධර්මයෙහි හි ද ප්‍රතිග්‍රාහකයන් කෙරෙහි ද ගෞරව උපදවා දෙති. එහි උකතණ්ඩුල (නොඉඳුනු ඇට ඇති බත) ආදි දෝසයන්ගෙන් යුත් ආහාර නොදී,

ප්‍රණීත ලෙස, ඕජාව ඇතිවන ලෙස සකස්කොට දෙන්නේ දෙය්‍ය ධර්මය සකස්කොට දෙන්නේ නම් වෙයි. කොහේ හෝ තැනක නොහිඳුවා හිඳිනා තැන් ඇමද, අසුන් පනවා, ප්‍රතිග්‍රාහක පුද්ගලයන් සොයා එහි හිඳුවා දන්දෙන්නේ පුද්ගල සත්කාරය කරන්නේ නම් වෙයි. මෙවන්දායක තෙම දානපති නම් වේ. දායකයෝ දෙය්‍යධර්ම (දාන වස්තු) වශයෙන් තෙවැදෑරුම් වූවාහු වෙති. දානදාසො, දානසහායො දානපති වශයෙනි. එහි යමෙක් තමා මිහිරි ලෙස අනුභව කරයි. හෙතෙම දානනම් වූ දෙය්‍ය ධර්මයට දාසයෙක් වී දෙයි. යමෙක් යමෙක් තමා අනුභව කරයි ද, එසේම දෙයි ද හෙතෙම දාන සහායකයෙකු වී දෙයි. යමෙක් තමන් යම්කිසි සුලුදෙයකින් යැපෙයි. අනුන්ට මිහිරි ලෙස දෙයි. හෙතෙම දානපතිව දානය දෙයි. කාලෙන යනු (සුතතපයුතත) තිසිකල්හි දන් දෙයි. අනගගහිත චිතෙතා යනු දෙන දේ පිළිබඳව අපේක්‍ෂාවක් නැතිව සිතින් බැඳෙන්නේ නැතිව ත්‍යාග සිතින් යුතුව, අනුපහචච යනු නොපෙලා තමා හුවා දැක්වීම අනුන් පහත්කොට සැලකීම ආදි වශයෙන් තමාගේ ද අනුන්ගේ ද ගුණ නොමකා (තමා ද අනුන් ද නොපෙලා) අඩෙඪා යනු සමෘද්ධ වූයේ මහදධනෙන යනු නිධන්ගත මහ ධනස්කන්ධයකින් යුක්ත වූයේ මහාභොගො මහත් වූ උපභොග පරිභොග සම්පත්තියෙන් යුක්ත වූයේ මෙහි ද යමෙක් ආඪ්‍ය වූයේ මහ ධන ඇත්තේ වේද, මේ පෙරට දෙන ලද දානයාගේ විපාකයකි. මනා රූ ඇති බැව් ආදිය සද්ධාදීන්ගේ විපාකයයි දතයුතුය. කාලගතාචසස අත්‍ථා පවුරා, අර්ථයෝ පැමිණෙන්නාහු මහළු වයස එනතුරු නොසිට සුදුසු කාලයෙහි පලමු වයසෙහිම පැමිණෙන්නේය. බොහෝ ද වෙත්. උපඝාතො යනු භෝගයන්ගේ විනාසයයි. කියන ලද ආකාරයෙන් අසපපුරිස දානය දතයුතුය.

සප්පුරිස දාන සූත්‍ර වර්ණනාව
නිමි.

# 4

වෙලාම සුතෙත වේලාම සූත්‍රයෙහි, අපි නු තෙ ගහපති කුලෙ දානං දීයති යනු භාග්‍යවතුන් වහන්සේ මෙය භික්ෂු සංඝයා වෙනුවෙන් දුන් දනක් පිළිබඳ විචාළහ. සිටුහුගේ ගෙදර නිබඳ භික්ෂු සංඝයාට ප්‍රණීතව දානය දෙනු ලැබේ. එය බුදුරජාණන් වහන්සේ නොදන්නේ නොවේ. සාමාන්‍ය ජනතාවට දෙනුලබන දාන ද ඇත. එය රූක්ෂය. සිටුතුමාගේ සිත නොපිනවයි. (බුදුරදුන්) ඒ පිළිබඳව මෙසේ විචාරති. අසක්කච්චං යන සකස්කොට නොදෙයි. අගෞරව වශයෙන් දෙයි යන අර්ථයි. අචිත්තීකත්වා ගරුබුහුමන් නොඋපදවා අසහත්ථා ඇණවීමෙන් අනුන්ගේ අතින් දෙයි. අපවිද්ධං නිතර නොදෙයි. ඉවත දමනු කැමැත්තේ තුඹසෙහි සර්පයෙකු ඇතුල් කරන්නාක් මෙන් දෙයි යන අර්ථයි. අනාගමන දිට්ඨිකො යනුවෙන් කරන ලද්දට ඵලය ලැබෙන්නේය යන ආභාවන උපදවා (වර්ධනය ඇතිවන) දිට්ඨිය නොදෙයි. යත්ථ යත්ථ (යම් යම්තැනක එම දානයාගේ විපාක පහලවේද) එබඳු තෙවැදෑරුම් කුල සම්ප්‍රදායන්හි, න උළාරාය භත්ත භත්ත යොගාය යනාදියෙහි, නොයෙක් අග්‍ර රසයෙන් යුත් පුරාණ හැල් සහලින් යුත් භෝජනය එළවූ විට ද එහි සිත නොනැමෙයි. රෝග ඇතිකරවන්නා වූ මෙය ගනිව් යයි කියා යම් ඒ පලාකොල සමාන තණ සහල් බත් අමෘතයක් මෙන් සතුටින් අනුභව කරති. කසීසළු ආදි උතුම් වස්තු පිළිගැන්වූ විට එය ගණිව් යයි කියා හඳිනවුන්ට වසාගත යුතු දෙය වත් වසාගන්ට නොහැකි යයි ද සිරුරෙහි රඳවා ගන්නට ද නොහැකියයි කියා (නාලිකෙර සාමක) පොල්කොල වැනි දෙයින් කළ එසේම මුල් පට්ටා වැනි දෙයින් සෑදූ දළවස්ත්‍ර මේවා හඳින්නේ වස්ත්‍රයක් හැඳිබවක් පෙනේයයි වැසිය යුතු දේ වැසේ යයි ද සතුටින් හැඳගනී. ඇත්, අස්, රථ සිවිකා යානයන් එලවූ කල්හි, මේවා ඉවත් කරව දඩ දඩ ගා සෙලවෙයි. ඉඳගැනීමට නොහැකි යයි කියා දිරාගිය රථයක් එලවූ කල්හි මෙය සෙලවෙන්නේ නැත. මෙහි සැපසේ හිඳගත හැකියයි එම යානය තෝරාගනී. න උළාරෙසුව පංචකාම ගුණෙසු යනුවෙන් අලංකාර ලෙස සරසා ඉදිරිපත් කරන ලද රුවැති ස්ත්‍රීන් දැක කනු කැමතිව යක්ෂණියෝ යයි හඟිමි. මොවුන්ගෙන් ඇති ප්‍රයෝජනය කිමදැයි කියා තමාට කැමති පරිදි කල්යවයි. වෙලාමො යනු ජාති, ගෝත්‍ර, රූප, භෝග, සද්ධා, පඤ්ඤා ආදි සීමාව ඉක්ම වූ උදාර ගුණයන්ගෙන් ලැබූ නමකි. සො එවං රූපං දානං අදාසි යන මෙහි මේ පිළිවෙල කථාවයි.

හෙතෙම පෙර බරණැස පුරෝහිත බමුණු ගෙදර පිළිසිඳ ගත්තේය. වේලාම කුමරු යයි ඔහුට නම් කළාහුය. හෙතෙම සොලොස් අවුරුදු කල බරණැස රාජකුමාරයා සමග තක්සලාවට ගොස් දිසාපාමොක් ඇදුරු සමීපයෙහි ශිල්පශාස්ත්‍ර හැදෑරීය. අනිකුත් දඹදිව අසූහාර දහසක් රාජ කුමාරවරු ද එසේ උගත්හ. බෝසත්තෙම (වෙලාම) තමා උගත් උගත් දෙය බාහිර ආචාර්ය වරයෙකු වශයෙන් අසූහාර දහසක් රාජ කුමරුවන්ට ඉගැන්වීය. බෝසත් තෙම සොලොස් අවුරුද්දක් උගතමනා දෙය අවුරුදු තුනකින් ඉගෙන ගත්තේය. ආචාර්යතෙම වේලාම ශිල්ප ප්‍රගුණයයි දැන, 'වේලාම මා දන්නා සියල්ල දනී. තොපි සියල්ලෝම සමගිව ගොස් ඔහු සමීපයෙහි ශිල්ප උගනිවු යයි කියා අසූහාර දහසක් රජකුමරුවන් බෝසතුන්ට පාවා දුන්නේය. බෝසත් තෙම ගුරුන් වැඳ අසූහාර දහසක් කුමරුවන් පිරිවරාගෙන එක් ආසන්න නගරයට පැමිණ එම නගරස්වාමි වූ රජ කුමරුවාට උගන්වා, ඔහුගේ ශිල්ප ප්‍රගුණ වූ කල්හි ඔහු එහිම නැවැත්වීය. මෙම ක්‍රමයෙන් අසූහාර දහසක් නගරවලට ගොස් රාජ කුමාරවරුන් ශිල්පයෙහි ප්‍රගුණ වූවත් කොට ඒ ඒ නගරවල කුමාරුවරුන් නැවැත්වවීය. බරණැස් රජකුමරුවා බරණැස් නගරයට ගියේය. වැසියෝ උගත් ශිල්ප ඇති බරණැස් රජකුමරු රාජ්‍යයෙහි අභිෂේක කරවා වෙලාම හට පුරෝහිත තනතුර දුන්නේය.

ඒ අසූහාර දහසක් රාජකුමාරවරු තම තම රාජධානිවල අභිෂේක ලැබ, අවුරුදු පතා බරණැස් රජුට උපස්ථාන සඳහා පැමිණෙත්. රජු දැක වේලාම වෙත පැමිණ ඇදුරුතුමනි, අපි රාජ්‍යයෙහි පිහිටියාහු වෙමු. යමක් අවශ්‍ය නම් කියනු මැනවයි කියා යෙත්, ඔවුන් යන එන කල්හි ගැල් පදවන්නෝ දෙනුන්, ගොනුන් කුකුලු ඌරන් ආදිහු පැහැර ගනිත්. ජානපදිකයෝ උවදුරට පත්වූවාහු වෙති. මහජනතාව එකතුව රාජංගනයෙහි හඬති. රජතුමා වේලාම කැඳවා ඇදුරුතුමනි, ජනපදවැසියෝ උවදුරට පත්වූවාහුය. රජවරුන් පැමිණෙන කල්හි මහා පැහැරගැනීම් කෙරෙති. වැසියෝ එය ඉවසා ගන්ට නොහැක්කෝ වෙති. ජනතාව මෙම උවදුරින් මුදවා ගැනීමට එක් උපායක් කරනු මැනවි. එසේය මහරජතුමනි, කරමි යයි, එවිට ඇදුරුතෙම රජවරුන් අමතා, ඔබතුමන්ලාට යම් පමණ ජනපදයකින් ප්‍රයෝජන වෙත්ද එය වෙන්කොට ගනිව් යයි කීහ. රජවරු එසේ කළහ.

වේලාම තෙම අසූහාර දහසක් රජවරුන්ගේ ජනපද රාජ්‍යයන් පිළිබඳ විමසා බලා බරණැස් රාජ්‍යය චක්‍ර නාභියයි. සෙසු රාජ්‍යය එහි

'අර' මෙනැයි ඇතුලත් කළේය. (සම්බන්ධ කළේය.) එතැන් පටන් එම රජවරු යන්නේද එන්නේද තමාගේම රාජධානියෙහිම ඇවිදිත්. අපගේ ජනපදය යයි පැහැරගැනීම් නොකරත්. රාජ ගෞරවයෙන් රජතුමාගේ ජනපදයද නොපෙලත්. ජානපදිකයෝ හුන්නාහු නිශ්ශබ්ද වූවාහුය. සියලු රජවරු සතුටුසිත් ඇත්තාහු ආචාර්යතුමනි, ඔබතුමාට යම් දෙයකින් ප්‍රයෝජනයක් වේනම් එය අපට කියවයි පැවරූහ.

වේලාව බ්‍රාහ්මණ තෙම ස්නානය කොට තමාගේ නිවාසයෙහි සත්රුවන් පිරි ගබඩාවල දොරවල් විවෘත කොට සත්වන කුලපරපුරේ සිට එකතු කරන ලද ධනය දෙස බලා අයද, වැයද සලකා බලා 'මවිසින් මුළු දඹදිව කළඹවා දැන් දන් දෙන්ට සුදුසු යයි රජතුමාට දැනුම් දී ගං ඉවුරෙහි දොලොස් යොදුනක් තැන් උදුන් පන්ති කරවා ඒ ඒ ස්ථානවල ගිතෙල් - මී - සකුරු - තෙල් - තල - සහල් ආදිය තැබීමට මහා කොෂ්ටාගාර පිහිටුවා 'එක් තැනක, මෙපමණ ජනයාට සංවිධානය කරව. මිනිසුන්ට ලැබිය යුතු දේ සියල්ල ඇතිවන ලෙසට (කරව.) එයින් එකකුදු නොමැති නම් මට දන්වන්න. මෙසේ සංවිධානය කොට 'අසවල් දිනයේ සිට වේලාම බ්‍රාහ්මණ ගේ දානය අනුභව කෙරෙත්වා'යි නුවර බෙර හසුරුවා (ප්‍රසිද්ධ කළහ.) දන් සංවිධානය කරන්නේ දානය දැන් සම්පූර්ණයයි දැන්වූ කල්හි දහසක් අගනා වස්ත්‍රයක් හැඳ පන්සියයක් අගනා සළුවක් පොරවා සර්වාලංකාරයෙන් විභූෂිත වූයේ දානය පරීක්‍ෂා කරනු පිණිස පලිගුවන් ජලය රන් කෙණ්ඩියෙහි පුරවා 'ඉදින් මෙලොව මෙම දන් පිළිගැනීමට සුදුසු දක්ෂිණෙය්‍ය පුද්ගලයෝ වෙත්නම් මෙම ජලය ගලා ගොස් පොලොව වැලඳ ගනීවා. ඉදින් නොමැතිනම් කෙණ්ඩියෙහිම සිටීවා යයි සත්‍යක්‍රියා කොට කෙණ්ඩිය යටිකුරු කළේය. ජලය ධම්මකරකයක (පෙරහන්කඩක) මෙන් නැවතී සිටියේ වෙයි.

බෝධිසත්ත්වයන් වහන්සේ 'දඹදිව සූන්‍යය දන් පිළිගැනීමට සුදුසු එක් පුද්ගලයෙකුද නැතැයි විපිළිසරට පත්නොවී, 'ඉදින් දායකයාගේ වශයෙන් දානය පිරිසිදු වන්නේ නම් ජලය නික්මී පොළොව වැළඳ ගනිත්වායි සිතීය. ජලය නික්මී පොලොවේ පිහිටියේය. දැන් දානය දෙමි යයි දාන ශාලාව වෙත ගොස් දානය බලා, යාගු (කැඳ) වේලාවට කැඳ ද, කැවිලි වේලාවට කැවිලි ද භෝජන වේලාවට භෝජන ද දෙවීය. මේ අයුරින් දිනපතා දන් දෙනු ලැබේ. එම දන්ශාලාවේ මේ දෙය නැතැයි නොකිය හැක. මෙම දානය මෙපමණ කලකින් අවසන් වන්නේ යයි

අසූහාර දහසක් රන්පා කරවනු වැන්නේ ඒ බව දන්වා අසූසාර දහසක් රජවරුන්ට හසුන්පත් යැවීය. එම රජවරු බොහෝ කලකින් ආචාර්යයන් වහන්සේට අනුග්‍රහ කරන්ට අවස්ථාවක් ලදැයි සියල්ල සම්පාදනය කොට යැවූහ. දානය දෙන්නේම සත් අවුරුදු සත්මසක් ඉක්ම ගියේය. අනතුරුව බ්‍රාහ්මණතෙම (හිරඤ්ඤං) අමුරන් බෙදා දන්දෙමියි මහත් වූ අවකාශයෙකි. දානය සංවිධානය කොට අසූහාර දහසක් රන් පාත්‍ර ආදිකොට කෙලවරක සිට දුන්නේය. එහි රූපියපූරානි රිදී තැටි, රිදී රිදී කුඩා තැටි රිදී මාසක පුරවා පාත්‍ර කුඩා යයි නොසැලකිය යුතුය. එක් කිරියක් පමණ භූමි ප්‍රමාණයෙහි පාත්‍ර සතරක් තැබූහ. පාත්‍රය මුදුනෙහි නවරත්න මැණිකකි. මුවවිට වටේ අඩ රත්නයෝය. පාමුවවිට අසල යෙදූ ආජානීය අසුන්ගෙන් යුත් රථයකි. එය අනුව ගමන් කරයි. දෙන්නේ පාත්‍රයෙන් බාහිර පැත්තෙහි කොටස් කොටස් ප්‍රතිග්‍රාහකයෙන් තබා පලමුව පුරවන ලද පාත්‍රය දී පසුව, එක්වීම වලක්වා තබයි. මෙසේ අසූහාර දහසක් රජතමය පාත්‍ර පිළිබඳව ද මෙසේමය.

මෙහිදු සුවණ්ණපූරානි රන්තැටි කුඩා තැටි රන්මසුරං ආදියෙන් පිරුණු හිරඤ්ඤපූරානි සප්තවිධ රත්නයන්ගෙන් පිරුණා වූ කංසූපධාරනානා රජතමය කිරිබඳුන් ද එම දෙනුන්ගේ අංවල ස්වර්ණමය කොපු පළඳවන ලද්දාහුය. බෙල්ලෙහි සමන්මල්දම් පැළඳවූවාහුය. පාද සතරෙහි රන් නූපුරයෝය. පිටෙහි උතුම් දුහුල් වස්ත්‍රයකින් පොරවන ලදී. බෙල්ලෙහි ස්වර්ණ ඝණ්ඨා බැන්දාහුය. ගොණකත්ථතානි සතර ගුලකට වැඩි දිග ලොමින් කළ මහපලස් අතුරන ලද. පටිකත්ථතානි ලෝහමය සුදු ඇතිරිලි අතුරන ලද, පටලිකත්ථතානි යනුවෙන් ඝන වූ මල්වැඩ දැමූ සිහින් (බැටලු ආදී) ලෝමයෙන් කළ ඇතිරිලි අතුරන ලද, සඋත්තරච්ඡදානි යනු උඩින් බඳින ලද රතුවියන් සහිත වූ, උභතො ලොහිතකූපධානානි හිස තබන කොට්ට ද පාතබන කොට්ට ද දෙකෙළවර රතු කොට්ටා ඇති වත්ථ කොටි සහසසානි, ලෝක ව්‍යවහාර වශයෙන් වස්ත්‍ර යුගල විස්සක් ඒකකොටි නම් වේ. මෙහි වනාහි සාටක දසයක් ඒකකොටි යයි කියන ලදී. ඛොම සුඛුමානං යනුවෙන් ආදියෙහි ඛෝම වස්ත්‍රවල යම් යම් වස්ත්‍ර සියුම් ද, ඒවාම දුන්නේය. යම් මේ ඉත්ථි දාන, උසභ දාන, මජ්ජදාන, සමජ්ජදාන (නාට්‍ය උත්සව ආදියට අවශ්‍ය වස්තු) චිත්තකම්ම දාන යනාදිය (නොදිය යුතු දේ වශයෙන්) අදාන සම්මත වේද, ඒවාද වෙලාමගේ දානයෙහි මේ දෙය නැතැයි යන වචන මාර්ගය සිඳීමට පිරිවර වශයෙන් දිනි. නජ්ජො මඤ්ඤෙ විස්සන්දන්ති - ගංගාවන් මෙන් ගලාබසිත්. මෙයින්

මෙපමණකින් ශාස්තෲන් වහන්සේ වෙලාමගේ දානය දක්වා, ගෘහපතිය, මේ මහාදානය අන්කිසිවෙක් නොදන්නේය. මම දුන්නෙමි. මෙවැනි මහා දානයක් දෙන්නා වූ මම සුදුස ප්‍රතිග්‍රාහකයන් නොලැබුවෙමි. ඔබ මා වැනි බුදුකෙනෙකු බබලන කල්හි දන් දෙන්නේ කුමක් හෙයින් සිතන්නෙහි දැයි සිටුතුමාට දේශනා දියුණු කරන්නේ සියා බො පන තෙ ගහපති යනාදිය වදාළහ. එකල්හි රූප - වෙදනා - සඤ්ඤා - සංඛාර - විඤ්ඤාණ යනුවෙන් යම් ස්කන්ධ පංචකයෙක් වී ද, එකල්හි ඒවා නිරුද්ධ වූවාහුය. කවර හෙයකින් මම එසමයෙහි වෙලාම නම් බ්‍රාහ්මණ යයි ප්‍රකට වීද, පරම්පරා සම්බන්ධතාවය නිසාය. රූපාදිය නිරුද්ධවන කල්හි මේ ප්‍රත්‍යය දී නිරුද්ධ වූවාහුය. භවයෙන් භවයට නොසිඳී යන ප්‍රවේණිය ගෙන මෙසේ මෙසේ කීහ. න තං කොචි දකඛිණං විසොධෙති යනුවෙන් කිසියම් ශ්‍රමණයෙක් හෝ, බ්‍රාහ්මණයෙක් හෝ දෙවියෙක් හෝ මාරයෙක් හෝ නැගීසිට එම දක්ෂිණාව පිරිසිදු කළේ යයි නොකිය යුතු වෙයි. එහි දක්ෂිණාව පිරිසිදු කරන්නා වූ උත්තම කෙලවර බුදුරජාණන් වහන්සේ ද පශ්චිම කෙළවර ධම්මසේනාපති සාරිපුත්ත වැනි ශ්‍රාවක තෙම (දක්ෂිණාව) පිරිසිදු කරන්නේය.

ඉදං තතො මහපපල තරං යනුවෙන් මේ සෝතාපන්නයාට දුන් දන ලෞකික ජනතාව සත්අවුරුදු සත්මසක් දුන් දනට වඩා මහත්ඵල වේ. යොච සතං දිට්ඨි සමපනනං යනුවෙන් මෙහි එක එක සකදාගාමී වූවක්හුගේ වශයෙන් එකක් වැඩි සියයක් සෝවාන් වූවහුගේ ගණන දතයුත්තේය. මෙම ක්‍රමයෙන් සියලු වාරයන්හි යට දැක්වූ අනන්තරයෙන් සයක් ගුණයක් කොට පුද්ගල ගණන දතයුත්තේය. චාතුද්දිසං සංඝං උද්දිසස යනුවෙන් (සිවුදිගින් වඩින සංඝයාට) කරන ලද විහාරය නම්, එහි චෛත්‍යයක් පිහිටියේ වෙයි. ධර්මශ්‍රවණය ද කරනු ලැබේ. සතරදිගින් එන්නා වූ භික්ෂූහු නොවිමසා, පාදොවා, යතුරින් දොරහැර සෙනසුන් පතවා වාසයකොට පහසු පරිදියෙන්, එය යටත් පිරිසෙන් එය හතර රියන් පන්සලක් වේවා. සතර දිගින් වඩිනා සංඝයා උදෙසා කළ විහාරයකැයි කියනු ලැබේ. සරණං ගචෙඡය්‍ය යන මෙහි මගින් ආවා වූ නොවැලැක්විය හැකි (තෙරුවන්) සරණ අදහස් කෙරේ. එසේම සීලය රක්ෂා කෙරේ ද, ගන්ධූහන මතතං එයට වඩා සුවඳක් ආඝ්‍රාණය කරන කාලයක් අන්තැනක ගදෙදාහන මතතං දෙනකගේ තනපුඩුවෙන් කිරි ස්වල්පයක් දොවින කාල පරිච්ඡේදයක් මෛත්‍රී භාවනාව වඩාද (අර්පණා වශයෙන්) අනිච්ච සඤ්ඤා මාර්ගයට අනන්තර ප්‍රත්‍යය වශයෙන් මුදුන්පත් විදර්ශනාවයි. කූටදනත සූත්‍ර වර්ණනාවේ මෙසේ කියන ලදී.

යම්සේ සූත්‍රාන්ත ක්‍රමයෙහි එන පරිදි සීතල දුරුකිරීම පිණිස යනාදි ආනිසංස නවයක් කියන ලදී. ඛන්ධක ක්‍රමයට සීත, උෂ්ණ දුරුකරති ආදි සතන රස (දාහතක්) ආනිසංස දක්වන ලදී. එහෙයින් එය සලාක බතකට වඩා මහත්ඵල යයි කිවයුතුය. යම් හෙයකින් සරණාගමනය නම් ත්‍රිවිධරත්නයට ජීවිත පරිත්‍යාගමය පුණ්‍යකර්මය ස්වර්ග සම්පත්තිය දෙයි. එහෙයින් එය විහාරදානයට වඩා මහත්ඵල සහිත යයි දතයුතුය. යම් අයුරකින් සරණාගමනයෙන් දිටධී ඍජු කිරීම බරපතල වූවකි. ශික්ෂාපද සමාදන් වීමෙන් වරදින් වෙන්වීම් මාත්‍රයක් පමණි. එහෙයින් එය එසේ මෙසේ ගන්නවුන් විසින් මනාලෙස ගැනීම මහත්ඵල ගෙන දෙන්නකි. පඤ්චසීලය අතුරෙන් සරණ සීලයම දෙවුය. මෙය වනාහි සරණසීලයෙහි පිහිටා රකින ලද ශීලයාගේ වශයෙන් මහත්ඵල තර වේ. පන්සිල් නම් වූ මහාදානයක් සමාන වූ දාන නම් වූ (විරමණය) තමා කෙරෙහි ආදරයද ජීවිත ආදරයද අතහැර රකිමි යයි සමාදන් වූ බැවින් එහි මහත්ඵල මහානිසංස බව දතයුතුයැ. යම්හෙයකින් ප්‍රථම ධ්‍යානය එක් කපක් බ්‍රහ්මලෝකයෙහි ආයුෂ ගෙනදෙයි. දෙවන ධ්‍යානය කල්ප අටක් ද තෙවන ධ්‍යානය හැටහතර කල්පයක් ද හතරවන ධ්‍යානය පන්සියය කල්පයක් ද එයම ආකාසානාඤ්චායතන ආදි සමාපත්ති වශයෙන් භාවිත වූයේ කල්ප විසිදහසක් හතලිස් දහසක් ද හැටදහසක් ද අසූහතර දහසක්ද (පිළිවෙලින්) ආයු ගෙන දෙති. (එසේ හෙයින් මෙසේ එකිනෙක පරයා මහත්ඵල මහානිසංස බව දතයුතු) විපසසනා ඤාණ විපසසනා සැපයට වඩා වෙනත් සැපයක් නැති බැවින් එය මහත්ඵල මහානිසංස වේ.

උපමා වශයෙන් මේ දානාදි පින්කම් මෙසේ දතයුතුය. ඉදින් මෙම මුළු දඹදිව් තලය බෙරඇසක් මෙන් සමතලාකොට කොනක සිට ඇද නැති ආසන අතුරා අරිය පුද්ගලයන් හිඳුවා එහි සෝවාන් වූවන්ට ජේලි දහසක් ද වූහ. සකෘදාගාමි වූවන්ට ජේලි පහක් ද අනාගාමීන් ජේලි දෙකහමාරක් ද රහත්වූවන් ජේලි එකහමාරක් ද පසේ බුදුවරුන්ට එකපෙලක් ද වේද, සම්මා සම්බුදුවරු එකනමක් පමණ වේ ද, මේ සියල්ලටම වඩා එකම සම්බුදුරජාණන් වහන්සේට දුන් දානය මහත්ඵල මහානිසංස වන්නේය.

අනිකකුදු,

**විහාරදානං පණිපාතො සිකඛා මෙතොය භාවනා**

**ඛයතො සමමසනතසස කාලං නාගඝති සොලසිං**

(විහාර දානය, ප්‍රණිපාතය ශික්ෂා සමාදන්වීම, මෛත්‍රී භාවනාව වැඩීම මේ සියලු පින්කම් සංස්කාර ධර්මයන් ක්ෂය වශයෙන් බැලීමේ පින්කමින් සොලොස් භාගයක් නො අගී)

එහෙයින්ම භාග්‍යවතුන් වහන්සේ ධම්මානුධම්ම පටිපත්තිය පරම වූ පූජාව යයි වදාළ සේක. වදාරණ ලදී. පරිනිර්වාණ සමයෙහි ආනන්දය, යම් භික්ෂුවක් හෝ භික්ෂුණියක් හෝ උපාසකයෙක් හෝ උපාසිකාවක් හෝ ධම්මානුධම්ම පටිපන්නව, සාමිචිපටිපන්නව අනුධම්මචාරීව වාසය කෙරේ ද, හෙතෙම තථාගතයන් වහන්සේට සත්කාර කෙරේ. ගරුකාර කෙරේ. බුහුමන් කෙරේ. උතුම් වූ පූජාවෙන් පූජා කෙරේ. එහි මෙම බලාපොරොත්තුවයි.

ආනන්දය, මවිසින් දීපංකරපාද මූලයේ උපන්නේ කරුණු අටක් එක්තැන් කොට අභිනීහාර (ප්‍රාර්ථනා) කරන්නේ, මාලා - ගන්ධ - තූරිය ගීත ආදීන් පිණිස අභිනීහාර නොකළේය. ඒ සඳහා පාරමිතා නොපුරන ලදී. එබැවින් එම පූජාවෙන් මම පූජිත වූයේ නොවෙමි. යම් භික්ෂුවක්, යම් භික්ෂුණියක් තමන්ට පැනවූ ශික්ෂාපදයක් ජිනවෙලං (සීමාව) ජින චරියාදාම, ජින කාලසූත්‍රය, අනුමාත්‍රයකුදු නොඉක්මවන්නේ, සීල-ආචාර පඤ්ඤත්ති ධූතංග සමාදානය ගෝත්‍රභූ අවස්ථාව දක්වා මනා ප්‍රතිපත්තියෙන් සතුටු වේ. මෙය ධම්මානුධම්ම පටිපන්න නම් වේ. යම් උපාසකයෙක් යම් උපාසිකාවක් තිසරණයෙහි පංච සීලයන්හි සම්පූර්ණ කරන්නේ වේද, මසකට අටවරක් පෙහෙවස් සමාදන් වෙයි. වේද, ගඳ මල් සුවඳ පුදයි. මවට උවටැන් කෙරේ. පියාට උවටැන් කෙරේ. කුලදෙටුවන් පුදන්නේ වේද, දැහැමි වූ මහණ බමුණන්ට උපස්ථාන කෙරේ ද, තුනුරුවන්ට ගෞරව කෙරේ ද, අධාර්මික වෙළඳම් කිසිත් බැහැරව දැහැමින් සෙමින් ජීවත් වේද, මෙතෙම ධම්මානුධම්ම පටිපන්න වූයේ නම් වේ. මේ නිරාමිස පූජා නම් වේ. තථාගතයන් වහන්සේට සුදුසු වූ පරම වූ පූජාවයි. මෙයින් සසුනට සත්කාර කරන ලද්දේ ද, සාසනයාගේ පැවැත්ම ප්‍රාර්ථනා කරන ලද්දේ ද, සාසනයාගේ පැවැත්ම ප්‍රාර්ථනා කරන ලද්දේ ද වෙයි. යම්තාක් මෙම සිවුපිරිස මා මෙම නිරාමිස පූජාවෙන් පූජා කරත් ද, ඒතාක් සසුන අහස මැද පුන්සඳ බබලන්නේය.

වේලාම සූත්‍ර වර්ණනාව නිමි.

# 5.

**දක්ඛිණ විභංග සුත්තෙ, එනම් සූත්‍රයෙහි මහාපජාපතී ගොතමී** යන මෙහි ගෝතමී යනු ගෝත්‍රයයි. නම් තබන දවසෙහි සත්කාර ලැබූ බ්‍රාහ්මණයෝ ඇයගේ ලක්‍ෂණ සම්පත්තිය දැක 'ඉදින් මේ තැනැත්තිය දූවක් ලබන්නීද සක්විති රජුගේ මෙහෙසිය වන්නේය. පුතෙක් ලබන්නේ නම් සක්විති රජ වන්නේය. මේ දෙ අයුරින්ම ඇයට මහත් ප්‍රජාවක් වන්නේ යයි ප්‍රකාශ කළාහුය. ඉක්බිති ඇයට මහා පජාපතී යයි නම් තැබූහ. මෙහි වනාහි ගෝත්‍රයත් සමග ගෙන මහා පජාපතී ගොතමී යයි කියන ලදී. නවං යනු අළුත්, සාමංවායිතං සියතින්ම වියන ලද්දේම නොවෙයි. එක්දිනක් දාසි ගණයා පිරිවරාගෙන සිල්පීන්ගේ රෙදි වියන තැනකට පැමිණ රෙදි වියන දණ්ඩ කෙළවර ගෙන රෙදි වියන ආකාරය හැදෑරිය. ඒ සඳහා මෙසේ කියන ලදී.

භාග්‍යවතුන් වහන්සේ බුද්ධත්වයට පැමිණ කපිල වස්තුවට පැමිණ පළමු ගමනෙහිදී පිඬු පිණිස පැමිණි උන්වහන්සේලා රැගෙන සුදොවුන් රජතුමා සිය නිවෙසට පැමිණියේය. ඉක්බිති ඔහුගේ රූපසෝභාව දැක මහාපජාපතී තොමෝ මෙසේ සිතීය. 'මාගේ පුත්‍රයාගේ ආත්මභාවය සොභාමත්ය. එසේ ඇයට බලවත් සතුටක් උපනි. අනතුරුව මෙසේ සිතීය. මගේ පුතුට එකුන්තිස් වයස් ඇත්තේය. ගිහිගෙයි වසන කාලයෙහි මට කෙසෙල් ගෙඩියක් පමණකුදු දෙන්ට බැරිවිය. දැන් සිවුරු රෙද්දක් දෙමියි යයි, මේ රජගෙදර මහත් වූ වටිනා වස්ත්‍ර ඇත. ඒවා ගැනීම ගැන මගේ සතුටක් නැත. තම අතින් සාදවා දෙමියි ඉක්බිති වෙළඳසැලින් කපු පුළුන් ගෙන්වා කැටිහැර පෙලා ඉතා සියුම් නූල් කොට තම නිවසෙහි ශාලාවක් කරවා ශිල්පීන් කැඳවා ශිලපීන්ට තම පරිභෝගයට පිළියෙල කළ කෑමබීමෙන් සංග්‍රහකොට රෙද්ද වියවීය. කලින් කල දාසි ගණයා පිරිවරාගෙන ගොස් රෙදිවියන දණ්ඩ අල්ලා ගත්තේය. වැඩ නිමකළ ශිල්පීන්ට මහත් සත්කාර කොට වස්ත්‍ර යුගල සුවඳ කැවූ පෙට්ටිය තබා සුවඳ ගන්වා රජුට දැන්විය. රජතුමා මහමග පිරිසිදු කරවා පුන්කලස් තබ්බවා කොඩි සේසත් ඔසවා රජගෙදර සිට නිග්‍රොධාරාමය දක්වා මාර්ගය පිළියෙල කොට මලින් ගැවසී ගත්තක් කළේය. සියලු අබරණින් සැරසුණ මහා ප්‍රජාපතී ගෝතමිය, දාසි සමූහයා පිරිවරාගෙන, වස්ත්‍ර යුගල තැන්පත් කළ මංජුසාව හිසමත තබාගෙන භාග්‍යවතුන් වහන්සේ

සමීපයට ගොස්, ඉදමෙම භනෙත නවං දුසසයුගං යනුවෙන් ස්වාමීනි, මේ මගේ වස්ත්‍ර යුගලයකැයි යනාදිය කීහ.

දුතියමපි බොති සංඝෙ ගොතමී දෙහි පළමුව ද දෙවනුව ද ගෝතමිය මෙය සංඝයාට දෙවයි කී කල්හි ස්වාමීනි, මට රෙදි ගබඩාවෙන් ගෙන භික්ෂූන් සියයකට ද, දහසකට ද, ලක්ෂයකට ද වස්ත්‍ර යුගලය බැගින් දිය හැකිය. ස්වාමීනි, මෙය භාග්‍යවතුන් වහන්සේ උදෙසාම මවිසින්ම කපු කැට සකස් කරවන ලදී. ස්වාමීනි, භාග්‍යවතුන් වහන්ස, මෙය පිළිගන්නා සේක්වායි අමතමින් කීහ. මෙසේ තුන්වන වර ඉල්ලීය. භාග්‍යවතුන් වහන්සේ ප්‍රතික්ෂේප කළේමය. කුමක් හෙයින් භාග්‍යවතුන් වහන්සේ තමන්ට දුන්දෙය මහා සංඝයාට දෙවීද? මවට අනුකම්පා පිණිසය. භාග්‍යවතුන් වහන්සේට මෙබඳු අදහසෙක් විය. මැයට මා ඇරබ පූර්ව චේතනාව ද මුඤ්චන චේතනාව ද, අපර චේතනාව ද යන චේතනා තුනම ඇතිවූවාය. භික්ෂු සංඝයා පිළිබඳවද මෙසේ උපදිත්වා. එවිට ඇයගේ චේතනා හයම එකට සමාන වීමෙන් බොහෝ කලක් ඇයට හිත වැඩපිණිස පවතිත් යයි (මෙසේ කළහ.)

විතණ්ඩවාදී, මිථ්‍යා දෘෂ්ටිකයෝ මෙසේ කීහ. බුදුරදුන්ට දුන් දනට වඩා සංඝයාට දුන් දන මහත්ඵලතරයයි ද, එහෙයින් මෙසේ කීයයි ද, සූත්‍රය දක්වනට යයි කී කල්හි සංඝෙ ගොතමී දෙහි සංඝදිනෙන අහඤ්ච පූජිතො භවිසසාමි සංඝො ච යයි ගෙන දක්වයි. කිම මෙම සූත්‍රයාගේ මෙම අර්ථය ද එසේය. මෙයම යයි ඉදින් එසේනම් තෙනභානන්ද විසසාදානං පුවං දෙහි යයි යන වචනයෙන් බඩගිනි ඇත්තවුන්ට දුන් දෙයින්ද මහත්ඵල තර වන්නේ ද, ශාස්තෘන් වහන්සේ තමන්ට දෙන දෙය දෙවිය. එය එසේ මහත්ඵල වන්නේ යයි නොගන්න.

නයිමසමිං ලොකෙ පරසමිං වා පන
බුදෙධන සෙටඨො සදිසොච විජජති
යමාහු නෙයානං අගගතං ගතො
පුඤ්ඤත්ථිකානං විපුල ඵලෙසිනං

'මෙලොව ද වෙනත් ලොවක ද බුදුරදුන්ට වඩා ශ්‍රේෂ්ඨය. කෙනෙක් හෝ සමාන කෙනෙක් විද්‍යමාන නොවේ. මහත්ඵල සොයන පුණ්‍යකාමීන්ගේ යම් ආහුණෙය්‍ය කෙනෙක් වේද, බුදුරජාණන් වහන්සේ ඒ හැමට වඩා අගතැනට පැමිණි සේක.

මෙයිනුදු බුදුරදුන්ට වඩා උත්තරීතර දක්ෂිණාර්හ කෙනෙක් නැතැයි යනුවෙන් පැවසේ. හෙතෙම නැවත කියයි. **සංඝෙ තෙ දිනෙන අහඤ්චව පූජිතො භවිස්සාමි සංඝො ච** යන වචනයන්ගෙන් ශාස්තෘන් වහන්සේ ද සංඝ පරියාපන්න යයි හෙතෙම මෙසේ කිවයුතු වන්නේය. ඔබගේ ලබ්ධිය අනුව ශාස්තෘන් වහන්සේ ද සංඝ පරියාපන්න බැවින් සරණයෝ ද දෙදෙනෙක් වෙති. එසේ ඇතිකල්හි **අනුජානාමි භික්ඛවෙ තීහිසරාගමණෙහි පබ්බජ්ජං උපසම්පදං** යනුවෙන් මෙසේ අනුදන්නා ලදී. පැවිද්ද ද නොගැලපේ. සම්මා සම්බුදුන් ගඳකිළියෙහි සිටිකල්හි භික්ෂූහු සංඝ කර්ම කරති. ඒවා කිපෙන්නේ නොවේද, නොම කිපෙත්. එහෙයින් මෙසේ නොකිය යුතුය. ශාස්තෘන් වහන්සේ සංඝ පරියාපන්නය කියා,

ආපාදිකා සංවර්ධනය කරන ලදී. ඔබවහන්සේගේ අත්-පා අත්පාවලින් කෙරෙන කාර්ය සිදුනොවන කල්හි, අත් ද පාද වර්ධනය කරන ලද්දේ පෝෂණය කරන ලද්දේය යන අර්ථයි. **පොසිකා** යනු දවසට දෙතුන් වරක් නහවා වළඳවා පොවා පෝෂණය කරන ලද්දේය. **ථඤ්ඤං පායෙසි** නන්දකුමාර තෙම බෝසතුන්ට වඩා දින කිහිපයකට බාලය. ඔහු උපන්කල්හි මහාපජාපතී ගෝතමී තොමෝ තම පුතු කිරිමවුන්ට දී තමා බෝසතුන්ට කිරිමව් වශයෙන් කටයුතු කරමියි කිරි පෙව්වේය. ඒ නිසාම තෙරුන් මෙසේ කීවේය. **යංහානන්ද පුග්ගලො පුග්ගලං ආගම්ම** යනු ආනන්ද යම්හෙයකින් ආචාර්ය පුද්ගලයෙකු ලැබ අතවැසි පුද්ගල තෙම, ඔහු ඇසුරුකොට, **න සුපපතිකාරං වදාමි,** (මේ පුද්ගලයාට මේ පුද්ගලයා විසින්) ප්‍රතිඋපකාර කිරීම පහසු යයි නොකියමි. **අභිවාදන** ආදියෙහි ගුරුවරයා දැක අභිවාදනය කිරීම අභිවාදන නම් වේ. **යම්දිසාවෙක** ගුරුවරයා වාසය කෙරේ ද ඉරියව් දක්වන්නේ එම දිසාවට වැද යයි. වැද හිඳගනී. වැද හොවී, වැඳ සිටී. ගුරුවරයා දුරදී දැක වහා නැගී සිටියි. පෙරගමන් කිරීම **පච්චුට්ඨාන** නම් වේ. ගුරුවරයා දැක දෙඅත් නළලේ තබා වඳියි. යම්දෙසක ඔහු වාසය කෙරේ ද, ඒ දෙසට යන්නේ ද සිටින්නේ ද හිඳින්නේ ද හොත්තේ ද එසේම වඳියි. මේ **අඤ්ජලි කර්ම** නම් වේ. සුදුසු දෙය කිරීම **සාමීචි කම්ම** නම් වේ. **චීවරාදිසු** සිවුරු ආදිය පිළිබඳව සිවුරක් දෙන්නේ, එහෙන් මෙහෙන් ගෙන යමක් නොදෙයි. මාහැඟි, සියයක් වටිනා දහසක් වටිනා දෙය දෙන්නේ මය. පිණ්ඩපාත ආදිය පිළිබඳව ද මෙම ක්‍රමය මැයි. වැඩිපුර කියනුයේ කිම? ප්‍රණීත වූ සිවුපසයෙන් සක්වල පුරා සිනෙරු පර්වත උයනට ගොඩගසා දෙන්නේ ද ගුරුවරයාට සුදුසු දෙයක් කළේ නොවේය. මේ දේශනාව

දක්ෂිණාවට අයත් පුද්ගලයන් අරබයා පටන් ගන්නා ලද්දකි. අනඳ තෙරුන්ද පාටිපුගගලික පුද්ගලයා කෙරෙහි වූ (පුද්ගලයන්ට අයත්) යයි සඳහන් වේ. එබැවින් තුදුස් තැනක දෙන ලද දාන පාටිපුගගලික වේයයි දක්වත්. බුද්දසබො පනිමා තනඳ යනුවෙන් දේශනාව ආරම්භ කළේය. අයං පඨමා මෙය දක්ෂිණාවන්ගේ ගණන වශයෙන් පඨම වේ. ජ්‍යෙෂ්ඨ භාවය වශයෙන් ද මෙය වූ කලී පඨම, අගග, ජෙටඨ නම් වේ. මෙම දක්ෂිණාවට වඩා ප්‍රථම දක්ෂිණාවක් නැත. (=තථාගතයන් වහන්සේට දුන් දානය) දෙවන තුන්වන දක්ෂිණාවෝ ද උතුම් දක්ෂිණාවෝ ම ය. (පසේ බුදුන්ට, රහතුන්ට) සෙසු පාටිපුගගලික දක්ෂිණාවෝ පරම දක්ෂිණා බවට පත් නොවෙත්. බාහිරකෙ කාමෙසු වීතරාගෙසු කර්මවාදී වූ ලෞකික අභිඥාලාභීන් කෙරෙහි. පුථුජ්ජන සීලවා පුහුදුන් තෙමේ සිල්වත් වූයේ කපටි නොවූයේ මායාවෙන් තොරවූයේ අනුන් නොපෙලා දැහැමින් සෙමින් කෘෂිකර්ම හෝ වෙලෙඳම් ආදියෙන් දිවිගෙන යන අය පුහුදුන් සීලවන්තයෝ වෙති. මසුන් ඇල්ලීම් ආදි අනත් පෙලීමෙන් ජීවත්වන්නෝ පුහුදුන් දුශ්ශීලයෝ නම් වෙති. තිරචඡාන ගතෙ යනුවෙන් යමෙක් ගුණ වශයෙන් උපකාර වශයෙන් පෝෂණය පිණිස දෙන ලද පිඩක් හෝ පිඬු භාගයක් ආහාර මෙහි නොගන්නා ලදී. සුනඛ - කුක්කුට - සූකර ආදි යම්කිසි සතෙකුට පින්පල අදහා යම්තාක් දේද, ඒ සඳහා මෙය කියන ලදී. සතගුණා සියක් ආනිසංස, මෙසේ කියන ලදී. මේ දක්ෂිණාව ආයු සියයක් වණ්ණ සියයක් සැප සියයක් බල සියයක් පටිභාන සියයක් දෙයි. මේ ක්‍රමයෙන් සියලු තන්හි විපාක නය දතයුතුය.

**සොතාපතතිඵල සචඡිකිරියාය පටිපනෙනා** යන මෙහි යටත් පිරිසෙන් තිසරණගත උපාසකයෙක් තෙමේ සෝවාන් ඵලය සාක්ෂාත් කිරීම පිණිස පිළිපන්නේ නම් වෙයි. ඔහුට දුන් දානයෙහි ද, අසංඛෙය්‍ය අප්‍රමාණ වශයෙන් ආනිසංස ලැබේ. පංචශීලයෙහි පිහිටියහුට එයින් උපරිම වූ දසසීලයෙහි පිහිටියකුට එදින පැවිදි වූ සාමණේර නමකට උපසම්පන්න භික්ෂුවකට වත්පුරන, ආරදධවිපසසක භික්ෂුවකට ඉහත පුද්ගලයන් විෂයෙහි දෙන ලද දන් පිළිවෙලින් එකිනෙක උසස්ම වේ. උසස් කෙළවරින් මගගසමංගී තෙම, සොතාපතතිඵල සාක්‍ෂාත් කිරීමට පිළිපන් කෙනෙකි. ඔහුට දුන් දන කලින් දැක්වූ පුද්ගලයාට දුන් දනට වඩා ආනිසංස මහත් වේ. මගඵල ලැබූවන්ට දුන් දන එයට වඩා උසස් වේ. කිම මගග සමංගී පුද්ගලයාට දන්දිය හැකිද? පළුවන. **ආරදධ විපසසකසස** විදර්ශන ආරද්ධ භික්ෂුවට, පිඬු පිණිස ගෙහදවාරයෙහි

සිටියා වූ ආසන ශාලාවෙහි හෝ විහාරයෙහි හෝ පාත්‍රයෙහි දමත් ද පාත්‍රය හෝ ගෙන් ගෙට ගොස් පාත්‍රයෙහි ආහාර බහා පූජා කරත්ද එකෙණෙහි සෝවාන් මාර්ගය පැමිණේ. මෙම දානය මගග සමංගී පුද්ගලයාට දුන් දානය වේ. කලවිටි පෙදෙසක පස්වලට වඩා මහපොළවෙහි පස් අධික වන්නා සේ සෝවාන් ඵල ආදියට පැමිණියවුන්ට දෙන දානයේ ආනිසංස අප්‍රමාණ බව දතයුතුය.

දැන් භාග්‍යවතුන් වහන්සේ සංඝෙ ගොතමී දෙහි -පෙ- සංඝොච, යනුවෙන් කියන ලද අයුරින් සත්තැනක දෙන ලද දානය සාංඝික නම් වේයි දක්වන්ට සතත බො පනිමානන්දා යනුවෙන් දේශනාව ආරම්භ කෙරේ. බුද්ධපමුඛෙ උභතොසංඝෙකි වෙනම භික්ෂු සංඝයා, වෙනම, භික්ෂුණී සංඝයා, ශාස්තෘන් වහන්සේ මධ්‍යයෙහි සිටියේ වේද මෙය බුද්ධප්‍රමුඛ උභතො සංඝ නම් වේ. අයං පඨමා මේ පළමු දානයට සමප්‍රාමණ දානයක් නම් නැත්තේය. තථාගතයත් වහන්සේ පිරිණිවන්පෑ කල්හි උභතො සංඝයා ප්‍රමුඛකොට සධාතුක බුද්ධ ප්‍රතිමාවක් ආසනේ තබා පාත්‍රය ආධාරයක තබා දකබිණෙදකය ආදිකොට සියල්ල පළමුව ශාස්තෘන් වහන්සේට පුදා උභතො සංඝයාට දිය යුතුය. මෙසේ බුදුන් ප්‍රමුඛ උභතො සංඝයාට දානය දුන්නේ නම් වේ.

යමක් ශාස්තෘන් වහන්සේට දුන්නේ වේ ද එය, යම් වත් සම්පන්න භික්ෂුවක් බුදුරදුන්ගේ කටයුතු කෙරේද? ඔහුට හෝ භික්ෂුවට හෝ සංඝයාට හෝ දිය යුතුය. තෙල් ගිතෙල් ආදිය ගෙන පහන් දැල්විය යුතුය. සළු ගෙන කොඩි ආදිය නැංවිය යුතුය. භිකඛු සංඝෙ යනුවෙන් වෙන් නොකළ සීමාරහිත, මහාභික්ෂු සංඝයායි. ගොත්‍රභුනො ගොත්‍රමාත්‍රය පමණක් අනුභව කරන නාමමාත්‍ර වූ භික්ෂු සංඝයා යන අර්ථයි. කාසාවකණඨා එනම් නම් ඇති යමෙක් වනාහි එක් කහරෙදි කැබැල්ලක් ගෙන අතෙහි හෝ බෙල්ලෙහි බැඳ හැසිරෙත් ද, ඔවුන්ගේ ගෙවල අඹුදරුවෝ ද කෘෂිවාණිජ ආදී කටයුතු ද සාමාන්‍ය අයුරින් සිදු කරත්. දුසසීලෙසු, සංඝං උද්දිසස දානං දසසනකි මෙහි දුස්සීල සංඝයා යයි නොකියන ලදී. සංඝයා දුස්සීල වූයේ නොවේ. දුසසීලාපන උපාසිකා දුශ්ශීල වූ උපාසකයෝ ය. ඒ දුශ්ශීලයන් කෙරෙහි භික්ෂු සංඝයා උදෙසා සංඝසස දෙවාකි සංඝයාට දෙමියි, දෙන සංඝගත දක්ෂිණාවෝ වූ කලී, සංඝයාට ගෞරව කරන්ට හැකි වූවාහුටම වෙයි. සංඝයා විෂයෙහි ගෞරව කිරීම දුෂ්කරය. යමෙක් සංඝගත දක්ෂිණාවක් විහාරයට ගොස්, සංඝයා උදෙසා එක් තෙරනමක් දෙවයි

කියයි. අනතුරුව සාමණේර කෙනෙකු හෝ තෙරකෙනෙකු හෝ ලැබ, සාමණේරයෙක් මට ලැබුණේ යයි වෙනසකට පැමිණේ ද තෙරකෙනෙකු මට ලැබුනේ යයි සතුටක් හෝ උපදී ද ඔහුගේ දක්ෂිණාව සංඝගත දක්ෂිණාවක් නොවේ. යමෙක් වනාහි සාමණේර ආදිය විෂයෙහිද, සංඝයා වෙනුවෙන් ලැබුනවිට වෙනසකට පත් නොවී 'සංඝසස දෙමි' යනුවෙන් සංඝයාට ගෞරව කරන්ට හැක්කේ වේ ද ඔහුගේ දක්ෂිණාව සංඝගත දක්ෂිණා නම් වේ.

මුහුදින් එතෙර වාසීහු මෙසේ කෙරෙත්. එහි එක්තරා වෙහෙරක අධිපති වූ උපාසක කෙනෙක් සංඝගත දක්ෂිණාවක් දෙමැයි සංඝයා වෙනුවෙන් එක් භික්ෂුවක් ඉල්ලීය. හෙතෙම එක් දුසිල් මහණෙකු ලැබ හිඳිනා තැන (ගොමමැටි ආදී යමක්) ආලේප කරවා අසුන් පනවා උඩුවියන් බැඳ ගඳමල් දුම් දුමින් පුදා පාදොවා පිසදමා බුදුරදුන්ට ගෞරව දක්වන්නාක් මෙන් ගෞරව කොට සංඝයා කෙරෙහි ගෞරවයෙන් දෙය්‍ය ධර්මය දෙවිය. එම භික්ෂුව සවස් භාගයෙහි විහාරය පිළිදැගුම් කිරීම සඳහා උදැල්ලක් දෙවයි ගෙය ඉදිරිපිට පැමිණ ඉල්ලීය. උපාසක තෙම හිඳගත් වනම සිට උදැල්ල පයින් විසිකොට ගනුවයි දුන්නේය. ඔහුගෙන් මිනිස්සු විමසූහ. 'ඔබ විසින් උදේ මොහුට කළ සත්කාරය විස්තර වර්ණනා කළ නොහැක. දැන් උපචාර මාත්‍රයකුදු නැත්තේය. මේ කිමෙක් ද? උපාසක තෙම, එම සත්කාරය මොහුට නොව සංඝයාටය. කාසාවකණ්ඨ සංඝයාට දුන් දානය කවරෙක් නම් මහත්ඵල භාවයට පත්කිරීමෙන් සෝධනය කෙරෙත්. නමුත් තෙරවරු පිරිනිවන් පා ගතවූවා නොවේ ද, සැරියුත් මුගලන් තෙරවරුන් ආදිකොට වර්තමානය දක්වා වැඩසිටින රහතුන් වහන්සේ සෝධනය කෙරෙත්මය. 'නත්වෙවාහං ආනන්ද කෙනචි පරියායෙන සංඝගතාය දකඛිණාය' මෙහි බුද්ධප්‍රමුඛ සංඝයා ඇත. මෙකල්හි සංඝයා ඇත. කාසාව කණ්ඨ සංඝයා ඇත. බුද්ධ ප්‍රමුඛ සංඝයා මෙකල්හි සංඝයා සමග නො පැමිණවිය යුතුය. ඒ ඒ කාලයෙහිම කිවයුතුය. සංඝයා උදෙසා ලබාගත් ශ්‍රමණ තෙම පුථුග්ජන පුද්ගලයෙක් වේද, පුද්ගලයෙක් වශයෙන් සෝතාපන්න මහණහට දුන් දනට වඩා සංඝයා විෂයෙහි ගරුසත්කාර කළහැක්කහුට පුහුදුන් මහණහට දුන් දන මහත්ඵල වේ. සඟුන් උදෙසා දෙන ලද දානය සෝතාපන්න මහණහට දුන් දානය පාටිපුගගලිකව, සකෘදාගාමීන් ආදීන් පිළිබඳවද දුන් දානය ආදියද මේ නය වේ. සංඝයා කෙරෙහි ගරුසත්කාර දක්වන්ට හැක්කහුට රහතුන් වහන්සේට දුන් දනට වඩා සඟුන් උදෙසා ලබා ගත් දුස්සීල මහණුට දුන්

දන මහත්ඵල වේමය. යමක් කියන ලදද, 'මහරජ, සිල්වතාට දුන් දෙය මහත්ඵල වේ. දුස්සීලයාට දුන් දෙය 'මහත්ඵල නොවේ' යන මේ නීතිය අතහැර චතසො බො ආනන්ද දක්ඛිණ විසුද්ධියො මේ දක්ෂිණා විසුද්ධි හතර දතයුතුය.

දායකතො විසුජ්ඣති, මහත්ඵල භාවයෙන් විසුද්ධිය සිදුවේ. මහත්ඵල වේයයි යන අර්ථයි. දායකයා කෙරෙන් පිරිසිදු වේය යන මෙහි වෙස්සන්තර රජතුමා දැක්විය යුතුය. හෙතෙම ජූජක බමුණාට දරුවන් දී පොළොව කම්පා කළේය. පටිග්ගාහකතො විසුජ්ඣති' යන මෙහි කල්‍යාණ නදීමුඛ දවාරවාසී මසුන් මරන්නා (කේවට්ට) හෙතෙම දීඝසෝම තෙරුන්ට තුන්වරක් පිණ්ඩපාතය දී මරණ මංචයේ හොත්තේ ආර්ය වූ දීඝසෝම තෙරුන්ට දුන් පිණ්ඩපාතය මතුවේ යයි කීහ. නෙව දායකතො යන මෙහිදී 'වඩ්ඪමාන' වාසි වැද්දා සඳහන් කළ යුතුය. හෙතෙම වනාහි මියගිය කෙනෙකුට පින් පිණිස දනක් දෙන්නේ එක් දුස්සීලයෙකුට තුන්වරක් දුන්නේය. තුන්වෙනි වාරයෙහි අමනුෂ්‍යයා දුස්සීලයා මා පැහැර ගනීයයි කෑගැසීය. එක් සිල්වත් භික්ෂුවකට දන් දී පින්දුන් කල්හි ඔහුට පින් ලැබුණේය. දායකතොචෙව විසුජ්ඣති යන මෙහි අසදිස දානය සඳහන් කළ යුතුය. සා දක්ඛිණා දායකතො විජ්ඣති යන මෙහි දක්ෂ ගොවිතෙම නිසරු කෙතක් ලැබ සුදුසු කාලයෙහි සා පස් ඉවත්කොට හැල් බීජ වපුරා දිවා රෑ දෙකෙහි අප්‍රමාදීව ආරක්ෂාව සලසයිද? අනිත් ආරක්ෂා නොකළ කෙත්වලට වඩා අධික ලෙස ධාන්‍ය ලබයි. මෙසේ සිල්වත් තෙමේ දුස්සීලයාට දී ද මහත් වූ ඵල ලබන්නේය. මේ ක්‍රමයෙන් සියලු පදයන්ගේ විසුද්ධතා දතයුතුය.

වීතරාගො වීතරාගසස යන මෙහි වීතරාගී යනු අනාගාමී තැනැත්තේය. රහතුන් වහන්සේ වනාහි ඒකාන්ත වීතරාගී නම් වේ. එබැවින් රහතුන් වහන්සේටම දුන් දන අග්‍ර වේ. භවාලය භවප්‍රාර්ථනා නැති බැවිනි. කිම රහතුන්වහන්සේ දානඵලය නොඅදහත්ද? දානඵල අදහන්නෝ රහතුන් වහන්සේ සමාන කෙනෙක් නැත්තේය. රහතුන් වහන්සේ විසින් කළ කර්මය ඡන්දයෙන් හා රාගයෙන් තොර බැවින් කුසලයක් හෝ අකුසලයක් නොවේ. ක්‍රියා වශයෙන් පමණක් පවතී. එබැවින් ඔහුගේ දානය අග්‍රයයි කියත්. කිම සම්බුදුරජාණන් වහන්සේ විසින් සැරියුත් තෙරුන්ට දුන් දන මහත්ඵල ද, සැරියුත් තෙරුන් විසින් බුදුරදුන්ට දුන් දන මහත්ඵල වේද? බුදුරදුන් විසින් සැරියුත් තෙරුන්ට

දුන් දන මහත්ඵල වේ. කුමක් හෙයින්ද? සම්මා සම්බුදුන් හැර දානයෙහි විපාක දැනීමට සමත් අනිකෙක් නැත්තේය. දානය නම් දෙය්‍ය ධර්මයාගේ දැහැමින් සෙමින් අනුන් නෙපෙලා උපන් බවද, පූර්වචේතනා වශයෙන් චේතනා මහත්බවද, රහත් බැවින් එදවස නිරෝධ සමවතින් නැගිටි බැවින් වස්තු සම්පන්නතාවද ගුණාතිරේකතාවයද මේ සතර සම්පත්තිය යුත් දනක් දෙන්න ලැබෙන්නහුට එම ආත්මභාවයේදී ම විපාක දෙයි. මේ ඒ පිළිබඳ කථා වස්තුවකි.

රජගහනුවර කාකවලී නම් දිළින්දෙක් විය. ඔහුගේ භාර්යාව, පලා මිශ්‍ර ඇඹුල් කැඳක් පිසීය. මහා කාශ්‍යප තෙරුන්වහන්සේ නිරෝධ සමාපත්තියෙන් නැගිට කවරෙකුට සංග්‍රහ කෙරෙම්දැයි ආවර්ජනා කරන්නේ මහා කාශ්‍යප තෙරුන් එය දැක ගොස් එම ගේහද්වාරයෙහි සිටියේය. ඕතොමෝ පාත්‍රය ගෙන සියල්ල පාත්‍රයෙහි ලා තෙරුන්ට අදාසි පූජා කළේය. තෙරුන්වහන්සේ විහාරය වෙත එළඹ එය බුදුරදුන්ට පිළිගැන්විය. බුදුරදහු තමාට යැපෙන පමණ ගත්තේය. ඉතිරිය පන්සියයක් භික්ෂූන්ට ප්‍රමාණවත් විය. කාකවලී තෙමේ ද එම ස්ථානයට පැමිණියේ ඉන් ස්වල්පයක් ලැබීය. මහාකාශ්‍යප තෙර කාකවලීට ලැබෙන විපාක විමසීය. බුදුරද මෙයින් සත්වන දින සිටු තනතුර ලබන්නේ යයි වදාළහ. හෙතෙම එම කථාව අසා ගොස් භාර්යාවට කීය. එකල්හි රජු නගරයෙහි ඇවිදින්නේ නගරයෙන් පිට ජීවසූලයෙහි හුන් පුරුෂයෙකු දිටී. ඔහු රජු දැක මහත්සේ ශබ්දකොට 'මට ඔබගේ ආහාර වේල එවන්ට යයි කීය. රජු එවන්නෙමැ'යි පවසා සවස කෑම පිළියෙල වූ විට, එය සිහිකොට මෙය යවන්ට සමත් කෙනෙකු දනුවයි කීහ. නගරයෙහි දහසක් බැඳි මසුරන් සමග (අඩබෙරයක්) යැවීය. තුන්වන වාරයෙහි එය කාකවලීගේ භාර්යාව ගත්තේය. ඉක්බිති ඇයව රජු වෙත ඉදිරිපත් කළහ. ඇය පිරිමි වෙස් ගෙන පංචායුධයෙන් සැරසී බත් බඳුන ගෙන නගරයෙන් නික්මිණි. නගරයෙන් පිට තල් රුකකට අධිගෘහීත දීඝතාල නම් යක්ෂයා ඒ ගස මුලින් යන තැනැත්තිය දැක, සිටුව සිටුව තා මාගේ ආහාරයක් වේයයි කීහ. මම තොපගේ ආහාරයක් නොවෙමි. මම රාජදූතයෙක් වෙමි. කොහි යන්නෙහිද. දිවැස හුල හුන් පුරුෂයා වෙතය. මගේ ද එක පණිවුඩයක් ගෙන යා හැකිදැයි ඇසීය. එසේය පිළිවනැයි උත්තර දුන්නාය. දීඝකාලගේ භාර්යාව වූ සුමනරාජ දෙව්දුව කාලිය පුතෙකු වැදුවාය යනුවෙන් කියව, මේ තල්ගස මුල ධන නිදන් කළ සතක් ඇත. එය ඔබ ගන්න යයි කීය. ඕතොමෝ දීඝකාල භාර්යාව සුමනරාජ දේව දුහිතෘ වූ

කාලි පුතෙකු වැදුවා යයි කියමින් ගියේය. සුමන දෙව් යක්ෂ සමාගමේ සිටින්නේ එක් මිනිසෙක් අපට ප්‍රිය වචනයක් කියයි. ඇය කැගසා පණිවුඩය අසා මේ ගස සෙවන වැටෙන ප්‍රමාණයේ ඇති නිදන් කළ ඔබට දෙමියි කීය. ජීවසූලයෙහි සත්පුරුෂයා බත අනුභව කොට මුඛය පිසදමන අවස්ථාවේ ස්ත්‍රියකගේ ස්පර්ශයකැයි දැන කොණ්ඩෙන් අල්ලා ගත්තේය. ඕ කඩුවෙන් කොණ්ඩය සිඳ රජු සමීපයට ගියේ ය. රජු බත අනුභව කළ බව කෙසේ දැනගත හැකිදැයි ඇසීය. ඕ කෙස්වැටියේ පුවත කියා අනිත් සියලු තොරතුරු රජුට දන්වා ධනය පෙන්වීය. රජතුමා අනිකෙකුට මෙපමණ ධනයක් නැතැයි ඇයගේ ස්වාමියා එම නගරයේ මහධන සිටුවරයා කළේය.

**දක්ඛිණ විභංග සූත්‍ර වර්ණනාව නිමි.**

## 6

සුභ සුත්තෙ (-චූලකම්ම විභංග) සූත්‍රයෙහි සුභො යනු ශරීරාංග සුභ බැවින් සුභ යයි නම් කළාහුය. මාණවො යනුවෙන් මහලු කාලයෙහිද තරුණ ව්‍යවහාරයෙහි ද ව්‍යවහාර කෙරේ. තොදෙය්‍ය පුත්තො, තොදෙය්‍ය නම් පසේනදී කොසලස්ස පසේනදී කොසොල් රජුගේ පුරෝහිත බ්‍රාහ්මණයාගේ පුත්‍රයාය. හෙතෙම සැවැත් නුවර නුදුරෙහි තුදි නම් ගමෙහි අධිපතියයා. එහෙයින් තොදෙය්‍ය යයි ප්‍රසිද්ධියට පත්විය. හෙතෙම මහ ධනවතෙකි. සත් අසූ කෙලක් නිධානගත වස්තුව ඇත. එහෙත් අතිශයින් මසුරුය. කිසිවෙකුට කිසිවක් නොදෙන්නේය. දීමෙන් අවසන් නොවන වස්තුවක් නැතැයි හෙතෙම කියන්නේය. මෙසේ ද කියයි.

**අඤ්ජනානං ඛයං දිස්වා - වම්මිකා නඤ්චආචයං**
**මධූනඤ්ච සමාහාරං - පණ්ඩිතො ඝරමාවසෙ**

(අඳුන් නම් වරකට ස්වල්පය බැගින් ඇසේ ගල්වන බෙහෙතකි. එසේ මද මදව ගැල්වීමෙනුදු ටික කලකින් නිමාවට යන්නේය. වේයන් සිය මුවතුඩින් පස්බිඳ බැගින් ගෙනවුත් මහා තුඹසක් ඉදිකරනු ලැබේ. මීමැස්සෝ එක් එක් මලින් රොන් බිඳ බිඳ ගෙනවුත් මහ මීයක් බඳිති. මේවා දැක නුවණැත්තෝ ගෘහවාසය කරති.) මෙසේ නොදීමම ඉගැන්වීය. හික්මවීය. සමීප වෙහෙරෙහි වැඩසිටින්නා වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේට කැඳ හැන්දක් බත් හැන්දක් පමණකුදු නොදී ධන ලෝභයෙන්ම කළුරිය කොට එම ගෙදරම බල්ලෙක් වී උපන්නේය. ශුභ තෙම එම බල්ලාට අතිශයින් ආදරේය. තමා අනුභව කරන ආහාරයම දෙයි. උසස් අසුනක නිදාගැනීමට සලස්වයි. (ශුභ නම් තෝදෙය්‍යගේ පුතාය.)

ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ එක්දිනක් අළුයම ලොව බලන්නේ එම බල්ලා දිටිය. තෝදෙය්‍ය බමුණා ධන ලෝභයෙන් තමන්ගේ ගෙදර බල්ලෙකු වී උපන්නේය. අද මා ශුභගේ ගෙදරට ගියකල්හි මා දැක බුරන්නේය. එවිට මම ඔහුට එක් වචනයක් කියන්නෙමි. හෙතෙම ශ්‍රමණ භවත් ගෞතම තෙම මා දන්නේ යයි උඳුන්ගෙට ගොස් එහි ලගින්නේය. මෙය කරණකොට ශුභට (තෝදෙය්‍යගේ පුතාට) මා සමග එක් කථා සල්ලාපයක් වන්නේය. ඔහු බණ අසා සරණ සීලයෙහි පිහිටන්නේය. බල්ලා මැරී නිරයෙහි උපදින්නේය. මෙසේ සුභගේ සරණ සීලයෙහි පිහිටන බව දැන ශරීර කෘත්‍ය කොට හුදකලාවම ගමෙන් නික්මුනේ ඔහුගේ ගෙදරට පිඬු පිණිස වැඩි සේක. ඒ වේලාවෙහි මානවකයා ගෙහි නොසිටියේය. බලුතෙම බුදුරදුන් දැක බුරමින් ඉදිරියට ආයේය. භාග්‍යවතුන් වහන්සේ ඔහුට මෙසේ කීය. 'තෝ පෙරත් මට භෝ, භෝ කියා පරිභව කොට බල්ලෙකු වී උපන්නේය. දැන් මට බුරා නිරයේ උපදින්නේය' බල්ලා එය අසා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මා හඳුනන්නේ යයි කලකිරී කරබාගෙන ගොස් උදුන් අතරෙහි අළුගොඩෙහි හොත්තේය. මිනිස්සු නන් අයුරින් වෑයම් කොටත් බල්ලා සයනයට නංවන්නට නොහැකි විය.

ශුභ මානවක තෙමේ ගෙට අවුත් මේ බලුතෙම කවුරුන් විසින් සයනයෙන් බස්වන ලදදැයි විචාලේය. ගෙහි පරිවාර ජනයෝ කවුරුන් විසින්වත් මොහු බස්වන ලද්දේ නොවෙයි. බුදුන් වහන්සේගේ කථාවෙන් පසු සයනයට නොනැගී ගොස් අළුගොඩ හොත්තේ යයි උන්වහන්සේ වදාළතාක් කරුණු මානවකයාට කීහ. මානවක එය අසා අතිශයින්

කිපියේය. 'මගේ පියා බඹලොව උපන්නේය. තොදෙය්‍ය නම් බල්ලෙක් ලොව නැත. ශ්‍රමණ භවත් ගෞතම තෙම මවිසින් සුනඛයෙකු කොට කථා කෙරේනම් එය ඔහුගේ කටට ආවක් මිස අනිකක් නොවේමය. එම නිසා මම ඔහුට 'බොරුවෙන්' නිග්‍රහ කරන්නෙමි. විහාරයට ගොස් භාග්‍යවතුන් වහන්සේගෙන් එපවත් විමසීය. බුදුරදහු එය එසේම යයි වදාරා, කාරණය ඔහුට පැහැදිලි කොට වදාරණු පිණිස 'තොපගේ පියා විසින් තොපට නොදන්වා සඟවන ලද, යම් ධනයක් ඇත්දැයි විචාල සේක. ලක්‍ෂයක් වටිනා රන්මාලයක් ද, ලක්‍ෂයක් වටිනා රන්මිරිවැඩි සඟලක් ද ලක්‍ෂයක් වටිනා රන් තැටියක් ද කහවනු ලක්‍ෂයක් සහ මේ වස්තුව සැඟවූ තැන් මට නොකියන ලදැයි කීයේය. එසේ වීනම් තෙපි ගොස් හොඳට පැන් අඩු කිරි පමනක් පිස බලුට කවා සයනයට නංවා මඳ නින්දට බැසගත් කල්හි කලින් කියන ලද වස්තු සතර විචාරව. එවිට තොපට එවා තුබූ තැන් කියන්නේය. එයින් මගේ කථාව සැක හැර දනුවයි වදාළ සේක. සුභ මාණවකයා, මේ බලුතෙම මගේ පියාල, ඉදින් මෙය සත්‍ය වන්නේ නම් මම වස්තු ධනය ලබන්නෙමි. එසේ නොවුනහොත් ශ්‍රමණ ගෞතමයන්ට මුසාවාදයෙන් නිග්‍රහ කරමි යන මේ කරුණු දෙකින් ම සතුටු වී ගෙට ගොස් බුදුන් කී පරිදි කළේය. බල්ලා මඳ නින්දට වන්කල්හි කලින් සඳහන් කළ නිදන් වස්තුව විචාලේය. එවිට බලු මොහු විසින් මා හඳුනා ගත්විහයි හුං, හුං යන අනුකරණය පවත්වමින් ධනය සඟවා තිබූ තැනට ගොස් පයින් පොලොව සාරා දැක්වූයේ ය. මාණවක තෙම ධනය ලැබ සතුටුව, 'ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ භවයෙන් වැසී පවත්නා මෙබඳු කරුණු පවා ඉතා ප්‍රකටව දන්නා සේක. එහෙයින් උන්වහන්සේ ඒකාන්තයෙන් භාග්‍යවතුන් වහන්සේ සර්වඥ යයි අතිශය ප්‍රසන්න විය. ප්‍රශ්න දාහතරක් සකස් කළේය.

**අංගවිජ්ජා පාඨකො** හෙතෙම වූ කලී අංග විජ්ජා පාඨකයෙකි. මෙම ධර්ම නමැති ත්‍යාගය පිළියෙල කොට ශ්‍රමණ ගෞතමයන් වහන්සේගෙන් ප්‍රශ්න අසන්නෙමැයි දෙවන ගමන සඳහා **යෙන භගවා තෙනුපසංකමි** භාග්‍යවතුන් වහන්සේ වෙත ගියේය. එම ප්‍රශ්න දාහතරම එකපහරින් විසඳන්නේ **කම්මවසසතා** යනාදිය කීහ. එහි කර්මය වූ කලී තමාගේ එක්තරා භාණ්ඩයකි. **කම්මසසකා** යනු කර්මය මොවුන්ගේ දායාද භාණ්ඩයකුයි **කම්මදායාද** යනුවෙන් දැක්වේ. කර්මය මොවුන්ට (යොනි) කාරණයකැයි යනුවෙන් = **කම්මයොනි.** කර්මය මොවුන්ට නෑකෙනෙකි. **කම්මබන්‍ධු.** කර්මය මොවුන්ට පිළිසරණ පිහිටති. **කම්ම**

පටිසරණ. යදිදං හීනප්පණීතතාය යනුවෙන්, යම් මේ කර්මය 'තෝ හීන කෙනෙක් වෙව, තෝ ප්‍රණීත කෙනෙක් වෙව. තෝ අල්පායුකය. තෝ දීඝායුකය. -පෙ- තෝ පැණවත්ය යනුවෙන් මෙසේ හීනපණීතතාව බෙදා දැක්විය. එය අන් කිසිවෙක් නොකරයි. හුදෙක් කර්මය මැයි මෙසේ ඇතිකල්හි විභජතී - බෙදා දක්වයි යන අර්ථයයි.

මෙසේ විසඳූ කල්හිද මාණවක තෙම එහි අරුත් නොදත්තේය. මානය ඇසුරු කළ හෙතෙම පණ්ඩිතමානී වූයේ, තමා හා සම වූ කෙනෙකු නොදකියි. ඔහුගේ මානය නැතිකිරීම පිණිස බුදුරද පළමුව අබබොධය දුෂ්කර කොට කියම්. ඉන්පසු නොදන්නේ මා අයදිනේය. මම ඔහුට යාඥා කළ කල්හි (පැහැදිලි කර) කියම්. එවිට ඔහුට මෙය සාර්ථක වන්නේ යයි මෙසේ වදාළහ. මානවක තෙම තමාගේ නොදත් බව, තේරුම් ගැනීමට අපහසු බව ප්‍රකාශ කරන්නේ නබොහං ආදිය කීහ. සමනෙතන යනු පරිපූර්ණ වූ සමාදිනෙනන යනු ගන්නා ලද පරාමර්ශනය කරන ලද, අපපායුක සංවතතනිකා එසා යම් මේ ප්‍රාණඝාත කර්මය මෙය අප්පායුක සංවත්තනික ප්‍රතිපදාව නම් වන්නීය. කෙසේනම් එය අල්පායුෂ්ක කෙරේ ද, කර්මයෝ සතර දෙනෙකි. උපපීලක උපචෙඡදක ජනක උපස්ථම්භක වශයෙනි.

බලවත් කර්මයකින් උපදවන ලද්ද පවත්නා කල්හි උපපීලකං මෙනම් කර්මය පැමිණ අර්ථ වශයෙන් මෙසේ කියන්නාක් වැනිය. ඉදින් මම පළමු දන්නේ නම් තට මම මෙහි උපදින්ට ඉඩ නොදෙන්නෙමි. සතර අපායෙහි උපදවන්නෙමි. වේවා යම්කිසි තැනක උපදින ලදද, මම උපපීලක කර්මය වෙමි. පෙළා (නිරොජ) ඔජාරහිත (නියුසං) යුස රහිත, (විපත්) එලවයි. සම්පත් විනාස කරයි. දරුවාට මව්කුස පිළිසිඳ ගත් දින සිට බිහිවූ දින සිට සැනසීමක් හෝ සැපයක් හෝ නොවේ. මව් පිය දෙදෙනාට ද පීඩා ඇතිකරවයි. මෙසේ විපත් එලවයි. කෙසේ භෝග විනාස කෙරේ ද? දරුවා මව්කුසින් බිහිවූ දින සිට ගෙදර සම්පත් ජලය පැමිණ ලුණු මෙන් රජවරුන්ගේ මගින්ද විනාසයට පත්වෙයි. කළ ගණන් කිරිදෙන දෙන්නු කිරි නොදෙත්. මනා හික්මුණු ගොන්නු නපුරු වෙත්. අන්ධ වෙත්. කොර වෙත්. ගාලෙහි ලෙඩ පැතිරෙයි. දාසාදීහු කියන දෙය නොකරත්. වපුරන ලද්දෙන් අස්වැන්න නොදෙයි. ගෙදර අය ගෙදර ද, කැලේට ගිය අය කැලේ දී විනාස වේ. කුසගිනි නිවාගැනීම ද දුර්ලභ වෙයි. ගැබ් පෙරහැර ගෙනදෙයි. වැදූකල්හි මවගේ තනය සිඳුරුවෙයි. දරුවා පෙරහැර

නොලබන්නේ පෙලුනේ ඕජස් රහිත වූයේ යුස රහිත වූයේ කසට වූයේ වෙයි. මේ උපපීලක කර්මය නම් වේ.

දීර්ඝායුෂ්ක කර්මයකින් උපන්නහුට උපච්ඡේදක කම්මං මෙම කර්මය පැමිණ ආයුෂ සිඳ දමයි. යම්සේ පුරිසයෙක් උසභ අටක් දුර යා හැක. සරයක් විදින්නේ ද, එයින් අන්‍ය වූවෙක් ධනුවෙන් මිදුනු මුගුරෙන් පහර දී එහිම හෙලන්නේය. එසේම දීඝායුෂ්ක කර්මයෙන් උපන්නහුට උපච්ඡේදක කම්මං මේ කර්මය පැමිණ ආයු සංස්කාරය සිඳියි. කුමක් කෙරේද? හොරුන් සිටින වනයකට ප්‍රවේශ කරවයි. දරුණු මසුන් ගහන ජලාශයකට හෙලයි. මෙයින් අන්‍ය වූ උවදුරු විපත් ඇති තැනකට පමුණුවයි. මෙය උපච්ඡේදක කම්ම නම් වේ. උපඝාතකං යනු ද මෙයට නමකි. පටිසන්ධිය ගෙනදුන් කර්මය ජනක කම්ම නම් වේ. අප්පභොග කුලවල උපන්නහුට භෝග සම්පත් ලබාදීමට හේතුවෙයි. මෙය උපස්ථම්භක කම්ම නම් වේ. මෙම හතරින් පළමු දෙක අකුසලයන් පිළිබඳවම වේ. ජනක කර්මය කුසල ද අකුසල ද වේ. මෙම උස්ථම්භකය කුසලය පිළිබඳ වේ.

එහි ප්‍රාණඝාත කර්මය උපච්ඡේදක භාවයෙන් අල්පායුෂ්ක භාවය පිණිස පවතින්නේය. ප්‍රාණඝාතකයා කරන ලද කුසල කර්මය ද උළාර නොවේ. දීර්ඝායුෂ්ක ප්‍රතිසන්ධියක් ලබාදෙන්ට සමර්ථ නොවේ. එබැවින් ප්‍රාණඝාතිකයා අපපායුක සංවතතනික නම් වේ. පටිසන්ධියට නියමිත ආයු සංස්කාරය ද අල්පායුෂ්ක කරයි. තීරණාත්මක චේතනාවෙන් හෝ නිරයෙහි උපදවයි. පූර්වාපර චෙතනා කියන ලද අයුරින් අල්පායුෂ්ක වේ. දීඝායුක සංවතතනිකා එසා යන මෙහි කුඩා කර්මයකින් උපතක් සිදුවූ කල්හි මෙම ප්‍රාණඝාතයෙන් වෙන්වීම නම් වූ විරති කර්මය පැමිණ අර්ථ වශයෙන් මෙසේ කියන්නේ නම් වෙයි. 'ඉදින්, මම පළමුව දන්නෙම් නම් මම ඔබට මෙහි උපදින්න ඉඩදෙන්නේ නැත. දිව්‍යලෝකයෙහි ඔබ උපදවාලන්නෙමි. දැන කොහේ හෝ ඉපදුනා වේ. එසේ වේවා මම උපත්ථමභක කමමං නාම මෙනම් කර්මය වෙමි. ඔබට උපස්ථම්භක වෙමි. කුමක් කෙරේද? උවදුරු නසයි. භෝග සම්පත් උපදවයි. දරුවාට මව්කුසින් බිහිවූ දා සිට මව්පියන්ට සැපම වෙයි. මිනිසුන්ට ප්‍රකෘතියෙන් යම් උවදුරු වෙත්ද, ඒ සියල්ල පහව යත්, මෙසේ උවදුරු නසයි. දරුවාට මව්කුසින් උපන්දින පටන් ගෙදර සම්පත්වල ප්‍රමාණයක් නැත. නිධන් පෙරපසින් ද පසුපසින් ද පෙරලෙමින් ගෙට පිවිසෙත්. මව්පියෝ අනුන්

විසින් තැන්පත් කරන ලද ධනයට අයිතිකරුවෝ වෙත්. දෙන්නු බොහෝ කිරි ඇත්තාහු වෙත්. ගොන්නු මනාව හික්මුනාහු වෙත්. ගොවිතැන් සරුවෙත්. වර්ධනය සුදුසුය. තාවකාලිකව හෝ දුන් ධනය ඉල්ලීමක් නොමැතිව තෙමේම ගෙනැවිත් දෙති. දාසාදීහු සුවච වූවාහු වෙති. කර්මාන්ත නොපිරිහෙත්. දරුවෝ ගැබෙහි සිට ගැබ් පෙරහැර ලබති. ළදරු වෙද්දු නැවැත්තුවාහු වෙත්.

ගහපති කුලයෙහි උපන්නේ සිටු තනතුර ද අමාත්‍යකුලාදියෙහි උපන්නේ සේනාපති තනතුරුද ලබයි. මෙසේ භෝග උපදවයි. එම උවදුරු රහිත මහාභෝග සම්පත් බොහෝ කල් පවතී. මෙසේ ප්‍රාණඝාත නොකිරීමේ කර්මය බොහෝකල් පැවැත්ම පිණිස පවතී. ප්‍රාණඝාත නොකරන්නවුන් කරන ලද අන්‍ය වූ කුසලද උළාර වේ. දීර්ඝායුෂ්ක ප්‍රතිසන්ධියක් ලබාදෙන්ට සමර්ථ වෙයි. මෙසේ දීඝායුක සංවත්තනික වූයේ වෙයි. ප්‍රතිසන්ධියම හෝ චේවා නියමකොට දීර්ඝායුෂ්ක කරයි. තීරණය වූ චේතනාව නිසා හෝ දෙව්ලොව උපදවති. පූර්වාපර චේතනාවන් විසින් කී අයුරින් දීර්ඝායුෂ්ක වේ. මේ ක්‍රමයෙන් සියලු ප්‍රශ්න විසඳීමෙහිදී අර්ථය දතයුතුය. විහෙඨ කම්මාදිය පවත්නා කල්හි අවුත් අර්ථ වශයෙන් එසේ කියන්නාක් මෙන් උපපීලහ කර්මයෙන් සම්පත් හානිය උපදවා පිළිදැගුම් නොලබන්නහුට රෝග ඉපදීම් ආදිය හෝ පෙළීම් ආදිය හෝ එම කුලයාගේ උදාර බවක් නැතිකම නිසා හෝ මුලපටන් පටිසන්ධි නියමයෙන් හෝ කියන ලද අයුරින් පූර්වාපර චේතනා වශයෙන් හෝ බොහෝ ආබාධ ඇතිකරවත්. ප්‍රාණඝාතය නොකරන්නවුන් මෙන් හෝ පෙළීම් ආදිය නොකරන්නවුන් මෙන් අල්ප වූ ආබාධ ඇත්තෝ වෙති. මෙහි වනාහි, ඉසසාමානකො යනුවෙන් ඊර්ෂ්‍යාවෙන් සම්ප්‍රයුක්ත සිත් ඇත්තේ.

උපදූසසති ඊර්ෂ්‍යා වශයෙන් උපක්‍රොස කරන්නේ කිපෙයි. ඉසසං බන්ධති යනුවෙන් යව මිටියක් බඳින්නාක් මෙන් යම්සේ නොනැසේ ද මෙසේ බැඳීමෙන් (ඊර්ෂ්‍යාව) තබයි. අපෙපසකෙඛා යනුවෙන් තේජස අඩුවීම, උසස් බව, අල්ප වීම, පිරිවර අල්පවීම රාත්‍රි කාලයෙහි යවන ලද ඊටයක් මෙන් දැක්වේ. ඉඳුල් අතින් යුතුව සිට ජලය දෙන්නෙකු ද නොලබයි. න දාතා මසුරු බැවින් නොදෙන්නේය. අභිවාදන ආදිය නොකිරීමෙහිලා උපපීලක, උපඝාතක කර්මයෝ නැත. (අභිවාදනාදිය) නොපවත්නා කල්හි නීච කුලයන් හෝ උසස් කුලයක්, උසස් කුලයක්,

නීච කුලයක්, කළ හැක. පටිසන්ධියෙහි නියමකොට නීචකුලීන කර්මය නීච කුලයෙහි උපදවයි. උච්චාකුලීන කර්මය උසස් කුලයෙහි උපදවයි.

න පරිපුච්ඡිතා හොති යන මෙයින් නොවිචාරීමෙන් නිරයෙහි උපදවන බවත්, නො විචාරන්නා මෙසේ කළයුතු වන්නේය. මෙය නොකළ යුතු යයි නොම දනියි. නොදත්තේ කළයුත්ත නොකරයි. නොකළ යුත්ත කරයි. එහෙයින් නිරයේ උපදියි. ඉති ඛො -පෙ- හීනපපණීතාය යනුවෙන් ශාස්තෘන් වහන්සේගේ දේශනය අනුසන්ධිය පරිදි දේශනාව නිමකළ සේක.

සුභ (චූලකම්ම විභංග) සූත්‍ර වර්ණනාව නිමි.

# 7

**දානකථාය පකිණ්ණක විනිච්ඡයො**

මෙය දානකථාවන් පිළිබඳව දක්ෂතාවය ඇතිවීම පිණිස ඒ ඒ තැන්වල පාලි අට්ඨකථා ආදියෙහි දක්වන ලද අයුරින් මෙම පකිණ්ණක විනිච්ඡය ඉදිරිපත් කෙරේ. 'අපුණ්‍යෝ දාන පහකි. ලෝකයෙහි පුණ්‍ය සම්මත වූත්, මජ්ජදානය සමජ්ජදානය ඉත්‍ථීදානය උසභදානය චිත්තකම්ම දානය යනුයි. පරිවාර පාලියෙහි කියන ලදී. තත්‍ථ සමජ්ජදානං යනු පින්කම් පිණිස නැටීම් නාට්‍ය ආදියද, අනුන් විසින් පෙන්වීම උසභදානං දෙනුන් අතර ගැබ් ගැනීම් සඳහා දෙනුන් මුදාහැරීම, චිත්තකම්ම දානං ආවාස කරවා එහි චිත්‍රකර්ම කිරීම සුදුසුය. මෙහි වනාහි මෛථුන ධර්මයේ යෙදෙන ඉත්‍ථීපුරුෂ රූපයන්ගේ චිත්‍ර සඳහා කියන ලදී. මේ පස සමහරෙකුට පුණ්‍ය සම්මත වෙති. නැවත අපුණ්‍ය යයි අකුසල යයි අට්ඨකථා ටීකාවල කියන ලදී. මෙහිද තුණුරුවන් පිදීම සඳහා කල නාට්‍ය

උත්සව කුසල් වේයයි දතයුතුය. කියන ලදී. ථෙරගාථායං (ථෙය ථෙරගාථා නොව ථෙරකථා විය යුතුය.)

වාදිතෙනච නච්චෙන, සබ්බතාල සමාහිතො
සම්මුඛංචිය සම්බුද්ධං උපට්ඨිං බොධිමුත්තම

තෙන චිත්තප්පසාදෙන විමානං උපපජ්ජහං
සට්ඨිතුරිය සහස්සානි පරිවාරෙනති මං සදා

"වාදිතයෙන් ද, නෘත්‍යයෙන් ද කුට් තාලම් ආදියෙන් ද යුක්ත වූයේ බුදුරජාණන් වහන්සේ ඉදිරියට මෙන් උතුම් බෝධිය වෙත එළඹියෙමි."

එහි සිතේ පැහැදීම හේතුවෙන් මෙම දෙව් විමනෙහි උපන්නෙමි. සැටදහසක් දෙව්වරු මා හැමදා පිරිවරත්.

යම්කලෙක්හි සද්ද දානයක් දෙන්නෙමැයි බෙර මිහිඟුබෙර ආදිය අතුරෙන් එක්තරා තූර්ය භාණ්ඩයකින් තෙරුවනට උපහාර කෙරෙති. සද්ද දානය දෙයි. බෙර ආදිය වාදනය කරවයි. එකල්හි එය දානමය වෙයි යනුවෙන් අත්ථසාලිණියෙහි කියන ලදී. යම් ශබ්දයක් තුණුරුවන්ට කරනු ලබන පූජාවෙන් තොරව කෙරේද? එය කී අයුරින් අකුසල නම් වේ. එය එසේමැයි ගාමිණි සංයුත්තයෙහි 'ගාමිණිය, පෙර සත්ත්වයෝ නොපහ වූ රාග ඇතියහ. රාග බැඳුමෙන් බැඳුනාහුය. ඔවුන්ට නළු තෙමේ රඟමැද නැටුම් මැද යම් ධර්මයෙක්හි ඇලුම් කටයුත්තාහු නම්, ඔවුන් බෙහෙවින් රාග සහිත වීම පිණිස එලවා දක්වයි. ගාමිණි, පෙර සත්ත්වයෝ නොපහ වූ දෝස ඇත්තාහුය. දෝස බන්ධනයෙන් බැඳුනාහුය. ඔවුන්ට නම් තෙමේ රඟමැද නැටුම්ද යම් දහමක් ද්වේෂයට කරුණු වෙත්නම් ඔවුන් බෙහෙවින් ද්වේෂ සහිත වීම පිණිස එලවා දක්වයි. ගාමිණි පෙර සත්ත්වයෝ නොපහ වූ මෝහ ඇත්තාහුය. මෝහ බැඳුමෙන් බැඳුනාහුය. ඔවුන්ට නළුතෙමේ රඟමැද නැටුම් මැද යම් ධර්මයක් මෝහයට කරුණු වෙත්නම් ඔවුන් බෙහෙවින් මෝහ සහිත වීම පිණිස එළවා දක්වයි. හෙතෙම මත් වූයේ පමා වූයේ මෙරමා මත් කරවා, පමා කරවා මරණින් මතු පහාස නම් නිරයෙක් වේනම් එහි උපදී. ඉදින් ඔහුට යම් ඒ නළුවෙක් රඟ මැද නැටුම් මැද සැබෑ වෙනුවට බොරුවෙනුත් ජනයා

සිහි ගන්වා ද ඇලුම් කරවා ද, හෙතෙම මරණින් මතු පහාස නම් දෙවියන්ගේ සහභාවයට පැමිණේය යනුවෙන් මෙබඳු දෘෂ්ටියක් වේනම් ඒ ඔහුගේ මිථ්‍යා දෘෂ්ටියකි. ගාමිණිය මිසදිටුගත් පුද්ගලයාට නිරය හෝ තිරිසන්යෝනිය හෝ දෙගති අතුරෙන් එක්තරා ගතියෙක් කියමි." තසථ පහායොනාම නිරයොනි, අවීචියෙහි එක් කොටසක් නටන්නාක් මෙන් ගයන්නාක් මෙන් නළුවෙස් ගෙනම පැසෙත්. ඒ සඳහා මෙසේ කියන ලදී.

දානය නම් චේතනා දාන දෙය්‍ය ධර්මදාන යනුවෙන් ද්විධ වේ. එහි චේතනා දානය නම් අටඨ කාමාවචර කුසලවසෙන අටඨවිධං පුණ්‍යක්‍රියා වස්තු වශයෙන් දානමයං සීලමයං යනුවෙන් දෙවැදෑරුම් වේ. කය, වචී, මනො කම්ම වශයෙන් තෙවැදෑරුම් වේ. පටිසන්ධි වශයෙන් නවවිධ වේ. විපාක දාන වශයෙන් සෝලසවිධ වේ. යමෙකුට දන් දිය යුතුයයි දාන විෂයෙහි සිත නියමිත වූවා වෙයි. නැමුනේ වෙයි. නිතර නිතර පහලවූයේ වෙයි. සුදුසු දේසයෙහි වාසය, සත්පුරුෂ ආශ්‍රය ලැබීම, බණඇසීම, පෙරකළ පින් ඇති බවද, යොනිසෝ මනසිකාරය, වැළඳ ගන්නා ලද්දේ වේ ද, ඔහුට මේ ප්‍රත්‍යය හේතුවෙන් ඇතිවූ කුසල චේතනා දාන ධර්මය උපදවයි. අන් පරිදි නොවේ.

එයද යම්කලෙක්හි සද්ධා බහුල ආනිසංස දන්නා බැවින් දෙය්‍ය ධම්ම - පටිගගාහක - සම්පත් නැමැති ප්‍රත්‍ය ලැබීමෙන් තුටුපහටු වූයේ පුබ්බකතපුඤ්ඤ සංවත්තනික කම්ම විපාක වූ ඉන්ද්‍රිය පරිපාක බව, කෙලෙස් දුරුකිරීම, ධර්ම සාකච්ඡා කිරීම, පැනවතුන් සේවනය කිරීම ආදී ප්‍රත්‍ය ලාභයෙන් ද, අත්තීදින්න ආදි න්‍යාය පෙරටුකොට ඇති සම්මා දිට්ඨිය පෙරටුකොට කාය - චිත්ත දෙදෙනාගේ යහපත් බව දානාදි පින්කම් පිළිබඳ පුරුද්ද ආදි ප්‍රත්‍ය ලැබීමෙන් එහි නොගැලී අනිකෙකු විසින් නොමෙහෙයවන ලදුව දානය දෙයි. එකල්හි සොම්නස් සහගත ඤාණ සම්ප්‍රයුක්ත අසංඛාරික සිත වෙයි. යම් කලෙක්හි කී අයුරින් තුටු පහටුව සම්මා දිට්ඨිය පෙරටුකොට නොමිදුන ත්‍යාග චේතනාවෙන් ගැටීමෙන් හෝ අනුන් විසින් උත්සාහවත් කිරීමෙන් දන්දෙයිද එකල්හි සොමනස්ස සහගත, ඤාණ සම්ප්‍රයුක්ත සසංඛාරික සිත ඇතිවේ.

යම්කලක ඤාතීන්ගේ ප්‍රතිපත්ති දැකීමෙන් ඇතිවූ පුරුද්දෙන් ළමයි භික්ෂූන් දැක සතුටට පත්ව වහා අතට පත් කිසිවක් දෙත්. එකල්හි

සොමනස්ස සහගත ඤාණවිප්පයුත්ත අසංඛාරික සිත ඇතිවේ. දෙන්න දෙන්න යයි නෑයන්ගේ මෙරහය වීමෙන් දෙත්ද එකල්හි එයම සසංඛාරික වෙයි. යම්කලෙක්හි කියන ලද්දෙහි සොම්නසින් වෙන්ට දන්දෙත්. සෙසු උපෙකඛා සහගත සිත්හතර උපදියි. මෙසේ කාමාවචර කුසල චේතනා වශයෙන් අටවැදෑරුම් වේ.

යම්කලෙක්හි දෙය්‍ය ධර්මයක් ලැබ මවිසින් දනක් දිය යුතුයයි දෙයි. එකල්හි දානමය වෙයි. යම්කලෙක් දියයුතු වස්තුවක් ලැබ මගේ කුලවංසයේ පැවැත්වූ කුලසිරිතකි. කුල වාරිත්‍රයකැයි දෙයි ද එකල්හි සීලමය වේ. මෙසේ පුඤ්ඤකිරිය වත්‍ථු වශයෙන් දෙවැදෑරුම් වේ. යම්කලෙක්හි සිය අතින්ම දෙයි. එකල්හි කායකම්ම නම් වේ. යම්කලෙක්හි අඹු-දරු දාසාදිය අණකොට දන් දෙවාද, තදා වචීකම්මං නම් වේ. යම් කලෙක්හි එම විද්‍යමාන වස්තුන් පිළිබඳ සිතයි ද, එකල්හි මනො කම්ම නම් වේ. විනය දේසනාවට අනුව දෙමි, කරමි යනුවෙන් වාග්භේදය කරන ලද්දේද, මෙම ලකුණින් දාන නම් වේ. අභිධර්ම දේශනාවට අනුව විද්‍යමාන වූ වස්තුව පිළිබඳව දෙමි යයි සිතින් සිතූ කල සිට කුසල් වේ. පසුව කය වචන දෙකින් කළයුතුය. කරන්නේ යයි ද කියන ලදී. සම්මොහ විනොදනියෙහිඃ ඉන්ද්‍රිය ධර්මයන්ගේ ස්වභාවය සම්පාදනය කිරීමේදී ප්‍රඥාව බලවත් වී ශ්‍රද්ධාව මද වුවහොත් කපටියෙකු වැනි වේ. රෝග අසාධ්‍ය අවස්ථාවෙහි බෙහෙත් එලවීම මෙනි. චිතෙතාත්පාද මාත්‍රයෙන්ම කුසල් වේයයි ප්‍රමාණ ඉක්මවා ගමන්කොට දානාදි පින්කම් නොකරන්නෝ නිරයෙහි උපදියි යයි කියන ලදී. මෙසේ කාය - වචී මනෝ වශයෙන් කර්මය තෙවැදෑරුම් වේ. එම කර්මය වනාහි පටිසන්ධිය ගෙනදෙන්නේ විපාකය පැසවන්නේ, කාමසුගතියෙහිම නව ආකාර කාමාවචර පටිසන්ධිය ගෙන දෙයි. අපාය, කාම - රූප භූමිවල සුදුසු පරිදි සොලොස් ආකාර ප්‍රවෘත්ති විපාක ගෙන දෙයි. කථං කෙසේද? අටවැදෑරුම් ඒ දානමය කුසලයන්හි ප්‍රවෘත්ති විපාක කාලයෙහි පළමු අන්තිම භාගයන්හි පැවැති කුසලයන්ගෙන් පිරිවැරූ පසුව හෝ ආසේවන ප්‍රත්‍ය ලාභයෙන් එය ඇසුරුකළ කර්මය උත්කෘෂ්ඨ නම් වෙයි. යම් කර්මයක් අකුසලයන් විසින් පිරිවැරූ පසුව හෝ මගෙන් සිදුවූ වරදකැයි, විපිළිසර ගතියක් ඇතිවූයේ විසින් යුක්ත වූයේ එම කර්මය ඕමක නම් වේ. එහි යමක් උත්කෘෂ්ට ද එය ත්‍රිහේතුක වේ. එය සිවුවැදෑරුම් ප්‍රතිසන්ධින් අතුරෙන් එකම ප්‍රතිසන්ධියකදී ප්‍රවෘත්ති වශයෙන් සෝලස ආකාර විපාක ගෙන දේ. ඔමත වූ ත්‍රිහේතුක කර්මයද ද්‍විහේතුක ඕමක කර්මයද, එය සතර

ද්විහේතුක ප්‍රතිසන්ධීන් අතුරෙන් එකක්ම ගෙන දී, පසුව ත්‍රිහේතුක වර්ජිත, ද්වාදස විපාකයන් ගෙනදෙයි. යම් ඔමක ද්විහේතුක කර්ම මිතිස්ලොව, ජාතිඅන්ධ, ජාතිබධිර, නපුංසක, උභතො ව්‍යඤ්ජන ආදී අහේතුක පටිසන්ධි ලබාදී පසු අහේතුක අටවැදෑරුම් විපාකයෝ ලබාදෙයි. එකම චේතනාවක් එකම පටිසන්ධියක් දෙයි. ප්‍රවෘත්ති විපාක වනාහි අනේක ජාති සත සහස්‍රයන්හි දෙන්නේමය.

එහි එක් ජවන් චිත්ත වීථියක ජවන් සිත් හත අතුරෙන් පඨම ජවන චේතනා තොමෝ දිට්ඨධම්ම වෙදනීය නම් වේ. මෙම ආත්මභාවයේ දීම විපාක දෙයි. විශේෂයෙන් එම දිට්ඨධම්මවේදනීය කර්මය පරිපක්ක අපරිපක්ක වශයෙන් ද්විවිධ වේ. කියන ලද්දේ උපරි පණ්ණාසක අර්ථ කථාවේ. යම් පළමු වයස් කළ කර්මය පළමු වයසේදීම හෝ මධ්‍යම වයසේදී හෝ පශ්චිම වයසේදී හෝ ද, මධ්‍යම වයසේ දි කරන ලද්ද මධ්‍යම වයසේදි හෝ පශ්චිම වයසේදී ද, පශ්චිම වයසේදී කරන ලද්ද එම වයසේදීමද විපාක දෙයි. මෙය දිට්ඨධම්ම වෙදනීය නම් වේ. යම් දිට්ඨධම්ම වෙදනීය කර්ම කොටසක් සත් දවසක් ඇතුලත විපාක දෙයිද එය දිට්ඨධම්ම වෙදනීය නම් වේ. එය පරිපක්ක වෙදනීය නම් වේ. එහිලා කාකවලී, පුණ්ණ මල්ලිකාදේවී, ආදීන්ගේ වස්තු දතයුතුය. යමක් එසේ විපාක දෙන්ට අසමත් වුවොත් එය අහෝසිකම්ම නම් වේ. අවිපාක බවට පැමිණේ. එහි සත්වන ජවන චේතනා තොමෝ උපපජ්ජවෙදනීය නම් වේ. එය දෙවන ආත්මභාවයේදී විපාක දෙයි. එසේ නොහැකි වුවහොත් එය අහෝසි කම්ම නම් වේ. දිට්ඨධම්ම වෙදනීය උපපජ්ජවේදනීය අතර වූ පස් ජවන චේතනාවෝ අපරාපරියවෙදනීය නම් වේ. එය 'අනාගතෙ යදා ඔකාසං' යම්කලෙක්හි ඉඩලබයි ද එකල්හි විපාක දෙයි. සසර පැවැත්ම තිබෙනතුරු එය අහෝසිකම්ම නම් නොවේ. එයින් මිදුනු සත්ත්වයෙක් නම් නැත්තේමය. එහි අල්ප ඵල - මහප්ඵල භාවය වෙලාම දක්ඛිණ විභංග සූත්‍රවල දැක්වූ අයුරින් දතයුත්තේය. මෙසේ පටිසන්ධි දාන වශයෙන් ද විපාක දාන වශයෙන් ද චේතනා දාන දතයුතුය. සීලමය භාවනාමය වශයෙන් ද මෙම ක්‍රමයම දතයුත්තේය.

දෙය්‍යධම්ම සංඛ්‍යාත දානය : ආමිසදාන, අභයදාන, ධම්ම දානයයි දියයුතු වස්තු වශයෙන් ත්‍රිවිධ වේ. එහි ආමිස දානය අජ්ඣත්තික බාහිර යයි දෙඅයුරින් වේ. එහි බාහිරඃ-

අන්නංපානං වත්ථං යානං මාලාගන්ධ විලෙපනං
සෙය්‍යා වසථපදීපෙය්‍යං දානවත්ථු ඉමෙ දස

'ආහාර, පාන, වස්ත්‍ර, වාහන මාලා - ගන්ධ - විලෙපන, යහන්, ආවාස, පහන් හා ඊට අවශ්‍ය දේ යනුවෙන් දාන වස්තු දහයකි.'

එය විසේස වශයෙන් විමාන වත්ථු ආදියෙන් දතයුතුය. අරමුණු වශයෙන් රූප - ශබ්ද - ගන්ධ - රස - පොට්ඨබ්බ - ධම්ම වශයෙන් සවැදෑරුම් වේ. එහි නීලාදි වර්ණවත් පුෂ්පයන් අතුරෙන් යමක් ලැබ වර්ණ වශයෙන් වැළඳගෙන මේ වර්ණ දානය මගේ යයි බුද්ධාදීන් පුදයි. එකල්හි එය රූප දාන නම් වේ. යම්කලෙක්හි ශබ්ද දානයක් දෙමැයි බෙර මිහිඟුබෙර ආදිය දෙයි. වාදනය කරවයි. මිහිරි ස්වරයන් සඳහා බෙහෙත් දෙයි. ධර්ම ශ්‍රවණය සඳහා (ඝෝෂා කරයි.) දැනුම් දෙයි. මිහිරි ස්වරයෙන් කියයි. බණකතා කියයි. එකල්හි සද්දාන නම් වේ. මූලගන්ධ මූලරස ආදිය දාන වශයෙන් දීම ගන්ධදාන රසදාන වශයෙන් දතයුතුය. මඤ්චා, පීඨ ආදි ශරීරයට ස්පර්ශය ගෙනදෙන වස්තුන් දාන වශයෙන් දීම ඵොට්ඨබ්බදාන නම් වේ. ධම්මාරම්මණ දානය නම්, ඔජස් සහිත පානවර්ග ජීවිතදාන වශයෙන් දතයුත්තේය. එහි යම්විටක මේ ඕජෝ ගුණයෙන් යුත් මගේයයි ගිතෙල් වෙඬරු ආදිය දෙයි. ජීවිත දානනකි සලාක භත්ත ආදිය දෙයි. අපහසු වූවන්ට බෙහෙත් ආදිය දෙයි. වෙදුන් එලවයි. දැල් ආදිය එලාදමයි. ජීවිත ආරක්‍ෂාව සඳහා (මාඝාත) සතුන් මැරීම තහනම් ආදිය කරයි. එකල්හි ධම්මාරම්මණ දාන නම් වේ. මෙසේ බාහිර දාන ආදියද දතයුතුය. අධ්‍යාත්මික දානය නම් යම් අධ්‍යාත්මික වස්තුවක් යාචකාදීන්ට එකාසනයෙන් හිත පිණිස පවතීද, අත් - පා - ඇස් යනාදී අංග ප්‍රත්‍යංගයන්ගෙන් යම් යම් දෙයක් ප්‍රයෝජනවත් වේද, එය ඔහුට දිය යුතුය. වෙනත් අර්ථයක් අනිකෙකුට නොවේ. වෙහෙසට පත්කරනු කැමැති මාරකායික මාරපිරිස්වලට අයත් වූවන්ට හෝ උම්මත්තකයන්ට නොදිය යුත්තේය.

එහි ද පුත්‍ර - ධන, ආදි බාහිර වස්තු පරිත්‍යාගය දාන පාරමී නම් වේ. තමාගේ ශරීරාංග පරිත්‍යාගය දාන උපපාරමී නම් වේ. තම ජීවිත පරිත්‍යාගය දාන පරමත්ථ පාරමී නම් වේ. එසේම එම ත්‍රිවිධ වස්තුන්ගේ මූලික හේතුන් ඉක්ම නොයන ලෙස තෙවැදෑරුම් සීල පාරමිතාව ද එසේම එහිම ආලය අතහැර නික්මීත් වශයෙන් නෙක්ඛම්ම පාරමිතාව ද,

එහිම තණ්හාව සමූලඝාතනය කොට, හිත අහිත විනිශ්චය කිරීම් වශයෙන් ප්‍රඥා පාරමිතාව ද ඔවුන්ගේ පරිත්‍යාග ආදිය සඳහා උත්සාහ කිරීම් වශයෙන් විරිය පාරමිතාව ද ඔවුන්ගේම අනතුරු ආදිය ඉවසීම් වශයෙන් ඛන්ති පාරමිතාවද ඔවුන්ගේම හේතු සත්‍යය පරිත්‍යාග වශයෙන් සත්‍ය පාරමිතාව ද ඔවුන්ගේම විනාශයක් ඇතිකල්හි නොසෙල්වෙන අධිඨාන වශයෙන් අධිෂ්ඨාන පාරමිතාව ද, ඔවුන්ගේම උපඝාතක (=නැසීම) හැඟීම් ඇති සත්ත්වයන් කෙරෙහිදු මෛත්‍රියෙන් තොරනොවීම් වශයෙන් මෙත්තා පාරමිතාවද ඔවුන්ටම උපකාර වූ ද උපකාර නොවූ ද (=අනුපකාර වූද) සත්ත්වයන් විෂයෙහි මැදහත්භාවය ලබාගැනීම වශයෙන් උපෙක්ඛා පාරමිතාව ද වශයෙන් මෙහි දස පාරමිතාවෝ දතයුත්තාහුය.

මේ ආකාර වූ මෙම ධර්මයන් විෂයෙහි බාහිර අධ්‍යාත්මික වස්තූන පිළිබඳ ආදිනව ආනිසංස ප්‍රත්‍යවේක්ෂා කළයුතුය. ඛෙත්ත - වත්‍ථු - හිරඤ්ඤ - සුවණ්ණ ආදියට අයත් වස්තූන් රජුන්ට සොරුන්ට සාධාරණ බැවින් ද, විවාද විනිශ්චයන්ට භාජන වන බැවින් ද විරෝධතාවලට කරුණුවන බැවින් ද ලැබීම හා පරිපාලනයෙහි මෙරමා වෙහෙසට පත්කිරීම හා දුශ්චරිතයන්ට හේතුවන බැවින් ද, විනාසය නිමිතිකොට ශෝක ආදි අනේකවිධ ව්‍යසනයන් ගෙනදෙන බැවින්ද මසුරුමලින් මඩිනලද සිත් ඇත්තවුන්ට, අපායෙහි ඉපදීමට හේතුවන බැවින්ද, විවිධ වූ අනේකප්‍රකාර වූ අනර්ථයන් එලවන්නාහුද වෙත්. එම වස්තූන්ගේ පරිත්‍යාගය වූ කලී ගිනිගත් ගෙයකින් මුදාගත් ධනසාරයක් වැනිය. ඒකාන්තයෙන් හිත පිණිස සැප පිණිස පවතින්නේ වෙයි. හෙතෙම සම්පත් තුනක් ඇතිකරවයි. අධ්‍යාත්මික වස්තු ද ඒකාන්තයෙන් විනාසවන විසිරීයන ස්වභාව ඇත්තේය. දුකට වස්තුවකි. රෝගයනට කැදැල්ලකි. බොහෝ දෙනට සාධාරණය. අනිත්‍යයහ. පිළිකුල්ය. අකෘතඥය. පෝෂණය කිරීමට දුෂ්කරය. ආරක්ෂා කිරීම දුෂ්කරය. අනර්ථ ගෙනදෙන්නේ වෙයි. මෙබඳු ස්වභාව ඇති ආධ්‍යාත්මික වස්තු විෂයෙහි විපිළිසර වීමකි. තැතිගැනීමකි. 'මේ මමය, මේ මම වෙමි. මේ මගේ ආත්මය වේ. යයි ගැනීම. මෙය මනාව යෙදිය යුතුය. ශ්‍රාවක පාරමී ඤාණය හෝ 'පච්චෙක බොධි ඤාණය හෝ සම්මා සම්බුද්ධ ඤාණය හෝ පිණිස මේ සිරුර අතහැරිය යුතුයයි, මෙසේ ප්‍රත්‍යවේක්ෂා කරන්නේ බාහිර මෙන්ම අභ්‍යන්තරික වූද බලාපොරොත්තු නැතිව කරදරයකින් තොරව දානාදි පුණ්‍යකර්ම සම්පූර්ණ කිරීමට හැකිවෙයි. මෙසේ මේ සියල්ල ආමිසදාන නම් වේ. තණ්හා ආදිය ආමර්ශනය කරන බැවිනි.

අභය දානය නම්, රජුන්ගෙන් සොරුන්ගෙන් ගින්නෙන් ජලයෙන් සතුරන්ගෙන් සිංහ - ව්‍යාඝ්‍ර - යකඛ - රකඛස ආදීන්ගෙන් සත්ත්වයන්ට භයක් පැමිණිකල්හි එයින් ආරක්ෂාකර ගැනීම බව දතයුතුයි. අංගුත්තර නිකායෙහි පඤ්චක නිපාතයෙහි ප්‍රාණඝාතයෙන් වැලකීම් ආදි වැලකීම් පසින් සත්ත්වයන්ගේ අභය දානය කියන ලදී.

ධම්ම දානය නම්, (ඉමෙ ධම්මා කුසලා) මේ ධර්මයෝ කුසලයෝය. මේ ධර්මයෝ අකුසලයෝය. මේ වරද සහිත ධර්මයෝය. මේ වරද රහිත ධර්මයෝය. මේ ධර්මයෝ නුවණැත්තන් විසින් ගර්හා කරන ලද්දෝය. මේ ධර්මයෝ නුවණැත්තන් විසින් ප්‍රශංසා කරන ලද්දේය. මේ ධර්මයෝ සමාදන් වීමෙන් අහිත පිණිස දුක පිණිස පවත්නාහු වෙත්. මේ ධර්මයෝ හිත පිණිස සැප පිණිස පවත්නාහු වෙති යනුවෙන් කුසල් අකුසල් කර්මපථයන් බෙදා කර්ම විපාකය මෙලොව පරලොව යයි පෙන්නා, අකුසලයෙන් වලක්වා කුසලයෙහි පිහිටුවා විපරීත නොවූ ධර්ම දේසනාවෝ වෙති. යමෙක් වනාහි මේ ධර්මයෝ අභිඤ්ඤෙය්‍යයෝය. මේ ධර්මයෝ පරිඤ්ඤෙය්‍යයෝය. මේ පහානත්‍වා දුරුකළයුතු ධර්මයෝය. මේ ධර්මයෝ අවබෝධ කළයුතු (=සච්ඡිකාතබ්බ) ධර්මයෝ ය. මේ ධර්මයෝ භාවෙතබ්බ ධර්මයෝ යයි චතුරාර්ය සත්‍යයන් විභාගකොට නිර්වානාවබෝධය සඳහා ප්‍රතිපත්ති ධර්මය දේසනා කරයි. මේ මුදුන් පැමිණි ධම්මදාන නම් වේ. මොවුන්ගේ වර්ණනා නය අත්ථසාලිනි, චරියාපිටක අට්ඨකථා ඉතිවුත්තක අට්ඨකථාවන්හි ගෙනහැර දක්වන ලද්දේය.

තුනුරුවන් විෂයෙහි කෙසේ දන්දිය යුතුද? දිවමන් බුදුරදුන්ට, ප්‍රත්‍යයෙන් උවටැන් කරන්නේ පූජා කරන්නේ ද, පිරිනිවි බුදුරදුන්ට බුදුරදුන් උදෙසා ධාතුචෛතිය ආදියට උවටැන් කරන්නේ පුදන්නේ බුදුරදුන්ට දන් දුන්නේ නම් වෙති. ධර්මයට පුදමු යයි ධර්මධර භික්ෂූන් සිවුපසයෙන් උපස්ථාන කරන්නේ පුදන්නේ ධර්මය බොහෝකල් පැවැත්මට කටයුතු කරන්නේ ධර්මදාන නම් වේ. එසේම ආර්ය සංඝයාට උපස්ථාන කරන්නේ පුදන්නේ සංඝයා විෂයෙහි දන්දෙන්නේ නම් වෙයි. අංගුත්තර අට්ඨකථාවෙහි කියන ලදී. 'ඉතා ස්වල්ප වූ පලාමිටක් පමණ වූ දානමය කුසලයක් හෝ වෙලාම - දාන ආදි කුසලයක් හෝ ඉදින් භවසම්පත් පතා භවයම ඇසුරුවන අන්දමින් වැරදි ලෙස තබන ලද්දේ වේද, එය භවයම ගෙනදීමට හැකිවේ යයි, සංයුත්ත අටුවාවෙහි කියන ලදී. 'සිල්වතෙකුට හැන්දක් පමණ ආහාර ද පස්රියන් පමණ භූමිභාගයක

පන්සලක් හෝ කර දෙන ලද්දේ ද, අනේක කල්ප සියදහසක් දුගතියෙහි වැටීමෙන් ආරක්ෂා කෙරේ. අවසන අමාමහ නිවනින් පිරිනිවීමට හේතු වේ. සියලු විමානවත්ථු - පෙතවත්ථු මේ සඳහා සාධක වශයෙන් දැක්විය හැකිය.

"යම් කුලයන්හි තිසරණ සීලය පංචසීලය එක් සලාක බතක් එක් පක්ඛික බතක් එක් වස්සාවාසිකයක් එක් පොකුණක් එක් ආවාසයක් මෙවැනි පුණ්‍යකර්මවලට නිතර පින්සිදුවෙයි. ඔවුන්ගේ ගතිය නිබඳ සොතාපන්නයකුට සමාන වේ. එම කුලයන් පිළිබඳව දසක අංගුත්තර නිකාය වර්ණනාවේ කියන ලදී. 'යමෙකුට සද්ධා - සීල - සුත - චාග - පඤ්ඤා සංඛ්‍යාත පඤ්චධර්මයෝ ඇත් ද, ප්‍රාර්ථනාවක් නැද්ද, ඔහුගේ ගතිය (අනිබද්ධා) නොබැඳුනාහ. යමෙකුගේ ප්‍රාර්ථනා ඇද්ද, පංච ධර්මයෝ නැත්ද, ඔහුගේ ගතිය ද නොබැඳුනාහ. යමෙකුට ප්‍රාර්ථනා ද පංච ධර්ම ඇත්ද ඔහුගේ ගතිය (නිබද්ධා) නිරතුරුව සිදුවේ. යම්සේ අහසට දමන ලද දණ්ඩක් අගින් හෝ මැදින් හෝ මුලින් හෝ වැටෙන්නේ යයි නියමයක් නැති. එසේම සත්ත්වයන්ගේ පිළිසිඳ ගැනීම අනියතය. එබැවින් කුසල් කොට එක්තැනකද ප්‍රාර්ථනා කළ යුතුය. මජ්ඣිම නිකායේ 'සංඛාරුපපත්ති' සූත්‍ර වර්ණනාවෙහි කියන ලදී. 'යමෙක් චීවර ආදි අෂ්ට පරිෂ්කාර හෝ පාත්‍ර සිවුරු මාත්‍රයක් හෝ සෝවාන් ආදි ආර්ය පුද්ගලයන්ට හෝ සිල්වත් පුහුදුන්ට හෝ දී, 'මගේ මෝ පරිෂ්කාර දානය අනාගතයෙහි එහි භික්ෂු භාවයට ප්‍රත්‍ය වේවායි ප්‍රාර්ථනා කරයි. ඔහුට එය බුදු කෙනෙකු හමුවීමෙන් ඉද්ධිමය පරික්ඛාර ලාභය පිණිස පවතී. එය පශ්චිම භවික සත්ත්වයාට යයි විනය ටීකාවෙහි කියන ලදී. ස්ත්‍රීන්ට චීවර දානය මහාලතාපසාධන භාණ්ඩය ලැබීමෙන් මස්තප්‍රාප්ත වේ. පුරිසයන්ට ඉද්ධිමය පාසිවුරු ආදියෙන් යයි ධම්මපද වර්ණනාවෙහි කියන ලදී. 'අපරිදිනනං' යන න්‍යායට අනුව කම්මසසකතා ඤාණයෙහි පිහිටි බොහෝ දන් දී සිල් පුරා පෙහෙවස් සමාදන්ව සැපයෙන් සැපය සම්පත්තියෙන් සම්පත්තිය වළඳ නිවන් ප්‍රාප්ත වූවන්ගේ ගණනෙහි නියමයක් නැත. (අධි මීන ප්‍රමාණයක් එසේ වූ බව පැවසේ.) විභංග අටුවාවේ කියන ලදී.

**දානකථා ප්‍රකීර්ණක විනිශ්චය**

**නිමි.**

# 8.

මහානාම සුතෙත මහානාම සූත්‍රයයි. මහානාමො යනු දශබලයන් වහන්සේගේ සුළුපියාගේ පුතාය. එක් ශාක්‍ය රජකෙනෙකි. ඔහු වනාහි, දෙව් මිනිසුන් අතර උපාසක බව ද, ඔහුගේ සීල සම්පදාව ද, සද්ධා සම්ප්‍රදාවද, චාග සම්ප්‍රදාවද පඤ්ඤා සම්පදාව දැයි යන ප්‍රශ්න පහක් අසනු කැමැත්තේ උදේ ආහාරයෙන් පසු බුදුරදුන් වෙත එළඹියේය. තත්‍ථ යතො එහි යතො යනුවෙන් බුද්ධාදි සරණාගමනයෙහි පටන්, බුද්ධං සරණං ගතො යන ආදි තන්හි, බුදෙධා යනු සියලු ධර්මයන්හි, (අප්පටිහත ඤාණනිමිත්ත) අසහාය ඤාණයට නිමිත්ත වූ අනුත්තර වූ විමොක්‍ෂ අධිගමයෙන් පරිභාවිත වූ ස්කන්ධ සංඛ්‍යාත සන්තානයක් ඇති සර්වඥතාඥානය පදට්ඨාන වූ සච්චාභි සම්බෝධිය නිසා ප්‍රඥප්ති වශයෙන් අනිසය සත්ත්වයෙකු වූ බුදුරජාණන් වහන්සේ මෙසේ කියන ලද්දේ ද? බුදෙධා යනු ඒ, මේ භාග්‍යවතුන් වහන්සේ, සයමභුය, (තමා විසින්ම සර්වඥ බව ලබාගත්තේය) අනාචරිය -කො- ගුරුවරයෙක් නැත්තෙකි. කලින් නොඇසූ විරූ ධර්මයක් පිළිබඳ සත්‍ය තමා විසින්ම අවබෝධ කරගත්තේය. එහි සර්වඥතා ඥානයට පැමිණියේ ඵලයන්හි වසීභාවය පත්වුනේ තත්‍ථ ච එම චතුසච්චබෝධි නම් වූ රහත් මගෙහි. සබ්බඤ්ඤුතං සබ්බඤ්ඤුත ඤාණයයි. රහත් මගත් සමගම සියලු බුදුගුණ රාශියම ආයේ නම් වෙයි. එහෙයින් බුදුරජාණන් වහන්සේ රහත්මගත් සමගම උපදින්නේ වෙයි. ඉක්බිති අභිනීහාරයෙහි පටන් උප්පජ්ජමාන නම් වේ. රහත් ඵලයත් සමග උපන්නේ යයි කියනු ලැබේ. පළමුකොට මෙය අර්ථ වශයෙන් බුදුරදුන්ගේ (විභාවනා) වර්ණනාවයි. ව්‍යඤ්ජන වශයෙන් යම්කිසි අර්ථයක් වේනම් එය නෙය්‍යං පමුණුවාගත යුතුය. බුදුබව පිළිබඳ සියල්ල විමොක්ඛන්තික ඤාණ වශයෙන් අවබෝධ කළහෙයින් බුද්ධ නම් වේ. යම්හෙයකින් චතුරාර්ය සත්‍ය ධර්මයක් තමා විසින් අවබෝධ කරගන්නා ලදී. අන් සත්ත්වයන්ටද අවබෝධ කරවීය. එබැවින් මෙවැනි කරුණුවලින් බුද්ධ නම් වේ. විමොක්ඛන්තික ඤාණ වශයෙන් (රහත් ඵලයාගේ) මෙහි සර්වප්‍රකාරයෙන් විරුද්ධ ධර්මයන්ගෙන් මිදුනේනුයි විමොක්ඛ නම් වේ. අග්‍ග මගයි. එහි අවසාන අග්‍ග ඵලයයි. එහි රහත්ඵලය ලැබූ කල්හි, එය ලැබීමේ හේතුවෙන් එම රහත්ඵල සංඛ්‍යාත විමොක්ඛන්තික ඤාණය සබ්බඤ්ඤුත ඤාණයත් සමග භවයට හිංසා කෙරේනුයි සරණ නම් වේ. සියලු, අනර්ථ අපාය දුක් සියලු සංසාර දුක නසයි. විනාස කෙරෙයි.

විද්ධංසනය කෙරෙයි යන අර්ථයි. සරණං ගතො යනු භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ අපගේ පිහිටයි. ගතියයි. (පැවැත්මට පිහිටයි.) පරායණ (=පිහිටයි) පිළිසරණය විපතට පියාය, යහපතට (විධාතා) බ්‍රහ්මයාය. මෙම අදහස් අනුව බුදුරදුන් සරණ ගියේ භජනය කරන්නේ සේවනය කරන්නේ පයිරුපාසනය, කරන්නේ දන්නේ හෝ අවබෝධ කරන්නේ හෝ අවබෝධ කළ මාර්ගය, අවබෝධ කළ නිරෝධයට අනුව, අනුසාසනා කළ පරිදි පිළිපදින්නේ, අපායෙසු අපතමානෙ ධරෙතීති = ධම්මො අපායෙහි නොවැටෙනු පිණිස ධරානුය ධම්ම නම් වේ. ආර්ය මාර්ගය සහ නිර්වාණයයි. ඡත්තවිමානෙ එනම් විමාන වස්තුවෙහි ආගත නයින් හෝ, එම රහත්ඵල පර්යාප්ති ධර්මය සමගම දතයුත්තාහුය. සීල දිට්ඨී සංඝාතෙන සංහතො සච්තො, සමෙතොති = සංඝො. (සීල, දිට්ඨී නම් වූ ධර්මයන්ගෙන් සංහත වූ සචිත වූ එක්වූ යන අර්ථයෙන් සංඝ නම් වේ.) අෂ්ට ආර්ය පුද්ගල සංඝ සමූහයයි. ආර්ය පුද්ගලයෝ වූ කලී දුරසිටියාහුද, තමාගේ ගුණ එකතුවෙන් එක් වූවාහුමය. මේ දෙකරුණින්ම කියන ලද අයුරින් සරණ ගියේ වෙයි.

මෙහිදී සරණාගමනය පිළිබඳ දක්‍ෂතාවයක් ඇතිවීම පිණිස, සරණ, සරණාගමනය, සරණ යන්නා, සරණාගමන ප්‍රභේද, ඵල, කිලිට්වීම්, බිඳීම් පිරිසිදු වීම් යන මෙම ප්‍රභේද දතයුත්තේය. එහි රත්නත්‍රය කියන ලද අර්ථයෙන් සරණ නම් වේ.

තුනුරුවන් පිළිබඳ පැහැදීමෙන් ඒ පිළිබඳ ගරුකිරීමෙන් දුරුකළ කෙලෙස් තත්පරායනාදි ආකාරයෙන් පැවැති චිත්තයාගේ පහලවීම සරණාගමන නම් වේ. මෙයින් සරණ ගියේ යයි ගත් ඒ අනුව ගිය පුද්ගල තෙම සරණ ගියේ වෙයි. කී අයුරින් සිත් ඉපදවීමෙන් මේ ත්‍රිවිධ රත්නයම සරණ ගියේ වෙයි. මෙය පිහිටකොට (පරායණ) සරණයට එළඹියේ යයි යන අර්ථයි. සරණාගමන වූ කලී ප්‍රභේද වශයෙන් ලෞකික ලෝකෝත්තර යයි ද්විප්‍රකාර වේ. ඔවුන් අතුරෙන් ලෝකෝත්තර සරණාගමනය දක්නා ලද සත්‍ය ඇත්තහුට මාර්ගක්‍ෂණයෙහි සරණාගමන උපක්ලේශ සමුච්ඡේද වන බැවින් ආලම්බන වශයෙන් නිර්වාණලම්බනව කෘත්‍ය වශයෙන් සියලුම රත්නත්‍රය විෂයකොට සමෘද්ධ වෙයි. අර්ථ වශයෙන් චතුරාර්ය සත්‍ය අධිගමයම, ලෝකෝත්තර සරණාගමනය වේ. ලොකියං ලෞකික සරණාගමනය පුහුදුනට ගේ සරණාගමනයයි. උපක්ලේශ විෂ්කම්භනයෙන්, ආරම්මණ වශයෙන් බුද්ධාදි ගුණ සිහිකිරීම සිද්ධ වේ. එය අර්ථ වශයෙන්,

බුද්ධාදි ගුණ විෂයෙහි 'සම්මා සම්බුද්ධො භගවා' යනාදි ක්‍රමයෙන් ශ්‍රද්ධා ප්‍රතිලාභය පිණිස පවතී. ශ්‍රද්ධාව මුල්කොට ඇති සම්මා දිට්ඨිය යි. දසපින් කිරිය වත් අතුරින් දෘෂ්ටිය ඍජුකිරීම යයි කියනු ලැබේ. මෙසේ සිද්ධවන සරණාගමනය, ආත්ම සන්නර්යාතන, තපපරයනතා - ශිෂ්‍යභාවොපගමන, ප්‍රණිපාත යයි සිවු පරිද්දකින් පවතියි. එහි අත්තසන්නියාතනං අත්ත සන්නිර්යාතන නම් අද පටන්කොට මගේ ජීවිතය බුදුන්, දහම්, සඟුන් යන තෙරුවන කෙරෙහි පවරමි. මෙසේ සසර දුකින් එතරවීම පිණිස ජීවිත පරිත්‍යාගය කිරීම අත්ත සන්නිර්යාත සරණාගමනය වේ. තපපරායණතා තත් පරායනත නම් අද පටන් කොට මම බුදුන් දහම් සඟුන් යන තෙරුවන් පිහිටකොට ඇත්තේ වෙමි. එසේ මා දරන සේක්වා. ඉවසන සේක්වායි පිහිටකොට යාම තත්පරායණාත සරණගමන නම් වේ. සිසසභාවූපගමනං සීසස භාවූපගමණ නම් අද පටන් මම බුද්ධ ධම්ම සංඝ යන තෙරුවනෙහි අතවැස්සෙක් වෙමි. එසේ දරන සේක්වා. ඉවසන සේක්වා යි ශිෂ්‍යභාවයට පැමිණීම සිසස භාවූපගමණ සරණ ගමනයයි.

පණිපාතො ප්‍රණිපාත නම් අද පටන් මම තුණුරුවන් කෙරෙහි වැඳීම්, නමස්කාර කිරීම්, ඇඳිලිබැඳ වැඳීම්, ගෞරව කිරීම් ආදිය කරමියි මෙසේ බුද්ධාදීන් කෙරෙහි උතුම් වූ වැඳවැටීම ගෞරව කිරීම ප්‍රණිපාත සරණාගමනයයි.

මෙම සතර ආකාරයෙන් ද අන්‍ය වූ ආකාරයකින් ද සරණයාම සරණ ගැනීම සරණාගමන නම් වන්නේය.

එම ප්‍රණිධාන සරණාගමනය ඤාති, භය-ආචාර්ය දක්ෂිණෙය්‍ය වශයෙන් චතුර්විධ වෙයි. එහි දක්ෂිණාර්හ ප්‍රණිපාතයෙහි සරණාගමනය සිද්ධ වෙයි. සෙස්සෙන් කෙරෙහි ප්‍රණිපාතයෙන් නොවේ. ශ්‍රේෂ්ඨ වශයෙන්ම සරණාගමනය වෙයි. ශ්‍රේෂ්ඨ වශයෙන්ම භින්න වේ. එහෙයින් මේ ලෝකයේ සියළුම සත්ත්වයන්ට උත්තම වූ අග්‍ර දක්ෂිණාර්හයන් වඳියි ද එයින්ම සරණයෙහි පිහිටියේ වෙයි. ඤාති, භය, ආචාර්ය වශයෙන් වඳින්නහු සරණයෙහි පිහිටියේ නොවෙයි. අන්‍ය තීර්ථක පැවිද්දෙකු තමන්ගේ ඤාතියෙකුයයි සලකා වඳින්නේ නම් එසේම රජුට රජ අණට බියෙන් වඳින්නකුට සරණාගමනය නො පිහිටයි. මගේ ගුරුවරයා යයි මා හික්මවන ලද්දේ යයි සිතා තීර්ථකයකුට වඳින්නකුගේ සරණාගමනය

නොම්දේ. රජුට වඳින්නකුගේ ද සරණාගමනය නො බිඳෙයි. මෙහි ද ලොව්තුරු සරණාගමනයාගේ සතර සාමඤ්ඤඵල විපාක ඵලයෝය. සියලු දුක් නැතිකිරීම ආනිසංස ඵලයයි මෙසේ කියන ලදී.

යොච බුද්ධංච ධම්මඤ්ච සංඝඤ්ච සරණං ගතො
චත්තාරි අරිය සච්චානි සම්මප්පඤ්ඤාය පස්සති

දුක්ඛං දුක්ඛ සමුප්පාදං දුක්ඛස්ස ච අතික්කමං
අරියඤ්චට්ඨංගිකං මග්ගං දුක්ඛූපසම ගාමිනං

එතං ඛො සරණං ඛෙමං එතං සරණ මුත්තමං
එතං සරණ මාගම්ම සබ්බදුක්ඛා පමුච්චති

"යමෙක් බුදුරදුන් ද, ධර්මය ද ආර්යපුද්ගල සංඝයා ද සරණ ගියේ වේනම් චතුරාර්ය සත්‍ය ධර්මයන් විදර්ශනා ප්‍රඥා නැමති ඇසින් දකින්නේය.'

"දුක්ඛ සත්‍යයත් එය උපදවන සමුදය සත්‍යයත් දුක්ඛයාගේ ඉක්මවීමට කාරණය වූ නිරෝධ සත්‍යයත් දුක්ඛ නිරෝධයට පමුණුවන මාර්ග සත්‍යයත් මනාකොට නුවණැසින් දකින්නේ වේනම්"

"මේ සරණයම නිර්භයය. මේ සරණයම උතුම්ය. මේ සරණයට පැමිණි සත්ත්ව තෙම සසර දුකින් මිදෙන්නේය."

නිත්‍ය වශයෙන් අනුපගමනය වශයෙන් ද ආනිසංස ඵලය දතයුතුය. මෙසේ කියන ලදී. 'මහණෙනි, මෙය සිදුවීමට අවකාශ නැත. යම් දිට්ඨි සම්පන්න පුද්ගලයෙක් කිසි සංඛාරයක් නිත්‍ය වශයෙන් ගැනීම යන්න. ලෞකික සරණාගමනයේ ඵල වශයෙන් භව සම්පත්තිය ද භෝග සම්පත්තියද ඵලය වේ. මෙයින් කියන ලදී.

යෙ කෙචි බුද්ධං සරණං ගතාසෙ නතෙ ගමිස්සන්ති අපායං
පහාය මානුසං දෙහං දෙව කායං පරිපූරෙස්සන්ති

"යම් කෙනෙක් බුදුන් සරණ ගියාහුද, ඔවුන් අපායට නොයන්නාහු මිනිස් සිරුර හැරපියා දෙව්පිරිස වැඩිකරන්නේය."

අනිකකුදු කියන ලදී. ඉක්බිති ශක්‍ර දේවේන්ද්‍ර තෙම අසූදහසක් දේවතාවුන් සමග ආයුෂ්මත් මහමුගලන් තෙරුන් වෙත එළඹ -පෙ- එකත්පසක සිටියා වූ සක්දෙව්ඳුට ආයුෂ්මත් මහමුගලන් තෙම මෙසේ කීය. දෙවා නමින්දය, බුදුන් සරණයාම හොඳය. බුදුන් සරණ යාමේ හේතුවෙන් දේවේන්ද්‍රය, මෙහි ඇතැම් සත්ත්වයෝ කාබුන් මරණින් පසු සුගතිය වූ ස්වර්ගයෙහි උපදිති. ඔව්හු අනිත් දෙවියන්ට වඩා කරුණු දහයකින් ඉදිරියට යෙත්. දිව්‍යමය ආයුෂ, දිව්‍යමය වර්ණය, සැපය, යසස, අධිපතිබව, දිව්‍යමය රූප ශබ්ද ගන්ධ රස ඵොට්ඨබ්බ යන මෙසිනි. දහම් සරණ සඟසරණ යාම පිළිබඳවද මේ නයමැයි. වේලාම සූත්‍රාදීන්ගේ වශයෙන් සරණාගමනයාගේ ඵල විසෙස දතයුතුයැ.

එහි ලෞකික සරණාගමනය රත්නත්‍රය පිළිබඳ අඥාන - සංශය - මිථ්‍යාඥාන යන මේ කරුණු තුනෙන් කිලිටි වෙයි. එහෙයින් එහි බැබලීමක් ඇති නොවේය. මහා පැතිරීමක් ද නොවේ. ලෝකෝත්තර සරණාගමනයට සංකිලේශ නැත. ලෞකික සරණාගමනයාගේ සාවද්‍ය, අනවද්‍ය යයි භේද දෙකක් ඇත. එහි සාවද්‍ය නම් අන්‍ය ශාස්තෲන් කෙරෙහි ආත්ම නිර්යාතනාදියෙන් වන සරණ භේදයයි. එය අවිපාක බැවින් අඵලයි ලෝකෝත්තර සරණාගමනයාගේ භේදයෙක් නැත. භවාන්තරයෙහි ද ආර්යශ්‍රාවක තෙම අන්‍ය ශාස්තෲ කෙනෙකු න උදෙසයි. පිරිසිදු වීමද ලෞකික සරණාගමනයාගේ මය. යමෙකු කෙරෙහි සංකිලෙස වේද, ඔහුගේම එයින් පිරිසිදුවීම වියයුතුය. ලෝකෝත්තර සරණාගමනය නිත්‍යයෙන්ම පිරිසිදුම වෙයි. මෙසේ සරණ සරණාගමනයන් පිළිබඳ ප්‍රපඤ්චයන් දතයුතුය. එත්තාවතා යනු මෙම සරණාගමනයෙන් උපාසක වෙයි. ජාති ආදි කාරණයෙන් නොවේ. උපාසකො යන මෙහි උපාසක පිළිබඳ කරුණුවල දක්‍ෂතාවය පිණිස උපාසක නම් කවරේද? ආජීව කවරේද? විපත් කවරේද? සම්පත් කවරේද යන මෙහි මෙම ප්‍රශ්නයට උත්තර දතයුතුයැ. කො උපාසකො? ක්‍ෂත්‍රිය ආදී යම්කිසි ගෘහස්තයෙක්, කසමා උපාසකො රත්නත්‍රය වෙත එළඹෙන බැවින් යමෙක් බුදුරදුන් සේවනය කෙරෙයි ද (සමීපයට පැමිණේද?) උපාසක නම් වේ. ධර්මය ද, සංඝයා ද සේවනය කෙරේනුයි උපාසක නම් වේ. මෙපමණකින් එම ප්‍රශ්න දෙක ද විසඳන ලද්දේ ම වෙයි. කිමසස සීලං? ඔහුගේ සීලය

කුමක්ද? පඤ්චසීලය මැයි කො ආජීවො? ආජීවය කවරේද? පස්වැදෑරුම් අධාර්මික වෙළෙඳම් අතහැර දැහැමෙන් සෙමෙන් ජීවිකාව ගෙනයාමයි. කා විපත්ති? විපත් කවරේද? අඥාත සංසයා ආදී පාපධර්මයෝ ද උපාසක චණ්ඩාල සූත්‍රයෙහි දුශ්සීලතාදියද එයට හේතුවේ. කො සම්පත්ති සීලයට සම්පත් කවරේද? සම්මා ඤාණ සද්ධා ආදියද උපාසකරතන සුත්තෙ, උපාසක රතන සූත්‍රයෙහි සීලාදිය ද එයට හේතුවේ. අනතුරු භාග්‍යවතුන් වහන්සේ උපාසක සීලය දක්වන්නේ, පාණාතිපාතා පටිවිරතො හොති යනාදිය වදාළහ.

එහි පාණාතිපාතාදියෙහි, ප්‍රාණියාගේ සරසට වැටීම් ස්වරූප වූ අනතුරකි. අතිශයින්ම වැටීම අතිපාත නම් වේ. හෙමින් වැටෙන්න නොදී ඉක්මනින් වැටීමකයි යන අර්ථයි. ආයුධ ආදිය ඉක්මවා හෝ ආයුධ ආදිය අභිබවා හෝ වැටීම අතිපාත නම් වේ. ප්‍රාණඝාතයයි ද කියන ලද්දේ වෙයි. පාණො යනු මෙහි ස්කන්ධ සන්තතියකි. යමෙක් සත්ත්වයෙකැයි ව්‍යවහාර කෙරෙයි. පරමාර්ථ වශයෙන් රූපාරූප ජීවිතින්ද්‍රියකි. රූප ජීවිතින්ද්‍රිය විකොපනය වූ කල්හි අනිකුත් සම්බන්ධතාද විනාශවී යයි. මෙහි වනාහි, පාණියකු වීම, ප්‍රාණියකු යන හැඟීම ජීවිතින්ද්‍රිය නැතිකරමියි උපක්‍රමවලින් වැළඳගත් කාය-වාචා ද්වාර අතුරෙන් එක් ද්වාරයකට පැමිණි වධක චේතනා තොමෝ ප්‍රාණඝාත නම් වේ. ජීවිතින්ද්‍රිය ඇසුරුකළ උපක්‍රම කිරීම් හේතු සංඛ්‍යාත මහාභූත ප්‍රත්‍යයෙන් උපදින්නා වූ මහාභූතයෝ කලින් මෙන් නොව උපදිත්. අසමාන ලෙසම උපදිත්. සමාන ජාතිකත්වය හේතුවක් නොවේ. ඒ මේ ප්‍රාණඝාතය ඒ මේ ප්‍රාණඝාත තෙම, ගුණරහිත වූ තිරිසන්ගත ආදී ඛුද්දක ප්‍රාණීන් විෂයෙහි අල්පසාවද්‍ය වේ.

මහා සරීරයෙහි මහාසාවජ්ජ වේ. ප්‍රයෝග මහත් බැවින් ප්‍රයෝග අල්ප වුවත් වස්තුවේ විශාලත්වය අනුව මහාසාවද්‍ය වේ. ගුණවත් මිනිසුන් පිළිබඳ මහාසාවද්‍ය වේ. අල්පගුණ මිනිසුන් කෙරෙහි අල්ප සාවද්‍ය වේ. මහා ගුණවතුන් පිළිබඳව මහාසාවද්‍ය වේ. ශරීර ගුණයන්ගේ සමතාවයක් ඇතිකල්හි කෙලෙසුන්ගේද උපක්‍රමයන්ගේ ද මෘදුබව අනුව අල්පසාවද්‍ය වේ. උපක්‍රමයාගේ තියුණු බවක් ඇතිකල්හි මහාසාවද්‍ය වේ. මෙහිද පයොග, වත්‍ථු පයෝග මහත් බව අනුව මහා සාවද්‍ය වන බව දතයුතුය. ඒවාට අවශ්‍ය ප්‍රත්‍ය ලැබෙන කල්හි චේතනාවේ බලවත් බව මෙහිදී දතයුත්තේය.

මේ ප්‍රාණඝාතයාගේ, ප්‍රාණියෙක, ප්‍රාණියක යන හැඟුම, වධක චිත්තය, උපක්‍රමය විසින් මැරීම යනුවෙන් අංග පසකි. ඔවුන් අතුරෙහි පාණසඤ්ඤිතා වධක චිත්ත අංග පූර්වභාගීය වේ. වධක චේතනාවෙන් ඇතිවූ ඔහුගේ ප්‍රයෝග සවැදෑරුම් වේ. සාහත්ථික - ආණත්තික නිස්සග්ගිය, ථාවර විජ්ජාමය ඉද්ධිමය යනුයි. මරණයට ලක්වූවහුද මරන්නාද යුගනද්ධ (එකට බැඳුන) එකතාවය ප්‍රාණඝාතයාගේ එකතාව යයි එහි නානා ස්වරූපයෙන් නානත්වය දතයුත්තාහුය. බොහෝ වධකයන් එකක් වූ හෝ බොහෝ වූ හෝ ප්‍රයෝගයන්ගෙන් හෝ බොහෝ වූ වධයට ලක්වූවන් නසන කල්හි බොහෝ ප්‍රාණඝාතයෝ වෙති. එසේම එක් වධකයෙක් බොහෝ මරණයට ලක්වූවන් නසන කල්හි බොහෝ ප්‍රාණඝාතයෝ වෙති. බොහෝ වධකයන් එක් මැරියයුත්තෙක් මරණ කල්හි බොහෝ ප්‍රාණඝාතයෝ වෙති. යමෙකු උදෙසා පහරදේ ද, එයින් සිදුවන මරණයෙන් එය උදෙසීම ලක්වූවාහු කර්මයෙන් බැඳේ. යම් කිසිවෙකු මරන්න යයි දුන් උපදෙස් අනුව පහරදීමේ හේතුවෙන් යමෙකුගේ මරණයක් වේ ද, උපදෙස් දුන් අය කර්මයෙන් බැඳේ. ඔහු පහරදුන් මොහොතේම මරත්වා. පසුව හෝ එයින් ඇතිවූ රෝගයක් හේතුවෙන් හෝ මරණය සිදුවේද? පහරදුන් මොහොතේදීම කර්මයෙන් බැඳේ. මරණ අදහසින් දුන් පහරින් නොමලහුට පසුව අනෙක් සිතකින් දුන් පහරින් මැරේද? පළමු සිතින් නොමැරුනත් කර්මයෙන් බැඳේ. දෙවන සිතින් කළ ක්‍රියාව ප්‍රාණඝාතයක් නොවේ. බොහෝදෙනෙකු එයින් එකෙකුට පහරදුන් පසු යමෙකුගේ පහරින් මියයේද, ඔහුම කර්මයට බැඳේ. පුහුදුන් කල දුන් පහරින් හෝ මිය යන්නේ හෝ ඔහු රහත්බවට පැමිණ ඒ හේතුවෙන්ම මැරේ ද, අරහත්ත ඝාතකයෙක්ම වේ. යමෙක් වනාහි පුහුදුන් කල දුන් දනක් රහත්බවට පැමිණ එය වළඳ ද, හෙතෙම පුහුදුන් කෙනෙකුටම දන් දුන්නේ වෙයි.

අදිනනා දානා යන මෙහි නොදුන් දෙයක්හුගේ ආදානය ගැනීම අදින්නාදාන නම් වේ. අනුන් සතු දෙය ගැනීමයි. සොරකම යයි ද මෙයට කියති. එහි අදින්න නම් අනුන් අයත් දෙයයි යමක අන්කෙනෙක් තමාට අයත් දෙයක් අයුතු අන්දමින් තමා ලබා නොගත් නිසි අන්දමින් ලබාගත් දෙයක් වෙයිද එසේ එබඳු අනුන් අයත් දෙයක් අනුන් සන්තක යන හැඟීම සහිත වූ ඒ දෙය ගනු සඳහා ඊට උපක්‍රම යොදා සොරසිතින් ගැනීම අදින්නාදානයයි. එම දෙය ගුණ හීන කෙනෙකුගේ නම් අල්පසාවද්‍ය වේ. ගුණවතෙකුගේ නම් මහාසාවද්‍යයි. ඒ කුමක්නිසාද යත්, වස්තුහු

ප්‍රණීතතාවය අනුව සිදුවේ. වස්තුවේ පරිපූර්ණකම ඇති එය අධික ගුණවතෙකු සතුනම් එය සොරකම් කළොත් මහාසාවද්‍ය වේ. ඒ ඒ අධික ගුණ ඇත්තවුන් සලකා ඒ ඒ හීන ගුණ ඇත්තන් කෙරෙන් හැරගන්නා ලද වස්තුවෙහි එය හැර ගැනීම අල්පසාවද්‍ය වේ. එහි ප්‍රභේද පහකි. 1. අනුන් අයත් බව, 2. අනුන්ට අයත්ය යන හැඟීම, 3. සොර සිත, 4. උපක්‍රමය ඉන් පැහැර ගැනීම යනුයි. ප්‍රයෝග සයකි. කලින් දැක්වූ උපක්‍රම සයම සුදුසු පරිදි යෙදේ. එනම්, 'ථෙය්‍යාවහාරය, පසය්හාවහාරය, පටිච්ඡන්නාවහාරය පරිකප්පාවහාරය කුසාවහාර යනුය. මේ අවහාරයන්ගේ වශයෙන් පවත්නාහුය.

කාමෙසු යනු මෛථුන සමාචාරයන්හි මිච්ඡාචාරො යනු ඒකාන්තයෙන් නින්දිත වූ ලාමක වූ හැසිරීම. ලක්‍ෂණ වශයෙන් වනාහි, අසද්ධර්මය සේවනය කිරීමේ අදහසින් කායද්වාරයෙහි පැවැති මාතු රක්‍ඛිතාදි අගමනීය ස්ථානයන් ආක්‍රමණය කිරීමේ චේතනා තොමෝ එහි අගමනටඨාන නම්. පළමුකොට පුරුෂයන්ට 'මව විසින් රක්නා ලද්දිය. පියා විසින් රක්නා ලද්දීය. මව්පිය දෙදෙනා විසින් රක්නා ලද්දීයැ. බෑයා විසින් රක්නා ලද්දීයැ. සහෝදරිය විසින් රක්නා ලද්දීයැ. නෑයන් විසින් රක්නා ලද්දීය. ගෝත්‍රයෙහි වූවන් විසින් රක්නා ලද්දීය. සහදැමියන් විසින් රක්නා ලද්දීයැ. ආරක්ෂා සහිත වූ තැනැත්තියයැ. දණ්ඩ-නිග්‍රහ සහිත වූ තැනැත්තියයැ. යන මාතු රක්ඛිත ආදි දසදෙන ද, මුදලට ගන්නා ලද ස්ත්‍රිය ද (ඡන්දවාසිනී) ඡන්දයෙන් එක්ව වාසය කරන්නීය. (භොගවාසිනී) භෝගයෙන් පුරුෂයා කෙරෙහි වාසය කරන තැනැත්තීය. (පටවායිනී) නිවායන ආදි මාත්‍රයක් ලැබ භාර්යා භාවයට පත් තැනැත්තිය, (ඔදපත්තකිනි) පැන්තලියක දෙදෙනාගේ අත බස්වා මේ ආදියෙන් මෙන් සසඟ වවුයයි පාවාදෙන තැනැත්තිය. (ඔභත චුම්බටා දාසභරියා) බහා තැබූ සුබුළු (වස්ත්‍ර) තැනැත්තී, (මැය දාසියයිද එමෙන්ම භාර්යාවද වූවාය.) (කම්මකාරීච භාර්යාව) වැඩකාරියද භාර්යාවද වූවාය. (ධජාහටා) ධජයෙන් හෙවත් පරචිෂය මැඩ පැහැරගන්නා ලද භාර්යාව (මුහුත්තික) එකෙණෙහි සේවනය කළයුතු තැනැත්තිය යන මේ ඔතකකීතාදී දසදෙනදැයි යන මෙම ස්ත්‍රීහු විසිදෙන ස්ත්‍රීන් අතුරෙහි වනාහි සාරක්‍ඛ. සපරිදණ්ඩ, දෙදෙනාට ද ධනක්කී තාදී දසදෙනාට ද යන දොළොස් ස්ත්‍රීන්ට සෙසු පුරුෂයෝ ද මේ අගමනීය ස්ථාන නම් වේ. මොවුන් අතුරෙහි, මාතුරක්ඛිතාදි අටදෙනාට පුරුෂයන් කරා යාමෙහි මිථ්‍යාචාරයක් නැත. මාතෘ ආදීහු එවුන්ගේ එසසයට, ඊශ්වර නොවෙත්. මාතෘ ආදීහු

හුදෙක් තමන්ගේ ස්පර්ශ අනුභවයක් සඳහා මොවුන් රක්ෂා නොකරත්. හුදෙක් අනාචාරයන් වලක්වනු සඳහාය. ඔවුන්ගේ පුරුෂාන්තර ගමනය වලක්වත්. සාරක්ඛ, සපරිදණ්ඩ දෙදෙනාගේ ධනකකීත යන දසයද යන දොලොස් කාන්තාවන්ගේ පුරුෂාන්තර ගමනය මිථ්‍යාචාර වේ. සස්වාමික භාවයෙන් ස්වාමියාටද, හිමි එසසය හොරකම්කොට අනුන්ගේ අභිරතිය උපදවන බැවිනි. පුරිසයාට මෙම විසිවැදෑරුම් ස්ත්‍රීහු පිළිබඳව කාම මිථ්‍යාචාරය සිදුවේ. මාතෘ ආදීහු පුරිසයන්ගේ සංවාසය බලාපොරොත්තු නොවෙත්. එසේ වුවත් ආරක්ෂා කළ බැවින් අනුන් විසින් ආරක්ෂා කළ ස්පර්ශය ස්පර්ශ කළ බැවින් කාමමිථ්‍යාචාරය වේ. හෙතෙම මෙම මිථ්‍යාචාරය ශිලාදි ගුණ රහිත වූ අගමනීය ස්ථානයෙහි (නොඑළඹිය යුතු තන්හි) අල්ප සාවද්‍ය වේ. ශීලාදි ගුණ සහිත වූ අගමනීය ස්ථානයෙහි මහාසාවද්‍ය වේ. ඒ කාම මිථ්‍යාචාරයට අංගයෝ සතරදෙනෙක් වෙති. 1. නොඑළඹිය යුතු වසැවක් වීම, 2. එහි සේවනය කිරීමෙහි සිත, 3. සේවනය කිරීම පිණිස ප්‍රයෝග මාර්ගයෙන් මාර්ගය ප්‍රතිපාදනය කිරීම 4. ඉවසීම යනුයි. ප්‍රයෝග එකෙක්මය. එය සාහත්ථිකම වේ.

මුසා යනු වළහාකීම (=අසත්‍ය වූවක් සත්‍ය වූවක් ලෙස ප්‍රකාශ කිරීම) පෙරටුකොට ඇත්තහුගේ අර්ථ නසන්නා වූ වාග් ප්‍රයෝගය, හෝ කාය ප්‍රයෝගය හෝයි. ඔහු විසින් වළහා කියන අදහසින් අනුන් රවටන කාය වාග් ප්‍රයෝගයෙන් උපදවන ලද චේතනා තොමෝ මුසාවාද නම්. අනිකුදු ක්‍රමයක් කියනු ලැබේ. මුසා යනු අභූත වූ අතථ්‍ය වූ වස්තුවය. වාදො යනු ඒ වස්තුව භූත වශයෙන් තථ්‍ය වශයෙන් දැන්වීමයැ. ලක්‍ෂණ වශයෙන් අන්‍යහුට දක්වනු කැමැත්තහුගේ එබඳු වූ විඥප්තියෙන් උපදවන ලද චේතනා තොමෝ මුසාවාද නම් වන්නීය. ඒ මුසාවාදය යම් අර්ථයක් නසාද ඒ අර්ථයාගේ අල්පභාවයෙන් අල්ප සාවද්‍යැ මහත් භාවයෙන් මහා සාවද්‍යැ. තවද ගෘහස්ථයාට තමන් සතු වස්තුවක් නොදෙනු කැමතිව 'නැත' යනාදි ක්‍රමයෙන් පැවති මුසාවාදය අල්ප සාවද්‍යයැ සාක්ෂියක් වශයෙන් සිට අනුන්ගේ අර්ථ නසනු පිණිස කියන ලද්දේ මහාසාවද්‍ය වෙයි.

පැවිද්දන්ට මද වූ තෙලක් හෝ ගිතෙලක් හෝ ලැබෙයි යයි සිතා එම අදහසින් 'අද ගමේ තෙල් ගඟක් මෙන් ගලායයි යනුවෙන් පුරාණ කථානයින් පැවැත්තේ අල්ප සාවද්‍ය වේ. නොදක්නා ලද්දක්ම දක්නා ලද්දේය යනාදි නයින් කියන්නවුන්ට මහාසාවද්‍ය වේ. යම්සේ යමෙකුගේ

අර්ථයක් නැගේද ඔහුගේ අල්ප ගුණ මහාගුණ භාවය, මුදු වූ තියුණු වූ කෙලෙස් ගතිය මෙයට බලපායි. ඒ මුසාවාදයාගේ අංග සතරකි. 1. අභූත වූ වස්තුවක් වීම, 2. වළහා කියමි යන සිත, 3. ඒ පිණිස වූ ව්‍යායාමය, 4. අන්‍යයාට එම අර්ථය අවබෝධ වීමය යනුයි. බොරුවක් කීමේ අදහසින් ප්‍රයෝගය කළ කල්හි අනුන් විසින් එම අර්ථය නොදත් කල්හි බොරුව ක්‍රියාත්මක නොවූ බැවින් අන්හට ඒ අර්ථය හඳුන්වා දීම ද එක් අංගයකැයි දතයුතුය. කිසිවෙක් (කේචිත් වාදයක්) අභූත වචනය, විසංවාදන චිත්තය, අනුන්ට එය පැහැදිලි කර දීමයැයි අංග තුනකුයි කියත්. ඉදින් අනිත් තැනැත්තේ මෝඩ බැවින් විමසා බලා එම අර්ථය දනීද, විනිශ්චය කිරීමේ චේතනාවක් පැවැති බැවින් ක්‍රියාවට හේතුවූ චේතනාව පහලවීමත් සමගම කරමයෙන් බැඳේ. එක් ප්‍රයෝගයක් එය සාහත්‍ථිකමැයි. එම ප්‍රයෝගය කයින් හෝ කය පිළිබඳ වූවකින් හෝ වචනයෙන් හෝ පරහට සත්‍ය වළහන ක්‍රියාකිරීම බව දතයුතුයැ. සුරා යනු පිට්ඨසුරා පූවසුරා ඔදනීය සුරා කිණ්ණ පකඛිත්ත, සමභාර සංයුත්ත යනුවෙන් සුරාවෙන් පස් වර්ගයකි. (සුරාවට ගන්නා ද්‍රව්‍ය අනුව මේවා නම්කර ඇති බව පෙනේ.) මෙරය යනු පුපඵාසව, ඵලාසව, මධවාසව ගුළාසව සම්භාර සංයුක්ත යනුවෙන් මෙරයද (=ආසව) පස්වර්ගයකි. මෙම දෙවර්ගයම මත්කෙරේය යන අර්ථයෙන් මජ්ජ නම් වේ. වෙනත් මදනීය තත්වය ඇතිකර යමක් ඇද්ද, එය බීමෙන් මත්වේද පමත්ත වේද එයට ද මජ්ජ යයි කියනු ලැබේ. පමාදට්ඨානං යනු යම් චේතනාවකින් එය බීජ අවස්ථාවේ සිට කාය ද්වාරයෙහි පැවැත්තා වූ ඒ සුරාමෙරය මද්‍යයන්ගේ බීමෙහි චෙතනාව මදයට සහ පමාදයට හේතු වූ බැවින් පමාදට්ඨනකි වුවචකි. විමති විනොදනියෙහි පිට්ඨ පූව ආදියෙන් නිපදවන ලද සුරා ද, පුපඵාදිය මෙරයද සුරාමේරයයි. එය මත්කරවන අර්ථයෙන් මජ්ජ ද පමාදයට හේතුවන බැවින් පමාදයට හේතුවන අර්ථයෙන් පමාදයට හේතුයයි (=පමාදට්ඨාන) එය යම් චේතනාවකින් බොයිද, මෙය එයට අධි වචනයකැයි කියනු ලැබේ. එහි පිට්ඨසුරා යනු පිටි භාජනයක දමා එයට අවශ්‍ය ජලය දමා වැඩකරන ලද්දාහු වෙත්. මෙසේම පූව සුරාවද ඔදන සුරාවද කරන ලද්දාහු වෙති. කිණ්ණ යනු සුරා බීජයයි කියනු ලැබේ. (රා මණ්ඩි මෙනි.) යම් සුරාවකට මොදකා යයිද කියනු ලබත්. ඒවා බහා කරන ලද්දාහු කිණ්ණ පකඛිත්ත නම් වේ. ධාතකී (මයිලමල් ආදිය) සාසප (අබ) නොයෙක් ද්‍රව්‍යවලින් සංයෝග කරන ලද්දාහු සමභාර සංයුත්ත නම් වේ. මධු (මී) තල් පොල් ආදියෙහි මල්රසය, බොහෝකල් (පල්කිරීම් ආදිය සඳහා) තබාගැනීමෙන් නිපදවන ලද්දේ පුප්ඵාසව නම් වේ. මුද්දික

රසයද මද්‍යවාසව නම් වේ. උක්රසය ගුළාසව නම් වේ. අරළු, නෙල්ලි කුළුබඩු ආදී නොයෙක් සම්භාරයන්ගේ රසයන් බොහෝකලක් පල්කිරීමෙන් සම්භාර සංයුක්ත නම් වේ. බීජතො පට්ඨාය යනු ද්‍රව්‍ය සම්පාදනය කොට සැලියෙහි බහාතැබූ කාලයෙහි පටන්, සුරාමේරයේ අංගයෝ සතරදෙනෙකි. මජ්ජභාවය පාතුකම්‍යතා චිත්තය. තජ්ජා වායාමො, අජ්ඣොහරණ යනුවෙති. (මත්බව - එය පහලකර ගැනීමේ කැමැත්ත - ඒ සඳහා කරනු ලබන ව්‍යායාමය, පානය කිරීම යනුයි.) අකුසල් සිතින්ම සුරාව බොන බැවින් ඒකාන්තයෙන්ම වැරදි සහිතය. අරිය ශ්‍රාවකයන්ට වස්තුව පිළිබඳ දැනීමක් නැති කල්හිදු මුඛයට නො පිවිසෙයි. දන්නා කල්හි ඒ ගැන කියනුම කවරේද? ස්වල්ප වූ පතක් පමණකුදු පානය කිරීම අල්ප සාවද්‍ය වේ. නැලි දෙකක් පමණ බීම ද ඊට වැඩිපුර බීම මහා සාවද්‍ය වේ. කය වැනෙන පමණට බොහෝකොට බී ගම් පැහැරීම් ආදිය කරන්නහුට මහා සාවද්‍යම වේ. පාපකර්ම විෂයෙහි ප්‍රාණඝාතයට පැමිණ රහතුන් සම්බන්ධව මහාසාවද්‍ය වේ. රහතුන් පිළිබඳ දැයෙහි අදින්නාදානයට පැමිණිම මහාසාවද්‍ය වේ. රහත් මෙහෙණින් විෂයෙහි මිථ්‍යාචාරයෙහි, මුසාවාදයට පැමිණි මුසාවාදයෙන් සංඝභේදය කිරීමද ශරීරය වැනෙන පමණට සුරා බී ගම්පැහැරීම් ද යන මේ සියල්ල මහා සාවද්‍ය වේ. මෙවැනි අකුසල් කොට කපක් නිරයේ පැසෙයි. සුරාමේරය මද්‍ය, ප්‍රමාදයට හේතුවන බැවින්ම මහා සාවද්‍ය වේ. එසේ නොවන්නේ නම් ප්‍රාණඝාතාදි අකුසලයෝ එසේ නොවේ. කුමක් හෙයින් මිනිස් වූවහුගේ ද උමතුබවට පත්වීමෙන් ආර්ය ධර්මයට අනතුරු කරන බැවිනැයි ඛුද්දකපාඨ අට්ඨකථාවෙහි කියන ලදී.

මොවුන් පිළිබඳව සභාව - ආරම්මණ - වෙදනා - මූල - කම්ම - සමුට්ඨාන - ඵල යන මොවුන්ගේ වශයෙන් සත්ආකාර විනිශ්චයක් දතයුත්තේය. එහි සභාවතො ප්‍රාණඝාත ආදි සියල්ල චේතනාව ස්වභාව කොට ඇත්තේය. ආරම්මණතො, ප්‍රාණඝාතය ජීවිතින්ද්‍රිය අරමුණු කරන බැවින් සංඛාර ආරම්මණ නම් වේ. අදිනනාදානය, සත්තාරම්මණ හෝ සංඛාරාරම්මණ වේ. මිච්ඡාචාරො ඵොට්ඨබ්බයාගේ වශයෙන් සංඛාරම්මණ වේ. ඇතැමෙක් සත්තාරම්මණ යයි ද කියති. මුසාවාදො මුසාවාදය සත්තාරම්මණ හෝ සංඛාරාරම්මණ හෝ වෙති. සුරාපානං සංඛාරම්මණ වේ.

වෙදනාතො වෙදනා වශයෙන් ප්‍රාණඝාතය දුක්ඛවෙදනා වේ.

ආදින්නාදානය ත්‍රිවේදනා වේ. මිච්ඡාචාරෝ සුඛ-මධ්‍යයන වශයෙන් ද්විවේදනාවෝ වෙත්. නිගමනය කරන්නාගේ චේතනා වශයෙන් දෙකන්හිම මජ්ඣත්ත වේදනාව නොලැබේ. මුසාවාදයට ත්‍රිවිධ වේදනාවෝම ඇතිවෙති.

මූලතොඃ මූල වශයෙන් ප්‍රාණඝාතය, දෝස-මෝහ ද්විමූලක වේ. අදින්නාදානයද, මුසාවාදය ද, ලෝභමෝහ වශයෙන් ද දෝස මෝහ වශයෙන්ද වේ. මිච්ඡාචාරය සහ සුරාපානය ලෝභ මෝහ වශයෙන් ද්විමූල වේ. කම්මතො කර්ම වශයෙන් මෙහි මුසාවාද වචීකම්ම නම් වේ. සෙසු හතරම කායකම්ම වේ. සමුට්ඨානතො හටගැනීම වශයෙන් පාණාතිපාත, අදින්නාදාන, මුසාවාද කාය චිත්ත වාචා චිත්ත, කාය වාචා චිත්ත වශයෙන් තිසමුට්ඨාන වෙති. මිච්ඡාචාරය, කාය චිත්ත වශයෙන් එක සමුට්ඨාන වේ. සුරාපානය කාය වශයෙන් ද, කාය චිත්ත වශයෙන්ද ද්විසමුට්ඨාන වේ. ඵලතො ඵල වශයෙන් සියල්ල ආපාය උත්පත්තිය ඵලය වේ. මිනිසත් බවක් ලබතොත් අල්පායුෂ්ක බැව් ආදි අනිෂ්ඨඵලම වේ. මෙසේ ප්‍රාණඝාතාදීන්ගේ හේතුවෙන් ප්‍රමාදයම වේ.

පටිවිරතො යනු ශික්ෂාපද සමාදානයෙන් පවින් වැලකුනේ දුරුව සිටියේ වෙයි. සෙසු ශික්ෂාපද පිළිබඳවද මේ නයමැයි. මෙහි ද පාණාතිපාතා වෙරමණී යනාදීන්ගේ සභාව - ආරම්මණ - වෙදනා - මූල - කම්ම - සමාදාන - භෙද - ඵල වශයෙන් විනිශ්චය දතයුතුය. එහි සභාවතො යනු පඤ්ච චේතනාවෝ වෙත්. විරතියො විරති වශයෙන් දේශනාවෙහි ආවේ වේ. ප්‍රාණඝාතයෙන් වලකින්නහුගේ එකල ප්‍රාණඝාතයාගේ ආරතියක් (සිතින් නොඇලීමක් විරති පවින් වැලකීමක් මෙම විරති තොමෝ ප්‍රභේද විසින් ත්‍රිවිධ වෙත්. සම්පත්ත විරති, සමාදාන විරති සමුච්ඡෙද විරති යනුයි. එහි ශික්ෂාපද සමාදන් නොවූ තමාගේ ජාතිය-වයස-උගත්කම ආදි සලකා මා විසින් මෙය කිරීම නො සුදුසු යයි ඉදිරිපත් වූ කරුන නොඉක්මවන්නවුන්ට උපදින විරති චෛතසිකය සම්පත්ත විරති නම් වේ. සමාදන් වූ ශික්ෂාපද ඇති, ශික්ෂාපද සමාදන් වීමෙහි එයට වඩා වෙනත් උසස් වූවක් නැතැයි තමාගේ ජීවිතය ද පරිත්‍යාගකොට ඉදිරිපත් වූ කරුණ නොඉක්මවන්නවුන්ට උපදින විරති චෛතසිකය සමාදාන විරති නම් වේ. ආර්ය මාර්ගය සම්ප්‍රයුක්ත විරතිය සමුච්ඡෙද විරති නම් වේ. ආර්ය මාර්ගයෙහි සිට ආර්ය පුද්ගලයින්ට ප්‍රාණය නසන්නෙමි. සිතකුදු නො උපදී. මොවුන් අතුරෙන් සමාදාන විරතිය මෙයින් අදහස්

කරන ලද්දීය. ආරම්මණතො ප්‍රාණඝාත ආදී වූ අරමුණුම මොවුන්ගේ අරමුණු වෙති. ඉක්මවිය යුතු වස්තුව කෙරෙන්ම වූ විරතිය විරති නම් වේ. යම්සේ වනාහි නිර්වාණාරම්මණ වූ ආර්යමාර්ගය තෙම කෙලෙස් දුරුකළේය. ප්‍රාණඝාත ආදි දුසිල්බැව් දුරුකෙරෙත්නුයි ජීවිත ඉන්‍ද්‍රිය ආදිහු කුසල ධර්මයෝ ය. පඤ්ච ශික්ෂාපදයෝ පරිත්තාරම්මණ පච්චුප්පන්නාරම්මණ, බහිද්ධාරම්මණයයි විභංගයේ කියන ලදහ. වෙදනාතො යනුවෙන් සියලු සැපවේදනා හෝ මධ්‍යස්ථ වේදනා හෝ අදහස් කෙරේ. මූලතො අලොභ, අදොස, අමෝහ වශයෙන් ත්‍රිමූල වෙත්. අලෝභ අදෝස වශයෙන් ද්වි මූල හෝ වෙති. කම්මතො මුසාවාද විරතිය වචීකම්ම වේ. සෙසු ඒවා කාය කම්ම වෙති.

සමාදානතො, ගරුතන්හි තැබිය හැකි අන්‍යයෙකු හමුවෙහි හෝ, එසේ නොලැබෙන්නේ නම් තමා විසින්ම හෝ 'පඤ්චසීලානි අධිට්ඨාමි' කියා එකවරම හෝ පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාදියාමි යනාදී ක්‍රමයෙන් වෙන් වෙන් වශයෙන් හෝ සමාදන් වන්නහු විසින් වෙන් වෙන්ව සමාදන් වූවාහු වෙති. එකවර සමාදන් වීමෙන් එකම විරතියකි. එකම චේතනාවකි. කෘත්‍ය වශයෙන් පංචකයම නියම කරන ලද්දේ වෙයි. වෙන් වෙන්ව සමාදන් වීමේදී පංච විරතියකි. චේතනා පසකි. සාමණේරවරුන් භික්ෂුවක ඉදිරියේ සමාදන්වීමට සමාදන් වුවා මෙනි. භෙදතො ගිහියන්ට යම් ශික්ෂාපදයක් බිඳේ ද එය පමණක් බිඳේ. අනිත් ශික්ෂාපද නොබිඳේ. කුමක් හෙයින්ද යත් ගිහියෝ වනාහි අනිබද්ධසීලා නිබද්ධ සිල් ඇත්තෝ නොවෙති. යම් යම් ශික්ෂාපද රැකීමට හැකිද එයම රකිත්. නැවත සමාදන් වීමෙන් පංචංගික සීලය ඇත්තවුන් බවට පත්වෙති. අන් කෙනෙක් මෙසේ කියති. වෙන් වෙන්ව සමාදන් වූවන් පිළිබඳව එකක් බිඳුන කල්හි එයම බිඳුනේ වෙයි. පංචඞ්ගසමන්නාගතං සීලං සමාදියාමි යනුවෙන් මෙසේ එකතො එකක වශයෙන් සමාදන් වූවහු පිළිබඳව එකක් බිඳුන කල්හි සියල්ල බිඳුනේ වෙයි. කුමක් හෙයින්ද යත්, සමාදන් වූවහුගේ වෙනස්කම් නිසාය. යම් ශික්ෂාපදයක් බිඳී ද එයින්ම කර්මයට බැඳුනේ වෙයි. සාමණේරවරුන්ට එක ශික්ෂාපදයක් බිඳුනවිට සියල්ල බිඳුනේ වෙයි. ඔවුන්ට වනාහි ශික්ෂාපද ඉක්මවීමේ දී 'දණ්ඩකම්ම' වස්තුන්ගේ වශයෙන් නැවත මෙවැන්නක් නොකරමියි යයි දණ්ඩ කර්මය කළ කල්හි සීලය සම්පූර්ණ වූයේ වෙයි. ඵලතො ප්‍රාණඝාතයෙන් වැලකීමේ ඵල වශයෙන් මෙහි අඟපසඟ ආරෝහ පරිණාහ වර්ණ සටහන් යන සම්පත්තිය ද, සුප්පතිට්ඨපාද (මනාව පොළොව ස්පර්ශකරන පාලි)

මනෝඥ මෘදු වූ සූර වූ භයනොවන, මෙරමා පිළිබඳ බලය ජවය ප්‍රතික්ෂේප කළ, ප්‍රිය වූද මනාප වූද සෝක නැති ආබාධ නැති දීර්ඝායුෂක් ඇති බව බිඳිය නොහැකි පිරිස් බලයක් ඇති බව ප්‍රිය විප්‍රයෝග දුකක් ඇතිනොවීම වැනසිය නොහැකි අනුන්ගේ උපක්‍රමයකින් මරණයක් නොවීය. මේ ආදි ඵලයෝ වෙති.

අදින්නාදාන වෙරමණියා නුදුන් දෙය ගැනීමෙන් වෙන්වීම බොහෝ ධනධාන්‍ය ඇතිබවය. ස්ථාවර, උළාර, භෝග සම්පත් ඇතිබවය. රාජ - චෝර - ජලය - ගින්න - අපපියදායාද අසාධාරණ වූ සම්පත් ඇති බවය. කැමති කැමති වස්තු ලබන බය නැතැයි යන්න නොදන්නා බවය. යම් තැනක උපදී ද දෙවුබවම ලබයි මේ ආදි ඵලයෝ වෙති. අබ්‍රහ්මචරියං වෙරමණියා අබ්‍රහ්ම චරිය වෙරමණියෙන් (විරතියෙන්) බිම වැටී ඉතා ඕනෑකමින් බලන පිරිපුන් ඉන්ද්‍රිය ලක්‍ෂණ ඇතිවම, සැකයෙන් තොරබව අල්ප වූ උත්සාහයකින් වළඳ සැප විහරණ ඇති බව ඇඳුම් පැළඳුම් ලබන බව, අක්‍රොධ අභය හේතුවෙන් ස්ත්‍රී නපුංසක භාවයන් නොලබන බව පුත්‍රදාරාවන්ගේ ප්‍රිය විප්‍රයෝග නොලබන බව අබ්‍රහ්මචරිය විරතියේ ඵලයෝය. මිථ්‍යාචාර විරතියේද ඵලයෝ ද මෙහි ඇතුළත් වේ.

මුසාවාදා වෙරමණියා ප්‍රසන්න ඉන්ද්‍රිය ඇති බව අත්නොහල මිහිරි වදන් ඇති බව, පිළිගනු ලබන වචන ඇති බව සම සුදෝසුදු දත් ඇති බව, පියුම් පෙති මෙන් සිනිඳු රන්වන් සිරුරු ඇති බව උපුල් සුවඳ වහන මුව හා දිව් ඇති බව, ඉතා කෘෂ නොවූ ඉතා මහත නොවූ ඉතා මිටි නොවූ ඉතා උස්නොවූ සුවපහස ගෙනදෙන සිරුරක් ඇති බව, උද්ධත නොවූ සිරුරක් ඇති බව යනාදිය මුසාවාද විරතියේ ඵලයෝය.

සුරාපානා වෙරමණියා සුරාපාන විරතියෙන් අතීත, අනාගත, වර්තමාන කාලයන්හි කටයුතු කිරීමෙහි වහා දැනගැනීම නුවණැති බව කුසල් සහිත ඍජු දෘෂ්ටියක් ඇති බව එළඹ සිටි සිහිය ඇති බව, මුලානොවීම, පමා නොවීම, උඩඟු-මෝ කෙළතොළු ගොළු මේ ලක්‍ෂණයන්ගෙන් තොරවීම, සත්‍ය වචන ඇතිබව, පිසුණා වාචා, ඵරුසාවාචා, සම්ඵප්පලාපා යන මෙම විරතීන්ගෙන් යුක්තවීම සීලය, සුතය, චාගය, ජාරිය, ඔත්තප්පය හා පිරිපුන් සිත් ඇති බව මේ ආදීහු සුරාපාන විරතියේ ප්‍රතිඵලයෝය. මේ පාණාතිපාතාදීන්ගේ සභාව,

ආදියෙහි පටන් විනිශ්චය කථාව බුද්දකපාඨ, ඉතිවුත්ත වණ්ණනාවලින් ගන්නා ලදි.

එතතාවතො බො මෙපමණකින් පඤ්චවෙර විරමණයෙන් සීල සමපතෙනා නිත්‍ය සීල වශයෙන් පංචශීලයෙන් යුක්ත වූයේ වෙයි. සදෙධා ඔකපපන සද්ධාවෙන් ද ප්‍රත්‍යක්‍ෂ ශ්‍රද්ධාවෙන් ද යුක්ත වූයේ බොධි සතරමග නැණයි. එය තථාගතයන් විසින් මනාව අවබෝධ කළහයි අදහයි. මේ දේශනා ශීර්ෂයයි. මෙම අංගයෙන් තෙරුවන් පිළිබඳ ශ්‍රද්ධාව අදහස් කරන ලදී. ඉතිපිසො භගවා යනාදීන්ගේ අර්ථය විසුද්ධි මාර්ගයෙන් ගතයුත්තේය. එතතාවතා බුදෙධා ධමෙමා සංඝො යයි කී කල්හි අචල ශ්‍රද්ධාවෙන් යුක්ත වූයේ දතයුතුයැ. විගත මල මචෙඡරෙනචෙතසා තම සම්පත්තීන්ගේ අනුන්ගේ සම්පත් හා සාධාරණ බව නොඉවසන ලක්‍ෂණයක් වූ චිත්තයාගේ පහස්සර භාවය දූෂණය කරන උපක්ලේශ වූ අකුසල ධර්මයන් අතුරෙන් එක්තරා කිලුටක් (මචෙඡර) මසුරුබව නැතහොත් කියන ලද මසුරුබවද එසේම අන්‍ය වූ දානයට අනතුරු කරන්නා වූ ඊර්ෂ්‍යා - ලෝභ - දෝස ආදි කෙලෙස්ද යම්සේ දාන චේතනාව හාත්පසින් නොමඩීද, අභිභවනය නොකෙරේ ද, මෙසේ මසුරු බැවින්ද, මල නම් වූ කෙලෙස්වලින් වෙන්වූ පිරිසිදු සිතින් යනුයි. අගාරං අජඣාවසති ගිහිගෙයි වසති යනුයි. මුතතචාගො මුදාහල ත්‍යාග යනුයි. පයතපාණි, පැමිණි පැමිණි අයට දන්දීම පිණිස යෙදුනු (සුද්ධ වූ) අත් ඇත්තේ යනුයි. වොසසගග රතො වොස්සග්ග නම් වූ ත්‍යාගයෙහි ඇලුනේ යනුයි. යාචයොගො ඉල්වීමෙහි සුදුස්සෙක් වේද, දාන සංවිභාග රතො දන් බෙදාදීමෙහි ඇලුනේ, අනුකම්පා චේතනාවෙන් හෝ පූජා චේතනාවෙන් හෝ මින් එකකින් අනුන් විසින් පිළියෙල දානයෙහි තම පරිභෝගය සඳහා ගත් වස්තුවෙන් එක දේසයක් හෝ බෙදා දීමෙහි යෙදුනේ. එතතාවතා මෙපමණකින්, දාන සංවිභාග කිරීමෙන් උදයබබය ගාමිනියා, පඤ්ච ස්කන්ධ ධර්මයන්ගේ ඇතිවීම හා නැතිවීම අල්ලාගැනීම පිරිසිඳ දැන ගැනීමට සමර්ථ වූ ප්‍රඥාවයි. පඤ්ඤාය සමනනාගතො විදර්ශනා ප්‍රඥාවෙන් හා මාර්ග ප්‍රඥාවෙන් යුක්ත වූ නිබෙබධිකාය කලකිරීම පිණිස පවත්නා, තදංග වශයෙන් ද සමුචෙඡද වශයෙන් ද, කලින් කලකිරීමට නොපත් කලින් විනාශ නොකළ ලෝභ - දෝස - මෝහ ධර්මය නැතිකිරීමට සමර්ථ වූ යන අර්ථයි. සමමා දුකඛකඛය ගාමිණියා (මනාකොට දුක් නැතිකිරීමට පැමිණියා වූ) තදංග වශයෙන් ද සමුචෙඡද වශයෙන් ද

කිලෙසුන්ගේ ප්‍රහීනය වූ බැවින් යම් දුකක් ගෙවී යයිද, ආරක්ෂාව පිණිස ගෙවමින් යයි යන අර්ථයි.

මෙසේ භාග්‍යවතුන් වහන්සේ, මහානාම ශාක්‍යභුට දෙව් මිනිසුන්ගේ සාසනය තරණය කිරීමේ උපායභූත වූ උපාසක භාවය සිද්ධකරවන්නා වූ සරණාගමනයද උපාසක භාවය සිද්ධකරවන්නා වූ, සරණාගමනය ද උපාසක විසින් පිරිය යුතු ධම්මානුධම්ම පටිපත්ති නම් වූ දුගතියෙහි වැටීම වලක්වන උපාය නම් වූ දිට්ඨධම්ම, සම්පරායික (=මෙලොව පරලොව) හිත සැප ඵලවන්නා වූ සීලය, සද්ධාව, ත්‍යාගය, ප්‍රඥාව වදාළ සේක. ඒවායින් යමෙක් යුක්ත වේද, හෙතෙම උපාසක වේ. හෙතෙම දුගති භය ඉක්මවමින් සෝතාපත්ති අංගයන්හි පිහිටියේ දෙවියන් විසිනිදු වර්ණනා කළයුතු තත්ත්වයට පත්වන්නේ වේ.

මේ පිළිබඳ සාධක සූත්‍රයෝ මෙසේය. චතූහි භික්ඛවෙ ධම්මෙහි සමන්නාගතො අරියසාවකො සබ්බ දුග්ගති විනිපාත භයං සමතික්කන්තො හොති, කතමෙහි චතූහි ඉධ භික්ඛවෙ අරියාවකො බුද්ධෙ අවෙච්චප්පසාදෙන සමන්නාගතො හොති ඉතිපිසො භගවා -පෙ- බුද්ධො භගවාති ධම්මෙ -පෙ- විඤ්ඤූහි. සංඝෙ -පෙ- පුඤ්ඤක්ඛෙත්තං ලොකස්සාති. අරියකන්තෙහි සීලෙහි සමන්නාගතෙ හොති අඛණ්ඩෙහි අච්ඡිද්දෙහි අසබලෙහි අකම්මායෙහි භුජිස්සෙහි විඤ්ඤූපසත්ථෙහි අපරාමට්ඨෙහි සමාධි සංවත්තනිකෙහි ඉමෙහි ඛො භික්ඛවෙ චතූහි ධම්මෙහි -පෙ- සමතික්කන්තො හොතීති 'යෙ භික්ඛවෙ අනුකම්පෙය්‍යාථ, යෙච, සොතබ්බං මඤ්ඤෙය්‍යුං මිත්තාවා අමච්චාවා ඤාතිසාලොහිතා වා තෙ වො භික්ඛවෙ චතුසු සොතාපත්තායංගෙසු සමාදපෙතබ්බා නිවෙසෙතබ්බා පතිට්ඨාපෙතබ්බා කතමෙසු චතුසු බුද්ධෙ අවෙච්චප්පසාදෙ සමාදපෙතබ්බා නිවෙසෙතබ්බා පතිට්ඨාපෙතබ්බා ඉතිපිසො -පෙ- බුද්ධො භගවාති, ධම්මෙ -පෙ- විඤ්ඤූහීති සංඝෙ -පෙ- පුඤ්ඤක්ඛෙත්තං ලොකස්සාති. අරිය කන්තෙසු සීලෙසු සමාදපෙතබ්බා නිවෙසෙතබ්බා පතිට්ඨාපෙතබ්බාති වුත්තං පිදං දෙවානම්න්දෙන.

යෙ ගහට්ඨා පුඤ්ඤකරා සීලවන්තො උපාසකා
ධම්මෙන දාරං පොසෙන්ති තෙ නමස්සාමි මාතලී

'මහණෙනි, ධර්ම හතරකින් යුත් ආර්යශ්‍රාවක තෙම සියලු දුගතියෙහි වැටීමේ භය ඉක්මවූයේ වෙයි. කවර සතරකින්ද මහණෙනි, මෙහි අරියශ්‍රාවක තෙම බුදුරදුන් කෙරෙහි අචල පැහැදීමෙන් යුක්ත වේද ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ඉතිපිසො භගවා අරහං යනාදී වූ නව අරහාදී බුදුගුණයන් විෂයෙහි නොවෙනස් පැහැදීමෙන් යුක්තද, ස්වාක්ඛාතො භගවා ධම්මො යනාදී (සවැදෑරුම් දහම් ගුණ විෂයෙහි) නොවෙනස් මනා පැහැදීමෙන් යුක්ත වේද, සුපටිපටිපණ්ණො භගවතො සාවක සංඝො යනාදි (නව වැදෑරුම්) සඟගුණ විෂයෙහි වෙනස් නොවන පැහැදීමෙන් යුක්ත වේද 'අඛණ්ඩ, අචඡිද්ද, අසබල, අකම්මාස භුජීයන් විඤ්ඤුපසට්ඨ, අපරාමට්ඨ, සමාධිය පිණිස පවතින අරියකන්ත ශීලයෙන් සමන්විත වූයේද වෙයි. 'මහණෙනි, මෙම සතර ධර්මයන් (තුනුරුවන් විෂයෙහි පැහැදීම අරියකන්න සීලය) ඉක්මවූයේ වෙයි ද, මහණෙනි, ඔවුන්ට අනුකම්පා කරන්න. ඔවුන් මෙම කරුණ ඇසිය යුත්තක් බවම පත්කළ යුත්තේ යයි හඟිම්හ. මිත්‍රයෝ හෝ ඇමතියෝ හෝ සහලේ නෑයෝ හෝ මහණෙනි, තෙපි ඔවුන් සතර සෝතාපත්ති මාර්ගයන්හි සමාදන් කරවිය යුත්තාහුය. වාසය කරවිය යුත්තාහුය. පිහිටවිය යුත්තාහුය. කවර සතරක් පිළිබඳවද යත් බුදුගුණ විෂයෙහි පැහැදීම ඇතිවන පරිදි සමාදන් කරවිය යුතුය. වාසය කරවිය යුතුය. පිහිටවිය යුතුය. ධර්මය, සංඝයා, අරියකන්ත ශීලය. මේවා පිළිබඳවද මේ ක්‍රමය මැයි. සක්දෙවිඳු මෙසේ පවසන ලදී.

පින්කරන සිල්වත් වූ යම් ගිහි උවසු කෙනෙක්
දැහැමින් අඹුදරුවන් පෝෂණය
කෙරෙත් ද මාතලිය මම ඔවුන් වඳිමි.

මහානාම සූත්‍ර වර්ණනාව
නිමි.

## 9.

උපාසක චණ්ඩාල සුතෙත උපාසක චණ්ඩාල සූත්‍රයෙහි, ධමෙමහි (උපාසක බවට) විරුද්ධ අගුණ ධර්මයන්හි. **උපාසක පතිකිඩෙඨා** (උපාසක නීචයෙක් ලාමකයෙක් යනුයි. **කොතුහල මංගලිකො** (කුහුල් මගුල් ඇත්තේ වේද) මේ කරුණින් මෙය වන්නේය. මෙසේ පැවැත්තා වූ කොතුහල මංගල සංඛ්‍යාත, දිඨ - සුත - මුත - මංගලයන්ගේ යුක්ත වූ. **මංගලං පචෙචති**, නොකමමං මංගලයම බලයි. දකඛිණෙයාා, දෙය්‍ය ධර්මය (දිය යුතු දෙය) පිලිගත් වුත් **තතථ** **පුබබාකාරං කරොති** බාහිර වූ තීර්ථක ආදීන් විෂයෙහි දානාදි පින්කම් කොට පසුව භික්ෂූන්ට දෙයි.

**උපාසක චණ්ඩාල සූත්‍ර වර්ණනාව නිමි.**

## 10.

උපාසක රතන සුතෙත උපාසක රතන සූත්‍රයෙහි ධමෙමහි උපාසක ගුණාංගයන්.

**උපාසක රතන සූත්‍ර වර්ණනාව නිමි.**

## 11.

වාණිජජ සුතෙතත වාණිජ්ජ සූත්‍රයෙහි වාණිජජා වෙළෙඳමයි. **සතථ වණිජජා** අවි ආයුධ සාදවා විකිණීම සතත වණිජජා වහල් වෙළඳමයි. **මංසවණිජජා** ඌරු මුව ආදීහු පෝෂණය කොට මස් සම්පාදනය කොට විකිණීම. **විස වණිජජා** විස නිපදවා එය විකිණීම මේ සියලුම වෙළෙඳම් තමන් කිරීම හෝ අනුන් ලවා කරවීම නොමැනවි. අවිආයුධ වෙළෙඳම අනුන් නැසීමට නිමිත්තක් වන බැවින් නොකළයුතුය. වහල් වෙළෙඳම දාසභාව ඇතිකරන බැවින් ද, මස්වෙළෙඳම මැරීම් හේතු නිසා ද මද්‍ය වෙළඳම පමාදයට හේතුවන බැවින්ද නොකළ යුතුය.

**වණිජජ සූත්‍ර වර්ණනාව නිමි.**

# 12.

විසාඛූපොසථෙ විසාඛ උපොසථ සූත්‍රයෙහි, පුබ්බාරාමෙ සැවැත් නගරයට පෙරදිගින් විසාඛාවගේ මහා ලතා පසාධනය, විකුණා කරවන ලද ආරාමයෙහි තදහුපොසථෙ, (එදවස පොහොයෙහි) එදවස පොහොය දිනයක් විය. පණ්ණරසී පොහොය යයි කියන ලදී. හන්ද යනු ඒකාන්ත අර්ථයෙහි නිපාතයකි. දිවා දිවසය යනු දවසේ දවල් මධ්‍යහ්න සමයෙහි. කුතො නු ත්වං ආගච්ඡසි, කුමක් කරමින් හැසිරෙන්නෙහි දැයි විචාරයි. ගොපාලකුපොසථෙ (ගොපාලක උපොසථය) අපිරිසිදු සිතිවිලි ඇති බැවින් ගොපල්ලන්ගේ ආකල්ප සමාන කළහැකි බැවින් ගොපාලක උපොසථ නම් වේ. එයම ආර්ය උපොසථයද වේ. නිගණ්ඨූපොසථො යනු නිඝණ්ඨයන් විසින් රකින උපොසථයකි.

නියාාදෙත්වා, ගොපල්ලෝ දිනපතා වැටුපට හෝ පස්දින, දසදින, අඩමස මස අවුරුද්ද යනාදි කාල පරිච්ඡේදයන් සඳහා වැටුපට ගවයන් භාරගෙන රකිත්. මෙහි දිනපතා වැටුපට ගවයන් රැගෙන රැකීම සඳහා කියන ලදී. නියාාදෙත්වා පවරා තොපට ගවයන් මෙපමණයයි දී ඉතිපටිසඤ්චික්ඛති තමාගේ ගෙදරට ගොස් අනුභවකොට ඇඳෙහි හොත්තේ, මෙසේ ප්‍රත්‍යවෙක්ෂා කරයි. නමහප්ඵලො ආදියෙහි විපාකඵල වශයෙන් මහත්ඵල නොවේ. විපාක ආනිසංස වශයෙන් මහත් ආනිසංස නොවේ. විපාක ඕභාස මහා ඕභාසයක් නොවේ. විපාක විපඵාර වශයෙන්ද, මහා විපඵාරයක් (පැතිරීමක්) නොවේ. සමණ ජාතී, ශ්‍රමණයෝම, තෙසු දණ්ඩං නික්ඛිපාහි, ඔවුන් කෙරෙන්, යොදුන් සියයකට ඈතින් සිටි සතුන් කෙරෙන්, දඬුවම බහා තබව්. බහාතබන ලද දඬුවම් ඇත්තෝ වව්. නාහං ක්වචනි කසසචි කිඤ්චන තසමිං මම කිසිතැනෙක්හි කිසිවෙක් හටවත් පලිබෝධයක් නොවූයෙමි. කිඤ්චන නම් පලිබෝධයෝය. පලිබෝධයක් නොවූයෙමැයි කියන ලද්දේ වෙයි. නච මම ක්වචනි කත්ථචි කිඤ්චන යනුවෙන් ඇතුළත පිටත කිසිතැනක එක පරිෂ්කාරයක් පිළිබඳවද පලිබෝධ බවක් නැත්තේ යනුයි. සිඳින ලද පලිබෝධ ඇත්තේ යයි කියන ලද්දේ වෙයි. ඉදමසස මූසාවාදසමිං වදාමි වැරදි බැසගැනීම් වශයෙන් පැවැති බැවින් මෙසේ කියන ලදී. මේ මුසාවාදය කියමියි යන අර්ථයි. යම්හෙයකින් මිථ්‍යා දෘෂ්ටිකයන්ගේ යථාව දර්ශනයක් නොලැබෙන බැවින් චතුර්කොටි ශූන්‍යතා දර්ශනය නොවෙයි. එබැවින් නත්ථීමාතා ආදි වචනය මෙන්

මිථ්‍යා දෘෂ්ටි ගැනීම් වශයෙන් 'නාහං ක්වචිනි' ආදිය කියන ලදැයි ගැනීම සුදුසුයැ. මෙහි මුසාවාද ස්වභාවයක් ඇත්තේ වෙයි. භොගෙ යනු මඤ්ච පීඨ, යාගු, භත්ත ආදියයි. අදිනනං යෙව පරිභුඤ්ජති යනු ඊලඟ දින ඇඳෙහි හොවින්නේ ද පුටුවෙහි හිඳින්නේ ද කැඳ බොන්නේ ද, බත් අනුභව කරන්නේද නොදෙන ලද භෝගයක් පරිභෝග කරයි. න මහප්ඵලො ඵලයක් නැත්තේය, මෙසේ වසන ලද උපොසථයෙහි අල්පමාත්‍ර වූ විපාක ඵලයක් ඉෂ්ට වූ කාන්ත වූ මනාප වූවක් නම් නැත. එබැවින් නිශ්ඵලයයි දතයුතුය. උපකිලිට්ඨස්ස චිත්තස්ස යන ආදියෙන් යම්හෙයකින් (පංච නීවරණ) ආදියෙන් කිලිටි වූ සිතින් වසන ලද උපොසථය, මහත්ඵල ඇත්තේ නොවෙයි. පිරිසිදු වූ සිතින් වසන ලද මහත්ඵල ඇත්තේ වේ. එබැවින් යම් කමටහනකින් සිත පිරිසිදු වේද, එම සිත පිරිසිදු කරන කමටහන දැක්වීමට මෙසේ කියන ලදී. එහි උපක්කමෙන යනු වෙන වෙනම මිනිස් ක්‍රියාවලින් හෝ උපායෙන්, තථාගතං අනුස්සරති, අට කරුණකින් තථාගතයන් වහන්සේගේ ගුණ සිහිකරයි. ඉතිපිසො භගවා ඒ භාග්‍යවතුන් වහන්සේ මෙසේ සීලයෙන් සමාධියෙන් ආදි ක්‍රමයෙන් මෙහි සියලු ලෞකික ලෝකෝත්තර බුද්ධගුණ සංග්‍රහ කරන ලදී. අරහං යනාදියෙන් වෙන් වෙන් වූ ගුණයෝම දක්වන ලද්දාහුය. උපක්කිලෙස, පඤ්ච නීවරණයෝය. කක්කං තෙල්ලි කල්කය, තජ්ජං වායාමං එයට සුදුසු වූ කල්කයෙන්, මකබන - සංසසන - ධොවන සංඛ්‍යාත ව්‍යායාමයෙන් පරියොදපනා පිරිසිදු කිරීම, කිලිටි වූ හිසින් යුතුව පැළඳුම් පැළඳ නැකත් කෙළි ක්‍රීඩා කරන්නේ නොගැලපෙත්. පිරිසිදු වූ හිසින් ඒ පළඳනා පැළඳ නැකත් කෙළිවල යෙදීම හොබනේම වේය. මෙසේ කිලිටි සිතින් උපොසථ අංග අධිෂ්ඨානය කොට පෙහෙවස් වසන්නේ මහත්ඵල නොවේ. පිරිසිදු සිතින් එය මහත්ඵල වේය යන අදහසින් මෙසේ කියන ලදී.

බ්‍රහ්මූපොසථ යන්නෙහි බ්‍රහ්ම යයි සම්මා සම්බුද්ධරජාණන් වහන්සේය. උන්වහන්සේ ගුණ සිහිකිරීම් වශයෙන් මේ උපොසථය, බ්‍රහ්ම උපොසථ නම් වේ. එය සමාදන්ව වසයි. ධම්මං යනුවෙන් ත්‍රිපිටකාගත ලොව්තුරු දහම් අදහස් කෙරේ. සොත්ති යනු (=කුරුවින්දපාෂාණ) කුරුඳු වැලි සමග ලාකඩ මිශ්‍රකොට මැණික සාදා විද නූලක අමුණා මැණික් වැල දෙපසින් පිටෙහි අතුල්ලත්. ඒ සඳහා මෙය කියන ලදී. චුණ්ණං නෑමෙහි දී ඇගේ ගෑමට ගන්නා චූර්ණ විශේෂයක් උසුමං දෙතුන් වරක් ලිපෙහි තබා වාෂ්ප වශයෙන් ගන්නා ලද උණුසුම. උසමං කියාද පාඨයකි. මෙය එහි අර්ථය වේ. ඛාරං යනු (ඡාරිකං) අළු, ගොමයං ගෝමූත්‍ර හෝ

එළඹෙති. සීලානි යන්නෙන් ගිහියෝ ගිහි සිල් ද පැවිද්දෝ පැවිදි සිල් ද, අඛණ්ඩානි, ආදියෙහි යං සීලයක් මුලින් හෝ අගින් හෝ බිඳුනේ ද එය ඛණ්ඩ සීල නම් වේ. මැදින් බිඳුනු සීලය 'ඡිද්‍ද' නම් වේ. මුලින් හෝ අගින් හෝ දෙකක් තුනක් පිළිවෙලින් බිඳුනේ සබල සීලනම් වේ. අතරින් පතර බිඳුනේ කම්මාස නම් වේ. එම ඛණ්ඩ භාවාදියෙන් තොරවූයේ අඛණ්ඩ ආදි සීලයෝ වෙති. එවැනි සීලයෝ තණ්හා දාස බැවින් මිදුනු බැවින් භුජිස්ස නම් වේ. බුද්ධාදි උතුමන් ප්‍රශංසා කරන ලද හෙයින් විඤ්ඤුපසත්ථ නම් වේ. තණ්හා දිට්ඨීන්ගෙන් පරාමර්ශනය නොවූ බැවින් අපරාමට්ඨ නම් වේ. උපචාර අප්පනා සමාධීන් සඳහා පවත්නා බැවින් සමාධි සංවත්තනික නම් වේ. වාලණ්ඩුකං අස්කෙඳිවලින් හෝ නියදකෙඳිවලින් කරන ලද කොස්ස. කජ්ජං වායාමං (ඊට සුදුසු ව්‍යායාමය) තෙලින් තෙමා මල (කසට) තෙමුන බව දැන අළු දමා කොස්සෙන් අතුල්ලන උත්සාහය, දේවතා අනුස්සරති දෙවියන් සාක්ෂි වශයෙන් තබා තමාගේ ශ්‍රද්ධාදි ගුණ සිහිකරයි. උක්කං ලිපයි, ලොණං ලුණු මිශ්‍ර මැටි, ගෙරුකං ගුරුසුණු, නාළිසණ්ඩාසං, පිඹින නල හා අඬු පෙරලන අඬු ද, පාණාතිපාතං පානවධං පහාය එම ප්‍රාණඝාත චේතනා නම් වූ දුසිල් බව දුරුකොට, පටිවිරතා ප්‍රහීන කාලයෙහි පටන් එම දුසිල් බැවින් නොඇලුනු එයින් වෙන් වූ, නිහිත දණ්ඩා නිහිත සත්ථා, යනුවෙන් අනුන් නැසීම සඳහා දණ්ඩක් හෝ ආයුධයක් හෝ ගෙන නො පවත්නා බැවින් බහාතබන ලද දඬු ඇත්තේද, බහාතබන ලද ආයුධ ඇත්තේ ද වෙයි යන අර්ථයි. මෙහි දණ්ඩු හැර සියලු අනිකුත් උපකරණ සත්ත්වයන්ට හිංසා කිරීම් අර්ථයෙන් ආයුධ යයි දතයුතුයැ. යම් හෙයකින් භික්ෂූහු සැරයටිය දත්මැදි දැහැටි දඬු හෝ දැලිපිහිය කතුරක් ආදි යමක් ගෙන හැසිරෙති. ඒවා අනුන් ඝාතනය කිරීම පිණිස නොයන නිසා එම භික්ෂූහුද, නිහිතදණ්ඩ - නිහිතසත්ථ ගණයටම වැටෙත්. ලජ්ජී යනු, පවට පිළිකුල් කරන ලක්ෂණ ඇති ලජ්ජාවෙන් යුක්ත වූ යනුයි. දයාපන්නා දයාවට මෙත් සිතට පැමිණියේ යනුයි. සබ්බපාණභූත හිතානුකම්පී සියලු ප්‍රාණීන් වූවන් කෙරෙහි, හිතයෙන් අනුකම්පා කරමින් යනුයි හිතවත් දෙයක් සිතන්නෝ යන අර්ථයි. අහම්පජ්ජ මම ද අද, ඉමිනාපි අංගෙහි මෙම ගුණාංගයෙන්, අරහතං අනුකරොමි (රහතුන්ට අනුව ක්‍රියා කරමි.) යම්සේ ඉදිරියෙන් යන්නේද, පසුව යන්නේද, අනුගච්ඡති නම් වේ. මෙසේ මමද රහතුන් පළමු අනුගමනය කළ මෙම ගුණය පසුව කරන්නේ රහතුන්ට අනුව කියා කරන්නේ වෙමි. දුන් දෙයම ගන්නේ දින්නාදායී නම් වේ. සිතිනුදු දුන්දෙය බලාපොරොත්තු වන්නේ දින්නපාටිකංඛී නම් වේ. සොරකම් කෙරේනුයි ථෙන නම් වේ. සොරකම

නොකරමින් යනු අථෙන නම් වේ. සොරකම් නොකරන අත්බැව් ඇත්තේම වෙයි. සුචිභූතෙන අත්තනා තමා විසින් සොරකම් නොකිරීමෙන් පිරිසිදු වූ ආත්මභාවයක් කොට වාසය කෙරෙත් යයි කියන ලද්දේ වෙයි. අබ්‍රහ්ම චරියං යනු ශ්‍රේෂ්ඨ නොවූ චර්යාවයි. ශ්‍රේෂ්ඨ නොවූවන්ගේ හීන වූවන්ගේ පහත් වූ වෘත්තියයි මෛථුනය යන අර්ථයි. ශ්‍රේෂ්ඨ වූ චර්යාවල හැසිරෙත්නුයි බ්‍රහ්මචාරී නම් වේ. ආරාචාරී (දුරු වූ වැරදි හැසිරීම් ඇත්තා) අබ්‍රහ්ම චර්යාව හේතුවෙන් දූරාචාරී වූ. මෙථුනා රාගයෙන් නැගීසිටි රාගය හා සමාන වූ බැවින් මෙථුන යන වොහාරය ලද, සේවනය කළ යුතු බැවින් මෛථුනය යයි ප්‍රසිද්ධියට පත් අසත්ධර්මයකි. ගාමධම්මා ගම්වැසියන්ගේ ධර්මයෝය යනු අර්ථයි. සත්‍ය කියත්නුයි සත්‍යවාදී නම් වේ. ඇත්තෙන් ඇත්ත ගලපත් ගැටෙත්නුයි සච්චසන්ධා නම් වේ. අතරෙන් පතරවත් බොරු නොකියත් යන අර්ථයි. ථෙතා (ස්ථිරව පිහිටි කථා ඇත්තාහු) ස්ථිර වූ කථා යන අර්ථයි. එක් පුද්ගලයෙක් (හලිද්දිරාගය) කහවල පාට මෙනි. (වහා වෙනස්වේය) දහය්‍යා ගොඩක සිටවූ කණුවක් මෙන් අසුපිට තැබූ කොමඩු ගෙඩියක් මෙන් ස්ථිර ගතියක් නැත. එකෙක් ගලේ කෙටූ අකුරක් මෙන් ද ඉන්ද්‍රඛීලයක් මෙන් ද ස්ථිරව සිටියේ වෙයි. කඩුවෙන් හිස ගසාදමන්නේ නමුදු කථා දෙකක් නොකරයි. මොහුට ථෙත කියනු ලැබේ. පච්චයිකා ඇදහිලි කටයුතු කථා ඇත්තහු, විශ්වාසය ඇති තැනැත්තේය යන අර්ථයි. ඇතැම් පුද්ගලයෙක් වනාහි ඇදහිය හැකි පුද්ගලයෙක් නොවේ. 'මෙය කවුරුන් විසින් කියන ලදද? අසවලා විසිනැයි කී කල්හි, ඔහුගේ වචනය විශ්වාස නොකරව් යයි කිවයුතු බවට පැමිණෙයි. එකෙක් ඇදහිය හැකි කථා ඇත්තෙක් වෙයි. 'මෙය කවරෙකු විසින් කියන ලදද? අසවලා විසිනැයි කී කල්හි ඉදින් ඔහු විසින් කියන ලදද? අසවලා විසිනැයි කී කල්හි ඉදින් ඔහු විසින් කියන ලද්දක් නම් එයම ප්‍රමාණයයි, දැන් එහි පරීක්ෂා කළයුත්තක් නැත. එය එසේම යයි කිවයුතු බවට පැමිණේ. මොහුට පච්චයික යයි කියනු ලැබේ. අවිසංවාදකා ලොකස්ස එම සත්‍යවාදි හේතුවෙන් ලෝකයාව වංචා නොකෙරේය යන අර්ථයි.

සුරාමෙරය මජ්ජපමාදට්ඨානං සුරාමේරය නම් වූ මත්ද්‍රව්‍යයන්ගේ පානය කිරීමේ චේතනා නම් වූ ප්‍රමාදයට කාරණයයි (මදයට හා ප්‍රමාදයට කාරණ වූ රහමෙර) එකභත්තිකා උදේ ආහාරය සවස ආහාරයයි ආහාර වේල් දෙකකි. මොවුන් අතුරෙන් උදේ ආහාරය (දහවල්) මධ්‍යාහ්න සමයෙන් අවසන් වේ. සවස් ආහාරය දවල් මධ්‍යාහ්නයෙන් පසු පසුදින

අරුණෝද්ගමනයෙන් අවසන් වේ. දහවල් මධ්‍යාහ්න සමයෙන් පෙර දසවරක් අනුභව කළත් ඒක භත්තික වේයයි ඒ සඳහා කියන ලදී. රාත්‍රී භෝජනය (රතති, තතො උපරතා රතතූපරතා) මධ්‍යාහ්න කාලය ඉක්මවීමේ සිට හිරු උදාවීම තෙක් යාවකාලික - (ආහාර) ගැනීම විකාලභොජන නම් වේ. අනුභව කිරීම් අර්ථයෙන් සියල්ල යාවකාලික භෝජන යයි කියනු ලැබේ. විකාලභෝජන යන්නෙහි උත්තර පද ලෝපයෙන් භොජන යන්න ලැබේ. විකාලයෙහි යාවකාලික භෝජනය ගැනීම විකාලභෝජන නම් වේ. අර්ථ වශයෙන් විකාලයෙහි යාවකාලික ආහාරය ගැනීමේ චේතනාව විකාල භෝජන නම් වේ.

සසුනට නොසුදුසු බැවින් විහිලු දර්ශන ද, එමෙන්ම රෙදිවල අඳින ලද දර්ශන ද, විසූක දස්සන නම් වේ. නච්ච, ගීත, වාදිත, ඇත්යුද ආදිය දැකීමද ඇසීමද (මෙයට අයත් වේ.) දස්සන යන මෙහි පඤ්ච විඥානයන්ගේ තම තම විෂයට අයත්වන දැනීම අනුව දස්සන ශබ්දයෙහි සංගහ කළයුතු බැවින් ඇසීමද මෙහි සංග්‍රහ කරන ලදී. තමා විසින් නැටීම් නැටවීම් ආදි වශයෙන් පැවැති, නෘත්‍ය ද, ගීතද, වාදිතද, විසුළු දර්ශන ද නච්චගීත විසූකදස්සනං නම් වේ. නෘත්‍ය ආදියෙහි තමා යෙදීම හෝ අනුන් යෙදවීම හෝ යෙදවූ දෙය බැලීම හෝ භික්ෂූන්ට හා භික්ෂුණීන්ට නොසුදුසුය. නැතහොත් කෙලෙසුන්ගේ උපතට හේතු වූ කුසල් පක්ෂය බිඳීමට හේතු වූ නෘත්‍ය, ගීත, වාදිතයෝම විසූක නම් වේ. ඒවා බැලීම නෘත්‍ය, ගීත, වාදිත, විසූක දස්සන නම් වේ. බලනු කැමැත්තට පැමිණ බැලීමෙහිදීම මෙහි ශික්ෂාපදය බිඳීම වේ. සිටි හිඳි, නිදි අවකාශයන්ට ආපාථගත වූ දර්ශනයක් හෝ කිලුටක් මිස, එහෙත් ශික්ෂාපදය නොබිඳේ. ධර්මානුකූල වූ ගීතය ඇසීම සුදුසුය. ගීතූපසංහිත වූ ධර්මය නොදුසුයයි දතයුතුයැ. මාලාදියෙහි මාලා යම් කිසිමලක්, යටත් පිරිසෙත් නූල් ආදියෙන් සකස් කළ මල් ආදියද අලංකාරය පිණිස පළඳිනු ලබන්නා වූ මල් ගණයෙහි ලා සලකනු ලබත්. ගන්ධං විලේපනයන්ගෙන් අන්‍ය වූ සුවඳකුඩු ආදි යම්කිසි සුවඳ වර්ගයක් විලෙපනං (සිරුරෙහි) ගැල්වීම සඳහා අඹරාගත් ඡවි වර්ණයට කාරණ වූ කිසියම් සුවඳ වර්ගයක්, එහි පළඳින්නේ දරයි නම් වේ. අඩු තැන් පුරවන්නේ මණ්ඩනය නම් වේ. සුවඳ වශයෙන් හෝ ඡවි රාග පිණිස හෝ ඒවා ඉවසන්නේ විභූසන නම් වේ. මල් ආදිය දැරීම් ආදියෙන් යම් සංඛ්‍යාවක් යෙදිය යුතු වේද, ඒ සියල්ල ධාරණය පිණිස මණ්ඩනය පිණිස විභූසනය පිණිස සුදුසු නොවේ. බෙහෙත් සඳහා සුදුසුයැ. පූජාව සඳහා ගෙනෙන ලද්දක් ඉවසීම කිසියම් පරියායකින් වත් සුදුසු

නොවේ. ඨානං කාරණාව කියනු ලැබේ. එබැවින් යම් ඒ දුශ්ශීල චේතනාවෙන් ඒ මාලා දැරීම් ආදිය මහජනයා කෙරේ ද එයින් වෙන්වූයේ යන අර්ථයි.

**උච්චාසයනං** යනු පමණ ඉක්මවූ අසුන එහි ප්‍රමාණය නම්, යමෙකුගේ යටිපතුලේ සිට ඇඳ විට්ටම දක්වා යටත් පිරිසෙන් සුගත් අගලෙන් අට අගලක් පමණ, මැදුම් පිරිමියෙකුගේ අතින් මිටි රියනක් පමණ පාදක චේද එම ප්‍රමාණය ගැනීම සුදුසුය. ඊට අධික වූයේ පමණ ඉක්මවූයේ වෙයි. එය සුදුසු නොවේ. **මහාසයනං** මහාසයන නම් අකැප ඇතිරිලිය. මෙසේ උච්චාසයන, මහාසයන දෙකම ස්වරූප වශයෙන් කියන ලදී. **ආසන්දි** (සුගත් අඟුලින් අට අඟුලකට වඩා දික් පා ඇති ඇඳ පුටු) **පල්ලංක** (සිංහ ව්‍යාල රූප ආකෘති පා ඇති අසුන්) **ගොණක** (සතරගුල් පමණ දික්ලොම් ඇති පලස්) **චිත්තකා** විසිතුරුකොට වියන ලද එළලොම් ඇතිරිල්ල) **පටිකා** (සඳකඩ පහනක ආකෘතියට කළ අසුනක්) **පටලිකා** (ගෙතූ මල් ඇති ඇතිරිල්ල) **කූලිකා** (පුළුන් මෙට්ටය) **විකතිකා** (සිංහ ආදි රූප ඇති පලස) **උද්දලොමී**, (එක් පිටක කළ එළලොම් සහිත ඇතිරිල්ල) **එකන්තලොමී** (දෙපස ලොම් ඇති ඇතිරිල්ල) **කට්ඨිස්සං** මැණික් ඇල්ලූ පට වස්ත්‍රය. **කොසෙය්‍ය** (පට වස්ත්‍රය) **කුත්තකං** (ස්ත්‍රීන් දොළසකට පමණ නැටිය හැකි තරම් විශාල පලස) **හත්ථත්ථරං** (ඇතුන් පිට අතුරන ඇතිරිලි) **අස්සත්ථරං** (අසුන්පිට අතුරන ඇතිරිලි) **රථත්ථරං** (රථවලට යොදා ඇතිරිලි) **අජිනප්පවෙණි** (අඳුන් දිවිසම් මසා ඇඳක ප්‍රමාණය සෑදූ ඇතිරිල්ල) **කාදලි මිග පවර පච්චත්ථරණං** (කෙසෙල් මුව සමින් කළ උතුම් පසතුරුණ) **සඋත්තරච්ඡදං උභතො ලොහිතකූපධානං** උඩ ඇතිරිල්ල දෙපස රතු උස රවුම් කොට්ට තබවා ලද අසුන යම් හෙයකින් ආධාරකය ප්‍රතික්ෂෙප කළ කල්හි එය ආධාරකොට පවත්නා වූ ක්‍රියාවෝ ද ප්‍රතික්ෂෙප කළාහු වෙති. එබැවින් උච්චාසයන, මහාසයන මෙසේ කියන ලදී. අර්ථ වශයෙන් ඒ සඳහා පරිභෝගයට ගනු ලබන (නිසජ්ජ (හිඳින) නිපජ්ජ (නිදන) ක්‍රියාවන්හි විරතිය දක්වන ලද්දාහු යයි දතයුත්තාහුය. ආසනද ඉහත සයනෙහි සංග්‍රහ වෙයි. එකසෙස නයින් හෝ ආසන්න ක්‍රියාව පූර්ව බැවින් හෝ සසන ග්‍රහණයෙන්ම ආසන ද ගන්නා ලද යයි දතයුතුයැ.

**කිංච මහප්ඵලා** කොපමණ මහත්ඵල ද, **පහූත රතන රතනානං** බොහෝ සත්රුවන් ඇත්තා වූ මුලු දඹදිව් තලය බෙරතලයක් මෙන් කොට කටී ප්‍රදේශය දක්වා උසට රන්රුවනින් පුරවන ලද්දේ යයි අදහස්

කරන ලදී. රතත ශබ්දය රතන පරියාය යයි කීහ. පහූත -පෙ- සමනනාගතානං, පෙලෙහි වනාහි පහූත සතත රතනං යනුවෙන් පාඨයක්ද පෙනේ. ඉසසරියාය පචචං ඊශ්වර බැවින්ද අධිපති බැවින්ද යුක්තය. ඊශ්වරත්වයම මෙහි අධිපති බවයි. (ඓශ්වර්යය ආධිපත්‍යයෙන් යුක්තව රාජ්‍ය කෙරේ.) රජ්ජං කරෙය්‍ය මෙවැනි සක්විති රජෙක්ව රාජ්‍ය කරන්නේය. අංගානං ආදිය ඒ ජනපදයන්ගේ නාමයෝය. කලං නාගඝති සොළසිං එක් දවසක් වසන ලද උපොසථ ශීලමය පින සොලොස් භාගයකට බෙදා ඉන් එක කොටසක් තරම් නොඅගී. (එම සක්විති රජකම) එක් රාත්‍රී උපොසථ ශීලයක විපාක ඵලයෙන් සොලොස් කලාවෙන් එකකට වඩා නොවටී. (සක්විති රාජ්‍ය සම්පත්තිය) එය එයට වඩා බහුතර වේය යන අර්ථයි. කපණං යනු ස්වල්පය. සහව්‍යතං (එක්වීමට) දෙවියන් හා සහභාගී වී උපදිත් යනු අර්ථයි. ගාථාවෙහි රතතිං න භුඤ්ජෙය්‍ය විකාල භොජනං පෙහෙවස් සමාදන් වූ තැනැත්තේ රාත්‍රී භෝජනයද විකාල භෝජනයද අනුභව නොකරන්නේය. මඤ්චෙ, ඡමායං ච සයෙථ සනථතෙ, මිටි රියනක් උස පා ඇති කැපවූ ඇඳෙහි හෝ සුධාදීන් (හුණු බදාම) පිරියම් කරන ලද භූමියෙහි හෝ තෘණ, පර්ණ, පලාල (වීදුරු) ආදිය අතුරා සංස්තරණයෙහි හෝ නිදන්නේය. එතංහි අට්ඨංගික මාහුපොසථං මෙය වනාහි ප්‍රාණඝාතයෙන් වැලකීම ආදී අංග අටකින් යුක්ත වූ උපොසථය යයි කියති.

උපොසථ සීලය සමාදන් වන්නහු විසින්, හෙට පෙහෙවස් සමාදන් වන්නෙමැයි, අදම මේ මේ දෙය කරව් යයි ආහාර සම්පාදන ආදිය කථා කළයුතුය. පොහොය දිනයෙහි උදෙන්ම, භික්ෂුවකගේ හෝ භික්ෂුණියකගෙන් දසසිල් සමාදන් වූ උපාසක කෙනෙකුගේ හෝ උපාසිකාවකගේ හෝ සමීපයෙහි වචනයෙන් ශබ්ද නගා අට්ඨසික්ඛාපදානි සමාදියාමි කියා එකට හෝ වෙන වෙනම හෝ පාලියෙහි ආ අයුරින් සමාදන් විය යුත්තාහුය. පාලිය නොදන්නවුන් විසින්, 'බුද්ධ පඤ්ඤත්තං උපොසථං අධිට්ඨාමි' යනුවෙන් අධිෂ්ඨානය කළයුතුය. වාග්භේදය වූ කලී කළයුත්තේමය. පෙහෙවස් සමාදන් වන්නහු විසින් අනුන්ට සඟවන ලක්ෂණ ඇති කර්මාන්ත නොයෙදිය යුතුයැ. බය-වය දෙක මෙනෙහි කරමින් කල්ගත කළයුතුය. ගෙදරදී වුවද ආහාර ලැබ, දිනපතා දන්වැට ලබන භික්ෂුවක මෙන් අනුභව කොට විහාරස්ථානයට ධර්මය ශාස් ඇසිය යුත්තේය. අටතිස් අරමුණු අතරින් එකක් මෙනෙහි කළ යුතුය.

සුදස්සනං සුන්දර දර්ශනය, මහාසයං බබුලුවමින් අනුපරියනති, හැසිරෙත්, යාවතා, යම්පමණ ප්‍රදේශයක් අනතලික්ඛගා, අහසින් යන්නා වූ, පභාසනති බබලත් ද, පැහැය මුදත් ද, දිසාවිරොචනා සියලු දිසාවන්හි බබලමින්, නැතහොත් දිසාවන් ආලෝකමත් විරොචමානා යනු ද යෙදීමකි. වෙළුරියං, මණිං යනුවෙන් කියා මේ ජාති මාණික්‍ය භාවය දක්වයි. එක් වසක් ඉක්මුන වෙළු (උණ) වර්ණ ඇති වෙළුරිය නම් ජාතික මාණික්‍යයයි ඒ සඳහාම කියන ලදී. භද්දකං සිත්කළු සුන්දර යන අර්ථයි. සිංගී සුවණ්ණ ගව ශෘංග සදියට උපන් හෙයින් මෙසේ නම් ලැබූ සුවර්ණ කඤ්චගං පර්වතයෙහි හටගත් සුවර්ණ ජාතරූපං ශාස්තෘ වණ්ණ සුවර්ණ යයි ද හටකං කුහුඹුවන් විසින් ඇද නිකුත්කළ හෙයින් හටක සුවර්ණ යයි ද කියනු ලැබේ. නානුභවනති නො පැමිණෙත්. චන්දප්පභා සාම් අර්ථයෙහි ප්‍රථමා චන්ද්‍රප්‍රභාවගේ යන අර්ථයි. (අහො රාත්‍රියෙක්හි ආරක්ෂා කළ සීලයෙන් සොලොසින් කොටසකුදු (ස්වර්ණාදිය) නොවෙත්) යම්සේ සඳඑළියෙන් සියලු තාරකාවන්ගේ කලාව කුදු නොවෙත්. ඒ අතර වූ ඒ ධනයෝ ද, මුතු වෙළුරිය ආදී මැණික් ද සොලොස් කලාවෙන් එකකුදු නොවෙත් යයි දතයුත්තේය. උපවසසු උපොසථං පෙහෙවස් සමාදන්ව සුඛ වෙදනීය වූ සුඛවිපාක ගෙන දෙන්නා වූ පින්කොට සගගමුපෙනති ඨානං ස්වර්ගයට පැමිණෙත්. කිසිවෙක් නින්දිත නොවැ ස්පර්ශයෙහි උපදිත් යයි කියති.

විසාඛූපොසථ සූත්‍ර වර්ණනාව නිමි.

## 13.

සිගාලෝවාද සුතෙත සිගාලෝවාද සූත්‍රයෙහි සිගාලකො යනු ඔහුගේ නමයි. ගහපති පුතෙත යනු ගහපතියාගේ පුත්‍රයාය. ඔහුගේ පියා වනාහි ගෘහපති මහාසාලයෙකි. නිදන්කොට තැන්පත් කර ඇති ඔහුගේ ධනය ඔහුගේ ගෙදර සතලිස් කෝටියක් ධනය ඇත. හෙතෙම භාග්‍යවතුන් කෙරෙහි නිමාවට පත් සෝතාපන්න කෙනෙකි. ඔහුගේ භාර්යාවද සෝතාපන්න වූවාමය. පුත්‍රයා වූ කලී ශ්‍රද්ධා නැත්තෙකි. බුදු සසුනෙහි නොපහන් කෙනෙකි. එනිසා ඔහුගේ මව්පියවරු නිතර මෙසේ අවවාද කරති. දරුව, බුදුරදුන් වෙත එළඹෙන්න. දම්සෙනෙවි සැරියුත් තෙරුන් වෙතද මුගලන් මහාකාශ්‍යප තෙරවරුන් වෙතද, අසූමහා ශ්‍රාවකයන්

වෙත ද, එළඹෙන්න යනුවෙන්, හෙතෙම මෙසේ කියයි. 'මට තොපගේ ශ්‍රමණයන් වහන්සේ වෙත එළඹීමෙන් වැඩක් නැත. ශ්‍රමණයන් සමීපයට ගොස් වැඳිය යුත්තේ වෙයි. නැමී වඳිනවිට පිට රිදෙයි. දෙදණද වේදනා ඇත්තාහු වෙත්. බිම හිඳගත යුතුය. එසේ හුන්නහුගේ වස්ත්‍රයෝ කිලිටි වෙති. දිරති. සමීපයේ හුන් කාලයේ සිටම කථාබස් ඇති වෙයි. එසේ කල්හි විශ්වාසය ඇතිවෙයි. ඉක්බිති ආරාධනා කොට චීවර පිණ්ඩපාත ආදිය දියයුත්තාහු වෙත්. එසේ ඇතිකල්හි ධනය පිරිහෙයි. එනිසා මට තොපගේ ශ්‍රමණයන් වෙත එළඹීමෙන් වැඩක් නැත. මෙසේ දිවි ඇතිතාක් අවවාද කරන්නේ නමුදු මව්පියන්ගේ අවවාදයට පමුණුවන්නට නොහැකි වූවාහුමය.

ඉක්බිති ඔහුගේ පියා මරණ මංචකයේ හොත්තේ මෙසේ සිතීය. 'මගේ පුත්‍රයාට අවවාද දීම සුදුසු යයි සිතා නැවත මෙසේ සිතීය. 'දරුව, දිසා නමස්කාර කරන්න, යනුවෙන් අවවාද කරමි. හෙතෙම අර්ථය නොදන්නේ දිසා වඳින්නේය. අනතුරුව බුදුරදුන් හෝ ශ්‍රාවකයෝ හෝ මෙය දැක කුමක් කරන්නෙහු දැයි අසන්නේය. අනතුරුව හෙතෙම 'මගේ පියා දිසා නමස්කාරය කරන්න යයි අවවාද කළ බව කියයි. එවිට ඔහුට 'කවර හේතුවකින් ඔබගේ පියා මේ දිසාවන් වන්දවයිද? මේ දිසාවන් වඳුවයි ධර්මය දේසනා කරති. හෙතෙම බුදු සසුනෙහි ගුණ දැන පුණ්‍ය කර්ම කරන්නේ යයි ඉක්බිති ඔහු අමතා දරුව, උදෙන්ම දිසා නමස්කාරය කළයුත්තේ යයි මරණ මංචකයෙහි හුන්නාහුගේ කථා දිවි ඇතිතාක් සිහිකළ යුතු වෙත්. එබැවින් එම ගහපති පුත්‍ර තෙම එම පියාගේ වචනය සිහිකරමින් මෙසේ කළේය.

පුප්ඵ දිසා බොහෝ දිසා පාවිසි තවම පිවිසියේ නැත. පිවිසෙන්නෙමි යනුයි. නික්මුනේ වුවද අතරමග බැවින් මෙසේ කියනු ලැබේ. අද්දසා ඛො භගවා දැන් පමණක් දැක්කේ නොවෙයි. අළුයම බුදුඇසින් ලොව බලන්නේ මෙම දිසා නමස්කාරය දැක අද මම සිගාල ගහපති පුත්‍රයාට ගිහි විනය වූ සිගාලෝවාද සූත්‍රය දේශනා කරන්නෙමි. මහජනයාට එය වැඩ සහිත වන්නේ යයි, මා එහි යා යුතු යයි එබැවින් උදෙන්ම රජගහ නුවර පිඬු පිණිස පිවිසියේය. පිවිසෙන්නේම එය එසේම දුටුවේය. එතදවොච හෙතෙම නුදුරෙහි සිටියේ බුදුරදුන් නො දකියි. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ කිනනු ත්වං ගහපතිපුත්තක තුඹ කුමක් කරන්නේද, ආදි වචනය ප්‍රකාශ කළේය. යථා කථමපන භනෙත යථා යනු නිපාත

මාත්‍රයකි. කථමපන, විමසීම පදයකි. අපාය මුඛානි විනාශ මුඛයෝය. සො සෝතාපන්න තෙමේ. ඡද්දියා පටිච්ඡාදි ස දිසාවන් වසන්නේ උභොලොක විජයාය මෙලොව පරලොව ජයගැනීම පිණිස, අයඤ්චව ලොකො ආරද්ධො හොති, මෙවැන්නහුගේ මේ ලෝකයෙහි පංචවිධ වෛරයෙන් නොමවෙත්. (පස් පව්) එහෙයින් හෙතෙම මෙලොව අරඹන ලද්දේ වෙයි. සතුටුකරන ලද්දේ වෙයි. පරලොවිහිද පංච වෛරයෝ නොවෙත්. එහෙයින් හෙතෙම පරලොව පටන්ගත්තේ වේ. එබැවින් කාබූන් මරණින් පසු සුගතිය වූ ස්වර්ගයෙහි උපදිති. කර්මය කෙලෙස් සම්ප්‍රයුක්ත බැවින් කම්මකකිලෙස නම් වේ. කෙලෙස් සහිත වූවෝම ප්‍රාණීන් නසති. කෙලෙස් නැත්තෝ ප්‍රාණීන් නොම නසති. එබැවින් ප්‍රාණඝාත කම්මකිලෙස යයි කියනු ලැබේ. අදත්තාදාන ආදිය පිළිබඳවද මෙම ක්‍රමයමැයි.

ඡන්දාගතිං ගච්ඡනෙතා ඡන්දයෙන් ප්‍රේමයෙන් අගතියට යන්නේ නොකළ යුතු දෙය කරයි. අනිකුත් (අගති ධර්මයන්) පිළිබඳවද මෙම ක්‍රමයමැයි. 'මෙහි යමෙක් මෙම මගේ මිත්‍රයා හෝ භක්තිමත් මිත්‍රයා හෝ දැකපුරුදු මිත්‍රයා හෝ නෑයා හෝ අල්ලසක් හෝ මට දෙන්නේ යයි ඡන්ද වශයෙන් අස්වාමියෙක් ස්වාමියෙක් කෙරේද, මේ ඡන්දයෙන් අගතියට ගොස් පව් කරන්නේ නම් වෙයි. යමෙක් 'අයං මේ වෙරී' මගේ මේ වෛරක්කාරයෙකැයි ප්‍රකෘති වෛරයෙන් හෝ එකෙනෙහි හටගත් කොටසෙන් හෝ අස්වාමියෙකු ස්වාමියෙකු කෙරේද, මේ ද්වේෂයෙන් අගතියට යන්නේ පව් කරන්නේ නම් වේ. යමෙක් මන්දබුද්ධික බැවින් හෝ මෝහයෙන් මුලා වූ බැවින් හෝ යම් යම් දෙයක් කියා ස්වාමියකු අස්වාමියකු කෙරේ ද, මේ මෝහයෙන් අගතියට ගොස් පව් කරන්නේ නම් වේ. යමෙක් 'මෙතෙම රාජවල්ලභයෙකි. විසමට සිටියහොත් අනතුරක් කරන්නේ යයි භයට පත්වූයේ අස්වාමියෙකු ස්වාමියෙකු කෙරේ ද, මේ භයින් අගතියට ගොස් පව් කරන්නේ නම් වේ. යමෙක් කිසිවක් බෙදන්නේ කියූ අයුරු ප්‍රේමයෙන් අතිරේක කොටසක් දේද, ද්වේෂ වශයෙන් අඩුවෙන් දේ ද, මෝහයෙන් මුලා වූයේ දුන් නොදුන් දෙය නොදෙන්නේ කිසිවෙකුට අධිකව දේ ද භයවී යමෙකුට අතිරේකව (වැඩිපුර දේද, හෙතෙම පිළිවෙලින් ඡන්ද ආදී අගතීන්ට යන්නේ පව් කරන්නේ නම් වේ. ආර්ය ශ්‍රාවක තෙම වනාහි ජීවිතය විනාශ වුවත් ඡන්දා දී අගතියකට නොයයි. තසස යසො ඔහුගේ කීර්තිය ද පරිවාර යසස් ද,

විකල විසිඛා චරියානුයොගො නොකල්හි වීථීන්හි හැසිරීමේ යෙදුනේ, නැවත නැවත හැසිරෙන්නේ සමජ්ජාභිචරණං නෘත්‍ය දැකීමේ අදහසින් නාට්‍ය දර්ශන දක්වන ස්ථාන වෙත පැමිණීම ආලස්සානුයොගො කයෙහි අලස බැවින් යුක්ත වූයේ, රොගානං ආයතනං ඇස්රෝග ආදියට හේතු වූයේ අකිත්ති සඤ්ජනනී නින්දා සිරකර තැබීම් ආදී අයස උපදවන, කොපී නං නිදංසනී සැඟවුන තැන් විවෘතකොට හැසිරීම් හේතුවෙන්. පඤ්ඤාය දුබ්බලී කරණී ප්‍රඥාව විනාශවීම් වශයෙන් ඡට්ඨං පදං, භයවන කරුණ නොවේලාවෙහි ඇවිදීමෙන් කණු-කටු ආදිය ගැටේ. සර්පයන්ගේද සතුන්ගේද සභාවය (හමුවට) යයි. ඒ ඒ කරුණු හේතු වශයෙන් දැන සතුරෝද සැඟවී අල්ලා ගනිත්. නැතහොත් මරත්. මෙසේ අත්තාපිස්සාය අගුත්තො අරක්ඛිතොහොති පුත්තදාරොපිස්ස අගුත්තො අරක්ඛිතො, 'අපේ පියා අපේ ස්වාමියා රාත්‍රී කාලයෙහි ඇවිදියි. අපට එය නරකදැයි පිටත අරමුණු ඇතිව රාත්‍රී කාලයෙහි ඇවිදින්නේ මහත් විනාසයට පැමිණෙන්නේ ඔහුගේ අඹුදරුවන් රාත්‍රී කාලයෙහි සොර කිසිවෙකු නැති ගෙවලට ඇතුල්ව, යමක් කැමති ද ඒවා ගෙන යති. පාපකෙසු ඨානෙසු අනුන් විසින් කරන ලද කර්මයන්හිද, මොහු විසින් කරන ලද්දේ යයි සැක කළයුතු බවට පැමිණෙයි. යම් යම් ගෘහද්වාරයෙකින් යේද අනුන් විසින් කරන ලද සොරකම් ආදිය එය මොහු විසින් කරන ලද්දේ යයි කීවිට අභූත චෝදනාව ඔහු කෙරෙහි වැටේ. 'පුරක්ඛතො' පුරෝගාමී, ඔහු නිසා බොහෝ දුක්ඛ ධර්මයෝ වන්නාහුය යන අර්ථයි.

ක්ව නච්චං කිනම් තැනෙක්හි නෘත්‍ය පැවැත්වේදැයි අසා නාට්‍ය බැලීම සඳහා සුවඳමල් ආදිය පිළියෙල කර දෙන්නහුට හෝ ගොස් එසේම දෙතුන් වාසය කරන්නහුට හෝ කර්මාන්ත සිඳී යාමෙන් නූපන්නා වූ භෝගයෝ නූපදිත්. රැකවල් නොමැති ඔහුගේ ගෙයි සොරුන් විසින් ධනය පැහැර ගැනීමෙන් උපන්නා වූ ධනයද විනාශ වෙත්. ගීතං කිසියම් ගීතයක් අක්ඛානං භරත රාමයුද්ධ ආදිය කිම. පාණිස්සරං කංසතාල ආදිය (අත්පොලසන් දීම) කුම්භථූනං (එකැස් වාද්‍ය විශේෂයක්) (චතුරස්ස අම්මණ තාලං) දක්ෂ වූ අමුණක් වපසරිය ඇසෙන වාදනයක්, ඇතැමෙක් කලගෙඩියකින් නිකුත් ශබ්දයකැයිද කියති. ජයං වෙරං යනුවෙන් මවිසින් දිනන ලදයි, ඔහුට පිරිස්මැදද වස්ත්‍ර ආදිය ගැනීමෙන් දිනූ තැනැත්තේ අවමන් කරයි. (නැවත) පරාජය වූ තැනැත්තේ පැරදුනේ වෙමි. ඔහු මම උගත්වනවා, ඔහු කෙරෙහි වෛර බඳී. මෙසේ වෛරය මෝරා යයි. ජිනො විත්තමනුසොචති ඔහුගේ ඇඳුම් ධනය ගැනීමෙන් ඒකාන්තයෙන්

මම පැහැර ගතිමි. ඒකාන්තයෙන් මට කිසිවක් නැතැයි සිත අනුව සෝක කෙරෙයි. තැවෙයි. සන්දිට්ඨිකාධනඤ්ජානි යම් දුකින් එකතු කළ ධනයක් ඔහු බලාසිටියදී ඉදිරිපිටදී ගනියි.

**සභාගතස්ස** වචනං න රූහති (සභාවට යන ලද්දහුගේ වචනය නොම උපදී.) විනිශ්චය ස්ථානයේ සාක්ෂි විචාලේ ද, මොහු සූදුකාරයෙකි. ඔහුගේ වචනය නොපිළිගනිව් යයි වචනයෙහි ද ස්ථාවර භාවයක් නොලබයි. **පරිභූතොපි**, (අවමානයට ලක්වූයේද) වලක්වන්නහුගේ (වචනය) නොගැනීමෙන් නින්දා ලබන්නේ එහි මිත්‍රාමාත්‍යයෝ මෙසේ කියති. 'යහළුව, ඔබ සූදුකාර කුලපුත්‍රයෙකි. බිඳීගිය කෙනෙකු වී ඇවිදින්නෙහිය. ඔබගේ ජාතිගෝත්‍ර ආදියට මෙය සුදුසු නොවේ. මෙතැන් පටන් මෙසේ නොයේවයි කී කල්හිදු ඔවුන්ගේ වචනය නොකරයි. ඒ හේතුවෙන් ඔහු සමග එකට නොසිටියි. නොහිඳියි. සාක්ෂි ඇසූ කල්හිදු නොකියයි. මෙසේ මිත්‍රාමාත්‍ය ආදීන්ගේ ගැරහීමට ලක්වෙයි. **ආවාහක විවාහකානං**, ආවාහකා, නම් අනුන්ගේ ගෙදරකින් දැරියක් ගනු කැමැත්තෝ විවාහක නම් යමෙක් අනුන්ගේ ගෙදරට දැරියක් දෙනු කැමැත්තා. **ධුත්තා** අක්ඛධුත්තා එනම් සූදුවෙහි යෙදුන, **සොණ්ඩා** ඉත්ථිසොණ්ඩ, භත්තසොණ්ඩ, පූවසොණ්ඩ, මූලකසොණ්ණ (=අගමුල) (මෙනම් දේවල ඇළුනාහු) පිපාසා, බීමෙහි ඇලුනු, **නෙකතිකා** (කෛරාටික) ඇත්ත බඩු ලෙස එයට සමාන හොරබඩුවලින් වංචා කරන්නා. **වංචනිකා** ඉදිරිපිට වංචා කරන්නාහු. **සාහසිකා**, එක ගෙයක් වටකොට එය පැහැරගැනීම් වැනි සාහසික කම් කරන්නා වූ, **ත්‍යාසස මිත්තා හොනති**, **තෙ සභායා** හෙතෙම අන්‍ය සත්පුරුෂයන් සමග නො ඇලෙයි. එක්නොවෙයි. සුවඳ මල් ආදියෙන් සරසා උතුම් වූ සයනයකට නැංවූ ඌරා අශුචි වලට යන්නාක් මෙන් පවිටු මිතුරන් කරාම එළඹෙයි. එබැවින් දිටැදැමියෙහි ද මරණින් මතු ද බොහෝ අනර්ථයන් කරා යෙයි. **අතිසීතනති කම්මං න කරොති.** මිත්‍රවරුනි, එන්න වැඩට යන්න කියා කථා කළ කල්හි 'දැන් ඉතාම සීතයි, ඇට කකියනවා, තොප පළමුව යන්න. මම පසුව එන්න බලන්නෙමැයි කියා, ගිනි තපිමින් හිඳියි. **පානසඛා** එකෙක් බොනතැන සුරාසැලෙහි සහාය වෙයි. **සම්ම සම්මියො** යහලුව, යහලුව, කියමින් ඉදිරිපිට ද යහළුවෙකු වශයෙන් පෙනීසිටි නැතිතැන හතුරෙකු මෙන් කටයුතු කෙරේ. **අත්ථෙසු ජාතෙසු** වැඩ ඇතිකල්හි. **උසසූර සෙය්‍යා** සියලු රාත්‍රී කාලයට නිදා හිරු නැගී කල්හි නැගිටින්නෝ. **වෙරපපසංගො**, වෛරය බහුලකොට ඇතිබව. **අනත්ථා**, විනාශයට හේතුවූ කාය වචී ක්‍රියාවෝ. **උභයා ධංසතෙ** මෙලොව

පරලොව දෙකින්ම විනාශ වේ. අකඛිත්‍ථියො අක්‍ෂධූර්ත ස්ත්‍රී ධූර්ත වීම. වාරුණි සුරාපානය කිරීම, පාපචරියා අකාලෙ නොකල්හි මාර්ගයෙහි පවිටු බොරු හැසිරීමද, අකිඤ්චනො, කිසි වස්තුවක් නැත්තා වූ. රත්තිනුට්ඨා න දස්සිනා රාත්‍රියෙහි නැගී නොසිටින ස්වභා ඇත්තාහු විසින් තිණා හියො බොහෝ කොට තෘණපාත්‍රයන් කොටවත් නො සිතාද, අඤ්ඤදත්ථුහරො තෙමේ හිස් අතින් අවුත් ඒකාන්තයෙන් යම්කිසි වස්තුවක් ගෙනයන්නා වූ. වචීපරමො වචන මාත්‍රය පමණක් ඇති දායක කාරක කෙනෙකු මෙන් වූ. අනුප්පිය භාණී අප්‍රිය වචන කියන්නා වූ. අපාය සහායො වස්තු විනාශයට සහාය වූ, භයසස කිච්චං කරොති, තමන්ට භයක් උපන් කල්හි මිත්‍රයාගේ දාසයෙකු මෙන් වී ඒ ඒ කටයුතු කරන්නා වූ ආදරයෙන් නොවේ. සේවති අත්ත කාරණා, මිත්‍රයෙකු වශයෙන් සේවයක් නොකරයි. තමන්ගේ ප්‍රයෝජනයම බලාපොරොත්තුවෙන් සේවනය කරයි. අතීතෙන පටිසන්ථරති (අතීත දෙයින් සංග්‍රහ කිරීම) 'ඊයේ නොපැමිණියෙහිය. අපගේ මෙම ස්ථානයෙහි සංග්‍රහ ද්‍රව්‍ය බොහෝ විය. හැල් යව බීජ ආදිය තබා මගබලමින් සිටියෙමු. අද සියල්ල අවසන් විය. මෙසේ අතීතයෙන් සංග්‍රහ කෙරෙයි. අනාගතෙනං යහළුවන් ආ කල්හි 'මේ වාරයෙහි අපගේ ශස්‍ය මනා සේ වන්නේය. හැල් ආදීහු අනාගතයෙහි තොපට සංග්‍රහ කරන්ට සමර්ථ වන්නේය. මෙසේ අනාගතයෙන් සංග්‍රහ කෙරේ. නිරත්ථකෙන (නිරර්ථක වචනයෙන් සංග්‍රහ කෙරේ ද?) ඇතෙකු පිට හෝ අසෙකු පිට හෝ හුන්නහුගේ සහාය දැක, එන්න පින්වත මෙහි හිඳගන්න යයි කියයි. මන වඩන සළුවක් පොරවා, මගේ යහළුවාට මා වැනි වෙන කෙනෙක් නැතැයි කියයි. මෙසේ නිරර්ථක වචනයෙන් සංග්‍රහ කෙරේ. පච්චුප්පන්නෙසු කිච්චෙසු ව්‍යසනං දස්සෙති ගැලකින් වැඩක් ඇතැයි කී කල්හි, රෝදය බිඳිලාය. අකඩය බිඳිලාය, යනාදිය කියති. පාපකම්පිස්ස අනුජානාති ප්‍රාණඝාත ආදි යම්කිසි පාපකර්මයක් කරමු යයි කී කල්හි, හොඳයි යහලුව කරමු යයි අනුමත කරයි. සුභදා සුන්දර වූ හදවතක් ඇති සමකතං රකබති, මත්පැන් බී, ගම මැද හෝ ගම් දොර හෝ, වැද හොත් අයෙකු දැක, ඉදින් ඔහුගේ හඳනා පොරෝණා පමණකුදු ගන්නෙමි නම් මැනවයි සමීපයෙහි පිබිදෙන කල්හි රැගෙන යති. ගුය්හ මස්ස ආචික්ඛති තමාගේ සැඟවිය යුතු කථා අන් අයට නොකියා ඔහුටම කියයි. ගුය්හමස්ස පරිගූහති ඔහු විසින් කියන ලද සැඟවිය යුතු කථා යම්සේ අන්‍යයෝ නොදනියි ද එසේ ආරක්ෂා කරයි. අභවෙනස්ස න නන්දති ඔහුගේ දියුණුව නොවීමෙන් හෝ අඹුදරුවන්ගේ හෝ පිරිවර ජනයාගේ හෝ පිරිහීම දැක හෝ අසා සතුටු

නොවෙයි. නොසතුටු සිත් ඇත්තේ වෙයි. භවෙන දියුණුවීමෙන් එයට සුදුසු වූ යස සම්පත් හෝ යසඉසුරු ලැබීම හෝ දැක අසා සතුටු වෙයි. සතුටු සිත් ඇත්තේ වෙයි. **අවණ්ණං භණමානං නිවාරෙති** අසවල් තැනැත්තේ විරූපය පැහැදීම් ගුණයෙන් තොරය. දුකසේ දැකිය හැක්කෙකි. දුස්සීලං මෙසේ කියන ලද්දේ, 'එසේ නොකියනු මැනවි. හෙතෙම රූපවත්ය. පැහැදීම් ගුණයෙන් යුක්තය. සුජාතං සිල්වත්ය යන මෙවන් වචනවලින්, අනුන් තම සහායකයාගේ අගුණ කියන කල්හි එයින් ඔහු වලක්වයි. **වණ්ණං භණමාන පසංසති** අසවල් තැනැත්තේ රූපවත්ය. පාසාදිකය. සුජාතය. සීලසම්පන්නය ආදී වචනයන් කී කල්හි අහෝ යහපත් දෙයක් කියන්නෙහිය. සුභාසිතයකි. එය එසේමය. හෙතෙම රූපවත්ය. පාසාදිකය. සුජාතය. සීල සම්පන්නය යනුවෙන් තම සහායකයා පිළිබඳව අනුන් ගුණ වර්ණනා කරනවිට එම ගුණ වනන්නහුට ප්‍රශංසා කෙරෙයි.

**ජලමග්ගීව භාසති** රාත්‍රී කාලයෙහි පර්වත මුදුනෙහි බබලන්නා වූ ගින්න මෙන් බබලයි. **භොගෙ සංහරමානසස** තමා ද මෙරමා ද නොපෙලා දහමින් සෙමෙන් එකතු කරන්නහුට රාශී කරන්නහුට, **භමරසෙසව ඉරියතො** යම්සේ බඹරා මල්වල වර්ණ-ගන්ධයන්ට හිංසාවක් නොකොට තුඩින්ද පියාපත්වලින්ද, රොන් ගෙනවුත් පිළිවෙලින් රෝදයක් පමණ වූ මධු පටලයක් කරන්නේය. මෙසේ පිළිවෙලින් භෝගයන් එකතු කරන්නහුට **භොගා සනනිචයං යනති** ඔහුගේ භෝගයෝ රැස්වෙති. කෙසේද? පිළිවෙළින් වේයන් විසින් ගොඩනගන්නා වූ තුඹස මෙන්, එයින් කියන ලදී. **වම්මිකොවුපචීයති**, (වේයන් විසින් බඳින ලද තුඹස මෙන්) යම්සේ තුඹස වේයන් විසින් ගොඩනගනු ලැබේද, මෙසේ රැස්කෙරේය යන අර්ථයයි. **සසමාගමම** (වස්තුව කරා පැමිණ) රැස්කොට, **අලමතෙතා** (කුලයෙහි වාසය කරන්ට සමර්ථ වන්නේය) යුක්ත ස්වභාවය හෝ සමර්ථ බව හෝ පරියන්තියට අනුරූප ගෘහසංවාසය පිහිටුවන්ට, දැන් යම්සේ සුදුසු සරාවාසය පිහිටුවිය යුතුද, එසේ අවවාද කරන්නේ, **චතුධා විභජෙ භොගෙ** ආදිය වදාළහ. එහි, **සවෙ මිතතානි ගන්ථති**. හෙතෙම එසේ බෙදන්නේ මිත්‍රයන් රැස්කෙරෙයි. නොබිඳෙන අයුරින් තබයි. යමෙකු වෙත ධනය වේද්, හෙතෙමේම මිත්‍රයන් තබාගැනීමට හැක්කෙකු වන්නේය. අන්‍යයෝ එසේ නොවෙති. **එකෙන භොගෙ භුඤ්ජෙය්‍ය** භෝගයන්ගෙන් (හතරෙන් එක් කොටසක්) එක් කොටසක් අනුභව කරන්නේය. **ද්වීහි කමමං පයොජයෙ** කොටස් දෙකක් ගොවිතැන්, වෙළඳම් ආදී කර්මයන්හි යොදවන්නේය.

නිධාපෙය්‍ය සතරවන කොට ද නිදන්කොට තැබිය යුත්තේය. ආපදාසු භවිස්සති කුලයෝ නම් හැමදා එකසේ නොපවතී. කදාපි කෙදිනක හෝ රාජාදීන්ගේ වශයෙන් උවදුරු ඇතිවෙත්. එබැවින් මෙසේ උපන් ආපදාවන්හි ගනු සඳහා එකකොටසක් තැන්පත් කළයුතු යැයි කීහ. මෙම සතර කොටස් අතුරෙන් කවර කොට්ඨාසයක් ගෙන කුසල් කළයුතුද? එකෙන භොගෙ භුඤ්ජෙය්‍ය කියන ලද කොටසින් ගෙන භික්ෂූන්ටද දුගී මගී යාචකාදීන්ටද දිය යුතුය. පේසකාර කරනැම් ආදීන්ට වේතන දිය යුතුයැ.

මෙසේ භාග්‍යවතුන් වහන්සේ මෙතෙක් කතා මාර්ගයෙන්, ගෘහපති පුත්‍රය, මෙසේ ආර්යශ්‍රාවක තෙම කාරණා හතරකින් අකුසල් දුරුකොට කරුණු හයකින් භෝගයන්ගේ අපායමුඛ දුරුකොට, සොළොස් අමිත්‍රයන් දුරුකොට සොළොස් මිත්‍රයන් සේවනය කරමින් ගිහිගෙය පිහිටුවා, අඹුදරුවන් පෝෂණ කරමින් දැහැමින් ධාර්මික ආජීවයෙන් ජීවත් වේද, දෙව් මිනිසුන් අතර ගිනිකඳක් මෙන් බබලයි. වර්ජනීය ධර්මයන් වර්ජනය කිරීම පිණිස ද, සෙවිය යුතු ධර්මයන් සේවනය සඳහා ද, අවවාද දී දැන් වැන්ද යුතු සදිසාව දක්වන්නේ කථඤ්ච ගහපතිපුත්තා යනාදිය වදාළහ.

එහි ඡද්දිසාපටිච්ඡාදි යම්සේ සදිසාවෙන් පැමිණෙන්නා වූ භය නොපැමිණේ ද, මෙම වේද භය නැතිවේද, එසේ වාසය කරන්නේ ඡද්දිසා පටිච්ඡාදි යයි කියනු ලැබේ. පුරත්ථිමාදිසා මාතාපිතරො වෙදිතබ්බා පළමුකොට මව්පියවරු පළමුවෙන්ම උපකාරී බැවින් (පුරත්ථමාදිසා) පෙරදිගයයි දතයුත්තේය. ආචාර්යවරු දක්ඛිණෙය්‍ය බැවින් දකුණු දිසා නම් වේ. අඹුදරුවෝ පිටුපසින් ලුහුබඳින හෙයින් පශ්චිම දිසා නම් වේ. මිත්‍රමාත්‍යවරු යම්හෙයකින් හෙතෙම මිත්‍රාමාත්‍යවරුන් නිසා ඒ ඒ දුක්ඛ විශේෂයන් උත්තරණය කෙරේ ද, එබැවින් උතතර දිසා නම් වේ. දාස කම්කරු ආදීහු පාද මූලයෙහි පතිතවන හෙයින් හෙට්ඨිමාදිසා නම් වේ. මහණ බමුණෝ ගුණයෙන් උපරිම බැවින් උපරිමාදිසා නම් වේ. භතො නෙ භරිස්සාමිං මව්පියන් විසින් කිරිපොවා අත් පා වඩවා නැහැයෙන් සොටු ඉවත්කරවා නහවා මණ්ඩනය කොට පෝෂණය කරන ලද්දේය. ඒ මව අද මහලු වයසට පත්කල්හි පාද ධෝවන, නැහැවීම, කැඳ බත් දීම් ආදියෙන් පෝෂණය කරන්නෙමි. කිච්චං නෙසං කරිස්සාමි මම තමාගේ කටයුතු තබා රාජකුලාදියෙහි මව්පියන් කළයුතු කෘත්‍ය එහි ගොස් කරන්නෙමි. කුලවංසං ඨපෙස්සාමි මව්පියන් සතු වූ කෙත් වතු රත්රුවන්

ආදිය විනාස නොකොට රැකීම කුලවංසය ආරක්ෂා කර තැබීම නම් වේ. මව්පියෝ අධම්ම වංසය නැතිකොට ධම්ම වංසයෙහි තබත්නේ ද, කුලවංශයෙන් පවත්වාගෙන ආවා වූ සලාක බත් ආදිය නොසිඳ පවත්වන්නාහු නම් කුලවංසය තබන්නේ නම් වේ. මේ සඳහා කියන ලදී. කුලවංසං ඨපෙස්සාමි යනු දායජ්ජං පටිපජ්ජාමි මව්පියෝ තමාගේ අවවාදයෙහි නොපිහිටි කල්හි පුත්‍රයන් අපුත්‍රයන් කෙරෙති. ඔවුහු දායාදයට සුදුසුකම් නොලබති. අවවාදය පිළිගනු ලබන කල්හි කුලසන්තක වස්තුවේ ස්වාමියෙකු කෙරෙත්. මම එසේ මෙසේ පවතින්නෙමැයි යන අදහසින් දායජ්ජං පටිපජ්ජාමි යයි කියන ලදී. දක්ඛිණං අනුපදස්සාමි ඔවුන්ට පින් දීම කොට තුන්වන දින පටන් මියගිය ඔහු අනුව දන්දෙන්නෙමි. පාපා නිවාරෙනති ප්‍රාණඝාත ආදීන්ගේ මෙලොව පරලොව විපාක ආදීනව කියා දරුව, මෙවැන්නක් නොකරන්න යැයි එයින් වලක්වත්. කරන ලද්දට ගරහත්. කල්‍යාණෙ නිවෙසනති, අනේපිඩු සිටුතුමා මෙන් අල්ලස් පාවා දී සීල සමාදාන ආදියෙහි යොදවත්. සිප්පං සික්ඛාපෙනති තම අවවාදයෙහි පිහිටි බව දැන, වංසයෙන් පවත්වාගෙන එනු ලබන මුද්‍රා, ගණිත ආදී ශිල්පයන් උගන්වත්. පතිරූපෙන, කුල - සීල රූප ආදියෙන් අනුරූප වූ සමයෙ දායජ්ජං නියාාදෙනති සුදුසු කල්හි ධනය දෙත්. එහි නිත්‍යසමය කාලසමය යයි සමයෝ දෙදෙනෙක් වෙති. නිත්‍ය සමයෙහි දීම නම් නැගීසිට මෙය ගනු මැනව. මේ ඔබේ වැටුප වේවා මෙයින් කුසල් කරන්න යයි කියා දෙති. කාල සමයෙහි දෙන්නාහු නම්, ඔවුනු පළඳවන අවස්ථා. සිඛාය්පන, ආවාහ විවාහ ආදී අවස්ථාවන්හි දෙති. යලිදු, අවසන් කාලයෙහි මරණ මංචකයෙහි හොත්තහු මෙයින් කුසල් කරවයි දෙන්නාහු ද කාලසමයෙහි දෙන්නාහු නම් වෙති. පටිච්ඡන්නා හොති පෙරදිගින් යම් භයක් පැමිණෙන්නේ නම්, යම් සේ එය. නොපැමිණේද, මෙසේ එම දිශාව වසන ලද්දේ වෙයි. ඉදින් පුත්‍රයෝ වැරදි මගට පිවිසියාහු වෙත් ද, මව්පියෝ දහර කාලයේ සිට පෝෂණ කටයුතුවල යෙදුනාහු වෙත්. මේ දරුවන් නො සුදුසු යයි මේ භය පැමිණෙන්නේය. දෙපාර්ශ්වයම නොමගට ගිය කල්හි දෙඅයුරකින්ම මේ භය පැමිණෙන්නේය. මනාව පිළිපන් කල්හි සියල්ල නොවේ. එහෙයින් කියන ලදී. පටිච්ඡන්නා හොති ඛෙමා අප්පටිභයා මෙසේ ද කියා භාග්‍යවතුන් වහන්සේ, සිගාලට මෙසේ වදාළහ. පෙරදිග වසයෙන් ලෝක සම්මත වූ තොපගේ පියා නමස්කාර කරව. වැන්දවිය. මෙම පුරත්ථිම දිසාවයි ඔබේ පියා කියන ලද්දේ අතිකක් නොවේ. මෙයමැයි.

උට්ඨානෙන අසුනෙන් නැගී සිටීම, අතවැසි මහණ විසින් ගුරුවරයා එනු දුරදීම දැක, අසුනෙන් නැගිට පෙරගමන් කොට අතේ ඇති බඩුගෙන, අසුන් පනවා වඩාහිඳුවා පවන් සැලීම පාසේදීම පාමිරිකීම් කළයුත්තාහුය. ඒ සඳහා කියන ලදී. 'උට්ඨානෙන' යනුවෙන් උපට්ඨානෙන දවසට තෙවරක් උවටැන් සඳහා යාමෙන් ද ශිල්ප උගන්නා කල්හි අවශ්‍යයෙන්ම යායුතු වේ.

සුසසූසාය විශ්වාසකොට සවන් දීමෙන්, (විශ්වාස නොකොට ඇසීමෙන් විශේෂත්වයකට නොපැමිණේ.) පාරිචරියාය බුද්දානුබුද්දක පාරිචර්යාවන්ගෙන් ද, අතවැසියා විසින් මුවදෝනා පැන් දැහැටි ආදිය ප්‍රදානය කිරීමෙන් ද, දත් වළඳන කල්හි පැන්ගෙන එළඹසිටීම් ආදියකොට වැඳ යායුතුය. කිලිටි වස්ත්‍ර ආදිය සේදිය යුතුය. තෙමේම නහන පැන් ආදිය එළවා තැබ්බවිය යුත්තේය. අපහසු කාලයෙහි උපස්ථාන කළ යුතුය. පැවිද්දන් විසින් සියලු අන්තේවාසික වත් කළයුතුය. මේ සඳහා කියන ලදී. 'පාරිචරියා' සකකච්චං සිපප පටිගගහණෙන සකසා (ශිල්ප) ප්‍රතිග්‍රහණය නම්, ටිකක් ගෙන බොහෝ වාරයක් සජ්ඣායන කිරීමයි. එක පදයක් වුවද පිරිසිදුව ගතයුතුය. සුවිනීතං විනෙනති මෙසේ ඔවුහු හිඳගත යුතුය. මෙසේ අනුභව කළයුතුය. මෙසේ කැයුතුය. පවිටු මිතුරන් දුරුකළ යුතුය. කළණ මිතුරන් සේවනය කළ යුතුයයි මෙසේ ආචාර ධර්ම උගන්වත්. හික්මවත්. සුගගහීතං ගහාපෙනති යම්සේ මනාලෙස ගනු ලැබේද, මෙසේ අර්ථයද, ව්‍යඤ්ජනය ද පිරිසිදුකොට ප්‍රයෝග දක්වා ගන්වත්. සබබසිපප සුතසමයකඛායිනො අතවැසියාට සියලු ශිල්ප පිළිබඳ දැනගත යුත්ත දැනගත නොයුත්ත කියත්. මේ ශිල්පය උගතයුතුය. මේ ශිල්පය නොඋගත යුතුය. මිතතාමචෙචසු පතිටඨාපෙනති මේ මගේ අතවැසියාය. ව්‍යක්තය බහුශ්‍රැතය මා හා සමානය. මෙසේ සලකන්න යයි මෙසේ ගුණ ප්‍රකාශකොට මිත්‍රාමාත්‍යයන් වෙතම ඉදිරිපත් කරයි. දිසාසු පරිතතාණං කරොනති ශිල්පය ඉගැන්වීමෙන්ම ඔහුට සියලු දිසාවන්හි ආරක්ෂා කෙරෙත්. උගත් ශිල්පයට යම් යම් දිසාවලට යන්නහුට ලාභ සත්කාර උපදියි. එය ආචාර්යයන් වහන්සේ විසින් කරන ලද්දේ වෙයි. මහජනතාව ඔහුගේ ගුණ කියන්නේ ද ආචාර්යයන් වහන්සේගේ පා සෝදා වාසය කරන ලද අතවැසියෙකැයි පළමුකොට ආචාර්යවරයාගේම ගුණකථනය කෙරෙයි. බඹලොව පමණ උසට ලාභ සත්කාර ලැබුනේ නමුදු එය ආචාර්යවරයා සතුවූයේම වෙයි. නැවත ද යම් විද්‍යාවක්, පරිජල්පනය කොට යන්නහු කැලෙහි සොරු නොදකිත්ද, අමනුෂ්‍යයෝ ද දීර්ඝ ජාති (සර්ප ආදීහු) නොවෙහෙසත් ද, එය

උගන්වන්නහුද දිශාවන් ආරක්ෂා කෙරෙත්. හෙතෙම යම් දිසාවකට ගියේ වේද, එයින් සැක උපදවා තමා සමීපයට ආ මනුෂ්‍යයන් 'මේ දිසාවෙහි මගේ අතවැසියෙක් වසයි. ඔහුගේ ද මගේද, මෙම ශිල්පයෙහි වෙනසෙක් නැත යන්න, ඔහුගෙන්ම විමසන්න. එය පිළිගන්නා වූ ඔහුගේ ලාභ සත්කාර ඉපදීම ආරක්ෂා කෙරෙත් යයි යන අර්ථය (මෙහි සෙසු කරුණුද පෙර පරිදි යෙදිය යුතුය.

තතිය දිසා වාරෙ සම්මානනායාති දෙව මාතාවෙනි, තිස්ස මාතාවෙනි, මෙසේ සම්භාවිත කථොප කථනයෙන් අනවමානනයා දැසි දස් කම්කරුවන් නොපෙලා නොගෙවා කථා කිරීමෙන්, අනතිචරියා ඇය ඉක්මවා අන් ස්ත්‍රීන් සමග නොහැසිරීමෙන් ඉසසරිය වොසසගෙන ස්ත්‍රීහු මහාලතා පසාදන සදෘශ වූ ආභරණ ලැබද, භත්තාග්‍රයෙහි කටයුතු කිරීමට නොලැබ කිපෙත්. හැන්ද අතෙහි තබා ඔබ කැමැත්ත පරිදි කරවයි භත්තාග්‍රය පරිත්‍යාග කළවිට, සියලු ඉසුරු පරිත්‍යාග කළේ වෙයි. මෙසේ කිරීම් වශයෙන් යන අර්ථයි. අලංකාරානුපපදානෙන තම සම්පතට අනුරූප වන පරිද්දෙන් අලංකාර (ආභරණ සැරසීම්) පරිත්‍යාග කිරීමෙන් සුසංවිහිත කම්මන්තා කැඳ, බත් පිළියෙල කරන කාල ආදිය නොඉක්මවා ඒ ඒ දෙය මනාලෙස කිරීම. සුට්ඨුසංවිහිත කම්මන්තා යනුද පාඨයෙකි. සම්මාන පිරිනැමීමෙන් ද, තෑගිබෝග යැවීමෙන් ද, සංග්‍රහ කරනු ලැබූ පිරිවර ජනයා මෙහි, 'පරිජන' නම් වේ. ස්වාමියාට ද තම ඥාතිවරු (පරිජන) නම් වේ. අනතිචරි ස්වාමියා හැර අනිකෙකු සිතිනුදු ප්‍රාර්ථනා නොකෙරේ. සමභතං දකඛා ච හොති කැඳ, බත් සම්පාදනය කිරීම් ආදියෙහි දක්ෂ වූයේ නිපුන වූයේ වෙයි. අනලසා, කුසීත නොවූවාහු, යම්සේ අන්‍යයෝ කුසීත වූවාහු හුන්තැන හුන්නාහු වෙත්ද, සිටි තැන සිටියාහු වෙත්ද, එසේ නොවී විපිළිසර නොවූ සිතින් සියලු කෘත්‍ය සම්පාදනය කෙරෙති. මෙහි සෙස්සද දැක්වූ අයුරින්ම යෙදිය යුත්තේය. අවිසංවාදනතාය යම් යම් නාමයන් ගනීද, ඒ ඒ දෙය නොසඟවා, මෙය අපේ ගෙදර තිබේ. (මෙයද ඇත.) එය ගෙන යන්න යයි මෙසේ නොසඟවා දීමෙන් ද, අපරපජා චසසපටිපූජෙනති සහායකගේ දූ පුත් ආදීහු පජා නම් වේ. ඔවුන්ගේ ද දූ පුතුන් ද නතත පනතත ආදීහු ද අපර පජා නම් වේ. ඔවුන්ට පෙරලා සලකත්. සතුටු කරත්. මමායනය කරත්. මංගල කාලවලදී ඒවා කරදෙත්. සෙසු දෙයද පෙර මෙන් සැලකිය යුත්තේය. යථාබලං කම්මනත සංවිධානෙන බාල වයස්කරුවන් කළයුත්ත මහල්ලන්ගෙන් හෝ මහළු අය කළයුත්ත බාලවයස්කරුවන්ගෙන් හෝ

ස්ත්‍රීන් විසින් කළයුත්ත පුරුෂයන්ගෙන් හෝ පුරුෂයන් විසින් කළයුත්ත ස්ත්‍රීන්ගෙන් හෝ නොකරවා ඔවුනොවුන්ගේ බලයට අනුරූපව කර්මාන්ත සංවිධානය කිරීමෙන්, භතත වෙතනානුපපදානෙන මේ කුඩා පුත්‍රයෙකි. මෙතෙම (එකවිහාරි) තනියම හැසිරෙන්නෙකි. ඒ ඒ අයගේ සුදුසුකම් සලකා ආහාර වේවා, වියදම් වේවා දීමෙන්ද, ගිලානුපට්ඨානේන රෝගී කාලයන්හි වැඩ නොගෙන, සුදුසු බෙහෙත් ආදිය දී පිළිදැගුම් කිරීමෙන්, අච්ඡරියානං රසානං සංවිභාගෙන, අසිරිමත් මිහිරි රස ලැබ තමන් තනිව නොවළඳ ඔවුන්ට ද ඉන් කොටසක් බෙදා දීමෙන්. සමයෙ වොසසගෙන (නිත්‍ය කාල සමයෙහි කම්කරුවන් යැවීමෙන්) නිත්‍ය සමයෙහිද කාල සමයෙහිද යැවීමෙන්, නිත්‍ය සමයෙහි යැවීම නම්, මුලු දවස පුරාම වැඩකරන්නාහු ක්ලාන්ත වෙත්. එබැවින් යම්සේ ක්ලාන්ත නොවෙත් ද, මෙසේ කල්දැන (කම්කරුවන්) යැවීමයි. කාල සමයෙහි යැවීම නම්, සැණකෙළි නැකත්කෙළි ආදියෙහිදී අලංකාර භාණ්ඩ කෑම පීම් ආදිය දී යැවීමයි.

පුබ්බුට්ඨායිනො, ස්වාමියා හොත් කල්හි නැගී සිටීම කෙරෙත් පච්ඡානිපාතිනො, ස්වාමියා පළමුව නිදි කල්හි සියලු කර්මාන්ත සොයා බලා පසුව නිදන්නා වූ. දින්නා දායිනො සොරෙන් කිසිවක් නොගෙන ස්වාමියා විසින් දුන්දෙයට ගන්නා වූ සුකත කම්මකාරිනො ඔහුට කරන වැඩවලින් කිනම් ප්‍රයෝජනයක්ද, මවිසින් කිසිවක් නොලබන ලදැයි, දොස් නොකියා සතුටු සිතින් යම්සේ එම වැඩ මනාව කරන ලද්දේ යයි එසේ කරන්නා වූ පිරිස මැද කථාවක් පැමිණි කල, කවරෙක් නම් අපගේ ස්වාමියා හා සමාන වන්නේ ද, අපි අපගේ දාසභාවය ද නොදනිමු. ඔවුන්ගේ ස්වාමි බවද නොදනිමු. මෙසේ අපට අනුකම්පා කෙරෙත් යයි ගුණ පවසන්නා වූ, මෙහි ඉතිරියද පෙර මෙන් යෙදිය යුතු වන්නේය. මෙත්තෙන කාය කම්මෙන, ආදියෙහි මෙත්සිත් එළවා කරන ලද කායකර්ම ආදිය මෙත්තා නම් වේ. එහි භික්ෂූන්ට ආරාධනා කෙරෙම් යයි විහාරයට පැමිණීම, පෙරහන්කඩක් ගෙන ජලය පෙරීම, පිට්ඨි පරිකම්ම පාද පරිකම්ම ආදිය කිරීම මෙත්තා කායකම්ම නම් වේ. පිඬු පිණිස පිවිසි භික්ෂුව දැක, සකසා කැඳ දෙන්න, බත්දෙන්න, මේ ආදී වචනද සාධුකාර දී බණ ඇසීමද, සකසා පිළිසඳර කථාකිරීම් ආදියද 'මෙත්තා' වචීකම්ම නම් වේ. අපගේ කුලුපග තෙරුන් වහන්සේලා වෛර නැත්තෝ වෙත්වා යනුවෙන් මෙසේ සිතීම. 'මෙත්තා' මනෝකම්ම නම් වේ. අනාවට ද්වාරතාය, නොවැසූ දොර ඇති බැවින් එහි සියලු දොරටු විවෘත කොට ද, සිල්වතුන්ට

නොදෙන්නේ උන්වහන්සේලා පිළිබඳ කටයුතු නොකරන්නේ වසන ලද දොර ඇත්තේම වෙයි. සියලු දොරවල් වසා සිටියේ නමුදු දායකතෙම විවෘත කරන ලද දොර ඇත්තේම වේ. මෙසේ සිල්වතුන් වහන්සේලා ගෙදොරට වැඩිකල්හි, ඇත්තේම නැත යයි නොකියා දියයුතුයැ. මෙසේ නොවැසූ දොර ඇත්තේ නම් වේ.

ආමිසානුප්පදානෙන, පෙරබත් සමයෙහි අනුභව කළයුත්ත ආමිස නම් වේ. එබැවින් සිල්වතුන්ට කැඳ බත් සම්පාදනය කිරීමෙන් යන අර්ථයි. කල්‍යාණෙන මනසා අනුකම්පනති යනුවෙන් සුව ඇත්තෝ වෙත්වා. (රෝග නැත්තෝ, වෛර නැත්තෝ) වෙත්වා යනුවෙන් මෙසේ මෙත්සිත පැතිරවීමෙන් යලිදු උපස්ථායකයන්ගේ ගෙදර අන්‍ය වූද සිල්වත් සබ්‍රහ්මචාරීන් ගෙන, ඇතුල් වන්නාහුට යහපත් වූ සිතින් අනුකම්පා කරන්නේ නම් වේ. සුතං පරියොදපෙනති යම් ඔවුන් ප්‍රකෘති වශයෙන් අසන ලද දෙයක් වේද, එහි අර්ථ කියා සැක දුරුකොට තිරභාවයට පමුණුවත් ද, සෙස්සද කී අයුරින් යෙදිය යුත්තේය. අලමතෙතා අඹුදරුවන් පෝෂණය කරමින් ගිහිගෙයි වාසය කිරීමට සමර්ථ වූ, පණ්ඩිතො දිසා නමස්කාරයෙහි වැටහීම් සහිත වූ. නිවාත වුතති දමනය වූ පැවතුම් ඇති. අත්‍ථද්ධො දරදඬු නොවූ, උට්ඨානකො, උට්ඨාන වීර්යයෙන් යුත් අනලසො, කුසීත නොවූ අච්ඡිද්දවුතති නිබඳ කිරීම් වශයෙන් අඛණ්ඩ වූ පැවතුම් ඇති, මෙධාවී, සකාරණ සළපපතතික ප්‍රඥාවෙන් යුක්ත වූ සංගාහකො, සතර සංග්‍රහ වස්තුන්ගෙන් සංග්‍රහ කරන්නා වූ. මිතතකරො, මිත්‍රයන් සොයන්නා වූ වදඤ්ඤු පූර්වොපකාරිත්වයෙන් කියන ලද වචන දැන ගන්නා වූ සහායකයගේ ගෙදරට ගියකල්හි මගේ යහළුවාට වැටුප් දෙන්න. සළු දෙන්න මිනිසුන්ට වේතන දෙන්න යයි කියන ලද වචන සිහිකොට තමන්ගේ ගෙදරට පැමිණියා වූ ඔහුට එපමණ හෝ ඊට වැඩියෙන් හෝ අතිරේකව හෝ දෙවු, 'විරුද්ධව කරන ලද්දේය යන අර්ථයි.' යලිදු යහළුවාගේ ගෙට ගොස් මේ දෙය ගන්නෙමැයි ආවා වූ යහළුවාට ලජ්ජාවෙන් නොකියන ලද වචනය දැන, යම් අර්ථයක් සඳහා හෙතෙම පැමිණියේ ද, එය සපයන තැනැත්තේ වදඤ්ඤු නම් වේ. යම් හෙයකින් ඔහුට අඩුවක් වේද, බලා එය දෙන තැනැත්තේ ද, වදඤ්ඤුම වේ. ඒ ඒ අර්ථ දක්වන්නේ ප්‍රඥාවෙන් නෙතා නම් වේ. විවිධ කාරණයන් දක්වමින් හික්මවානුයි විනෙතා නම්. තත්‍ථ තත්‍ථ ඒ ඒ පුද්ගලයන් කෙරෙහි. රථස්සාණීව යායතො යම්සේ ඇණය ඇතිකල්හිම රථය යයි නැති කල්හි නොයයි. එසේ මෙම සතර සංග්‍රහ වස්තු ඇතිකල්හිම ලොව පවතී. එහෙයින්

කියන ලදී. ලෝකයෙහි මෙම සතර සංග්‍රහ වස්තු රථයාගේ කඩඇණය මෙන් පවතී. මව්තොමෝ පුත්‍රයා කරණකොටගෙන ද, ඉදින් මව පුත්‍රයාට මෙම සංග්‍රහ වස්තූන්ගෙන් සංග්‍රහ නොකරන්නේ නම් පුත්‍රයා කරණකොට ගෙන සිතින් බුහුමන් කිරීමක් හෝ පූජාවන් හෝ නො ලබන්නේය. සංගහා එතෙ කර්මාර්ථයෙහි ප්‍රථමා විභක්තියයි. සංගහා එතෙ කර්මාර්ථයෙහි ප්‍රථමා විභක්තියයි. සංගහෙ එතෙ යනුද පාඨයකි. සමවෙක්ඛනති මනාකොට බලත්. පාසංසාව භවනති ප්‍රසංසනීය වෙත්. මෙසේ භාග්‍යවතුන් වහන්සේ ගහපති පුත්‍රය, ඔබගේ පියා දිසා සම්බන්ධයෙන් දිසා නමස්කාර කරවයි යමක් කියන ලදද, එම සදිසාවයි මේ. ඔබ පිතු වචනය කරන්න. මෙම සදිසාවන් වඳුවයි දක්වන්නේ සිගාලට ප්‍රශ්නයක් තබා දේසනාව මුදුන් පමුණුවා රජගහනුවර පිඬු පිණිස වැඩියේය.

සිගාලතෙම සරණ සීලයෙහි පිහිටා සතලිස් කෝටියක් ධනය බුදුසසුනේ විසුරුවා පින්කම් කොට ස්වර්ගපරායණ විය. මෙම සූත්‍රයෙහි ගිහියන් විසින් කළයුතු යමක් ඇද්ද, එහි නොකියූ දෙයක් නැත. මේ සූත්‍රාන්ත දේසනාව ගිහිවිනය නම් වේ. එබැවින් මෙම ධර්මය අසා දේසනාවේ ආ පරිද්දෙන් පිළිපදින්නහුට අභිවෘද්ධියක්ම කැමැතිවිය යුතුය. පරිහානියක් නොවේ.

සිගාලෝවාද සූත්‍ර වර්ණනාව නිමි.

# 14

ධම්මහදය විභංග සුතෙත ධම්මහදය විභංගයෙහි තව්තිසා දෙව්ලොව පරසතුරුක මුල පඬුපුල් අස්නෙහි හුන්නාහු භාග්‍යවතුන් වහන්සේ දසදහසක් සක්වලින් පැමිණ හුන්නා වූ දෙවියන්ට අභිධර්මය දේශනා කරන සේක්. ධම්මහදය විභංගෙ, ධම්ම හදය විභංගයට පැමිණි කල්හි, මිනිස්ලොව සවැදෑරුම් කාමාවචර දෙව්ලොව, සොළසවිධ බ්‍රහ්මලෝක සතර අරූපලෝක යන සත්විසි සුගති භවයෙහි ප්‍රතිසන්ධිය ගෙනදෙන කර්මද, ඔවුන්ගේ ආයුෂ ප්‍රමාණද, දක්වන්නේ, 'දානං දත්වා' යන ආදි දේශනාව ආරම්භ කළ සේක. යම්සේ වනාහි තුන් පින්කිරිය

වත්හි අර්පණාවට නොපැමිණි භාවනාමය වූද සීලමය වූද දානමය වූද (පුණ්‍යකර්ම) සත්වැදෑරුම් කාම සුගති භවයෙහි උපතට ප්‍රත්‍ය වේ. අර්පණාවට පැමිණි භාවනාමය පුණ්‍ය කර්මයම බඹලොව උපතට ප්‍රත්‍ය වේ. එබැවින් කාම සුගති භවයන්හි පළමුව උපතට ප්‍රත්‍ය වූ කර්මය දක්වන්නේ: දානං දත්වා සීලං සමාදියිත්වා උපොසථකම්මං කත්වා යනාදිය වදාළහ. එය වනාහි ස්වල්ප වශයෙන් කරන ලද්දේ. මනුෂ්‍ය සෞභාග්‍යතාවයට ප්‍රත්‍ය වේ. අධිමත්ත, අධිමත්තතාධිමත්ත, අධිමත්තර අධිමත්තතම, උච්ච උච්චතර උච්චතම ආදි වශයෙන් කළ කර්මය ගහපති මහාසාල ආදි භාවයට ප්‍රත්‍ය වේ. එබැවින් එම කර්මයන්ගේ වශයෙන් උත්පත්ති ප්‍රභේද දක්වන්නේ, අප්පෙකච්චෙ ගහපති මහාසාලානං ආදිය වදාළහ. අධිමත්තභාවය ඔහුට දෙය්‍යධර්ම - පටිග්ගාහක - චෙතනා මහත්තතා ආදි විශේෂ ප්‍රත්‍යයන්ගෙන් දත යුත්තේය. එහි සීලං සමාදියිත්වා නිත්‍ය සීල වශයෙන් පංචසීලය හෝ දස සීලය හෝ අඛණ්ඩව ආරක්ෂා කරමි යන අදහසින් මනා ලෙස ගෙන, උපොසථ කම්මං කත්වා උපොසථ දවසෙහි අෂ්ටාංග සමන්නාගත සීලය කළයුතුය යන අර්ථයෙන් කර්මය කත්වා නිපදවා මහත් වූ සාරභාවය මොවුන්ටනුයි = මහාසාරා, රකාරයට ලකාරයක් කොට මහාසාල යයි කියන ලදී. ගෘහපතීහු මහාසාර වූවාහු නැතහොත් ගෘහපතීන් අතුරෙන් හෝ මහාසාල වූයේ ගහපති මහාසාල නම් වේ. සෙසු තන්හිදු මේ නයමැයි. එහි, යමෙකුගේ ගෙයි යටත්පිරිසෙන් හතලිස් කෝටියක් ධනය නිධන්ගතව වේද, පස් අමුණක් කහවනු දවසකට වියදම් කෙරේ ද, මේ තෙම ගහපති මහාසාල නම් වෙති. යමෙකුගේ ගෙදර යටත් පිරිසෙන් අසූකෝටියක් ධනය නිධන්ගත වේද, කහවණු අමුණු දහයක් දිනක වියදම් වශයෙන් නිකුත් කෙරේද, මේ තෙම බ්‍රාහ්මණ මහාසාල නම් වේ. යමෙකුගේ ගෙදර කෝටි සියයක් නිධන්ගත වේද, කහවණු අමුණු දහයක් දිනක වියදම් වශයෙන් නිකුත් කෙරේද, මේතෙම බ්‍රාහ්මණ මහාසාල නම් වේ. යමෙකුගේ ගෙදර කෝටි සියයක් නිධන්ගත වේද, කහවනු අමුණු විස්සක් දිනකට වියදම් කෙරේද, මේ තෙම ඛත්තිය මහාසාල නම් වේ. මෙසේ භාග්‍යවතුන් වහන්සේ සුඛහේතුක පුණ්‍යඵලය සුගති භව සම්පත් ද, භෝග සම්පත් ද දක්වා දැන් සදෙව්ලොව එම දෙවැදෑරුම් සම්පත් දක්වන්නේ අප්පෙකච්චෙ චාතුම්මහාරාජිකං යනාදිය වදාළහ.

එහි චාතුම්මහාරාජික ආදියෙහි මේ අර්ථයයි. සතරවරම් දෙවිවරුන් පිළිබඳව භක්තිය ඇත්තේනුයි හෝ සතර වරම් දෙවිමහරජවරුන්ගේ

වාසස්ථාන වේනුයි චාතුම්මහාරාජිකා නම් විය. ඒ සතරවරම් දෙවිවරු සිනෙරු පර්වතය මධ්‍යස්ථානය කොට ඇත්තාහු වෙති. ඔවුන් අතුරෙහි පබ්බතට්ඨා, අකාසට්ඨා, පරපුරෙන් සක්වල පර්වතයට පැමිණියාහු, ඛිඩ්ඩා පදොසික, මනොපදොසික, සීතවලාහක, උණ්හවලාහක චන්දිමා දෙවපුත්ත සුරියදෙවපුත්ත යන මේ සියල්ලෝම චාතුම්මහාරාජිකයෝය. තෙතිස් ජනකෙනෙක් එහි උපන්නේනුයි තාවතිංස නම් වේ. එය නිවාස වූයේ මොවුන්ටනුයි තාවතිංස නම් වේ. 'සහස්සං චාතුම්මහාරාජිකානං' සහස්සං තාවතිංසානං' යන දෙසුම් අනුව සෙසු සක්වලවල සවැදෑරුම් කාමාවචර දේවලෝකයෝ වෙත්. එබැවින් එම දේව ලෝකයන්ගේ නාම මාත්‍රය පමණක් මෙහිදී ගතයුත්තේය. ඒ දෙවිවරු පර්වතවල වසන්නෝ ද, අහසෙහි වසන්නෝ ද, පරම්පරාවෙන් සක්වල පර්වතයට පැමිණියාහුද ඇත්තෝය. යාමාදීහුද එසේමය. දිබ්බං සුඛං යාතා පයාති සම්පත්තා = දිව්‍යමය සැපයට පැමිණියාහු දුක්ඛතො වා යාතා අපයාතා = දුකින් මිදුනාහු (තාවකාලිකව) යාමා නම් වේ. තුටු පහටු වූයේ සතුට හෝ ප්‍රීතිය මෙයින් පැමිණියේනුයි තුසිතා නම් වේ. (තුට්ඨ පහට්ඨා තුසං වා පීතිං ඉතොගතානි = තුසිතා පකති පටියත්තාරම්මණතො අතිරෙකෙන රමිතුකාම කාලේ යථාරුචි තෙ භොගෙ නිම්මිණිත්වා රමන්ති නිම්මාණරතී (ප්‍රකෘති වශයෙන් පිළියෙල වූ අරමුණට අතිරේක වූ අරමුණකින් රමණය කිරීමට කැමති කල්හි කැමති පරිදි සම්පත් නිර්මාණය කොට රමණය කෙරේනුයි. නිම්මාණරතී නාම් වේ. 'චිත්තාචාරං ඤත්වා පරෙහි නිම්මිතෙසු භොගෙසු වසං වත්තෙන්තීති. පරනිම්මිත වසවත්තිනො. සිත්හසර දැන අනුන් විසින් නිර්මාණය කළ වස්තු විෂයෙහි වශීභාවය පවත්නේනුයි. පරනිම්මිත වසවත්තිනො නම් වේ. ආයුෂ ප්‍රමාණය ගණනින් අප්පං වා භියො වා යනුවෙන් දෙවන වර්ෂ සියයට නොපැමිණ විස්සකින් හෝ තිහකින් හෝ සතලිසකින් හෝ පනසකින් හෝ සැටකින් හෝ වර්ෂයන්ගෙන්, වර්ෂ සියයකට අධිකයයි යන අර්ථයි. 'මිනිසුන්ගේ වනාහි ආයුෂ ප්‍රමාණය පිළිබඳ නියමයෙක් නැත.

එහෙයින් කියන ලදී.

ආපායික මනුස්සායු, පරිච්ඡෙදො න විජ්ජති
තථාහි කාලො මන්ධාතා - යක්ඛා කෙචි චිරායුනො

(සතර ආපායික සත්ත්වයන්ගේ ද මනුෂ්‍යයන්ගේ ද ආයුෂයාගේ නියමයක් නැත්තේය. මහමන්ධාතු රජකාලයේ මනුෂ්‍යයෝ ද සමහර යක්ෂයෝ ද දීර්ඝායුෂ ඇත්තාහු වෙත්. අපායයන්හි වනාහි කර්මයම ප්‍රමාණ වෙයි.

එහි උපන්නවුන්ගේ කර්මය යම්තාක් නොගෙවේද ඒතාක් කල් චුත නොවන හෙයිනි. භූම්‍යස්ථ දෙවියන්ගේ ස්වභාවය එසේමය. ඔවුන් අතුරෙහි උපන්නා වූ සමහරු සත්දවසක් කල් සිටිත්. සමහරු කල්පයක් සිටිත්. එසේම මිනිසුන්ට කිසිකලෙක අසංඛ්‍ය ආයුෂ ඇතිහෙයින් ද කිසි කලෙක දස අවුරුදු ඇතිහෙයින් ද මනුෂ්‍ය ආයුෂ නියම නැති නමුත් මෙහිදී බුදුරජාණන් වහන්සේ වැඩසිටි කාලයෙහි ආයුෂ ප්‍රමාණ මෙහි වදාරණ ලදී. මනුෂ්‍ය ගණනාය, මිනිසුන්ගේ අවුරුදු ගණනින් සවැදෑරුම් දිව්‍යලෝකයන්ගේ ආයුෂ ප්‍රමාණය පිළිවෙලින් මෙසේය.

**ඝධි ඡතති, චතුවසෝක සොසපපඤ්ච චතුබනති දෙව**
**සො එකොච දුවෙ ඡිද්දා ඡ ඡ සුඤ්ඤා පදෙ පදෙ**

(මිනිසුන්ගේ වර්ෂ ප්‍රමාණයෙන් සවැදෑරුම් දිව්‍යලෝකයන්ගේ ආයුෂ ප්‍රමාණය :-)

**තව්තිසා** :- අවුරුදු තුන්කෝටි හැටලක්ෂයකි.
**යාමා** :- අවුරුදු දහහතරකෝටි හතලිස් ලක්ෂයකි.
**තුසිත** :- අවුරුදු සත්පනස් කෝටි හැටලක්ෂයකි.
**නිම්මාණරති** :- අවුරුදු දෙසිය තිස්කෝටි හතලිස් ලක්ෂයකි.
**පරනිර්මිත වසවර්ති** :- අවුරුදු නවසිය විසිඑක්කෝටි හැටලක්ෂයකි.

**එක සංඛානෙ** එකට පිඩුකොට ගැනීමෙහි දත් බ්‍රහ්ම ලෝකයන්හි උත්පත්ති දක්වන්නේ පළමුවන ධ්‍යානය අල්ප වශයෙන් වඩා යනාදිය කීහ. එහි **පරිත්තං** යනු අල්ප ගුණයකි. සර්වප්‍රකාරයෙන් පිරිපුන් වශීභාවයෙන් ප්‍රකට භාවයට පමුණුවත්නුයි. **පණීතං** පණීත නම් වේ. (අපප-පණීත) දෙදෙනාගේ මද්‍යයේ භාවය **මජ්ඣිම** නම් වේ. **බ්‍රහම පාරිසජ්ජානං** ආදියෙහි මහාබ්‍රහ්මගේ පිරිවර බැවින් ඔවුන්ගේ පිරිසෙහි වූයේනුයි, **බ්‍රහම පාරිසජ්ජ** නම් වේ. ඔවුන්ගේ පුරෝහිත බැව්හි සිටි බැවින් **බ්‍රහම පුරොහිත** නම් වේ. ඔවුන් විසින් ධ්‍යානාදිය වැඩූ බැවින් විශේෂයෙන් වැඩුවේනුයි **බ්‍රහමානො** නම් වේ. ගුණ විශේෂයන් නිසා වර්ණවත් බැවින් ද, එසේ දීර්ඝායුෂ්ක බැවින් ද, මහත් වූ බ්‍රහ්ම වේනුයි **මහා බ්‍රහමානො** නම් වේ. (බ්‍රහ්ම පාරිසජ්ජ බ්‍රහ්ම පුරෝහිත මහා බ්‍රහ්ම යන) මේ ලෝක තුනම ප්‍රථමධ්‍යාන භූමියෙහි වේ. **පණීත, පණීතතර පණීතතම** රත්නයන්ගෙන් බබලන්නේ එක් තලයෙක්හි වසත්. උපරිමයට

වඩා අඩු ආලෝකය මොවුන්ටනුයි. පරිත්තාභා නම් වේ. අප්‍රමාණ වූ ආලෝකය මොවුන්ට නුයි. අපපමාණාභා නම් වේ. වලාකුළකින් ඔබ්බට විදුලිය නික්මෙන්නා සේ විදුලිය නික්මෙනුයේ මොවුන්ගෙන්නුයි ආභස්සරා නම් වේ. පන්දමකින් ගිනිදළු නික්මෙන්නාක් මෙන් මොවුන්ගේ ශරීරයෙන් ආලෝකය සිදුරුකොට නික්මෙන්නාක් මෙන් ආලෝකධාර වැටෙත්නුයි නික්මෙත්නුයි ආභස්සරා නම් වේ. මේ තිදෙනම දුතියධ්‍යාන භූමිහුය. එක් තලයෙක්හි වසත්.

සුභා යනු එකඝන වූ අචල වූ ශරීරාලෝකය යයි කියනු ලැබේ. එම ආලෝකය මෙහි ඉහල බ්‍රහ්ම ලෝකවලට වඩා අඩු බැවින් (සා උපරි බ්‍රහෙමහි පරිත්තා එතෙසනති) පරිත්ත සුභා නම් වේ. අප්‍රමාණ වූ ආලෝකය මොවුන්ට වේ නුයි අපපමාණ සුභා නම් වේ. පභා සමුදය නම් වූ ආලෝකයෙන් විසුරුවන ලද්දේ ද, ආකීර්ණ වූයේ ද සුභකිණ්හා සුභකිණ්ණ යනුවෙන් කිවයුත්ත හා ශබ්දයට රැස් කිරීමද, අන්තිම ණ කාරයට හ කාරය කොට සුභකිණ්හා යයි කියන ලදී. මොවුහු තතිය ධ්‍යාන භූමිහුය. එක තලයෙහි වසත්.

ධ්‍යාන ප්‍රභාවෙන් නිපදවූ විපුල වූ ඵලය මොවුන්ට වේනුයි. වෙහපඵලා නම් වේ. සඤ්ඤා විරාග භාවනාවෙන් නිපදවූ රූප සනතති මාත්‍රයක් වූ සඤ්ඤා නැති, එයින් කියන ලද සෙසු අරූපකඛන්ධයෝද මොවුන්ට වෙත්නුයි අසඤ්ඤ වේ. ඔවුහුම සත්ත්වයෝ වෙත්නුයි. අසඤ්ඤ සතතා නම් වේ. මොවුහු චතුර්ථධ්‍යාන භූමියෙහි වෙති. එක් තලයෙහි වෙසෙති.

සුද්ධ වූ අනාගාමි රහතුන්ට ආවාස වූයේනුයි සුද්ධාවාස නම් වේ. අනුකූල බව එසේම ක්‍රෝධය නැතිවීමෙන් සුද්ධ වූ ආවාස මොවුන්ටනුයි සුද්ධාවාස නම් වේ. ඔවුන්ගේ නිවාසභූමිය සුද්ධාවාස නම් වේ. මොවුන් අතුරෙහි ප්‍රථමතල වාසීහු ස්වල්ප කාලයකින් තම ස්ථානය අත්නොහරින බැවින් අවිහා නම් වෙති. දුතියතල වාසීහු කිසි කරුණකිනුදු නොතැවෙන බැවින් අතපපා නම් වෙති. තතියතල වාසීහු පරම සුන්දර වූ රූප ඇති බැවින් සැපවත් බැවින් පෙනෙන බැවින් සුදසසා නම් වෙති. හතරමග තල වාසීහු ඉතා පිරිසිදු දර්ශන ඇති බැවින් සැපවත් භාවයෙන් පෙනෙන බැවින් සුදසසිනො, නම් වෙති. පස්වන තලවාසීහු, උත්කෘෂ්ඨ වූ සම්පත් ඇති බැවින් මොවුනට කණිෂ්ඨභාවයක් නැත්තේනුයි අකනිට්ඨා නම් වෙති.

ආකාසානඤ්චායතනයෙහි පැවතුනා වූ ප්‍රථම අරූපාවචර විපාකය වූ සතර ස්කන්ධයෝම වෙති. ඔවුන් විසින් වෙන්කල ආකාසය හෝ ආකාසානඤ්චායතන නම් වේ. එයට පැමිණියේනුයි ආකාසානඤ්චායතන පගා නම් වෙති. සෙසු අරූප ආයතනයෝ ද මෙබඳු වූවාහුමය. යම් ඒ භවවිසේස නියාමක හේතුවෙන් වෙහපඵල ආදි එකලොස් භවයන්හි උපත ගෙනදෙයි. එය දැක්වීමට ආරමමණනානතතතා ආදිය කීහ. ආරමමණනානත්‍තතා යන මෙහි, යකාර ලෝපය දතයුතුය. ආවිකතාභිසස එාසුහොති ආදි තන්හි මෙනි. එබැවින් ආරම්මණයාගේ නානත්ත භාවයෙන් යන අර්ථයි. මනසිකාර නානත්තතා ආදියෙහි ද මේ ක්‍රමයමැයි. එහි එක් අයෙකුට පඨවි කසිණය අරමුණු වේ. -පෙ- එකෙකුට ඕදාත කසිණය අරමුණු වෙයි. මේ ආරම්මණ නානත්‍වයයි. මෙසේ පඨවි කසිණාදියෙහිම ඡන්‍ද නානත්ත ආදිය දතයුතුය. එහි ආරම්මණ මනසිකාරය පූර්වභාග යෙදීම කියන ලද්දාහුය. ඡන්‍ද - පණිධි - අධිමොක්ඛ - අභිනීහාර - අපපණා ආදිය පිණිසද පවතිත්. උපචාර අවස්ථාවේ ප්‍රඥා තොමෝ ලෝකෝත්තර මිශ්‍ර වන්නීය. මේ වනාහි මෙහි අභිප්‍රාය වේ. පරිතත වූ ද, සඤ්ඤාවිරාග ආදී වූ ද, කසිණ රූප ඉක්මවීම් ආදි විශේෂ ලක්‍ෂණයන්ගෙන් වෙසෙසනු ලබන්නා වූ ද අරමුණ, ඒ වූ පරිද්දෙන් එහි පැවැත්තා වූ මනසිකාර ආදීහු ඒ ඒ භවවිශේෂ නියාමකයෝ වෙත්. යම් සේ හතරවන ධ්‍යානය තුන් අයුරින් වඩා වෙහපඵල නම් බ්‍රහ්ම ලෝකයෙහි උපදිත්. සඤ්ඤාව රෝගයකි. සඤ්ඤාව ගඩෙකි යනාදි වශයෙන් පිළිකුල් සිත. ඒකාන්තයෙන් මේ සිත පිළිකුල්ය. නින්දාවකි ආදි ක්‍රමයෙන් සඤ්ඤා විරාග වශයෙන් එම ධ්‍යානයම වඩා අසඤ්ඤසතත ලෝකයෙහි උපදිත්. මෙහිදී වනාහි කමමකිරියවාදී තීර්ථකයන් අදහස් කරන ලදී. යම් ඉරියව්වකින් ඔවුහු මෙහි හැසිරෙත් ද, එම ඉරියව්වෙන්ම එහි උපදිති. චිත්‍ර කර්ම රූප මෙන් පන්සියයක් කල්ප සිටිත්.

අනාගාමීහු පුහුදුන් කල්හි හෝ පසුව හෝ එම ධ්‍යානම වඩා සද්ධාදී ඉන්‍ද්‍රිය ධර්මයන්ගේ වෙනස්කම් අනුව පඤ්ච සුද්ධාවාසයන්හි උපදිත්. කසිණය උගුලුවා ලබන ලද ආකාශ ආදි භාවනා ක්‍රමයන්ගේ වශයෙන් එම සතරවන ධ්‍යානයම උපදවා පිළිවෙලින් සතර අරූප ලෝකයන්හි උපදිත්. බ්‍රහ්ම පාරිසජ්ජ ආදියෙහි අසංඛ්‍ය කල්ප තුනක් වශයෙන් ආයුෂ පරිච්ඡේද දතයුතුය. මහා කල්ප වශයෙන් නොවේ. එක් කල්පයකදීම ඔවුන්ගේ විනාශය ඇතිවන බැවිනි. මෙසේ කියන ලදී.

සත්ත සත්තග්ගිනාවාරා අට්ඨමෙ අට්ඨමොදකා,
චතුසට්ඨි යදා පුණ්ණා එකො වායුවරො සියා

අග්ගිනා'භස්සරා හෙට්ඨා, ආපෙන සුභකිණ්හතො
වෙහප්ඵලකො වාතෙන එවං ලොකො විනස්සති

(සත්වරක් ගින්නෙන් නැසෙයි. අටවෙනි වාරය ජලයෙන් නැසෙයි. නැවත සත්වරක් ගින්නෙන් ද අටවෙනි වාරය ජලයෙන්දැයි අට අට අටක (හැටහතරක්) සම්පූර්ණ කල්හි, අන්තිමවාරය වාතයෙන් විනාශ වෙයි. එහි ප්‍රථමධ්‍යාන තලය අල්වා ගින්නෙන් ද, මිනිස් ධ්‍යානතලය අල්වා ජලයෙන් ද, තෘතීය ධ්‍යාන තලය අල්වා වාතයෙන් ද විනාස වෙයි.)

ලෝකය සත්වාරයක් ගින්නෙන් නසී. අටවන වාරය ජලයෙන් නසී. නැවත සත්වාරයක් ගින්නෙන් ද අටවන වාරය ජලයෙන් ද නසී. මෙසේ අටවාරයක් සම්පූර්ණ වූ කල්හි අවසන් වාරය වාතයෙන් විනාස වේ. එහි පඨමධ්‍යාන තලය ලඟට ගින්නෙන් ද දුතියධ්‍යාන තලය ලඟට ජලයෙන් ද, තුන්වන ධ්‍යානතලය ලඟට වාතයෙන් ද විනාශ වෙයි. එබැවින් තුන්වරක් පඨම ධ්‍යාන තලයන්ගේ එක කල්පයෙක්හි නොනැසීමක් නොමැති බැවින් මුළු කල්පය පුරා ඔවුන්ගේ සම්භවය නොමැත. දෙවන ධ්‍යාන තලයේ පටන් සම්පූර්ණ මහා කල්පයාගේ වශයෙන් ආයු පරිච්ඡේදය දතයුත්තේය. අසංඛ්‍ය කල්පයාගේ වශයෙන් නොවේ.

අසංඛෙය්‍ය කප්පො යොදුනක් දිග පළල අබ ගොඩකින් අවුරුදු සියයකට වරක් එක්බීජයක් ගැනීමෙන් අබ රාශිය අවසන් වන උපමාවෙන් දතයුතුයැ. එයිනුදු මහා කල්පයකින් හතරෙන් කොටසක් දතයුත්තේය. එහිද ආයුධ, රෝග, දුර්භික්ෂ ආදීන්ගෙන් එකකින් වන විනාශයෙන් බොහෝ දෙනෙකු විනාශ වූ කල්හි ඉතිරි සත්ත සනතාන පැවැත්මට හේතු වූ කුසල කර්මයන්ගේ බලයෙන් දස අවුරුද්දේ සිට පිළිවෙලින් අසංඛ්‍යයක් ආයු ඇති සත්ත්වයන් ඇතිවූ කල්හි අධර්මය නිසා එය ක්‍රමයෙන් පිරිහී දස වර්ෂය දක්වා අඩුවූ කල්හි රෝගාදි අන්‍යතරයකින් කල්පය විනාශ වූ කල්හි මෙය එක් අන්තර් කල්පයකැයි කියනු ලැබේ. මෙසේ පරිච්ඡේද කරන ලද අන්තර් කල්පයාගේ වශයෙන් හැටහතරක් අන්තර කල්පයන්ගේ ප්‍රමාණය වෙයි. අන්තර් කල්පයකගේ ප්‍රමාණය විස්සකැයි ද කියත්.

මෙපමණකින් භාග්‍යවතුන් වහන්සේ දානාදි වශයෙන් වූ අටවැදෑරුම් කාමාවචර කුසලයෙන් මිනිස්ලොව සමග සවැදෑරුම් දෙව්ලොව්හි උපතද, සිවුවැදෑරුම් රූපාවචර කුසලයෙන් තම තමාට අත් වූ පරිදි සොලොස් වැදෑරුම් රූපාවචර භවයන්හි ද, සතරවැදෑරුම් අරූපාවචර කුසලයෙන් තම තමාට අයත් වූ පරිදි සතර වැදෑරුම් අරූප භවයෙහි උත්පත්තිය දක්වයි. මෙසේ භාග්‍යවතුන් වහන්සේ කාමයන්ගේ අසසාද නම් වූ පුණ්‍යඵල සංඛ්‍යාත භව සම්පත් ද එහිදී ලැබුවා වූ උපභෝග සැප ද දක්වා, දැන් ගාථා බන්ධන වශයෙන් කාමයන්ගේ අසසාද ද ආදීනව ද නිස්සරණ ද දක්වන්නේ උක්ඛිත්තාපුඤ්ඤතෙජෙන යනාදිය වදාළහ.

එහි උක්ඛිත්තා පුඤ්ඤතෙජෙන ත්‍රිවිධ පුණ්‍යයන්ගේම බලයෙන්. භෝග-යස-ආධිපත්‍ය-ආයු-වර්ණ-සුඛ ආදී පුණ්‍යඵල විශේෂ ප්‍රවෘත්තියෙන් උසස් බවටද ශ්‍රේෂ්ඨ බවටද, ප්‍රතික්ෂේපයට පමුණුවා. කාම රූපගති ගතා, මනුෂ්‍ය ලෝකයෙහි සහ සොළසවිධ රූප භවයෙහි ද උත්පත්ති වශයෙන් පැමිණියා වූ, භවග්ගතම්පි සම්පත්තා භවාග්‍රයට ද (සියළු කාම රූප - අරූප භවයන්ගේ කෙළවර වූ නෙවසඤ්ඤානාසඤ්ඤායතන අරූප භවයටද) සම්ප්‍රාප්ත වූවාහුද, පුනාගච්ඡන්තිදුග්ගතිං දුක්ඛයාගේ පිහිටීම වූ සතර අපාය භූමියට අපරාපර්ය වශයෙන් එත් හෙවත් සතර අපායෙහි උපදිත්. යමෙකුගේ වට්ටමූලික වූ අවිජ්ජා - තණ්හා අප්‍රහීන වෙත් ද, ඔවුහු සප්තරත්නයන්ගෙන් සතරමහ දිවයිනට ඊශ්වර වූ චක්‍රවර්තී රජුද, දෙව්ලොවැ සර්වභූත ඊශ්වර වූ දේවේන්ද්‍ර බවද, කල්ප අසූහාර දහසක් ආයු ඇති භවාග්‍රයෙහි උපන් බ්‍රහ්ම ආත්මභාවයද, වට්ටමූලක දුක නොනැසූ බැවින් අපරාපර්ය ගති වශයෙන් පෙළනු ලැබුවාහු, දුක්බර දිවි ගෙවුම් ඇති, කබල් අත ඇති, සැඩොල් කුලයෙහි හෝ අශුචි අනුභව කරන, සූකර, අජ - ගෝ - මහිස ආදි තිරිසන් යෝනිවල හෝ සා පිපාසාවන්ගෙන් පෙළුන, වාත, අන්‍ය දුක්ඛයන් නිබඳ විඳින්නා වූ ප්‍රේත ලෝකයෙහි හෝ නිතර නිරයපල්ලන් විසින් පෙළනු ලැබූ පැතිරෙන ගිනිදැල්වලින් ආකීර්ණ වූ නිරයෙහි හෝ උපදිත්. අනේ පුහුදුන් බව මහත් දීනබවකැයි දතයුත්තේය. එයින් වදාළහ. භාග්‍යවතුන් වහන්සේ:-

**යථාපි මූලෙ අනුපද්දවෙ දළ්හෙ**
**ඡින්නොපි රුක්ඛො පුනරෙව රූහති**
**එවම්පි තණ්හානුසයෙ අනූහතෙ**
**උප්පජ්ජතී දුක්ඛමිදං පුනප්පුනං**

'යම්සේ ගසක මුල උවදුරකට නොපැමිණ ස්ථිරව පවත්නා කල්හි, (ඇසතු ආදී) එම වෘක්ෂය අතු සිදින ලද්දේ නමුදු යලිත් වැඩේද, එසේම තෘෂ්ණාවගේ අනුශය (කාමරාග-භවරාග) සිඳ නොපිසන ලද කල මෙම දුක නැවත නැවත උපදී.

තාවදීඝායුකා අසූසාර දහසක් පමණ දීර්ඝායුෂ ඇත්තාහු ද මැරෙත්. යම් කලෙක්හි ඊට ප්‍රමාණ වූ ආයු ගෙවේද, එකල්හි එයින් චුතව කම්වූ පරිදි යෙති. නත්ථි කොචි භවො නිච්චො යම් තැනෙක් උපත් සත්ත්වයෝ අජර අමර වූවාහු ද, ස්ථිර වූවාහු ද, ශාස්වත වූවාහුද නොපෙරලෙන ස්වභාව ඇත්තාහු ද, නැත්තාහුය. එම භවය කිසිවෙක් තෙමේ හෝ, නිත්‍ය හේතුවක් වූ අනිකෙක් හෝ නැත්තේය. ඉති වුත්තං මහෙසිනා මහත් වූ ශීලාදි ස්කන්ධයන් තමන් වහන්සේට ද අන්‍යයන්ට ද සොයන්නා වූ මහත් කරුණාව ඇති භාග්‍යවතුන් වහන්සේ විසින් සංසාර දුක්ඛ සම්බාධයට පැමිණියා වූ සත්ත්වයන් දැක කලකිරීමට නො ඇලීමට හේතු වූ සංසාර ආදීනවය දක්වන්ට මෙය වදාරණ ලදී. ත සමාහි, එබැවින්ම, යම්හෙයකින් භවයන්ගේ අගතැනට පැමිණියාහුද නැවත දුගතියට යෙත්, එසේම දීර්ඝායුෂ ඇත්තාහුද, ආයුෂ ගෙවීමෙන් චුත වෙත්. නිත්‍ය වූ ධ්‍රැව වූ වෙනස් නොවන්නා වූ කිසියම් භවයක් නැත්තේය. ධීරා ධෛර්ය සම්පන්න ප්‍රඥාවන්තයෝ. නිපකා. සිහියෙන් හා නුවණින් යුත් එළඹ සිටි සිහි ඇත්තාහු. නිපුණා, සියුම් අරුත් දැනීමෙහි සමත් ප්‍රඥාවෙන් යුක්ත වූ, අත්‍ථ චින්තකා, මෙලොව පරලොව අර්ථය ද, ස්වාර්ථය හා පරාර්ථය ද, ලෞකික ලෝකෝත්තර අර්ථද යන මේ අර්ථයන් පරීක්ෂා කරන්නා වූ. (පරීක්ෂාකරන ශීලී වූ) ජරාමරණ මොක්ඛාය. ජරා මරණයන්ගෙන් මිදීම පිණිස. ජරාමරණ කෙරෙන් හෝ මෝක්ෂ සංඛ්‍යාත නිර්වාණය පිණිස. භාවෙන්ති මග්ග මුත්තමං පූර්ව භාගයෙන් සතත විසුද්ධි අනුක්‍රමයෙන් විදර්ශනාව වඩා ඤාණදස්සන විසුද්ධිය වූ ආර්ය අෂ්ඨාංගික මාර්ගය වඩත්. තම සන්තානයෙහි නූපන්දෙයක් උපදවත්. එය උපන්නා වූ සන්තානයෙන් වාසය කරත්. සබ්බ භවෙ පරිඤ්ඤාය, කාමභව, රූපභව, අරූප භව, සඤ්ඤා භව, අසඤ්ඤ භව, නෙවසඤ්ඤානාසඤ්ඤාභව යයි යන සියලු නව භවයන් ඤාත පරිඤ්ඤා තීරණ පරිඤ්ඤා පහාණ පරිඤ්ඤා යන තුන් පරිඥාවන්ගෙන් පිරිසිඳ දැන එහි කාමභවය නම් කාමාවචර විපාක කටත්තා රූපයෝය. රූප භවය නම්, රූපාවචර විපාක කටත්තා රූපයෝය. අරූපභවය නම්, අරූපාවචර විපාකයෝය. සඤ්ඤාභවය නම් :- කාම, රූප - විපාක

කටත්තා රූපයෝ සහ තුන් අරූප විපාකයෝය. අසඤ්ඤ භවය කටත්තා රූපමය. නෙවසඤ්ඤා නාසඤ්ඤා භවය නම් සතරවන අරූප විපාකය. එකවොකාර භවයනම් අසඤ්ඤ භවයමය. චතුවොකාර භව නම් අරූප භවයෝය. පඤ්චවොකාර භවය නම් කාම භවයමැයි. ඒ සියල්ලම 'නාමරූපයෝය.'

මේ රූපයි. රූප මෙපමණයි. මීට වැඩිය නැත. මේ නාමයි. නාම මෙපමණයි. මෙයට වැඩිය නාම නොමැත: රූපයාගේ භූතප්පසාද ආදී භේද ද, ඵස ආදී භේද ද නාමයයි බෙදා වෙන්කොට නාම රූප දෙකේම, ලක්ඛණ රස, පච්චුපට්ඨාන පදට්ඨාන, වශයෙන් බෙදා දක්වයි. අනතුරුව ඔවුන්ගේ ප්‍රත්‍යය වූ අවිජ්ජා තණ්හා කර්මාදිය පරිගණනය කෙරෙයි. මේ ඤාත පරිඤ්ඤා නම් වේ. අනතුරුව මේ ධර්මයෝ ප්‍රත්‍ය සහිතයෝය. සංඛතයෝය. එසේ නොවී හට නොගනිත්. හටගෙන නිරුද්ධ වේ. එබැවින් අනිත්‍යයයි අනිත්‍ය ලක්ෂණයට ආරෝපනය කෙරෙයි. හටගැනීම හා විනාශයෙන් පෙලෙන බැවින් දුක යයි දුක්ඛ ලක්ෂණය ආරෝපනය කෙරෙයි. තමා වසයෙහි නොපවත්නා බැවින් අනත්තා යයි අනත්ත ලක්ෂණයට නගයි.

මෙසේ ත්‍රිලක්ෂණයට නගා, උදයබ්බය ඤාණයාගේ උපත දක්වා විපස්සනා කෙරෙයි. මේ තීරණ පරිඤ්ඤා නම් වේ. මෙසේ තීරණය කොට භංගානු පස්සනාවේ පටන් සියලු භවයෙහි නිත්‍ය සංඥාව, සුඛ සංඥාව, අත්ත සංඥාව, දුරුකොට රහත් මගින් සියලු කෙලෙස් දුරුකෙරෙයි. මේ පහාණ පරිඤ්ඤා නම් වේ. එහි දිට්ඨි විසුද්ධි, කංඛාවිතරණ විසුද්ධීහු ඤාත පරිඤ්ඤා නම් වෙයි. කලාප සම්මසන, උදයබ්බය ඤාණ දස්සනය තීරණ පරිඤ්ඤා නම් වේ. භංගානුපස්සනා ඤාණදස්සන විසුද්ධිය අවසන්කොට ඇත්තේ පහාන පරිඤ්ඤා නම් වේ. පරිනිබ්බන්ති අනාසවා රහත් මගින් පහීන ආසව ඇති බැවින් අනාසව වී, කෙලෙස් නිවා දැමූ බැවින් නිබ්බාණ සඤ්ඤා ඇති අමෘත පදයට පැමිණෙත් යතුයි.

ධම්මහදය විභංග සූත්‍ර වර්ණනාව
නිමි.

# 15.

ඡත්තවිමානෙ, ඡත්තවිමාන වර්ණනාවෙහි. ඡත්තමාණවකට උපන් විමානය ඡත්ත මාණවක විමාන යයි කියනු ලැබේ. එය ප්‍රකට කොට පෙන්වන්නා වූ කථා ප්‍රවෘත්තිය ද එසේම හඳුන්වනු ලැබේ. විමානං, විසිතුරු ප්‍රමාණයක් (මිම්මක්) දෙවියන්ගේ ක්‍රීඩා නිවාස ස්ථානයෝය. ඒවා වනාහි දෙවියන්ගේ සුචරිතානුභාවයෙන් උපන්නා වූ දෙයොදුන් ආදි ප්‍රමාණ විශේෂයන්ගෙන් යුත් බැවින්, විචිත්‍ර වර්‍ණ සංස්ථාන ආදියෙන් විශේෂයෙන් අතිශයින් ශෝභනීය වූ, විශේෂ වශයෙන් මමායනය කරන බැවින් විමාන යයි කියනු ලැබෙත්. මෙහි උපදිනුයි උත්පත්ති කාරණයයි. මනෙත ඥාණයයි. විජ්ජට්ඨානානි හස්ති ශිල්ප ආදිය. ගුරු දක්ඛිණං, ගුරුවරයාට පූජා වශයෙන් දියයුතු ධනය වදතං පවරො කියන්නවුන් අතුරෙන් ශ්‍රේෂ්ඨ වූ උත්තම වූ. මනුජෙසු ඉතා උසස්ය යන නිර්දේශයයි. නිර්ධාරණාර්ථයෙහි සත්තමි විභක්තියයි. සාක්‍යමුනි, සාක්‍ය කුලයෙහි උපන් බැවින් සාක්‍යයෝ නම් වෙති. කයෙහි උසස් හික්මීමකින් යුක්ත බැවින් ද, දතයුතු දෙය ඉතිරි නොකොට අවබෝධ කළ හෙයින් මුනි යයිද, මුනි වූයේ ද සාක්‍ය වූයේ ද යන අරුතින් සාක්‍යමුනි නම් වේ. භාග්‍යවනතාදි හේතුවෙන් 'භගවා' නම් වේ. සතර මගින් කළයුතු වූ පරිඥාඥා ආදි භේද ඇති සොළොස් ආකාර කෘත්‍යයන් කළ හෙයින් කතකිච්චො නම් වේ. සංසාරයාගේ පරතෙර වූ නිවනට පැමිණ අවබෝධ කළේනුයි පාරගත නම් වේ. අසදෘශ වූ කාය බලයෙන් ද, ඥාණ බලයෙන් ද, චතුර්විධ සම්‍යප්‍රධාන වීර්යයෙන් සමන්විත බැවින් බලවීරිය සමංගී නම් වේ. සෝභන ගමන් ආදි කාරණයන්ගෙන් සුගත නම් වූ. සරණත්ථමුපෙහි, සරණ වූ පරායණ වූ අපාය දුක් වට දුක්වලින් ආරක්ෂාව එළඹෙව, වෙතට යව 'අද පටන් අහිත නැවැත්වීමෙන් හිත වර්ධනයෙන් මේ මට භාග්‍යවතුන් සරණය. ආරක්‍ෂාවය, ආරක්‍ෂා ස්ථානය පරායණය, ගතිය, පටිසරණය යයි භජනය කරව. සේවනය කරව. දැනගනුව යයි භජනය කරව.

රාග විරාග යනුවෙන් ආර්ය මාර්ගය කීහ. එබැවින් ආර්යයෝ අනාදිමත් කාලයක් භාවිත වූ රාගයෙහි නොඇලෙත්. විනාශයට පමුණුවත්. අනෙජමසොකං ආර්ය ඵලයයි. එහි ඒජ නම් වූ තෘෂ්ණාවෙන් ඉතිරි වූ සෝකයන්ට නිමිති වූ ක්ලේශයන්ගේ සම්පූර්ණයෙන්ම යටපත්වීම

අනේජමසොකං යයි කියනු ලැබෙත්. ධම්මං ස්වභාව ධර්මයයි. ස්වභාව වශයෙන් ගතයුතු ධර්මයයි. මගඵල නිබ්බාණ ධර්මයි. ප්‍රඥප්ති වශයෙන් පර්යාප්ති ධර්මය මෙන් නොවේ. ධම්මං නැතහොත් පරමාර්ථ ධර්මයයි. නිර්වාණය යන අර්ථයයි. පිළිකුල් කටයුතු කිසිවක් නැත යන අරුතින් අප්පටිකූලං නම් වේ.

ශ්‍රවණ සමය, පරීක්ෂාකර බලන සමය පටිවිජ්ජන සමය යන සැමදාම ඉෂ්ට වූයේනුයි. මධුර නම් වේ. සර්වඥයන් වහන්සේගේ ඇසුරෙන් ප්‍රතිභාන සම්ප්‍රදායෙන් පැවතුන බැවින් ද මනා පැවැත්මෙන් ද, නිපුනභාවයෙන් ද, පගුණං නම් වේ. බෙදිය යුතු අර්ථයාගේ ස්කන්ධ ආදී වශයෙන් ද කුසලාදී වශයෙන් ද, උද්දෙසාදි (උදෙසීන් ආදි) වශයෙන් ද මනා ලෙස බෙදා දක්වන ලද බැවින් සුවිභත්තං නම් වේ. මේ පද තුනෙන්ම පරමාර්ථ ධර්මයම පවසයි. ප්‍රත්‍යක්ෂ වශයෙන් දැකීමට ඉමං යනුවෙන් කියන ලදී. තත් වූ පරිද්දෙන් පිළිපැදීමෙන් අපාදුකට වැටෙන්න නොදී දරත්නුයි (ධාරනාර්ථයෙන්) ධම්ම නම් වේ. මෙය සතර වැදෑරුම් ධර්මයන්ට සාධාරණ වූ වචනයකි. පර්යාප්ති ධර්මයද, සරණ සීලයන්හි පිහිටි පමණින් සුදුසු ප්‍රතිපත්තිය හේතුවෙන් අපාය දුකින් එහි වැටෙන්න නොදී දරත්නුයි ධර්මයම වේ. මෙම අර්ථය සඳහා මෙම විමාන වස්තුව සාධක වශයෙන් දතයුතුයැ.

යත්ථ, යම් ආර්ය සංඝයා විෂයෙහි, දින්න මහප්ඵලං ගාථාවේ පහසු උච්චාරණය පිණිස අනුනාසික ලොප්කර ඇත. කෙලෙස් නැමති අසූචියෙන් පිරිසිදු වූ බැවින් සූචිසු නම් විය. සෝතාපන්නයාය. සෝවාන් ඵලය සාක්ෂාත් කිරීම සඳහා පිළිපන් තැනැත්තා ආදී වශයෙන් කියන ලද තැන් අනුව චතුසුයුගෙසු අට්ඨා යනුවෙන් මග-ඵල යුගල වශයෙන් නොදක්වා වෙන් වෙන් වශයෙන් ද ගණන් ගැනීමෙන් අටපුගුලෝ වෙති. පුගගල ධම්මදසා ගාථා පහසු පිණිස හ්‍රස්ව කොට දක්වා ඇත. චතුරාර්ය සත්‍ය ධර්මයාගේ ප්‍රත්‍යක්ෂ වශයෙන් දැකීම හේතුවෙන් ධම්මදසා නම් විය. දිට්ඨිය හා සීලයෙන් ද ශ්‍රමණ භාවයෙන් ද සංයත බැවින් ද සංඝ නම් වේ. පචචනුභාසි නැවත නැවත කීය. තජ්ති බබලයි. වුසස එනම් නැකත් තරු අතුලං අසදෘශ වූ (උපමා රහිත වූ) ප්‍රමාණය ඉක්මවා යයි හෝ මෙයින් කියන ලද්දේ වෙයි. යම්සේ ඔබගේ මෙම විමානය අනුපමය (උපමා රහිතය) අප්‍රමාණ වූ ප්‍රභාස්වර භාවයෙන් එයින්ම වූ මහත් ආලෝකයක් අහසේ දිලිසෙයි. තාරකා රූපයෝ ද එසේ නොවෙති.

චන්ද්‍රයාද, සූර්යයාද එසේ නොබබලයි. මෙවැනි වූ ඔබ කවරෙක්ද? දෙව්ලොවින් මෙම පෙදෙසට ආ කෙනෙක්ද ඔබ? මෙම මහජනතාවට පැහැදිලි කර කියන්න. ඡිනැති සිඳ දමයි. පවතින්නට නොදී විනාශ කරත් යනු අරුත් වේ. රංසි පභංකරසස සූර්යයාගේ රශ්මිය ඔහුගේ විමානයෙහි ප්‍රභාව හාත්පස පස්විසි යොදුන් තැන පැතිරී සිටියි. එහෙයින් කියන ලදී. සාධිකං වීසති යොජනානි ආභාති රතතිමපි යථා දිවං කරොති තමාගේ ආලෝකයෙන් අන්ධකාරය දුරුකරයි. රාත්‍රී කාලයද දිවා කාලය මෙන් කරයි. හාත්පසින් ද, ඇතුලතින්ද පිටතින්ද, සුද්ධභාවය හේතුවෙන් පරිසුදධ නම් වේ. සර්වප්‍රකාරයෙන් මල නැති බැවින් විමල නම් වේ. සුන්දර බැවින් සුභං නම් වේ. බහු පදුම විචිතත පුණඩරීකං, බොහෝ පෙති ඇති රතුනෙළුම් මල්වලින් ද, විචිත්‍ර වර්ණ ඇති සුදු නෙළුම්වලින් ද ගැවසී ගත් වොකිණණං කුසුමෙහි, අන්‍ය වූ නානාප්‍රකාර පුෂ්පයන්ගෙන් ගැවසී ගත්තා වූ, නෙක චිතතං මාලාකර්මලතා කර්ම ආදි නොයෙක් අයුරින් විසිතුරු වූ අරජං විජජං හෙමජාලචජනනං තෙමේම පහව ගිය රජස් ඇති. රජස් රහිත දොස් රහිත රන් දැලින් වැසුන. රතතමබර පීතවාස සාහි එක් දිව්‍ය ස්ත්‍රියක් රන්වන් දිව්‍ය වස්ත්‍රයක් හැඳ, දිව්‍ය වස්ත්‍රයක් එකාංස කොට පොරවයි. අන් දිව්‍ය ස්ත්‍රියක් කහ දිව්‍ය වස්ත්‍රයක් හැඳ රන්වන් දිව්‍ය වස්ත්‍රයක් එකාංස කොට පොරවයි. ඒ සඳහා රතතමබරං යනාදිය කීය. පියංගු චඥනුසසදාහි අගිල් සුගන්ධයන්ගෙන් ද පුවඟු මාලාවන්ගෙන් ද සඳුන් සුගන්ධයන්ගෙන් ද උත්සන්න දිව්‍ය අගිල් සුගන්ධාදිය ඇති යන අර්ථයි. (එවන් දිව්‍ය ස්ත්‍රී පුරුෂයන් පිරිවරා ගත්) කඤචන තනු සනනිභතතචාහි ස්වර්ණයට බඳු සියුම් ඡවි වර්ණ ඇත්තවුන්ගෙන් ද, පරිපූරං තන්හි තන්හි සංගීතයෙන් නියැලුනු (නරනාරීන්ගෙන්) පරිපූර්ණ වූ, නරනාරියෝ දේවපුත්‍රයෝ ද, දේව දූහිතෘහුද, නෙක වණණ නොයෙක් ස්වරූප ඇත්තා වූ කුසුමවිභූසිතාභරණෙතථ විශේෂ වශයෙන් සුවඳ හැමීම සඳහා දිව්‍යමය මලින් අලංකාර කරන ලද දිව්‍ය ආභරණ එම විමානයෙහි වූහ. සුමනා, සුන්දර මනසක් ඇති, ප්‍රමුදිත සිතක් ඇති අනිල පමුඤචිතා පවනති සුරභි සුලඟින් මුදවන ලද සුවඳ ඇති පුෂ්පයන්ගේ සුගන්ධ වහනය වෙයි. අනිල පධූපිතා යයි ද කියති. වාතයෙන් මදක් කම්පා වන ස්වර්ණමය පුෂ්පයෝ යන අර්ථයි. ස්වර්ණමය නූල් ආදියෙන් සැරසූ, වස්ත්‍ර ආදියකින් වසන හිස් ඇති, තපනීය විතතා බොහෝසෙයින් ස්වර්ණාභරණයන්ගෙන් වසන ලද සිරුරු ඇති බැවින්, සුවණණචඡාදනා කිසස සමද මසස යං විපාකො කාය සංයම ආදි වූ කෙබඳු සංවරයක්හුගේ, ඉන්ද්‍රිය සංවරය ආදි කෙබඳු

සංවරයක්හුගේ මේ භවභෝග සම්පත්ති විපාකයෝ ද, උත්පත්තිය ගෙන දුන් කර්මයට අනිකකින් උපභෝග සැප ගෙන දුන්නේ වේද? කෙනා සි කම්මඵලෙ නිධූපපනෙනාති (කවර කර්ම විපාකයකින් මෙහි උපන්නෙහිද) යනුවෙන් කියා නැවත, යථාවතෙ අධිගතමිදංවිමානං (තා විසින් මේ විමානය තෙම යම්සේ පැමිණෙන ලද්දේද) යනුවෙන් ඇසීය. එහි කර්මඵලයෙන් පැසෙන්ට ආරම්භ වීයයි යන වචනය ඉතිරිව ඇත. ඉත්ථම්භූත අර්ථයෙහි කරණ වචනයි. තදනුරූපං අවචාසි ඒ කර්මය මවිසින් කියන ලද පදයට අනුරූප කොට කියන්න. ඉංඝ යනු චෝදනාර්ථයෙහි නිපාතයකි. පුටෙඨා විචාරන ලද්දේ, මෙම මහජනතාවට කර්මඵල ප්‍රත්‍යක්‍ෂ කරවීම මෙහි අදහසයි. යම්ධ පථෙ සමෙච්ච මාණවෙන මෙහි මේ මහා මාර්ගයෙහි. මාණවෙන, බ්‍රාහ්මණ කුමාරයා විසින්, සමෙච්ච එක්ව, සත්‍ථා ශාස්තෲන් වහන්සේ ඔහුට අනුකම්පමානො, අනුග්‍රහ කරන්නේ අනුසාසි, අනුසාසනා කළ සේක. තවරතනවරසස, අග්‍රරත්නය වූ නුඹවහන්සේගේ සරණාගමන ශික්‍ෂාපද ශීල දීපකං ධම්මං සුත්‍වා ඉති ධර්මය අසා, කරිසසාමි, අනුශාසනා පරිදි පිළිපදින්නෙමි. සො ඒ ඡතෙතා ඡත්ත නම් වූ මානවක තෙම බ්‍රෑවිත්ථ කීයේය. මෙසේ විචාල පරිද්දෙන් කර්මය කාරණ වශයෙන් දක්වා දැන් එය ස්වරූප වශයෙන් ද විභාග වශයෙන් ද දක්වන්නේ ශාස්තෲන් වහන්සේ විසින් සමාදන් කරවන ලද බව ද තමා ද පසුව එහි පිහිටි බවද දක්වන්ට ජිනවරං යනාදිය කීහ.

එහි නොති පඨමං අවචාහමභනෙන භාග්‍යවතුන් වහන්සේ සරණාගමනය ඔබ විසින් දන්නෙහි දැයි කියන ලද්දේ නොදනිම් යයි ඔහු විසින් කියන ලදී. පඨමං අමචං අහං පචඡා තෙ වචනං තථෙවකාසිං පසුව ඔබ කියූ දෙය කෙසේ පෙරලෙන්නේ ඔබගේ වචනය එසේම කළේද? තිසරණයට පැමිණියේ, වෙතට එළඹියේ යන අරුති.

විවිධං උස්පහත් අල්පසාවද්‍ය මහාසාවද්‍ය යන අරුත් ඇත්තේය. මාචරසසු නොකරව. අසුචිං කෙලෙසුන්ගේ මිශ්‍ර බැවින් පිරිසිදු නොවූ. පාණෙසු අසඤ්ඤත, ප්‍රාණඝාතයෙන් නොවැලකීම. අවණ්ණයිංසු, වර්ණනා නොකරත්. මෙය වර්තමාන අර්ථයෙහි අතීත වචනයකි. මා අගමා, නොහැසිරෙන්න. විතථං තථ්‍ය නොවූ මුසා යන අර්ථයි. අඤ්ඤථා අන් පරිද්දකින් මේ බොරුයයි දන්නේ බොරුවක් ද නොකියව. යෙන යම් සුරාපානයකින්, බීමෙන් යන අදහසයි.

අපෙති, පහ වේද, සඤ්ඤා ධර්ම සංඥා ලෝක සංඥා සබ්බං ඉතිරි නොකොට බීජ අවස්ථාවෙහි පටන් යන අර්ථයයි. ඉධ මේ මාර්ග ප්‍රදේශයෙහි, මේ ඔබගේ සාසනයෙහි හෝ, කරිත්වා කොට අධිෂ්ඨාන කොට යන අර්ථයි. පඤ්චසික්ඛා පඤ්ච සීලය. ධම්මෙ, අවවාදයෙහි, දෙවපථං දෙගම් සීමාවෙහි මධ්‍යයෙහි වූ මාර්ගය. තෙ සොරු තත්‍ථ සීමා දෙක අතර මාර්ගයේ දී, තතො කියන ලද කුසලය පිරිදි. පරං මත්තෙහි, අඤ්ඤං කුසලං නවිජ්ජති නොලබයි. (අන්‍ය වූ පිනක් මට නැත්තේය.) කාමනෙමි, කැමති පරිද්දෙන් කාමගුණයෙන් යුක්ත වූයෙමි. ඛණ මුහුත්ත සඤ්ඤමය, මොහොතක් පමණ පවත්වන ලද සීලයාගේ ද අනුධම්ම පටිපත්තියා, ඔබවහන්සේගේ අවවාද ධර්මයට සුදුසු වූ ධර්ම ප්‍රතිපත්තියගේ විපාකය, භාග්‍යවතුන් වහන්සේ කියන ලද ආකාරයෙන්ම වූ සරණාගමනයේද සීල සමාදානයෙහි ද ප්‍රයෝජනය බලන්න. ජලම්ව යසසා ඍද්ධියෙන් ද පරිවාර සම්පත්තියෙන් ද බබලන්නාක් මෙන් පිහයන්ති කෙසේ හෝ අපිදු මෙසේ වන්නෙමු දැයි ප්‍රාර්ථනා කෙරෙත්. හීනකාම මගේ සම්පත්තියෙන් හීන වූ කාම සම්පත් ඇත්තා වූ. කතිපයාය, ස්වල්ප වූ, යෙ යම් භික්ෂූහු ද උපාසක ආදීහු ද, තෙ ඔබගේ, සතතං දිනපතා, තථාගතසස ධම්මෙ සාසනයෙහි අවවාදයෙහි පිහිටා කරන ලද්දේ යයි යෙදිය යුත්තේය. මෙසේ අනුදෙදස වශයෙන් දක්වන ලද අර්ථය අත්තුද්දේශික වශයෙන් දක්වන්නේ පසස යන ආදිය කීහ. එහි පසස යනු භාග්‍යවතුන් වහන්සේට කියයි. තමාම හෝ අනිකෙකු මෙන් වී කියයි. කිම්දං කුසලං කිමාචරෙම, මේ කුසලය කිනම් ස්වභාවයක් ඇත්තේද, කෙබඳුද, කෙසේනම් එහි හැසිරෙන්නෙමු ද? ඉවෙචකෙහි සමෙච්ච මනතයනති (සමහරුන් වනාහි එක්රැස්ව කථා කෙරෙත්.) සමහරුන් එකතුව පොලොව පෙරලන්නාක් මෙන් ද, සිනේරු පර්වතය ඔසවන්නාක් මෙන් ද, දුෂ්කර දෙයක් බවට පත්කරගෙන කථා කරත්. සාකච්ඡා කරත්. අපි වනාහි දුකසේ නැවත කුසල්හි හැසිරෙන්නෙමු යන අභිප්‍රායයි. බහුපකාරෙ මනුකම්පකො, භාග්‍යවතුන් වහන්සේගේ තමා කෙරෙහි පිළිපන් ආකාරය සඳහා කියයි. මෙ සති = මයි සති, විද්‍යමාන කල්හි, සොරුන් විසින් මා මරනු නොලැබූ කල්හි යන අර්ථයි. දිවාදිවසස කල්ඇතිව, සච්චනාමං භගවා අරහං සම්මා බුද්ධො යන සත්‍ය නම් ඇති, (-අවිතථ - භූතත්‍ථ) අනුකම්පසසු, අනුකම්පා කළ මැනවයි, කීයේය. පුනපි, නැවතද බොහෝසෙයින්, සුණෙමු අසන්නෙමු. අවසාන ගාථාවෙහි, යෙ ඉධ මෙම සසුනෙහි සිටියාහු. පජහන්ති ඉතිරි නොකොට සමුච්ඡෙද වශයෙන් නැතිකරත්. කාමරාගය කාමරාගය න ච තෙ පුන උපෙනති

**ගබ්භසෙය්‍යං** ඔරම්භාගිය සංයෝජනයන් සිඳලූ බැවිනි. යමෙක් වනාහි, **පහාය මොහං**, මෝහය සම්පූර්ණයෙන් නසා භවරාග අනුසයඤ්ච භවරාග අනුසය ද දුරුකෙරෙත්. එබැවින් ඔවුහු නැවත පිළිසිඳ ගැනීමකට එළඹෙත් යයි කිවයුතු බවක් නැත. කුමක් හෙයින්ද යත්, **පරිනිබ්බාණ ගතාහි සීතිභූතා.** ඔවුන් අතුරෙන් උත්තම පුරුෂයෝ අනුපාදිශේෂ වූ නිර්වාණ ධාතුවෙන් පරිනිර්වාණයට පැමිණියාහුය. කෙලෙස් නැමති ගින්නෙන් සිහිල් වූවාහු යයි වදාළ සේක.

**ඡත්ත මානවක විමාන වර්ණනාව නිමි.**

## 16.

රෙවති විමානෙ රෙවති විමාන වර්ණනාවෙහි, **සුපාපධම්මෙ,** ආදියෙන් නැගීසිටීමට කාරණා කියත්. යම්හෙයකින් තී ආර්යයන් වහන්සේලාට ආක්‍රොශ පරිභාසණාදිය ඉතා ලාමක ධර්මයෝ (කරන ලද්දාහුය.) යම්හෙයකින් අපාරුතං ද්වාරං තිට නිරයට ප්‍රවේසවීම පිණිස. එහෙයින් නැගී සිටුව. **යත්ථ ථුනන්ති දුග්ගති** දුග්ගතිගතත්තා දුගතියට ගිය බැවින් දුග්ගතා නෙරයිකා නම් වේ. **නිරය දුක්ඛෙන සමප්පිතා** නිරා දුකින් සමන්විත වූ නිරය වැසියෝ යම් නිරයක යම්තාක් කර්මය නොගෙවත්ද, ඒ තාක් නික්මීමක් නොලැබෙන්නේ කෙඳිරිගාති. එහි **තං නෙස්සාම** ඔබ පමුණුවන්නෙමු. විසිකරන්නෙමු යයි යන අදහසයි. **යමස්ස දූතා.** ප්‍රතික්ෂේප නොකළ හැකි බැවින් යමරජුගේ දූතයන් වැනිය. වෛශ්‍රවණ විසින් යවන ලද්දාහුය. එසේම ඔවුහු තාවතිංස භවනයට ගෙන ගියාහුය. **ලොහිතක්ඛා** රතු ඇස් ඇති යකුන්ගේ ඇස් අතිශයින් ලෝහිත වර්ණ වූවාහු වෙත්. **බ්‍රහන්තා** (බ්‍රහන්තා = කියා) එකෙක් එක අතකින් ද, අනෙකා අනිත් අතින් ද රේවතිය දැතින් අල්වාගෙන **පචෙචක බාහාසු** වෙන වෙනම දැත් ඇතිව **පක්කාමයුං** පැමිණවූහ. **දෙවගණස්ස තව්තිසා** භවනෙහි දේව සමූහයා වෙත පැමිණවූහ. **රුචිරං,** රමණීය වූ. **පභස්සරං** අතිශයින් පැහැසර වූ **ව්‍යමහං** විමානය, **වසන්ති එත්ථාති** -

ව්‍යාමහං මෙහි වසත්නුයි විමාන නම්. චන්‍දනසාර ලිත්තා සඳුන්හර සුවඳින් ආලේප කළ සිරුරු ඇති. උභතො විමානං විමානයෙහි දෙපස ඇතුළත පිටත, සංගීත ආදියෙන් සෝභාමත් වෙයි. අගාරිනී ගෘහිනිය වූ මම, ඒ නන්දිකගේ බිරිය වෙමි. සගාමිනී යයි ද කියත්. සබ්බ කුලසස ඉස්සරා මම ස්වාමියා සන්තක වූ සියලු වස්තුවට අධිපති වූ ස්වාමිදුව (බිරිය) වෙමි. එබැවින් දන් මෙම විමානයෙහි අධිපතිනිය වෙමැයි කීහ. විමානෙ රමිස්සාමි දානහං, මෙසේ පොළඹවීමට ම ඇයව එහි ගෙන ගියාහුය. එසො තෙ නිරයො මේ තීගේ නිරයයි. තී විසින් දීර්ඝ කාලයක් මහා දුකක් අනුභව කළයුතු ස්ථානය වූ සංසවකොනාම, හැමකල්හි ගූථ මූත්‍ර ආදී අශුචින්ගේ ගලාබැසීම ද වැගිරීමද සිදුවන බැවින් සංසවක නම් වේ. කාකොල ගණා මෙහි කපුටු සමූහයා වනාහි තුන්ගවු පමණ ශරීර ඇත්තෝය. නොයෙක් සිය ගණන් දහස් ගණන් පතිතව අතිශයින් තියුණු වූ අයෝමය මුවතුඩින් විද විද කත්. මස් උපුටා ගත් තන්හි කර්මයාගේ වශයෙන් පළමුවෙන් වෙයි. සමචරියාය යහපත් පැවැත්මෙන් ද සුචරිතයෙහි හැසිරීමෙන් ද සංයමෙන, සීල සංවරයෙන් ද, දමෙන ඉන්‍ද්‍රිය දමනයෙන් ද (=මනස හයවැනිකොට ඇති) යං කත්වා සුඛිතා යම් කුසලයක් කොට දෙව්ලොව සැප ලබන්නාහු ද එම කුසල් කරන්නෙමියි යෝජනා කෙරේ. නව පචඡා'නුතපපරෙ අප විසින් කුසල් නොකෙලෙමු. අකුසල් කෙලෙමු. එහෙයින් අපි නිරයේ දුක් අනුභව කරන්නෙමු යයි පසුව ඒ අනුව සෝක කරන්නහු නොවව්. එවං වදෙය්‍යාති මෙසේ කියන්නේය. අනුසාසනා කරන්නේය. හෙතෙම එබඳු නොවේයයි යන අදහසයි. නික්ඛිත්ත දණ්ඩසු අනුන් පෙලන දඬුගැනීම් ආදිය නොමැති මහණ බමුණන් කෙරෙහි අවඡාදනං සෙය්‍ය ආදී සයන, හඳින වස්ත්‍ර භෝජන අට්ඨපාන දෙවයි. මෙසේ කියන්නේ ද, රොසකො, කිපෙනසුළු වූ ආරාමානි ච, පුෂ්පාරාම, ඵලාරාම (වැවීමද) දුගෙග සංකමණානි ච ජලමාර්ග, බැවුම් ආවාට ආදී දුකසේ යායුතු තැන්වල භේදඩු කරවන්නේ, පපඤචා ජලශාලා, චාතුද්දසි පඤචදසිං පක්ඛසස (පක්‍ෂය පිළිබඳ තුදුස්වක පසලොස්වක දිනයන්හි) මෙය අත්‍යන්ත සංයෝගයෙහි ද්‍රිතියා වචනයි. යාවපක්ඛසස අට්ඨමී. ඉතිරි වචනයි. (පක්‍ෂය පිළිබඳ අටවෙනි දිනයෙහි යන අර්ථයි.) පාටිහාරිය පක්ඛඤච පක්‍ෂයාගේ අත්හරින දින වශයෙන් චාතුද්දසී පඤචදසි අට්ඨමී දින පිළිබඳ පිළිවෙලින් ආදියෙන් ද අන්තයෙන් ද ප්‍රවේශය නිගගමනය වශයෙන් උපොසථ සීලයාගේ අත්හැරිය යුතු පක්‍ෂයෙහි ද තෙරස, චාතුද්දසී, පාටිපද, සත්තමී නවමී දිනවල යන අර්ථයි. අට්ඨංග සුසමාහිත, පාණාතිපාතා වෙරමණී ආදී අංග අටකින්

මෙසේ මනාව සමාදන් වූ සමන්වාගත වූ උපොසථං උපොසථ සීලය සදා සියළු උපොසථ දිනයන්හි, සියලු කාලයන්හි හෝ සීලෙසු නිත්‍ය සීලයෙහි සංවුතා කය - වචන - සිත යන තිදොරින් සංවර වූයේ වසන ලද්දේ දිවයම්දං දුකට උත්පත්තිස්ථාන වූ මේ නිරය දක්නා ලදී.

රේවති විමාන වර්ණනාව නිමි.

# 17.

ගුත්තිල විමානෙ, අභික්කනෙතන, මනා රූ ඇති බැවින් වණෙණන, ඡවි වර්ණයෙන් ඕභාසෙනති දිසා සබබා සියළු දිසා බබුළුවත්, ඒකාලෝක කෙරෙත්, උත්සන්න වූ ආලෝකය මැය විසින් දරනු ලැබේනුයි ඕසධී නම් වූ හෝ, තාරකාවන්ගේ අනුබලය ප්‍රදානය කරනු ලැබූවක් කොට වූ ඕසධී යයි නම් ලැබුවා වූ තාරකා තොමෝ හාත්පස ආලෝකය පතුරුවමින් සිටීද, එසේමය ඔබ. කෙන තෙ තාදිසො වණෙණා කෙබඳු පුණ්‍ය විශේෂයක් හේතුවෙන් ඔබට මෙබඳු දොලොස් යොදුන් තැන පැතිරීමට සමත් ශරීර වර්ණයක් හටගත්තේ ද? ඉධ මිජ්ඣති, මේ ස්ථානයෙහි සුචරිත ඵලය උපදවයි. භොගා පරිභෝග කළයුතුය යන අර්ථයෙන්, භෝග යනුවෙන් ලැබූ නම් ඇති, වස්ත්‍ර, ආභරණ සම්පත් ආදි උපකරණ විශේෂයෝය. මනසො පියා, මන වඩන්නා වූ මහානුභාවෙ, උළාර වූ ආනුභාවයෙහි. කිමකාසි පුඤ්ඤං දානසීල ආදී ප්‍රභේදගත වූ, යම් තැනෙක්හි තෙමේම ඉපිද එම සන්තානය, පිරිසිදු කරයි. සෝදාලයිනුයි පුඤ්ඤ යයි ලැබූ නමකි. කීදිසං කෙබඳු කුසලක් කළේද? ජලිතානුභාවා, බබලන පුණ්‍ය සෘද්ධි ඇති. වත්‍ථුත්තම මදායිකා වස්ත්‍රයන් අතුරෙන් උතුම් වූ ශ්‍රේෂ්ඨ වූ, වස්ත්‍ර විෂයෙහි හෝ බොහෝ වස්තර එකතුකොට ගන්නා ලද ඉහලම ප්‍රමාණයට පැමිණ, උතුම් බවෙහි කෙළවරට පත් වත්‍ථුත්තමං එම වස්තරය දෙන තැනැත්තිය. පුප්ඵුත්තම දායිකා ආදියෙහි ද මෙම ක්‍රමය මැයි.

පියරූප පදායිකා ප්‍රිය ස්වභාව ඇති වස්තු දෙන මනාපං, මන වඩන, උපෙවච පැමිණ සිතා හෝ මෙවැනි දෙයක් ලබන්නෙමැයි සිතා යන අර්ථයි. යානං විමාන ආදී තැන්, ඉසුරු සම්පත් හෝ පුප්ඵුත්තම, දායිකා, තුනුරුවන්ට පූජා වශයෙන් උතුම් පුෂ්පයන් දෙන, ගන්ධුත්තම දායිකා, එහි පුප්ඵුත්තම, සුමන පුෂ්ප ආදියයි. ගන්ධුත්තම, සඳුන් සුවඳ ආදිය ඵලුත්තම පනසඵල ආදිය රසුත්තම ගෝරස සප්පි ආදිය බව දතයුතුයැ. ගන්ධපඤ්චංගුලිකං සුවඳ වත්කළ පංචාගුලි දානය. එකූපොසථං එක් දවසක් පෙහෙවස් රැකීමක්, උදකං මුව දෙවීමට පානය කිරීමට ජලය දීම, අනුසූයිකා, දොස් පහල කිරීම් රහිතව, (උසූය රහිතව උසූය නම් දොස් පහල කිරීමයි.) කම්මකාරී, අනුන්ගේ බැලමෙහෙ කරන්නා වූ සකෙන සීලෙන තමාගේ ක්‍රෝධ නොකිරීම් ආදි ආචාර සීලයෙන් යුක්ත වූ අත්‍ථෙන ප්‍රයෝජනයක් ඇතිකල්හි සංවිභාගිනි සකසස භාගසස ප්‍රයෝජනයක් ඇත්තවුන්ට තමන් ලද කොටස බෙදාදෙන සුලු වූ, ඛීරොදනං කිරි මිශ්‍ර බත, කිරි සමග බත්, තිම්බරුසකං, තියඹරා ඵලයක්, පුහුල් වැනි එක් වැල් ජාතියක් තිබ්බරුසං නම් වේ. එහි ගෙඩිය 'තිම්බරුසක' යයි කියත්. කක්කාරිකං (සිහින් කැකිරි) කුඩා වැල් ඵලයක්, පුහුල් යයි ද කියත්. හත්‍ථපතාපකං, ගිනි කබලක් අම්බකඤ්ජිකං, ඇඹුල් කැඳක්, දොණිනිම්මජ්ජනිං, තෙල් සහිත තල පුන්නකු විධූපන හතරැස් විජිනිපතක්, තාලවණ්ටං තල්කොලවලින් කරන ලද මණ්ඩලාකාර විජිනිපතක්, මොරහත්‍ථං මොනර පිල්වලින් කරන ලද මදුරුවන් එලවන විජිනිපතක් තත් සතක් ඇති බැවින් ෂජ්ජාදී සප්තවිධ ස්වර උද්දීපනය කරන බැවින් සත්තතන්තිං යතුවෙන් දැක්වේ. එය විෂය කොට සුදුසු පරිදි දෙවිසි ශ්‍රැති ප්‍රභේදයන්ගේ වශයෙන් ඉදිරිපත් කරන ලද හෙයින් මනා ලෙස මධුර වූයේ නුයි සුමධුර නම් වේ. යම්සේ සම පනසකට අධික වූ මුච්ඡනා වන්ගේ පැතිරීම නිසාද ස්වරයන්ගේ ද වීණා වේ ද, යන මොවුන්ගේ සංසන්දනය කිරීමෙන් අසන්නවුන්ගේ අතිශයින් සිත් අලවන බැවින් රාමණෙය්‍ය වූ, ස්වරයන් සම්බන්ධ ආදි විභාග ආදියේ පටන් ෂජ්ජාදි චතුරවිධ ගාන්ධර්ව ශිල්පය අඩු නොකොට සියලු ගාන්ධර්ව ශිල්පය මූසිල නම් වූ අතවැසියාට අවාචයං කියා දුනි. ඉගැන්විය. සො මූසිල තෙම අතවැසියෙක් වූයේම මං. රංගමහි රඟමඬලෙහි තරඟ කිරීම් වශයෙන් තමන්ගේ විශේෂත්වය දක්වන්ට, 'එනු ශිල්ප දක්වව් යයි අභියෝග කරයි. ඒ මට ත්‍වං කොසිය දෙවරජතුමනි, උපකාර වනු මැනවි. සවාගතංවතමෙ මට ඔබගේ පැමිණීම යහපති. අහෝ සුන්දරය. අජ්ජ සුප්පභාතං සුවුට්ඨිතං අද මට රාත්‍රිය මනා සේ පහන් විය. මනාසේම පැහැදිලි වීමක්ද විය.

නිත්දෙන් අවදිවීමද සුවුටඨීතං මනාසේ විය. කුමක් හෙයින් කීද යත්? යං අදදසං දෙවතායො (යම්හෙයකින් දේවතාවන් දුටුවෙම්ද, එහෙයිනි.) යනාදි කමමං සුත්වා කර්මඵලයාගේ ප්‍රත්‍යක්‍ෂ කිරීම් වශයෙන් තොප විසින් කරන ලද කුසල කර්ම අසා.

ගුත්තිල විමාන වර්ණනාව නිමි.

# 18.

අනෙක වණ්ණ විමානෙ අනෙකවණ්ණ විමානවස්තු වර්ණනාව නිල්, කහ ආදි නොයෙක් වර්ණයන්ගෙන් යුක්ත බැවින් අත්තර් විමාන ආදියෙහි විවිධ සලකුණු ඇති බැවින් ද නානාවිධ වර්ණ ඇති, සිසිල් බැවින් දරථයාගේ පහව යාමෙන් ඇතිවන මනෝඥතාවය නිසා සෝකයට අවකාශයක් නැති බැවින්, දරසොකනාසනං නම් වේ. අනෙකචිත්තං නානාවිධ විචිත්‍ර රූප ඇති. සුනිමම්තො භූතපතීමා, තව්තිසා වැසියෝ උළාර වූ දිව්‍ය සම්පත් ඇති බැවින්, සුනිර්මිත දිව්‍යරාජයා මෙන් කුතො කිනම් කරුණකින්, යසෙන, පරිවාර ඓශ්චර්ය, විභව සම්පත් නිසා හෝ කීර්ති සෝභාව නිසා හෝ, ඉද්ධියා, ආනුභාවයෙන් දෙවියන්ගේ ඍද්ධියෙන් හෝ කැමැති පරිදි කාම සම්පත් ලැබෙන බැවින් සමෘද්ධ වීමෙන් සමෘද්ධිය හෝ වෙයි. පුඤ්ඤෙන, ඒ ඒ තැන්වල කියන ලද්දෙන් ඉතිරි වූ පුඤ්ඤ ඵලයෙන් හෝ පුණ්‍ය කර්මයෙන් හෝ තංතං ඒ ඔබ, සසිංව දෙවා, යම් සේ පුර පක්‍ෂයෙහි පෑළවිය දිනයෙහි පෙනෙන චන්ද්‍රයා දෙවියෝ ද මිනිස්සුද ආදරයෙන් වඳිත්. එසේ ඔහුට තිසදවැසි දෙවියෝ වඳිත් යන අර්ථයි. පුබ්බෙ පෙර ජාතියෙහි සාවකො සසුනෙහි පැවිදි වූ බැවින්, අනනුබොධො චතුරාර්ය සත්‍යය අවබෝධ මාත්‍රයකින් තොරව රතනුච්චයං රන් රුවන් ආදියෙන් ගොඩනගන ලද රතන චෙතිය, වන්දිත්වා පසඟ පිහිටුවා වැඳ, සර්වඥයන් වහන්සේගේ ගුණ අධිෂ්ඨාන කොට ඒකාන්තයෙන් මේ ධාතු චෛත්‍යකැයි. ථූපසම්ං මන පසාදයිං නමාසි දානං (ධාතු චෛත්‍ය කෙරෙහි සිත පැහැදවීම් මා විසින් දෙන ලද දනක්

නම් නොවීය.) කුමක් හෙයින්ද, මට මා විසින් ගන්නා ලද කිසියම් දිය යුතු වස්තුවක් දන් දීමට නැත. තස්ස, දානයෙහි, පූජේය නං ආදි සමාදන් කරවන ආකාර දර්ශනයක් න ධාතුං යනුවෙන් යෙදිය යුත්තාහුය. එවං කිර කිර ශබ්දය (අනුස්සව) පරම්පරා අර්ථයෙහිය. න තසස පුඤ්ඤස්ස ඛයමපි අජ්ඣගං එම සුමේධ බුදුරදුන් උදෙසා කළා වූ ඒ පුණ්‍යකර්මයාගේ ක්ෂය වීමකට නොපැමිණියෙමි. එම කර්මයාගේම විපාකාවශේෂය අනුභව කෙරෙමි යයි දක්වයි.

අනෙකවණ්ණ විමාන වර්ණනා නිමි.

# 19.

දෙවදූත සුත්තෙ දේවදූත සූත්‍රයෙහි දෙව අගාරා ගෙවල් දෙකක් සන්දිද්වාරා අභිමුඛයෙහි දොරටු ඇති. අනුසඤ්චරනෙත අනු විචරනෙත එක් ගෙයකින් නික්ම අනික් ගෙයට පිවිසෙන්නා වූත් (අය) ඒ ගෙට පිවිසීම පිණිස අනිත් ගෙයින් නික්මෙන්නා වූත්, (එක් ගෙයකින් අනිත් ගෙයට මාරු වෙන්නා වූත්) දිබ්බෙන චක්ඛුනා දිබ්බචක්ඛු නම් ලැබූ නම් ඇති විශේෂ ඥාණයෙන් එහි දිව් භවා = දිබ්බානං චක්ඛු = දිබ්බචක්ඛු දෙවියන්ගේ ඇස = (දිබ්බ චක්ඛ) දිවැස නම් වේ. ඒ හා සමාන බැවින් දිබ්බ යයි කියනු ලැබේ. දර්ශන අර්ථයෙන් චක්ඛු යයි කියනු ලැබේ. දර්ශන අර්ථයෙන් චක්ඛු යයි කියනු ලැබේ. අතික්කන්ත මානුසකෙන, මිනිසුන්ගේ දර්ශන උපචාරය ඉක්මවා දැකීමට සමර්ථ වූ. චවමානෙ උපපජ්ජමානෙ, මරණයට ආසන්න වූ ගන්නා ලද ප්‍රතිසන්ධි ඇත්තා වූ සුගතෙ සුගතියට ගියා වූ දුග්ගතෙ දුගතියට ගියා වූ යථා කම්මූපගෙ යම් කර්මයක් රැස්කරන ලද්දේ ද එහි විපාක වශයෙන් පැමිණියා වූ අරියානං උපවාදකා බුදු, පසේබුදු, බුදුසව් ආර්යයන්ට ද යටත් පිරිසෙන් ගිහි සෝතාපන්න කෙනෙකුට අනර්ථය කැමැත්තෙන් මොවුන්ට ශ්‍රමණ ධර්මයක් නැත. මොවුහු අශ්‍රමණයෝය යයි අන්තිම වස්තුවෙන් හෝ මොවුන්ට ධ්‍යානයක් හෝ විමෝක්ෂයක් හෝ නැතැයි ගුණ වැනසීම් වශයෙන් හෝ උපවාද කරන්නාහුය. හෙතෙම දැන හෝ උපවාද කරන්නේ ද නොදැන හෝ උපවාද කරන්නේ ද, ආර්ය උපවාදයම වෙයි.

භයානක කර්මයකි ආනන්තරිය කර්මය හා සමානය. සගගා වරණයද මගගාවරණයද වේ. ක්‍ෂමා කරවා ගැනීමෙන් එම ආවරණයන්ගෙන් නැගී සිටිය හැකි වේ. (ප්‍රතිකර්ම කළහැකි තත්ත්වයකට පත්වේ. මිච්ඡා දිට්ඨිකා විපරීත වූ දැකුම් ඇත්තහු. මිච්ඡාදිට්ඨි කමම සමාදානා, මිථ්‍යා දෘෂ්ටි වශයෙන් සමාදන් වූ විවිධාකාර මිථ්‍යා ශීල ව්‍රත ආදි කර්ම ඇත්තාහු වෙත්. යම් මිථ්‍යාදෘෂ්ටිහු මූලික වශයෙන් කාය කර්මාදියද එයින් අන්‍ය වූවාහු ද සමාදන් කරවත්.

භාග්‍යවතුන් වහන්සේ කිසිතැනෙක්හි නිරයෙන් පටන් ගෙන දේශනාව දෙව්ලොවින් නිමවයි. කිසිතැනෙක්හි දෙව්ලොවින් පටන්ගෙන නිරයෙන් නිමවයි. ඉදින් ස්වර්ග සම්පත්තිය විස්තරකොට කියනු කැමැත්තේ වේද, එකල්හි නිරාදුක ස්වල්ප වශයෙන් ප්‍රකාශ කෙරේ. එසේමය තිරිසන් දුකද, ප්‍රේත දුකද මනුෂ්‍ය සම්පත්තියද ඉදින් නිරාදුක විස්තර වශයෙන් දේශනා කරනු කැමැත්තේ වේද, එකල්හි දෙව් මිනිස් සැපත, තිරිසන්ගත දුක, ප්‍රේත දුක එකදේශය පමණ දක්වා නිරා දුකම විස්තර කරති. මෙම සූත්‍රයේ දී නිරාදුක විස්තර කරනු කැමැත්තේය. එබැවින් දේවලෝක ආදිය එකදේශයක් දක්වා නිරාදුකම විස්තර කිරීමට තමෙනං භික්ඛවෙ යනාදිය වදාළහ.

මෙහි ඇතැම් තෙරවරු නිරයපාලයෝ නම් නැත. කර්මයම යන්ත්‍ර සූත්‍ර සේ ක්‍රියා කරයි පවසති. එහෙත් යමපල්ලෝ ඇතැයි අභිධර්මයෙහි, ඉහත සඳහන් මතය ප්‍රතික්‍ෂෙප කර ඇත. මිනිස් ලොවෙහි කම්කටොලු කරන්නවුන් ඇත්තාක් මෙන්ම, නිරයෙහි ද යමපල්ලෝ ඇත්තාහු මැයි. නානා බාහාසු ගහෙත්වා එකෙක් එක් අතකින් ද අනිකෙක් අනිත් අතින් ද, අල්වාගෙන ගොස්. යමසස රඤ්ඤො යමරජු වනාහි වෛමානික ප්‍රේතයෙකැයි කියනු ලැබේ. ඇතැම් කල්හි හෙතෙම දෙව්විමන්වල දිවසැප විඳියි. ඇතැම් කලෙක්හි කර්මවිපාක විඳියි. මෙතෙමේ දැහැමිය. එකෙකුදු නොවේ. සිවු දොරටුවෙහි සිවුදෙනෙකි. සමනුයුඤ්ජති ක්‍රියාකාරකකම් ඉදිරිපත් කරමින් විචාරයි. ලබ්ධියෙහි පිහිටුවන්නේ සමනුගාහති නම් වේ. කරුණු විමසන්නේ සමනු භාසති නම් වේ. නාද්දසං තමා සමීපයට යවන ලද කිසියම් දේවදූතයෙකුගේ අභාවය සඳහා කියයි. ඉක්බිති ඔහුට කියන ලද්දෙහි අර්ථය නොවැටහේයයි දැන අන් අයුරකින් සලකවනු කැමැත්තේ අමෙභා ආදිය කීහ.

පඨමං දෙවදූතං ළදරු කුමරෙකි. අර්ථ වශයෙන් මෙසේ කියයි. බලන්න මටද තොපට මෙන් අත්පා ඇත. එහෙත් මම ස්වකීය මලමූත්‍රයෙහිම තැවරුණේ වෙමි. ස්වශක්තියෙන් නැගිට නහන්ටද නොහැකි වෙමි. කිලිටු වූ මා නහවා පිරිසිදු කරවයි කියන්ටද නොහැකි වෙමි. මා මෙබඳු වූයේ ඉපදීමෙන් නොමිදුනු බැවිනි. මා පමණක් නොව තෙපිදු උත්පත්ති ස්වභාවයෙන් නොමිදුනාහුය. මම මෙන්ම තොපටත් නැවත ඉපදීමක් ඇතිවන්නේය. එහෙයින් කල් ඇතිවම පින්දහම් කරව් යයි කියයි. එහෙයින් මෙතෙම දේවදූත නම් වූයේ වෙයි. වචනාර්ථය වනාහි 'දෙවොති මච්චු' දෙව යනු මරණයයි. ඔහුගේ දූතයා දේවදූත නම් වේ. ජරාජීර්ණ වීම, ලෙඩවීම, මරණය මේවා සංවේග උපදවන අර්ථයෙන් 'දැන් තෙපි මරණය සමීපයට යායුතු යයි පවසන්නාක් මෙනි. එබැවින් දේවදූතයයි ද කියනු ලබත්. විසුද්ධි දෙවියෝ ද දූතයෝම ය. සියලු බෝසත්වරු ජරා-ජීර්ණ ආදි මිනිසුන් දැක, සංවේගය පැමිණ, ජාති ආදියෙන් මිදීම සඳහා වෙර වඩති. (ආරම්භ කරති.) යම්සේ වනාහි හිතකාමී දේවතාවෝ ද කරුණාව උපදවා අහසේ සිට 'මේ ඔබට අනර්ථයක් වන්නේය. මේ මේ දේ කරන්න යයි කියත්. එවං දහර ආදීහුද හිතකාමතාවයෙන්ම ඒ ඒ කරුණු කියන්නාක් මෙන් වෙත්. ඒ ඒ කරුණු කීම ඒ ඒ කරුණ ආ තන්හි කියන ලද්දේ වෙයි. එබැවින් දේව සදිස වූ දූතයෝ දේවදූතයෝ යයි කියනු ලබත්. මෙම අර්ථයෙහි ලා කර්ම කාරණද කර්ම කිරීම් ද හතරවන දේවදූතයෝ යයි අදහස් කරන ලදී. ඔහු ද පසුව එන්නේය. ජිණ්ණං, ජරාජීර්ණ වූ ගොපානසිවංකං, ගොනැස්සක් මෙන් වක් වූ භොග්ගං බිඳුන, මෙයිනුදු නැමුණු බව ප්‍රකට කෙරේ. දණ්ඩපරායණං සැරයටිය පිහිටකොට ඇති. පෙවධමානං වෙව්ලන, ආතුරං ජරාවෙන් ආතුර වූ ඛණ්ඩ දන්තං ජීර්ණ භාවය නිසා කැඩුන දත් ඇති. පලිතකෙසං පැසුණු කෙස් ඇති. සුදු වූ කෙස් ඇති. විලූනං ගිලිහුන කෙස් වැනි. ඛලිත සිරං මහා තට්ටයක් සහිත හිසක් ඇති. වලිතං හටගත් ඇඟ රැලි ඇති. තිලකාහත ගත්තං සුදු කළු තිලකයන්ගෙන් විසිරුණු සිරුරක් ඇති. දුතියං දෙවදූතං ජරාවෙන් දිරාගිය සත්ත්වතෙම අර්ථ වශයෙන් මෙසේ කියන්නකු වැනිය. පින්වත්නි, මා දෙස බලව්. මමත් පෙර තොප මෙන් තරුණවීමි. අත්පාවල ශක්ති ඇත්තෙක් වීමි. බලන්න, ඒ සියලු ශක්තීහු පිරිහී ගියහ. අත්පාවලින් කටයුතු කිස දැන කටහැකි නොවෙමි. මා ජරාවෙන් මිදුන කෙනෙකු නොවන බැවින් මට මෙසේ විය. පින්වත්නි, මේ ටික සිදුවන්නේ මට පමණක් නොවෙයි. තොපටත් මෙහෙමයි. එහෙයින් මේ ටික සිදුවීම පෙර යහපතක් කරගනිව් යයි කියායි. එහෙයින්

හේ දේවදූත නම් විය. සංවෙසියමානං අන්‍යයන් විසින් හොවනු ලබන. තතියං දෙවදූතං රෝගයෙන් පීඩිත වූ තැනැත්තේ සෙස්සවුන් හට මෙසේ කියන්නකු වැන්න. පින්වත්නි, බලව්. මමත් පෙර තොප මෙන් ලෙඩ නැත්තෙක් වීමි. දැන් මම ලෙඩින් පෙලෙමි. ස්වකීය මලමූත්‍රයෙහිම තැවරුණේ වෙමි. නැගිටින්ටත් නොහැකි වෙමි. මට අත්පා ඇතත් එයින් වැඩක්ගත නොහැකිය. ලෙඩ හැදීමෙන් මට මේ සියල්ල සිදුවිය. ලෙඩ හැදෙන්නේ මට පමණක් නොවේ. තොපටත් හැදෙයි. සැක නැත. එදාට තොපටත් සිදුවන්නේ මේ ටිකමැයි. එහෙයින් කල් ඇතිව පිනක් කරගතහොත් යෙහෙකැයි කියායි. එබැවින් මෙතෙම දේවදූත යන නම ලබන ලද්දේ වෙයි. ආගුචාරං, අපරාධ කරන්නා, අද්ධදණ්ඩකෙහිපි, පොල්ලකින් පහරදීම සඳහා පිළියෙල කළ හතර රියන් පමණ වූ දණ්ඩක්. දෙපස සැස ගන්නා ලද දණ්ඩකින්, බිලංගථාලිකං කැඳ භාජනයකට කාරණ වූ එය හිස්කබල ගලවා ගිණියම් කළ යකඩ ගුලියක් ගෙන හිස්මුල් උතුරා යන පරිදි අඩුවකින් ගෙන හිසෙහි දැමීම බිලංගථාලික නම් වධය වේ. හිස්මොල එයින් උතුරා යයි. සංඛමුණ්ඩිකං සංඛමුණ්ඩ කමම කරණයයි. මෙම වධය පමුණුවන්නහු උඩුතොල දෙකන්සිළු ගලවළුයෙහි පටන් සමසිඳ සියලු කෙස් එක් කිරීමෙන් ගැටයක් කොට දණ්ඩකින් වෙළා කෙස් සහිත සම උපුටා අනතුරුව බොරළු අලා සක්ගෙඩියෙහි වර්ණය වැනි වූවක් කිරීම නම් වූ සංඛමුණ්ඩික නම් වධයයි. රාහුමුඛං රාහු මුඛ නම් කම්කටුල්ලයි. මෙය කරන්නහු විසින් අඬුවකින් මුඛය විවෘතකොට කට ඇතුලෙහි පහන් දල්වති. දෙකන්සිළුවේ සිට මුඛය තෙක් නියනකින් සාරත්. ලේ ගලා මුඛය පිරෙත්. ජොතිමාලිකං මෙය කරන්නාහු මුළු සිරුර තෙල් මිශ්‍ර රෙදිවලින් වෙළා ගිනි දල්වයි. හත්ථපජ්ජොතිකං මෙනම් වධය පමුණුවන්නාහු අත් තෙල් පිලියෙන් වෙළා පන්දමක් මෙන් දල්වත්. එරකවත්තිකං මෙනම් වධය කරන්නාහු ග්‍රීවයෙහි පටන් සම උගුලා කෙණ්ඩයෙහි වලලු කොට තබා යොතකින් බැඳ තමාගේ සම්වැටියම පෑගි පෑගී වැටී යන පරිදි අදින් හෙතෙම තමාගේ සම්වැටියෙහි පැටලී වැටෙත්. චිරක වාසිකං මෙම වධය කරන්නාහු ග්‍රීවයෙහි පටන් සම උගුලා කටියෙහි තබා කටියෙහි පටන් සම ගලවා ගොප් ඇටයෙහි තබා උඩ කොටසෙහි සමින් යට සිරුර වැසී ගොස් වැහැරි සිවුරක් ඇන්දෙකු මෙන් වේ. එණෙයාකං මෙය කරන්නහු බිම හොවා දෙදණ දෙවැලමිට යවුල් ගසා යවුල් සතරින් මනාකොට බිම පිහිටිකල ගිනි දල්වයි. බලිස මංසිකං දෙපස අඩු ඇති බිලී කවුලින් පැහැර සම් මස් නහර උපුටාලත්, කහාපනකං, මුළු සිරුර සියලු සිරුර

තියුණු පිහියාවලින්, කහවණු පමණට ලියාහරිත්. ඛාරාපතච්ජිකං මෙය කරන්නහු ශරීරයෙහි තැන් තැන්වලට ආවුධයකින් පහර දී කොස්සෙන් කාඩි ගල්වත්. එවිට මස්නහර ගැලවී ගොස් ඇටසැකිල්ල පමණක් ඉතිරි වේ. පලිඝපරිවත්තිකං මෙය කරන්නහු. එක් ඇලයකින් බිම හොවා කන් සිදුරෙන් යවුලක් ගසා පොලොව බිම හොවා කන් සිදුරෙන් යවුලක් ගසා පොලොව හා ඒකාබද්ධ කොට දෙපය අල්වාගෙන වටේ කරකැවෙත්. පලාල පීඨකං දක්ෂයෙකු විසින් සිවිය හා සම නොසිඳෙන පරිදි අතකොළුවලින් තලා ඇට බිඳ කෙස්වැටියෙන් ගෙන ඔසවත්, මස් රාශියක්ම වෙයි. ඉක්බිති ඔහුව කෙස්වලින් පටලවා ගනිත්ද පිදුරු මිටියක් මෙන් වෙලෙත්. (පිදුරු බිස්සක් මෙන් වෙත්.) සුනඛෙ හිමි, කිහිප දිනයක් ආහාර නොදී සාගින්නෙන් පෙලෙන සුනඛයන් ලවා කවත්. මොහොතකින් ඇට පමණක් ඉතිරි කරත්.

චතුත්ථං දෙවදූතං මෙහි කම්කටොලු හෝ කම්කටොලු කරන්නෝ හෝ අදහස් කෙරෙත්. කම්කටොළු සෙස්වුන් හට මෙසේ කියන්නවුන් වැනි වේ. 'අපි වනාහි ගයෙකැ ගලෙකැ හෝ එබඳු අන්තැනක පහල නොවම්හ. නොපවැන්නහුන්ගේ සිරුරෙහිම පහළ වම්හ. එහෙයින් අපගේ පහලවීමට පළමුකොට පින්දහම් කරගනිව්' යයි කියාය. මේ කම්කටොළු දේවදූතයෝ වූයේ එසේ හික්මවන හෙයිනි. කම්කටොළු කරන්නෝ ද අවවාද කරන්නවුන් වැනි වෙති. 'අපි දෙතිස් කම්කටොළු කරන්නමෝ වෘක්ෂ පර්වත ආදීන් කෙරෙහි නොකරම්හ. තොප වැනි සත්ත්වයන්ගේ ශරීරයෙහිම කරම්හ. එහෙයින් අප තොපට දෙතිස් වද දීමට පළමු පින්දහම් කරගනිව් යයි කියා ඇත. ඔවුන් දේවදූතයන් වැනි වූයේ එබැවිනි.

පඤ්චමං දෙවදූතං මෙහි මෘත ශරීරය තෙම ජීවත් වන්නවුන් හට මෙසේ අවවාද කරන්නකු වැන්න. 'පින්වත්නි, අමු සොහොනට ඇද දමන්ට සුදුසු පරිදි ඉදිමීම් ආදි ස්වභාවයට පැමිණියා වූ මා දෙස බලවා. මරණයෙන් නොමිදුනු බැවින් මම මෙබඳු ස්වභාවයකට පැමිණියෙමි. මා පමණක් නොව තෙපිදු මරණයෙන් නො මිදුනාහුය. මට මෙන්ම තොපටද මරණය පැමිණෙන්නේය. එහෙයින් එයට පළමු පිනක් කරගනිව් යයි කියන ලද්දේ වෙයි. එහෙයින් එය දේවදූත නම ලබයි.

දේවදූතයන් පිළිබඳ මේ කරුණු පිළිවිසීම කවරෙක් ලබාද? කවරෙක් නොලබාද යත් යමෙකු විසින් බොහෝ අකුසල් කරන ලද්දේ නම්,

හෙතෙම මරණයට අනතුරුව නිරයෙහි උපදින්නේමය. යමෙකු විසින් ස්වල්පයක් කරන ලද්දේ නම් මේ දේවදූතයන් පිළිබඳ කරුණු විමසන්නේ ඔහුගෙනි. ඔහු තමාගේ ධර්මතාවය අනුව කළ කුසල් සිහිකරයි. සිහිකරවනු ලබන කල්හිද සිහිවෙයි.

"පෙර ලක්දිව දීඝජයන්තු නම් දෙමළෙක් විය. හෙතෙම එක්දවසක් සුමනගිරි විහාරයෙහි ආකාශ චෛත්‍යයට රත්වන් වස්තරයක් පිදීය. කාලක්‍රියා කිරීමෙන් පසු හෙතෙම උත්සද නිරය සමීපයෙහි උපන්නේ අපායෙහි ගිනිදැල් හඬ පැනනගින හඬ අසන කල්හිම තමා සෑයට වස්තරයක් පිදූ බව සිහිකළේය. එහෙයින් එයින් ගොස් ස්වර්ගයෙහි උපන්නේය. හෙතෙමේ අන්‍යයෙකුගේ සිහිකිරීමක් නැතිවම තමාගේ කුසල කර්මය සිහි කළේය.

(යමරජු දේවදූතයන් සම්බන්ධව කරුණු දක්වමින් විමසන්නේ එසේ සිහිපත් කරගැනීමට නොහැකි වූවන්ගෙනි.) අතිකෙක් තම පුත් වූ දහර භික්ෂුවකට සළුවක් දෙන්නේ පාමුල තැබීය. මරණ සමයෙහි ද පට පට යන සද්දයෙන්, ඒ සළුව පිදීම සිහිකොට ගොස් උසසද නිරය සමීපයේ උපනි. ගිනිදැල් නගින හඬ අසා ඒ සළුව පිදීම සිහිකොට ගොස් ස්වර්ගයෙහි උපන්නේය. තම ස්වභාවය අනුව සිහිකළ නොහැකි කල්හි පස්වන දේවදූතයා දක්වා විමසයි. එහි සමහරෙක් පළමු දේවදූතයා සම්බන්ධ කරුණෙහිදීම, තම පින්කම සිහිකරයි. සමහරෙක් දෙවන ආදී අවස්ථාවලදී සිහිකරයි. යමෙකුට පස්වන අවස්ථාවේදීත් සිහිකරගත නොහැකි වේනම් යමරජු සිහිකරවයි.

එක් අමාත්‍යයෙක් එක් දවසක් සමන්මල් මිටක් ස්වර්ණමාලි චෛත්‍ය රාජයන් වහන්සේට පූජාකළේය. පූජාකොට යමරජු හටද පින් දුන්නේය. පසුකලෙක මරණයට පත් වූ හෙතෙම අකුසල කර්ම හේතුකොට නිරයෙහි උපන්නේ යමරජු වෙතට පමුණුවන ලද්දේය. ඉක්බිති යමරජ දේවදූතයන් පස්දෙනා පිළිබඳවම කරුණු දක්වා ඔහු කළ පින් සිහිකරවන්ට උත්සාහ කළේය. එහෙත් එකකුදු සිහිපත් කරන්ට ඕ හට නොහැකි වූයේ ය. අනතුරුව යමරජතෙමෙ, ඇයි නුඹ එක්දවසක් මහසෑයට සමන්මල් පුදා මට පින්දුන් බව සිහිකෙරෙහිදැයි විචාළේය. එකල්හි එය සිහිකොට දෙව්ලොව උපන්නේය. යමරජතෙමේ මෙසේ කරුණු දැක්වූ කල්හිදු

සිහිපත් නොවන පුද්ගලයා පිළිබඳව අනේ මේ සත්ත්වතෙම අප්‍රමාණ කාලයක් මහදුක් විඳින්නේ යයි සලකා නිශ්ශබ්ද වෙයි.

තත්තං අයො ඛීලං තුන්ගවු පමණ වූ ආත්මභාවය ගිණිගෙන දිලියෙන ලෝහමය පොළොවෙහි උඩුකුරුකොට මුඛයෙහි තල්කඳක් පමණ වූ යකඩ උලක් ප්‍රවේශ කරත් එසේම උඩුකුරුව හොවන උදරයෙහිද, වම්පසින් ද දකුණු පසින් ද හොවා කර්ම කිරීම කෙරෙත්මය. සංවෙසෙත්වා දිලියෙන ලොහෝ පොලොවෙහි හොවා කුඨාරීහි ගෙයි වහලක පලයක් පමණ වූ කෙටේරියකින් නූල් ගසන ලද දැවකඳක් මෙන් පැති අට, සොළස ඇතිවනසේ සීසිති. ලේ ගංගාවක් මෙන් ගලාබසී. ලොහො පොලොවින් ගිනිදැල් මතුවී සසින ලද ස්ථාන වැළඳ ගනී. රථෙ යුග ආදිය සමග හාත්පසින් ගිනිගෙන දිලියෙන රථයෙහි. ආරෙපෙනති ගිනිගෙන දිලියෙන යකඩ මුගුරුවලින් තලමින් රථයෙහි නංවත්. ලොහ කුම්භියා කට ලඟට පිරුණු උණුලෝදිය පිරුණු ලෝහමය භාජනය. සකිමපිඋද්ධං ගින්නෙන් තතියා, සැළියක බහාලූ සහල් මෙන් එකවරක උඩට නැගෙන්නේය. එක්වරක යටට බසින්නේය. එක්වරක සරසව යන්නේය. මහානිරයෙ අවීචි නිරයෙහි මහානිරය වනාහි, සඤ්ජීව, කාලසුත්ත, සංඝාත, රොරුව මහාරොරුව තාප, මහාතාප අවීචි යයි අටකි. උඩ යට වශයෙන් පිහිටියාහු වෙත්. ඔවුන් අතුරෙන් අවීචි නරකය සියල්ලටම යටය. සංජීවය සියල්ලටම ඉහලින් සිටී. මෙම එක එක අපායට සතර සතර දොරටුහු වෙති. එක එක දොරටුවෙහි හතර හතර උස්සද නිරයෝ වෙති. එක එක යමරජ කෙනෙකු වෙති. මෙයට අවීචි නරකයයි කියන ලදී. මේ නරකය. ගිනිදැල් වලිනුදු, සත්ත්වයන්ගෙනුදු, දුකෙනුදු අතරක් නැති බැවින් අවීචි මහ නරකයයි කියනු ලැබේ. මහත් වූයේ ද එය අභ්‍යන්තර වශයෙන් දිගින් ද පළලින් ද ගැඹුරින් ද යොදුන් සියයක් වේ. ලෝහමය පොළොව ලෝහමය වහල එක එක බිත්ති නව නව යොදුන් වේ. එහි පෙරදිග බිත්තියෙන් ගිනිදැල් පැන නැගී, සියලු නිරය පුරමින් සියක් යොදුන් තැන් ගොස් අවරදිග බිත්තිය විනිවිද පිටත සියක් යොදුන් තැන් පැතිර සිටියි. සෙසු දිසාවෙනුදු මෙසේමය.

ජාලා පරියන්ත වශයෙන් දිග පළලින් යොදුන් තුන්සිය දහඅටක් වෙති. පරික්ෂෙප වශයෙන් යොදුන් නවසිය පනස් සතරකි. හාත්පසින් උත්සද නිරයත් සමග යොදුන් දසදහසක් වෙති. මෙසේ ගිනි ජාලාවන්ගේ නිරන්තරව පවත්නා බැවින් එම නිරය මහාඅවීචි නම් වේ. මේ සවැදෑරුම්

ජාලාවන්ගේ මධ්‍යයෙහි දෙව්දත් තෙම උපන්නේ වේ. ඔහුගේ යොදුන් සියයක් පමණ වූ ආත්මභාවයක් වේ. දෙපා ගොප් ඇටය දක්වා ලොහො පොලොවෙහි පිහිටියාහුය. දෙ අත, මැණික් කටු දක්වා බිත්තිය ඇතුලට පිවිසියාහුය. හිස බැම ඇටයෙන් ඉහල ඡදනයට පිවිස ඇත. අධො භාගයෙන් එක් ලෝහමය උලක් පිවිස කය විදගෙන ගොස් ඡදනයට පිවිස ඇත. පෙරදිග බිත්තියෙන් නික්මුන අයෝසූලය හදවත විදගෙන පැදුම් දිග බිත්තියට පිවිසී ඇත. උතුර දෙසින් නික්මුණු සූලය ඉල ඇට බිඳගෙන දකුණුදිග බිත්තියට පිවිසී ඇත. නිශ්චල වූ තථාගතයන් වහන්සේට අපරාධ කළ හෙයින් නිශ්චලව හිඳ පැසෙයි. කළා වූ කර්මයට සුදුසු පරිදි මෙසේ විය. මෙසේ ගිනිදැල්වලින් අතරක් නැත. අවීචියෙහි අභ්‍යන්තරයෙහි සියයක් යොදුන් තැන නලයක පුරා ඊයම් සුණු සෙයින් සතුන්ගෙන් අතරක් නැත. මෙතැන සත්ත්වයෝ ඇත. මෙතැන නැතැයි කියන්නට සුදුසු තැනක් නැත. හෙව, සිට හිඳ ඇවිද පැසෙන්නා වූ සතුන්ගේ ගණනෙක් නැත. යන්නහුන් හට සිටින්න වුන්ගෙන් ද හුන්නවුන්ගෙන් ද හොත්තවුන්ගෙන් ද බාධාවක් නැත.

එහි සත්ත්වයන් හට පංචද්වාරයෙහි උපේක්ෂා සහගත චිත්තයෝ සදෙනෙක් උපදිති. එක් දුක්ඛ සහගත චිත්තයක් උපදී. එතකුදු වුව දිවග මීබිඳු සියයක් තබා එක් තඹ ලෝ බිඳක් තැබූකල දැවීමට බලවත්වන බැවින් ඒ මී බිඳෙන් කම් නැත්තාක් මෙන් වන බැවින් උපේක්ෂා සහගත චිත්තයක් උපදනා කල්හිදු දුක්ඛ සහගත චිත්තයම බලවත් වන බැවින් දුකින් අතරක් නැත. අහිත් (චිත්තයන්ගේ) ව්‍යවහාරයෙක් නැත. එබැවින් දුක්ඛයාගේ නිරන්තර බැවින් අවීචි නම් වේ.

චතුක්කණ්ණෝ පෙට්ටියක් බඳු. විභත්තො චතුද්වාර වශයෙන් බෙදන ලද්දේ. භාගසො ද්වාර වීථීන්ගේ වශයෙන් කොටස් තබා බෙදන ලද්දේ. අයොපාකාර පරියන්තො යකඩ තාප්පවලින් වටකරන ලද්දේ. අයසා මුද්‍රන යකඩ පටකින් වසන ලද්දේ. සමන්තා -පෙ-වො හාත්පස යොදුන් සියයක දුරසිට බලන්නුහගේ පචා ඇස් (යමගෝල) - ගුලි දෙකක් මෙන් පිටත නික්මෙයි. මෙසේ පැතිරී සිටියි. උබ්භතං තාදිස මෙව. යට සිට දැවෙනවිට උඩ සිහිකරයි. උඩ සිට දැවෙන විට යට සිහිකරයි. මෙසේ ආක්‍රමණ කාලයෙහි යම්සේ දැවේද, උද්ධරණය කරන කල්හිද එසේම යයි හැඟෙයි. බහුසම්පත්තො බොහෝ වර්ෂ සත සහශ්‍රයක් ගතවූයේ වෙයි. මහන්තො ගූථනිරයො පණුවන්ගෙන් පිරුණු යොදුන් සියයක් වූ

ලොහකුම්භ නිරයයි. සොතතෝ පතති. එක් පයක් මහානිරයේ වෙයි. එකක් ගූථනිරයෙහි වෙයි. සූචිමුඛා ඉඳිකටු පමණ මුඛ ඇති, ඇතෙකුගේ බෙල්ල පමණ එක් ඔරුකඳක් ඇති අඟුලක් මෙනි. කුකකුලනිරයො. සියක් යොදුන් පමණ වූ සම්පූර්ණ ගිනි අළුයෙන් වැසුනු. කුකකුල නිරයෙහි වැටෙයි. එහි වැටුනහු අබ ඇට ආදිය මෙන් පතුලටම බසී. ආරොපෙනති යකඩ දණ්ඩකින් තලමින් නංවති. එහි නගින කල්හි කටු අධොමුඛ වෙයි. බසිනකල්හි ඌර්ධ මුඛ වෙයි. වාතෙරිතානි, කර්මමය වාතයෙන් කම්පා වූ හත්‍ථං ඡින්දනති ලැල්ලෙහි තිබූ මස් මෙන් කොටමින් සිඳිති. ඛාරොදිකා නදී වෙතරණී නම් වූ කාරම් දියෙන් පිරුණු නදියකි. එහි නිරයපාලයෝ ගිනිගෙන දිලියෙන අසි සතති තෝමර භෙණ්ඩිමාල මුග්ගර ආදිය ගෙන පහරදෙත්. විදිත්. තලත්. ඔවුහු ඉවසිය නොහැක්කේ වෙතරණී නදියට වැටෙත්. එම නදීතොමෝ දෙඉවුරෙහි වේවැල් කුසතණයෙන් ගැවසී ඇත. ඔවුහු එයින් අදිනු ලබන්නාහු ද පලනු ලබන්නාවූ ද එමග කල්යවා අනතුරුව එයින් ගිලිහී යට තිබුනා වූ ගිනිගෙන දිලියෙන යකඩ හුල්වල වැටී විදින ලද සිරුරු ඇතිව කල්යවා ඉන් ගිලිහී ගිනිගෙන දිලිසෙන ඛුරධාරා, (=දැලිපිහියා මුවහත) ඇති තියුණු අයෝමය පොකුරුපත් ඇති, දිය මතුපිට වැටී බොහෝ දුක් විඳිත්. ඉන් අනතුරුව කාරම් දියෙහි වැටෙත්. ජලය ද දිලිසෙයි. සත්ත්වයෝ ද දිලිසෙති. දැලිපිහියා මුවහත වැනි තියුණු කතිර සලකුණකින් පෙන්නුම් කරන කාරම් නම් වූ වැල්ලෙන් ගැවසීගත් යට නදී තලයෙහි ඔවුහු යට කෙබඳුදැයි කිමිඳී දැලිපිහියා මුවහත වැනි කාරම් නම් වූ වැල්ලෙහි කඩ කඩ කැපී කැගසමින් විටෙක අනුශ්‍රොතසට ද විටක පටිසොතයට ද ගිලෙමින නෙළුම් පෙතිවලින් කැපෙත්. අනතුරුව ඉවුරෙහි සිටි නිරයපාලයෝ උසු - සතති - තෝමරී (ඊ- ආවුධ තෝමර) ආදියෙන් ඇන මත්ස්‍යයන් මෙන් විද, අයෝමය බිලීකටුවලින් ඇද ගිනිගෙන දිලියෙන අයෝමව පොලොවෙහි හොවත්.

තතෙතන අයො සංකුණා, බඩගිනි යයි කී කල්හි මහත්වූ ලෝහමය පැසකට ලොහොගුලි පුරවා ඔහු වෙත එළඹෙත්. ලොහගුලි බව දැන දත් පියා ගනියි. අනතුරුව රත්වූ යකඩ අඬුවකින් ඔහුගේ කට විවරකොට ඔහුගේ මුඛයෙහි බහත්. මහත් වූ තඹ බඳුනකට තඹ ලෝහය ගෙන මෙසේම කෙරෙත්. පුනමහා නිරයෙ, මෙසේ පංචවිධ බන්ධනයන්ගේ සිට තඹ ලෝහය පානය කරවීම දක්වා ද, තඹලෝහ පානයෙහි පටන් නැවත පංචවිධ බන්ධන කරන්නේ, මහා නිරයෙහි ප්‍රවේශ කරත්. මෙහි ඇතමෙක් පංචවිධ බන්ධනයෙන්ම මිදෙත්. සමහරෙක්, දෙවනු -පෙ-

තඹ ලෝහපානයෙන් මිදෙත්. කර්මය නොගෙවුන කල්හි නැවත මහානිරයේ බහත්. මෙම සූත්‍රය අසන්නා වූ එක් දහර භික්ෂුවක් ස්වාමීනි, මෙතෙක් දුක් විඳි පුද්ගලයෙකු නැවත මහා නිරයට බහත්දැයි ඇසූහ. ඇවැත්නි, කර්මය නොගෙවුනු කල්හි නැවත නැවතද කෙරෙත්යයි කීහ. ස්වාමීනි, උද්දේසය තිබේවා. මට කමටහන් දෙවයි කමටහන් කියවාගෙන සෝවාන් බවට පැමිණ අවුත් උද්දේසය ලබාගත්තේය. (උදෙදස - ඉගෙනීම) මේ ප්‍රදේශයෙහි සිට රහත්බවට පැමිණියාහු අප්‍රමාණය. සර්වඥ බුදුරදුන් විසින් මෙම දේසනා අත්නොහරින ලද්දේම වෙයි.

චොදිතා චෝදනා කරන ලද්දහු. පමජ්ජනති කාම ගුණයන්හි, අභිරමණය කිරීම් වශයෙන් සිත ඒවායින් අත් නොහරිත්ද, මානවා (සත්තා) සත්ත්වයෝ හීනකායූපගා, හීනකාය සංඛ්‍යාතා අපායට පැමිණියාහු වෙති. අරියධමෙම ආර්ය වූ සම්මා සම්බුද්ධ වූ භාග්‍යවතුන් වහන්සේ ඒකාන්ත නෛර්යාණික වූ චතුරාර්ය සත්‍ය ධර්මයෙහි උපාදානෙ තණ්හා දිට්ඨි වශයෙන් ගැනීමයි. භයං අපායාදි භය, උපාදාන ඇතිකල්හි, අපායාදි දුකට පත්වේ. නැතිකල්හි නොවේ. ජාතිමරණ සමභවෙ, ජාතියට ද මරණයට ද කාරණ භූත වූ අනුපාදා සතර උපාදානයන්ට ග්‍රහණය නොකොට ජාති - මරණ - සංඛයෙ, නිර්මාණයෙහි දිට්ඨ ධමමාභි නිබබුතා මෙම ආත්ම භාවයේදීම සියලු ක්ලේශ පරිනිර්වාණයෙන් සබ්බ දුකඛං උපච්චගු සියලු දුක් ඉක්මවූයේ නම් වේ.

දේවදූත සූත්‍ර වර්ණනාව නිමි.

## 20.

මහා දුකඛකඛන්ධ සුතෙත මහා දුකඛකඛන්ධ සූත්‍රයෙහි සමබහුලා, විනය පරියායෙන් තුන්දෙනෙක් සම්බහුලා යයි කියනු ලැබෙති. ඊට වැඩි වූයේ සංඝ යයි සූත්‍ර පරියායෙන් තුන්දෙන තුන්දෙන මැයි. එයින් මත්තෙහි සමබහුලාය. මෙහි සූත්‍ර පරියායෙන් සම්බහුලා වූවාහු දතයුතුය.

පරිබ්බාජකාරාමො ජේතවනයෙන් නුදුරෙහි වූ අන්තොටු පරිබ්‍රාජකයන්ගේ ආරාමයකි. කාමානං පරිඤ්ඤං කාමයන්ගේ ප්‍රහාණය, ඉක්මවීම එහි තීර්ථයෝ ස්ව සමයෙහි දැක්වෙන්නා වූ කාමයන්ගේ පරිඥාව දැක්වූවාහුය. ප්‍රථමධ්‍යානය කියන්නාහු රූපයන්ගේ ප්‍රහාණය පණවත්. අරූප භවය කියන්නාහු වේදනාවගේ ප්‍රහාණය පනවන්නාහුය. අසඤ්ඤභවය, දක්වන්නාහු, ඔවුහු මේ ප්‍රථම ධ්‍යානයයි. මේ අරූප භවයයි. මේ අසඤ්ඤභවයයි නොම දනිත්. හුදෙක් පඤ්ඤාපෙම යනුවෙන් කියත්. තථාගතයන් වහන්සේ වනාහි කාමයන්ගේ ප්‍රහානය, අනාගාමී මාර්ගයෙන් පනවන සේක. රූප වේදනාවන්ගේ ප්‍රහානය රහත් මගින් පනවන සේක. ඔවුහු මෙසේ මහත් විශේෂය (වෙනස) විද්‍යමාන කල්හිදු 'ඉධ නො ආවුසො කො විසෙසා,' යනාදිය කීහු. එහි 'ඉධ' යනුවෙන් මේ පැනවීමෙහි ධම්මදෙසනාය වා ධම්මදෙසනං ශ්‍රවණ ගෞතමයන්ගේ ධර්ම දේසනාව සමග අපගේ ධර්මදේශනාව හෝ අපගේ ධර්මදේසනාව හා ශ්‍රමණභවත් ගෞතමයන් වහන්සේගේ දේශනාව හෝ යම් වෙනස් කරුණක් කියව්ද, ඒ කිනම් දැයි කියති. දෙවන පදයෙහිදු මේ නයමැයි. නෙව අභිනන්දිංසු තීර්ථයෝ වූ කලී අන්ධ පුරිසයෝය. නොදැන හෝ කියන්නාහුය. මෙය මෙසේයයි නොපිලිගත්තාහුය. න පටික්කොසිංසු පරිඤ්ඤං යන වචනයෙන් මදක් ශාසන ගන්ධය ඇතැයි ප්‍රතිෂේධ නොකළාහුය. තෙල භික්ෂූහු ජනපදවාසීහු ද ස්වසමය පරසමයයන්හි සමර්ථ වූවාහු නොවෙත්නුයි (සම්පටිච්ඡනය භාරගැනීම ප්‍රතිෂේධනය ප්‍රතික්ෂේප කිරීම දෙකම නොකළාහුය.)

න චෙව සම්පායිස්සන්ති සම්පාදනය කොට කියන්න නොහැකි වන්නාහුය. උත්තරිං'ච විඝාතං සම්පාදනය කොට නොකිය හැකි බැවින් මත්තෙහිදු දුකට පැමිණෙන්නාහුය. යථා තං භික්ඛවෙ අවිසයස්මිං මෙහි 'තං' යනු නිපාත මාත්‍රයකි. 'යථා' යනු කාරණ වචනය. යම් හෙයකින් අවිෂය වූ ප්‍රශ්නයෙහි විචාරන ලද්දේ වේද යන අර්ථයි. දෙවියන් සහිත වූයේ සදෙවක නම් වේ. සමාරක ආදී තැන්වල මේ ක්‍රමයමැයි. මෙසේ තුන් තැනක් ලෝකයෙහි ඇතුලත්කොට පද දෙකක් ප්‍රජාව යයිද බහා, පද පසින්ම සත්ත්ව ලෝකයම ඇතුලත් කොටගෙන 'මේ සදේවකාදි භේද ඇති ලෝකයෙහි ඒ දෙවියා හෝ මිනිසා හෝ නොදක්වන්නෙමි. දක්වන සේක. ඉතොවාපන, සුත්වා මෙයින් මත්තෙහි වනාහි මාගේ ශාසනයෙන් හෝ ආරාධෙය්‍ය සතුටු කරන්නේය. කාමගුණ කැමතිවිය යුතුය යන අර්ථයෙන් කාමා කාමනම් වේ. බන්ධනාර්ථයෙන් ගුණනම්

වේ. චක්ඛු විඤ්ඤෙය්‍යා චක්ඛු විඥානයෙන් දැක්ක යුතු ඉටඨා සොයන ලද්දාහු කන්තා කමනීය වූ, මනාපා මන වඩන්නා වූ, පියරූපා, ප්‍රිය ස්වභාව ඇත්තාහු කාමූපසංහිතා කිලෙස කාමයෙන් යුක්ත වූවාහු රජනීයා, ඇලුම් කටයුතු වූ. මුද්‍දා ඇඟිලි පුරුක්වල සලකුණු තබා කරන හස්ත මුද්‍රාවය. ගණනා යනු (එක, දෙක, යනාදි නයින්) (නිරතුරුව) අවිඡ්ද ගණන් කිරීමය. සංඛා, සියල්ල පිඩුකොට කරන පිණ්ඩ ගණනාවය. යම් විද්‍යාවකින් කෙතක් බලා මෙහි මෙපමණ වී වන්නාහුය. රුකක් බලා මෙහි මෙතෙක් ඵල වන්නාහුය. අහස බලා අහසෙහි මෙතෙක් නම් පක්ෂීහු වන්නාහුය දනිත්ද එයයි. ගොරක්ඛන තමාගේ හෝ අනුන්ගේ හෝ ගවයන් රැක පස්ගෝරස විකිණීමෙන් ජීවත්වන කර්මය. ඉසසත්‍යො අවිගෙන උවටැන් කරන කර්මයයි කියනු ලැබේ. රාජපොරිසං අවියෙන් තොර රාජකීය රාජකාරි කරන, සිපපඤ්ඤතර ගන්නා ලද්දෙන් ඉතිරි වූ හස්ති අශ්ව ආදි ශිල්පාදියයි. සීතසස පුරක්ඛතො ඊතලයට ඉලක්කය මෙන් සීතයට පෙරටුව සිටියේ සීතලයෙන් පෙළනු ලබන්නේ යන අර්ථයයි. රිසසමානො, කම්පාවන්නේ (පෙලෙන්නේ) ගැටෙන්නේ. මීයමානො මැරෙන්නේ වැඩෙන්නේ. අයං භිකඛවෙ, මහණෙනි, හස්ත මුද්‍රාදියෙන් ජීවිකාවට පැමිණ ශීතාදි ප්‍රත්‍යයන්ගෙන් වන්නා වූ මේ ආබාධය ක්ලාන්තවීම් කාමයන්ගේ ආදිනවයි. දෝසයි. 'ආදීනභාවං අත්විය කපණණං වාති ගච්ඡති එතෙනාති = ආදිනවො බැගෑපත් බවට අතිශයෙන් දිළිඳු බවට හෝ මේ හේතුකොට යේනුයි. ආදිනව නම් වේ. සන්දිටඨිකො, ප්‍රත්‍යක්ෂ වූ තමා විසින් දැක්ක යුතු වූ. දුකඛකඛන්ධො. දුක් රාශිය කාම ප්‍රත්‍යාර්ථයෙන් මොහුට හේතුවේනුයි කාමහේතු නම් වේ. මූලාර්ථයෙන් කාමයෝ මෝහට නිදාන වේනුයි කාමනිදාන නම් වේ. එහෙත් ලිංග විපර්යාසයෙන් කාම නිදානං යයි කියන ලදී. කාරණාර්ථයෙන් කාමයෝ මෝහට කාරණ වේනුයි 'කාමාධි කරණො' යනුවෙන් වේ. එහෙත් ලිංග විපර්යාසයෙන් ම කාමාධිකරණ යයි කියන ලදී. කාමාන මෙව හෙතු මේ නියම වචනයයි. කාම ප්‍රත්‍යයෙන් උපදියි යන අර්ථයි. උටඨහතො, ආජීව් සමුටඨාපක (=උටඨාන) වීර්යයෙන් නැගී සිටින්නහුගේ. ඝටතො. වීර්යයෙන් පූඝ්වයෙන් අපරය (ආරම්භයෙහි සිට නිරතුරුව) ගලපන්නහුගේ, ව්‍යායාම පරාක්‍රමය ප්‍රයෝග කරන්නහුගේ.

වායමතො, ව්‍යායාමය පරාක්‍රමය ප්‍රයෝගය කරන්නුහගේ ආරක්ඛාධිකරණං ආරක්ෂාව කරුණුකොට, කිනති කවර උපායකින්ද යත්? කාමහෙතු, කාම හේතුවෙන් රජවරු ද රජුන් සමග විවාද කරති

යයි යන අර්ථයි. **කාමනිදානං කාමාධිකරණං**, භාව නපුංසකයැ. කාමයන් නිදානකොට. කාමයන් අධිකරණය (කාරණා) කොට විවාද කෙරෙති යන අර්ථයි. **කාමාන මෙව හෙතු**, ගම් නියම්ගම් සෙනෙවි, පෙරෙවි ආදී වූ කාමයන්ම හේතුකොට විවාද කරන්නේය යන අර්ථයි. **උපක්කමන්ති** පහර දෙති. **අසි චම්මං** කඩුව හා පලිහ ද, **ධනුකලාපං සන්නය්හිත්වා** දුන්න ගෙන හියවුර බැඳ, **උභතොබ්‍යූහං** දෙපසින් රැස්වූ, **පක්ඛන්දන්ති** ප්‍රවේශ වෙත්. **විජ්ජා තලන්තෙසු**, කරකවන කල්හි. **අද්දාවලෙපනා උපකාරියො** යන මෙහි මනුෂ්‍යයෝ අස්කුර පාදයෙන් හටගනිත්. ගඩොල්වලින් බැඳ මතුයෙහි සුණු පිරියම් ආලේප කරති. මෙසේ කරන ලද ප්‍රාකාර පාදයෝ උපකාරීහු යයි කියනු ලබති. ඔවුහු තෙත් වූ මඩවලින් ඉසින ලද්දාහු අද්දාව ලෙපන නම් වෙති. **පක්ඛන්දන්ති** ඒ යට සාරා සිටුවන ලද යහුල් රැක්හුල් ආදියෙන් විදිනු ලබන්නාහු ද ප්‍රාකාරය බෙලසුල් බැවින් නගින්ට නොහැකි වන්නාහු ද සමීපයට දිවෙත්මය. **ඡවකකොටියා** කකාරවන ලද ගොමවලින් අභිවග්ගෙන සත දන්තයෙන් එය අෂ්ට දන්තාකාරයෙන් කොට නුවර දොරබිඳ පිවිසෙන්නෙමු යයි ආකල්හි දොරටුව මතුවෙහි සිටියාහු ඒ සත දන්තයාගේ බැඳුම් යොත් සිඳ සතදන්තයෙන් මඩිත්. **සන්ධිම්පි ඡින්දන්ති** ගෘහ සන්ධි සිඳිති. **නිල්ලොපං**, ගම්පැහැර මහාවිලොපනය කෙරෙති. **එකාගාරිකං**, පනසක් පමණ වූවාහුද සැටක් පමණ වූවාහුද, පිරිවරා ජීවග්‍රාහයෙන් ගෙන ධනය ගෙන්වා ගනිති. **පරිපන්ථෙපි තිට්ඨන්ති** මං පැහැරීම කර්මය ද කෙරෙති. **ඡන්දරාග විනයො ඡන්දරාග පහාණං** නිවනට පැමිණ කාමයෙහි ඡන්දරාගය දුරුකෙරෙයි. ප්‍රහීන කෙරෙයි. එබැවින් නිවනට ඡන්දරාග විනයයි කියනු ලැබේ. **එවං වා කාමෙ පරිජානිස්සන්ති** තුමූ හෝ කාමයන් ත්‍රිවිධ පරිඥාවෙන් දැනගනිත්. **තථත්තායාති**, එබඳු බවට **යථාපටිපන්නෙනා** යම් පිළිවෙතකින් පිළිපන්නේ. **ඛත්තිය කඤ්ඤා වා** යනාදිය නොමඳ වූ මහත් වූ කුසලයෙකින් ප්‍රතිසන්ධිය ඇත්තේ වස්ත්‍රාභරණ ආදිය ලබන තැනක උපන්නහු දක්වන්ට වදාරන ලදී. **පණ්ණරසවස්සුද්දෙසිකා** පසලොස් අවුරුදු වයස් ඇති දෙවන පදයෙහිදු මේ නයමැයි. වයස් ප්‍රමාණය කුමක් හෙයින් ගනීද යත් වර්ණ සම්පත්තිය දැක්වීම පිණිසයි. එසේමය. දුගී කුලයෙක උපන්නා වූ මාගමගේ මෙකලැ පැහැ සටහන මද මදවැ පහදී. පුරුෂයෙකුගේ වූ කලී විසිවස් පස්විසි වස් කල පැහැ සටහන ප්‍රසන්න වේ. **නාති දීඝා** යනාදියෙන් සදොසින් වෙන්වූ ශරීර සම්පත්තිය දක්වයි. **වණ්ණනිභා** යනු වර්ණයෝමැයි. **සරීරං සිවථිකාය ඡඩ්ඩිතං** අමු සොහොනෙහි හෙළන ලද මෘත ශරීරය. මැරී එක් දවසක් ඇත්තේනුයි

එකාහමතං නම් වේ. ද්වීහමතං යනාදිය ද මේ ක්‍රමයමැයි. විනීලකං මස් උස්ව ගියතන්හි, රක්ත වර්ණ වූ පූයා විනීලං යනුවෙන් විපරීත වූ වර්ණයන්ට කියනු ලැබේ. විනීලමෙව • විනීලකං පිළිකුල් බැවින් ද, කුච්ඡිත බැවින් ද විනීල වූයේනුයි විනිලක නම් වේ. පිරුණු තැන්හි ශ්වේත වර්ණ වූ බොහෝසෙයින් නීලවර්ණ වූ තන්හි නිල් සළුවක් පෙර වියක්හු වැනි මලසිරුරට මේ නමකි. බිඳුනු තැනින් හෝ නව වුණ මුඛයන්ගෙන් හෝ වැහෙන්නා වූ පූයා ඇත්තේ විපුබ්බ නම්. විපුබ්බයම විපුබ්බක නම් වේ. නැතහොත් පිළිකුල් බැවින් කුත්සිත වූ විපුබ්බය නුයි විපුබ්බක නම්. හටගත් පූයා ඇත්තේ එබඳු විපුබ්බ භාවයට ගියේනුයි විපුබ්බකජාත නම් වේ. ඛජ්ජමානං උදර ආදියෙහි සිට උදරමංස, ඔට්ඨමංස, අක්ඛිකූට මංස උපුටා කන්නා වූ. සමංස ලොහිතං මක්ඛිතං මස් ක්‍ෂය වී ගිය කල්හිදු ලේ නොවියලෙයි. ඒ නිසා වදාරණ ලදී. ලොහිත මක්ඛිතකං යනුවෙන් අඤ්ඤෙන අඤ්ඤ දිසා භාගයක, හත්ථිංකං යනුවෙන් සූසැට ප්‍රභේද ඇති. වෙන වෙනම විසිරුණා වූ අත්ඇට පා ඇට ආදියෙහිදු මෙම ක්‍රමයමැයි. සියක් වසක් ඉක්මුනා වූ, පූතිකි එළිමහනෙහි තිබුන අවු සුළං වැදීමෙන් සියවසක් ඉක්වුනාහුම කුණු වූවාහුම වෙති. පොලෝතුලට පැමිණියාහු බොහෝකලක් පවතිත්. චිමුණ්ණක ඡාතානි සුනු සුනුව විසිරුණා වූ මෙහිදු ඡන්දරාගවිනය නිබ්බාන නම් වේ. තෙව තස්මිං සමයෙ අත්තබ්‍යාබාධාය එසමයෙහි තමහට දුක් පිණිස කොසිතයි. අබ්‍යාපජ්ජංයෙව, නිදුක් වූම, යං හිකබ්වෙ වෙදනා අනිච්චා යම්හෙයකින් වෙදනා තොමෝ අනිත්‍ය වූවාද, එහෙයින් මේ අනිත්‍යාදී ආකාරයේ වේදනාවගේ ආදීනවෙයකි. නිස්සරණය උක්තප්‍රකාරව වේයයි (දතයුතුයැ)

මහා දුක්ඛක්ඛන්ධ සූත්‍ර වර්ණනාව නිමි.

## 21.

අට්ඨපුඤ්ඤජ, සුතෙත, අට්ඨපුඤ්ඤජ සූත්‍රයෙහි (මෙය ඒක පුග්ගල නමින්ද හඳුන්වා ඇත.) ගිජ්ඣකූටෙ පබ්බතෙ, එම පර්වතයට ගිජුලිහිණියකු බඳු කූටයක් ඇත. එබැවින් ගිජ්ඣකූටයයි කියනු ලැබේ. ගිජුලිහිණියෝ ද එම පර්වත කූටයෙහි වාසය කරත්. එබැවින් ද ගිජ්ඣකූට නම් වේ. අනමතග්ගගායං:-

**ඛන්ධානං පටිපාටි - ධාතු ආයතනානි ච**
**අබ්බොච්ඡින්නං වත්තමානා සංසාරොති පවුච්චති**
(ස්කන්ධයන්ගේ ද ධාතු ආයතනයන්ගේ ද පටිපාටිය නොසිඳ පවත්නේ සංසාරය යයි කියනු ලැබේ.)

මෙසේ කියන ලද මෙම සංසාරය (අනමතග්ගය) නොදත් කෙළවර ඇත්තකි. නුවණින් යුතුව, අවුරුදු සියයක් අවුරුදු දහසක් ගමන්කොට ද නොදත් කෙළවර ඇත්තේය. ඔහුට මෙයින් හෝ එයින් හෝ අග දැනගැනීමට නොහැකිය. නොපිරිසිඳින ලද පූර්ව අපර කෙළවර ඇත්තේය යන අර්ථයි. යම්හෙයකින් ඔහුට පූර්ව කෙළවර නොපෙනේද, එසේම අපර කෙළවරද නොපෙනේ. **ඒකපුග්ගලස්ස** එක් සත්ත්වයෙකුගේ **කප්පං** මහා කල්පයෙකින් හතරෙන් කොටසක්, එක් අසංඛ්‍ය කල්පයක් ප්‍රමාණ කාලය, මහා කල්පයකැයි ආචාර්යවරු කියති. **අට්ඨී කංඛලො** ආදී තෙවදෑරුම් ඇට රාශියටම වේවචනයකි. මෙම සත්ත්වයන්ගේ ඇට සහිත කාලයට වඩා ඇට රහිත කාලය බහුතර වේ. ගැටවිල් ආදි සත්ත්ව විශේෂයන්ගේ ඇට නැත. මත්ස්‍ය, කැසුබු ආදී සත්ත්වයන්ට ඇට ඇත්තේය. එහෙයින් සිරුරෙහි ඇට නැති කාලයෙහි සිරුර බහා තැබීම් (චුතවීම්) හැර, ඇට සහිත කාලයෙහි මළවුන්ගේ ඇට පමණක් ගෙන මෙසේ කියන ලදී.

**වෙපුල්ලො පබ්බතො** මෙම පර්වතය සතලිස්දහස් හවුරුදු ආයු වූ කකුසඳ බුදුරදුන්ගේ කාලයෙහි, බලසම්පන්න මධ්‍යම ප්‍රමාණයේ මිනිස්සු තුන්දිනකින් කන්ද නගිත්. තුන්දිනකින් බසිත්. තිස්දහසක් ආයු නැති කෝණාගමන බුදුරදුන්ගේ සමයෙහි මිනිස්සු තුන්දිනකින් මෙම කන්ද නගිත්. තුන් දවසකින් බසිත්. දෙබුදුවරයන්ගේ කාලය අතර යොදුනක් උස ඇත්තේ විය. විසිදහසක් අවුරුදු ආයු ඇති කාශ්‍යප බුදුරදුන් කාලයෙහි මිනිස්සු. දෙදිනකින් මෙම පර්වතය නගිත්. දෙදිනකින් බසිත්. අවුරුදු සියයක් ආයු ඇති අප බුදුරදුන් සමයෙහි මිනිස්සු මොහොතකින් මෙම පර්වතය නගිත්. මොහොතකින් බසිත්. **සචෙ සංහාරකො අස්ස** නොවිසිරෙන ලෙස ගෙනවුත් රැස්කරන්නෙක් වේනම් මෙසේ පරිකල්පනා වශයෙන් මෙය දතයුත්තේය. (එසේ කරන්නෙක් නොමැති මෙය උපමාවක් පමණි.) **සම්භතං ච න විනස්සෙය්‍ය** එසේ රැස්කරන ලද්දා වූ මෙම ඇටගොඩ, කුණු නොවී සුනුවිසුනු නොවී ඉදින් එසේ පවතින්නේ ද ඒ අයුරින් පරිකල්පනකොට කියන ලද්දේ වෙයි. මේ එහි අර්ථයයි. මෙසේ

ප්‍රමාණ වශයෙන් ලැබිය හැකි වූ 'ඇටගොඩ' සලකා එසේ භාග්‍යවතුන් වහන්සේ සර්වඥතාඥ ඥානයෙන් පිරිසිඳ වදාරණ ලද්දේ යයි දතයුත්තේය. මේ මෙහි අභිප්‍රායයි. සංසාරය තෙම පරිච්ඡේද නොකළ කෙළවර ඇත්තේය. පෙර අපර දෙකෙළවර නොවැටහේ. එක් කපක් සසර ඇවිදින්නා වූ එක් පුද්ගලයෙකුගේ ඇටගොඩ ප්‍රමාණ වශයෙන් වෙපුල්ල පර්වතය තරම් වේ. බොහෝ කල්පයක් ඉක්මවූවාහු වෙති. එබැවින් මේ ඇට පිළිබඳ ප්‍රමාණය සලකා බැලිය නොහැක්කේය. සසර, නොපිරිසිඳින ලද කෙළවර ඇත්තේ වෙයි. පූර්ව කෙළවර නොපෙනේ යයි දතයුත්තේය.

මෙහි අර්ථය විශාල වශයෙන් ද උපමාව කුඩා වශයෙන් ද කියන ලදී. බාහිර සසුන්හි අර්ථය කුඩාය. උපමාව විශාලය. ගෝණ ඇතෙකු මෙනි. ශූකරයා ගොනෙකු මෙනි. විල සමුද්‍රය මෙනි යනාදි වශයෙන් කී කල්හි ඔවුන් ප්‍රමාණය (උපමාව විශාල වේ. උපමෙය කුඩා වේ) බුදු සසුනෙහි උපමාව ස්වල්පය, අර්ථය (උපමේය) විශාල වේ. පෙලෙහි (සූත්‍රයෙහි) එක කපක් සසර සැරිසරන්නා වූ එක් පුද්ගලයෙකුගේ ඇටගොඩ ප්‍රමාණ වශයෙන් එය විශාල බැවින් එක් වෙපුල්ල පර්වතයක් ගන්නා ලද්දේ වෙයි. මෙවැනි පර්වතයක් සියයකට ද වඩා එම ඇටගොඩ විශාල වේ. එයට හේතු කවරේ ද යත් කල්පයකින් සතරෙන් කොටස වූ කලී, යොදුනක් දිග-පළල උස අබගොඩකින් වර්ෂ (දහසකට) වරක් එක් බීජය බැගින් ඉවත් කෙරේද, අබ සියල්ල අවසන් කාලයට ප්‍රමාණ කර ඇත. කල්පයකින් සතරින් කොටස.

තං කිස්ස හෙතු යම් හේතුවකින් මෙම වෙපුල්ල පර්වතයාගේ ප්‍රමාණය අනුව ඇටගොඩ දතයුතු වේ. එම හේතුව කවරේද? එම අර්ථය කවර හේතුවකින් වර කාරණයකින් දයුතු වේදයත්? සංසාරය නොදන්නා ලද කෙලවර ඇත්තේය. සත්ත්වයන්ගේ පෙර කෙලවර නොවැටහේ. එබැවින් මෙම අර්ථය මෙසේ දතයුතු වේයයි දැක්විය යුතුය. මෙහි වනාහි සංසාරයාගේ නොදත් කෙලවර ඇති බව දැක්වීමෙන් එක් කල්පයක් සසර සැරිසරන පුද්ගලයෙකුගේ ජාතීහු මෙතෙක් දහසකැයි මෙතෙක් සියදහසකැයි කිවනොහැකි තරම් අප්‍රමාණ වේ. එබැවින් ඇටගොඩ වෙපුල්ල පර්වත ප්‍රමාණ වේයයි මෙසේ අර්ථය දතයුත්තේය.

දුක්ඛං පච්චනු භූතං නිරය ආදි ප්‍රභේදගත කෙළවරක් නැති දුක් තොප විසින් විඳින ලදී. තිබ්බං යන එයට ම වචනයෙකි. බලවත් වූ දුක

තිබබං යයි කියනු ලැබේ. තැවීම් වශයෙන් හේ තිබබං යයි කියනු ලැබේ. බ්‍යසනං ව්‍යසනයයි. විනාසය යන අරුත් වේ. ව්‍යසන ආදී වශයෙන් එය අනේක විධය කටසි සොහොන්බිමයි. පොලොව හෝ වෙයි. එය ඔහු විසින් නැවත නැවත ශරීර නික්ෂේපනය කිරීමෙන් වඩන ලද්දේ වෙයි. අලමෙව සුදුසු වේ. සබබ සංඛාරෙසු ස්වකීය සන්තාන ගතවූ (සියලු සංඛාරයන්හි) නිබබින්දිතු, කලකිරීම ඉපදවීමට, තන්දිරාගය නොඉපිදවීමට විරජ්ජිතුං, ඔවුන් කෙරෙහි රාගය නොඉපදවීමට, විමුච්චිතුං, ඔවුන්ගෙන් මිදීමට, ඉතිවුතතං මහෙසිනා භාග්‍යවතුන් වහන්සේ තමන්වහන්සේව අන්‍යයෙකු කොට දක්වන සේක. වෙපුලෙලා රජගහ පිරිවරා සිටි පර්වත පස අතුරෙන් විපුල බැවින්, 'වෙපුලල'යයි ලද නම් ඇති. ඉක්බිති මෙසේ කීහ. පිහිටියා වූ දිසාව වශයෙන් උතතරො ගිජකූටසස ගිරිබබජෙ. ගිරිබබජ නම් වූ රජගහ සමීපයේ, මෙතෙකින් භාග්‍යවතුන් වහන්සේ මෙපමණ කුසලයෙන් කඩනොවූ භවමූලයන් ඇති පුහුදුන්ට ආර්ය සත්‍යය අවබෝධ නොකළ හෙයින් මේ මෙබඳු කටසිවඩඪන ආදි සසරෙහි ආදීනව දක්වා දැන්, ආර්ය සත්‍යයන්ගේ ප්‍රතිවෙධය ආර්ය පුද්ගලයන්ට මෙය මේ ආකාරයට නැතැයි දක්වන සේක්. යතො අරිය සචචානි, ආදිය වදාළහ.

එහි යතො. යම්කලෙක්හ, අරියසචචානි, කෙලෙස් නැතිකළ අර්ථයෙන් 'අරියා' කියා ද අවිතථ භාවයෙන් සත්‍යයයි ද අරිය සචච අරිය සචචානි නම් වෙත්. අරිය සචචා ආරියභාවය සිද්ධකරන්නේ හෝ සචචානි නම් වූහ. ආර්ය වූ බුද්ධාදීන් විසින් අවබෝධ කළයුතු බැවින් හෝ ආර්ය වූ බුදුරදුන්ගේ හෝ සත්‍යයෝ ය. ඔහු විසින් දුටු බැවින් අරිය සචචානි නම් වෙති. සමමපඤ්ඤාය පසසති. මනා වූ හේතුවෙන් ඤාය නම් වූ විදර්ශනා ප්‍රඥාවෙන් යුක්ත වූ මාර්ග ප්‍රඥාවෙන් පරිඤ්ඤා - පහානා - භාවනා - සචඡිකිරිය - අභිසමය වශයෙන් දකියි. බලයි. දුකඛං ආදියෙන් ආරිය සත්‍යයන්ගේ ස්වරූපය දක්වයි. එහි අනේක උවදුරු බලාපොරොත්තු විය යුතු බැවින්ද, තුචඡත බැවින්ද, බාලජනයන් විසින් පරිකල්පනය කරන ලද, ධ්‍රුව, සුභ, සුඛ, අත්ථ යනාදියෙන් තොර බැවින් නින්දිත භාවයෙන් ද දුකඛ නම් වේ. දුක මෙයින් උපදවත්නුයි දුකඛ සමුපපාද නම් වේ. දුකඛ සමුදය වේ. අරමුණට ප්‍රත්‍යභූත වූ මෙයින් දුක ඉක්මවයි යන අර්ථයෙන් දුකඛසස අතිකකමො නම් වේ. කෙලෙසුන් කෙරෙන් දුරුවූ බැවින් අරිය නම් වේ. අංගයන් අටදෙනෙකුගේ වශයෙන් අටඨංගික නම් වේ. කෙලෙසුන් මරමින් යේ නුයි, නිවන් කැමැත්තවුන්

සොයනු ලැබේනුයි. තමාම හෝ නිවන විමසා බලනු ලැබේනුයි මාර්ගනම් වේ. දුක්ඛයාගේ සංසිඳීම වූ නිරෝධය යේනුයි දුකඛූපසමගාමී නම් වේ. සත්තක්ඛත්තු පරමං හෙතෙම මෙසේ චතුරාර්ය සත්‍යය දුටුවා වූ අරිය පුගගලතෙම සොතාපන්න නම් වේ. ඉඳුරන්ගේ තියුණු-මධ්‍යම මුදු භාවයෙන් ඒකබීජ, කොලංකොල, සත්තක්ඛත්තුපරම - තුන් සෝතාපන්නයන් අතුරෙහි සියල්ල මෘදු ඉන්ද්‍රිය සමාන වෙති. සත්වන වාරය පරම නම් වේ. භවයෙහි අපරාපරිය වශයෙන් සැරිසරා දුක්ඛස්සන්තකරො හොති, සසර දුක් කෙළවර කරන්නේ වෙයි. සබ්බසඤ්ඤොජනක්ඛයා, පිළිවෙළින් අග මගට පැමිණ ඉතිරි නොකොට සංයෝජන ධර්මයන්ගේ ප්‍රහීණ කිරීමයි. රහත්ඵලයෙන් දේශනාව මුදුන්පත් කළ සේක.

අට්ඨිපුඤ්ජ සූත්‍ර වර්ණනාව නිමි.

## 22.

පාවෙය්‍යක සුත්තෙන, පාවෙය්‍යක සූත්‍රයෙහි.

පාවෙය්‍යකො, පාවෙය්‍ය වාසීහු, සබ්බෙ ආරඤ්ඤකා, ආදියෙහි ධූතාංග සමාදන් වීම් වශයෙන් ඔවුන්ගේ ආරණ්‍යික භාවය දක්වූත්තේය. සබ්බෙ සංයොජනා, සියල්ලෝම බන්ධන සහිතයෝය. සමහරෙක් සෝතාපන්නයෝය. සමහරෙක් සකෘදාගාමීහු. සමහරෙක් අනාගාමීහුය. පුහුදුන් කෙනෙක් හෝ රහත් කෙනෙක් නැත්තේය. චතුස්සු මහා සමුද්දෙසු, සිනෙරු පර්වත රශ්මියෙන් වටවූ සතරමහ මුහුදෙහි සිනේරු පර්වතයාගේ පෙරදිග පැත්ත රජතමය වේ. දකුණුපස මැණික්මය වේ. පැදුම් ලෙස පලිගුමය වේ. උතුරුපස ස්වර්ණමය වේ. පෙරදිග දකුණුදිග නික්මෙන්නා වූ රජත, වර්ණ රශ්මීහු එක්වැ මහා සමුද්‍ර මතුපිටින් ගොස් චක්‍රවාට පර්වතයෙහි හැපී සිටිත්. දක්ඛිණ, පච්ඡිම පක්ෂයන්ගෙන් නික්මුන, මණිපලිගු රශ්මීහු උතුරු පැදුම් දෙපසින් නික්මුනු ස්වර්ණ රජත රශ්මීහු ද එකතුවී. මහා සමුද්‍ර මතුපිටින් ගොස් චක්‍රවාට පර්වතයෙහි හැපී සිටිත්. ගුන්නං ආදි තන්හි සුදුකළු වර්ණයන් අතරින් එක එක කාල වර්ණයම

ගතයුත්තේය. පාරිපන්ථිකා මාර්ගයෙහි සිට මංපහරින සොරු, පාරදාරිකා, පරදාර කර්මයෙහි යෙදුනාහු, සෙස්ස කී අසුරුමැයි.

පාචෙයයක සූත්‍ර වර්ණනාව නිමි.

# 23.

සූකර පොතිකාය වත්‍ථුසම්ං සූකරපොතිකා වස්තුවෙහි එහි මූලෙ යම් ගසක, සතර පැත්තට මුල් හතරක් ද යටට කෙලින් මුලක් ද යන පංචවිධ මූලයන් කැපීම් පැළීම ප්‍රාණීන් විසින් විදීම් ආදි වූ කිසියම් උවදුරකින් අනුපද්දවෙ (උවදුරු නැතිව) ස්ථිරව පවත්නා බැවින් දළෙහ නම් වේ. සො රුකෙඛා එම ගස උපරි ජිනෙනාපි ශාඛා අනුසාඛා වශයෙන් පුනදෙව රූහති, (නැවත නැවත වැඩේද,) එසේම සදොර සම්බන්ධ වූ අනුසය සහිත තෘෂ්ණාව අරහතක මගෙගන, රහත මගින් අනූහතෙ මුළුමනින්ම නොනැසූ කල්හි ඒ ඒ භවයෙහි ජාති ආදි ප්‍රභේද ගතවූ මෙම දුකඛං දුක නැවත නැවත උපදී යන අර්ථයි. යසස යම් පුද්ගලයෙකු හට 'අධ්‍යාත්මික ආයතනයන් විෂයකොට දසඅටක් ද, බාහිර ආයතනයන් විෂයකොට දහඅටක්දැයි බෙදුන තෘෂ්ණා විචරි අටලොස ද යන සතියක් ශ්‍රෝතයෝය යන මේවායින් සමන්වාගත වූ මන වඩන්නා වූ රූපාදි අරමුණෙහි වැගිර සිටියා වූ තෘෂ්ණාව බලවත් වේද, මනාපසසවණා තෘෂ්ණාව භූසා බලවත් වෙයි. එම පුද්ගලයා විපන්න වූ බුද්ධි ඇති බැවින් දුද්දිට්ඨං එ නම් වේ. නැවත නැවත උපදින බැවින් ද මහත් බැවින් ද වේගවත් වී ධ්‍යානය හෝ විපස්සනාව හෝ ඇසුරු නොකොට රාගය ඇසුරුකළ සංකල්පයෝ වූහ යන අරුත් ගෙන දේ. සවනති සබබධි සොතා මේ තණ්හා ස්‍රොතය, චකඛු ද්වාරාදීන්ගේ වශයෙන් සියලු රූප ආදි අරමුණුවල, වැගිරෙන බැවින් කාමභවාදි භවයන්හි හැමතැන පවත්නාහු වෙති. මේ තණ්හා නමැති ස්‍රොතස 'රූප තණ්හා -පෙ- ධම්ම තණ්හා යනුවෙන් සියලු භවයෙහි හෝ වැගිරෙන බැවින් කාමභවාදි භවයන්හි හැමතැන පවත්නාහු වෙති. ලතා භවයෙන් භවය වෙළන බැවින් මසන බැවින් ලතා නම් වූ තෘෂ්ණාව ලතාවක් මෙන් වූවා ලතා නම් වේ. උබ්භිජ්ජ තිට්ඨති රූපාදිය අරමුණුකොට චක්‍ෂුරාදි වූ සදොරින් ඉපිද නැගී සිටින්නේය. තංච දිසවා ඒ තණ්හා ලතාව එසේ හටගත් ඒ

**තෘෂ්ණා** ලතායෙහි 'එත්ථ එසා තණ්හා උප්පජ්ජමානා උප්පජ්ජති' යයි උපන් ස්ථාන වශයෙන් දැක. **පඤ්ඤාය** වෙනෙහි හටගත් වැලක් ආයුධයකින් මෙන් මාර්ග ප්‍රඥාවෙන්, මුලින්ම සිඳලිය යුතුය යනුවෙන් වදාළ සේක. **සරිතානි** වැගිරුණා වූ තෙත් වූ, **සිනෙහිතාස** චීවරාදියෙහි පැවැති, තෘෂ්ණා සෙනහසින් ස්නේහවත් වූ. **සොමනස්සානි,** තෘෂ්ණාවට වසඟ වූවාහු **ජන්තුනො** එවන් සොම්නසක් (සිතෙහි ප්‍රීතියක් හටගත් සත්ත්වයෝ ඇත්තා වූ සත්ත්වයෝ, වෙත් **තෙ සාතසිතා,** සැප සොම්නස් ඇසුරුකළ ඒ සත්ත්වයෝ සැප සොයන සුල්ලෝ වෙති. **සුඛෙසිනො** (කය සිත දෙකට) සැප සොයන්නෝ වෙත්. **තෙ** වෙ එබඳු සත්ත්වයෝ ඒකාන්තයෙන් **ජාතිජරූපගා** ජාති, ජරා මරණයන්ට පැමිණෙන්නෝ වෙත්. **පජා** මේ සත්ත්වයෝ, තෘෂ්ණාවෙන් පිරිවරන ලද සත්ත්වයෝ බඳනා ලද සාවකු මෙන් බියපත් වෙති. **පුරක්ඛතො** පිරිවරන ලදුව බාධිතො වැද්දෙකු විසින් කැලයෙහි බඳින ලද සාවකු මෙන් **පරිසප්පන්ති** බිසී වෙත්. **සංයොජන සංග සත්තා** සංයෝජන සහ සංගවලින් බැඳුනාහු. (සංග = කෙලෙස්) දසවිධ සංයෝජනයෙන් සහ සප්තවිධ (කෙලෙස්) වලින් සසර ඇලීගිය සත්ත්වයෝ **චිරාය** බොහෝ කලක් මුළුල්ලෙහි නොගිනිය හැකි ඉතා දිගුකලක් නැවත නැවත ජාත්‍යාදී ව්‍යසනවලට පැමිණෙත්. **තස්මා** යම් හෙයකින් තෘෂ්ණාවම පෙරටු කොටගත්, තෘෂ්ණාවෙන් වෙළුනු සත්ත්වයෝ එහෙයින් **අත්තනොවිරාගං** රාගයන්ගේ පහවී යාම නම් වූ නිවන පතන්නා වූ **භික්ඛු** (භික්ෂුව) රහත් මගින් **තසිනං විනොදයෙ** තෘෂ්ණාව දුරු කරන්නේය.

**සූකර පොතිකා වස්තුව නිමි.**

## 24.

**පරාභව සුත්තස්ස,** පරාභව සූත්‍රයාගේ උත්පත්තිය කවරීද? මංගල සූත්‍රය ඇසූ දෙවියන්ට මෙබඳු අදහසෙක් විය. භාග්‍යවතුන් වහන්සේ මංගල සූත්‍රයෙහි සත්ත්වයන්ගේ වර්ධනය යහපත, එක් අංශයකින් තමන් වහන්සේ විසින්ම, දේශනා කරන ලද්දේය. පිරිහීම ගැන නොවදාළහ. දැන් වනාහි සත්ත්වයන්ගේ පිරිහීම විමසමු යයි මංගල සූත්‍රය දෙසීමෙන්

දෙවන දිනයෙහි දසදහසක් සක්වල දෙවියෝ මේ සක්වලෙහි රැස්ව එක වාලධියක කෙලවර බහාලන ප්‍රමාණයේ අවකාශයක, දහය-විස්ස, තිහ, හතලිහ, පනහ, හැට, හැත්තෑව, අසූව දෙව්පිරිස්, සියුම් ආත්මභාව නිර්මාණය කොට පනවන ලද අසුනේ වැඩහුන් බුදුරදුන් පිරිවරාගෙන සිටියාහුය. ඉක්බිති ශක්‍රයා විසින් අනවනු ලැබූ එක්තරා දේවපුත්‍රයෙක් භාග්‍යවතුන් වහන්සේගෙන් පරාභව ප්‍රශ්නය අසන්නේ පරාභවන්තං පුරිසං යනාදිය ඇසීය.

එහි පරාභවං නැසෙන්නා වූ (පිරිහෙන්නා වූ) පුරිසං ප්‍රධාන වශයෙන් යම්කිසි සත්ත්ව සංඛ්‍යාත ජන කෙනෙක් දක්වයි. භගවන්තං පුට්ඨුං ආගමම්‍ා, අපි භාග්‍යවතුන් වහන්සේගෙන් අසා දැනගනු පිණිස ඒ ඒ සක්වලවලින් පැමිණියාහු වෙමු. කිං පරාභවතො මුඛං පිරිහෙන්නා වූ මිනිසාට කිනම් මුඛයක්? කිනම් ද්වාරයක්? කිනම් කාරණයක්? පරාභවයට හේතුව දත්කල්හි පිරිහෙන පුරුෂයාද දැනගත හැකිය. එබැවින් පිරිහීමට කරුණුම විචාලේය. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ එය ප්‍රකට කිරීම සඳහා ප්‍රතිපක්ෂ (කුසලාට) කරුණු සමග පුද්ගල අධිට්ඨාන දේසනාවක් වශයෙන් 'සුවිජානො' යනාදිය වදාළහ.

එහි අර්ථය නම්:- භවං වැඩෙන නොපිරිහෙන ඒ පුරුෂතෙම, සුවිජානො සුවසේ දතහැකිය. යම් පුරුෂයෙකුගේ පිරිහීමේ කරුණු විමසන්නේ එය ද පහසුවෙන් දතහැකිය. කෙසේද? ධම්මකාමො යමෙක් දශකුසල කර්මපථ ධර්මය අසා එයට කැමතිවන සතුටුවන එයට අනුරූප වූ ප්‍රතිපත්තියෙහි හැසිරෙන තැනැත්තේ වැඩෙන්නේ නොපිරිහෙන්නේ වෙයි. හෙතෙම එම ප්‍රතිපත්තිය දැන ද අසා ද මෙසේ පිළිපන් බැවින් වැඩෙන්නේ වේයයි දැන ගතයුතු හෙයින් හැඳිනගැනීම පහසු වෙයි. ඒ දසකුසල ධර්මයට ද්වේෂීව, නොසතුටුව නොඅසා තදනුරූප ප්‍රතිපත්තියෙහි නොහැසිරෙන්නේ පැරදුනේ පිරිහුනේ විනාස වූයේ වෙයි. හෙතෙම මෙම ප්‍රතිපත්තිය දැක ද අසාද මෙසේ නොපිළිපන් බැවින් පිරිහේ යයි දැනගැනීම් වශයෙන් මනාසේ දැනගන්නේ වෙයි.

ඉක්බිති එම දේවතා තෙම භාග්‍යවතුන් වහන්සේගේ භාෂිතයට සතුටුවෙමින් කීහ. ඉතිහෙතං යන මෙහි අර්ථය නම්:- මේ පරිහානි කාරණය වදාළ පරිද්දෙන් දැනගතිමු. ගතිමු ධාරණය කරමු. දැනගැනීමට විමසූ පරාභව කාරණා අතුරෙන් මේ ධර්මය විරුද්ධ ලක්ෂණ ඇති

පරාභව හේතුව පළමුවැන්න වේ. මෙසේ සතුටුව ඉන් මත්තෙහි දැනගනු කැමැත්තේ ඇසීය. දුතියං භගවා මෙයින් මතුද, මේ නයින්ම අර්ථය දතයුතුය. යම්හෙයකින් සත්ත්වයන්ගේ නානාවිධ වූ පරිහානි මුඛයෝ වෙත්ද, එකක් නොවේ. දෙකක් නොවේ. එබැවින් ඒවා දැක්වීමට **අසනකසස පියා හොනකි** යනාදිය වදාළහ.

එහි අසාන්තයෝ නම්, ෂට් ශාස්තෘහුය. එයින් අන්‍ය වූ අසාන්ත වූ කාය-වචී-මනෝ කර්මයන්ගෙන් යුක්ත වූ ඔවුහුද අසාන්තයෝ මැයි. අසත්පුරුෂයන් ප්‍රිය වෙත්. සත්පුරුෂයෝ නම්, බුද්ධ-පසේබුද්ධ-බුද්ධසාවකයෝ වෙති. එයින් අන්‍ය වූ ද උපසාන්ත කාය-වචී-මනෝ කර්මයන්ගෙන් යුක්ත වූ, ඒ ශාන්ත වූවෝ (අසාන්ත වූවන්) ප්‍රිය මනාපයන් න කුරුතෙ පියාං මෙහි වෙනෙය්‍ය වශයෙන් වචන භේද කරන ලද්දේ යයි, දතයුත්තේය. නැතහොත් ප්‍රියභාවය ඇත්තා වූ සතුටු භාවය ඇත්තා වූ සත්පුරුෂයන් න කුරුතෙ පියං ප්‍රිය නොකෙරේ. සේවනය නොකෙරේ යන අර්ථයි. අසතං ධම්මං දෙසැට මිථ්‍යාදෘෂ්ටිය හෝ දස අකුසල කර්මපථ හෝ ඔහුට රුචි වේ. ප්‍රිය වේ. මෙසේ මෙම ගාථාවෙන් අසත්පුරුෂ ප්‍රියතාව, සත්පුරුෂ අප්‍රියතාව අසද්ධර්මයට ප්‍රියකිරීම යන කරුණු තුන පිරිහීමේ මුඛ වශයෙන් වදාරණ ලදී. එයින් යුක්ත වූ පුද්ගලතෙම පිරිහෙයි. මෙලොවදී හෝ පරලොවදී අභිවෘද්ධියට නොපැමිණේ. එබැවින් පිරිහීමේ මුඛයයි කියන ලදී. නිද්දාසීලී යනුවෙන් යමෙක් හිඳින්නේ ද, සිටින්නේ ද නිදන්නේ ද, නිදන්නේම වෙයි ද සභාසීලි බොහෝදෙන රැස්ව කථාකරන කල්හි එහි ඇලුනේ වේද, යෙදුනේ වේද, අනුට්ඨාතා විරිය තෙද රහිත වූයේ ද, උට්ඨාන විරියෙන් යුක්ත නොවූයේ ද, අනුන් විසින් චෝදනා කරනු ලබන්නේ ගිහි වූයේම ගිහියන් සම්බන්ධ වැඩද පැවිදි වූයේ ම පැවිද්දන් සම්බන්ධ වැඩ ද, ආරම්භ නොකෙරේ. අලසො උපතින් අලස, සිටි තැන සිටියේම වෙයි. හුන්තැන හුන්නේම වෙයි. තමන්ගේ උත්සාහයෙන් අන් ඉරියව්වකට නොපැමිණේ. රථයාගේ කොඩිය මෙන් ක්‍රෝධය සලකුණුකොට ඇත්තේනුයි, කොධ **පඤ්ඤාණො** නම් වේ. ද්වේෂ චරිතයෙකි. වහා කිපේ. ව්‍රණයකට සමාන සිත් ඇත්තේ මෙබඳු වෙයි. මෙම ගාථාවෙන්, නිද්දාසීලිතා ආදී පංචවිධ පරාභව කියන ලදී. එයින් සමන්විත වූ ගිහියෙක් අභිවෘද්ධියට නොපැමිණේ. පැවිද්දෙක් පැවිද්දා පිළිබඳ කාර්යයන්හි දියුණුවට නොපැමිණේ. ඒකාන්තයෙන් පරිහානියටම පැමිණේ. ජනක වූ මාතරං පිතරං වා මව්පියන් **ජිණ්ණකං** ශරීර දුබලතාවෙන් ගතයොබ්බනං යොවුන් බව ඉක්ම වූ, අසූ වයස්

ඇත්තේ හෝ අනූ වයස් ඇත්තේ හෝ, තමන්ගේ වැඩ කරගැනීමට අපොහොසත් වූ පහුසනෙතා පොහොසත් බවට පැමිණ සුවසේ ජීවත්වනු ලබන්නා වූ තමා විසින් මෙම ගාථාවෙන් මව්පියන් පෝෂණය නොකිරීම, එක් පරාභව මුඛයක් වශයෙන් කියන ලදී. ඉහත දැක්වූ කරුණුවලින් සමන්විත වූයේ මව්පිය උපස්ථානයෙහි ආනිසංසවලට නොපැමිණෙයි. තමන්ගේ මව්පියන් පෝෂණය නොකරන්නේ නම් අන් කවරෙකු පෝෂණය කරන්නේ දැයි නින්දාවට ද (මෙරමාගේ) වර්ජනයට ද දුගතියට ද පැමිණෙන්නේ පිරිහීමට පත් වන්නේමය.

පාපයන් බහාතැබූ බැවින් බ්‍රාහමණ නම් වේ. සමණය කළබැවින් ශ්‍රමණ නම් වේ. බමුණු කුලයෙන් පැවැත එන්නේ බ්‍රාහ්මණයි. ප්‍රව්‍රජ්‍යාවට පත්වූයේ ශ්‍රමණයි. ශ්‍රමණ බ්‍රාහ්මණ කෙනෙකු හෝ අන් කිසිවක් ඉල්වන යාචකයෙකු හෝ මුසාවාදෙන වඤ්චෙති 'ස්වාමීනි, කියන්න යයි ප්‍රත්‍යයෙන් පවරා ඉල්ලූ කල්හි හෝ එකඟ වී පසුව නොදීමෙන් හෝ බොරු කීමෙන් හෝ මෙයින් වංචා කිරීම එක් පරාභව මුඛයකැයි කියන ලදී. මෙයින් යුක්ත වූ තැනැත්තේ මෙලොවදී නින්දා ලබයි. මරණින් මතු දුගතිගාමී වේ. සුගතියක් බලාපොරොත්තු වුවත් විපත්වලට පැමිණේ. මින් පිරිහීමට පත් වේ.

පහූතවිත්තෙතා බොහෝ රන් රිදී මිණිරුවන් ඇත්තේ, සහිරඤ්ඤා බොහෝ කහවනු සහිත වූ සභොජනො නොයෙක් සූපව්‍යඤ්ජනයෙන් බොජුන් ඇති, එකො භුඤ්ජති සාදූනී භෝජනයන් තමන්ගේ පුත්‍රයන්ට ද නොදී සැඟවුන ස්ථානයක සිට අනුභව කෙරේ ද, මෙම භෝජනයෙහි මසුරුබව එක් පිරිහීම් දොරටුවකි. එයින් යුක්ත වූයේ නින්දා ද ලබයි. අනුන් විසින් වර්ජනය කටයුතු බවද දුගතියට පැමිණෙයි. කියන ලද ආකාරයෙන් සියල්ල සුත්තානු සාරයෙන් යෙදිය යුතුයැ.

ජාතිත්ථද්ධො මම ජාති සම්පන්නයෙකැයි ජාතිය නිසා මානය උපදවා, වාතයෙන් පිරුණු පසුම්බියක් මෙන් මානයෙන් පිම්බී කිසිවෙකුට හිස නොනමයි. ගොත්ත ධන පිළිබඳවද මේ ක්‍රමයමැයි. මෙය වස්තු වශයෙන් සිවුවැදෑරුම් වේ. ලක්ෂණ වශයෙන් එකම පිරිහීමේ දොරටුවක් වේයයි දක්වන ලදී.

ඉත්ථිධුත්තො ස්ත්‍රීන් කෙරෙහි ඇලුනේද, යමක් තමා සතු වේද, ඒ

සියල්ල දී නැවත නැවත ස්ත්‍රීන්ගේ සිත් ගන්නේ ද, සංග්‍රහ කෙරේ ද, එසේම තමා සන්තක සියල්ලම දී රා බීමෙහි ඇලුනේ වේද, ඒ සුරාධුත්ත නම් වේ. හඳිත හිණපිළි පවා උකස්කොට තබාත් දූකෙළියෙහි ලොල් වූයේ අක්ඛධුත්ත නම් වේ. ලද්ධං ලද්ධං විනාසෙති ලද ලද යම්කිසි වස්තුවක් ඒ ඒ තැනකදී වියදම් කිරීමෙන් නසාද, යථෝක්ත කාරණා තුන ඔහට පිරිහීම් මුඛයයි වදාරණ ලදී.

සෙහි දාරෙහි තමාගේ භාර්යාවන් හේතුකොට (සතුටු නොවූයේ) එම පුරිස තෙම වෛශ්‍යාවන්ට ධනය දෙමින් පරදාර සේවනය කිරීමෙන් රාජ දණ්ඩ ආදිය හේතුකොට පිරිහෙයි. (වෛශ්‍යාවන් කෙරෙහි හා පර ස්ත්‍රීන් කෙරෙහි යන ද්විප්‍රකාර කරුණාව පිරිහීමට කාරණයයි වදාළ සේක.

අතීත යොබ්බනො යෞවනය ඉක්මවා, අසූවයස් හෝ අනූවයස් හෝ ඇතිව, ආනෙති, සරණ පාවාගනී ද, තිම්බරුත්ථනිං, තිඹිරි එල වැනි පියයුරු ඇති දැරියක් පාවාගනීද තස්සා ඉස්සා න සුපති ළදැරිය හා මහල්ලා හා අතර කාමරතියක් සහවාසයක් නොවන හෙයින් ළදරුවකු පතාදෝ හෝ ඊර්ෂ්‍යාවෙන් ඇය රක්තේ නොනිදන්නේද? ඒ යථෝක්ත කාරණය කාමරාගයෙන් හා ඊර්ෂ්‍යාවෙන් නොනිදන්නේ ගොවිතැන් වෙළඳම් ආදී පිටත කර්මාන්ත නොයෙදීමෙන් ඔහට පිරිහීමට කාරණයකැයි වදාළ සේක.

සොණ්ඩිං මත්ස්‍ය, මාංස හා සුරාවෙහි ලොල්වූ විකරණං ඒ මස් මාංසාදිය නිසා සම්පත් පස් මෙන් විසුරුවන්නා වූ නැතහොත් නසන සුලු වූ, එබඳු (පුරුෂයෙකු හෝ ස්ත්‍රියක්) ඉස්සරියස්මිං ඨපෙති යතුරු මුද්‍ර ආදිය දී භාණ්ඩාගාරාදියෙහි හෝ කර්මාන්තාදියෙහි වෙළෙඳම් ආදියෙහි හෝ ඉසුරු බවෙහි තබාද, ඔහුගේ ධනහානි වන හෙයින් පිරිහීමට එය ඔවුන්ගේ කාරණයයි වදාළ සේක.

අප්පභොගො රස්කොට තබනලද භෝග කෙනෙකුගේද අය මුඛයක් නැති හෙයින් මද වූ උපභෝග පරිභෝග වස්තුවක් ඇති. මහාතණ්හා මහත් වූ භෝග තෘෂ්ණාවෙන් යුක්ත වේ. ලැබෙන දෙයින් සතුටු නොවන, ඛත්තියෙ කුලෙ ක්ෂත්‍රියයන්ගේ කුලයෙහි උපදීද, ඒ ක්ෂත්‍රිය ජාති ඇති අල්පභෝග මහා තණ්හා ඇත්තෙක් තමා සතු වූ හෝ තමාට නොලැබෙන,

අනුසතු වූ හෝ රාජ්‍යය හෝ ප්‍රාර්ථනා කෙරේද, ඒ යථෝක්ත රාජ්‍යපැතීම ඒ අල්පභොගිය ස්වල්ප වූම ධනය යුද හමුදාවන්ට යෝධයන්ට දී නස්නා හෙයින් පිරිහීමට කාරණ වේයයි වදාළ සේක.

මෙයින් මතු දේවතාවා යමක් විමසුවේ නම් ඒ සියල්ල භාග්‍යවතුන් වහන්සේ විසඳූහ. මෙහිදී මා තවත් කරුණු විමසන්නේ වී නමුත් බුදුහු එය විසඳ වදාරන්නේම යයි, එබැවින් ඇසිය යුතු වෙනත් කරුණක් නැතැයි නිශ්ශබ්ද වූයේය.

එහි **පණ්ඩිතො,** විමසන නුවණින් යුක්ත වූ ප්‍රඥා ඇත්තේ, **අරියොති.** මාර්ග ඵලාධිගමයකින්, ආර්ය නොවූවත් මේ පරාභව මුඛයයි කියන ලද අකාරණයෙහි නොපවත්නා හෙයින් ආර්ය වූ යම් දර්ශනයකින් පරාභව කරුණු දැක වලකීද? එම වැලකීමෙන් යුක්ත වූයේ **දසසන සමපනෙනා සලොකං භජතෙ සිවං** ඒ දර්ශන ඥාණයෙන් යුක්ත වූ ඒ ප්‍රඥාවන්ත පුද්ගල තෙමේ ක්‍ෂේම වූ උතුම් වූ උවදුරු රහිත දිව්‍යලෝකය සේවනය කරන්නේය. දේසනාවගේ අවසන පිරිහීම් මුඛ අසා උපන් සංවේගයට අනුරූප වූ උත්සාහ කොට සෝවාන් - සකෘදාගාමී අනාගාමී පලයන්ට පැමිණියා වූ දේවතාවෝ ගණන් පථය ඉක්මවූවාහුය.

මෙසේ කියන ලදී.

**මහාසමය සුතෙත ච අථොමංගල සුතතකෙ**
**සමචිතෙත රාහුලොවාද ධමම චකෙක පරාභවෙ**

**දෙවතා සමති තසා අපපමෙයා්‍ය අනපපිකා**
**ධමමාභි සමයොවෙසා, ගණානාතො අයංබියො**

(මහාසමය මංගල සමචිත්තපරියාය රාහුලෝවාද ධමම චක්ක පරාභව යන සූත්‍ර දේසනා කරන අවස්ථාවේ රැස් වූ දෙවියෝ අප්‍රමාණයහ. බොහෝය. එහිදී ධර්මාභිසමය ලැබූවන්ගේ ගණන් වශයෙන් අසංඛ්‍ය වෙත්.)

**පරාභව සූත්‍ර වර්ණනාව**
**නිමි.**

# 25.

අගගපපසාද සුත්‍රයෙහි

වුත්තං හෙතං භගවතා වුත්තමරහතා, මෙහි වුත්ත ශබ්දය කථනයෙහි දතයුතුයැ. එබැවින් කියන ලද්දේය යන අර්ථයි. හි ශබ්දය පහලවේනුයි ප්‍රකටවේනුයි යන මේ අර්ථයෙහි නිපාතයකි. එය දැන් කියනු ලබන සූත්‍රයාගේ භාග්‍යවතුන් වහන්සේ ප්‍රකට ලෙස දේසනා කළ බව පැහැදිලි කරයි. එතං යන මෙයින් කියනු ලබන්නා වූ ආසන්න වූ ප්‍රත්‍යක්ෂය දතයුතුය. සංගායනා වශයෙන් වනාහි කියන සූත්‍රය ධර්ම භාණ්ඩාගාරික විසින් මනසෙහි ධාරණයකොට සිට එතං යනුවෙන් කියන ලදී. භගවතා යනුවෙන් විශිෂ්ට වූ ගුණ ඇති උත්තම සත්ත්ව වූ ආචාර්ය ගෞරවයට පාත්‍ර වූ මෙම සූත්‍රයෙහි දේශකයාණන් වූ, සම්මා සම්බුද්ධරදුන් දක්වයි. අරහතා ක්ලේශයන්ගෙන් දුරුවීම ආදී වූ කාරණයන්ගෙන් භාග්‍යවතුන් වහන්සේ අරහ යයි කියනු ලැබේ. ඒ භාග්‍යවතුන් වහන්සේ විසින් කුමක් හෙයින් මෙහි වුත්තං හෙතං භගවතා යනුවෙන් කියා නැවත වුත්ත මරහතා යයි කියන ලද්දේද? (අනුසසව පටිකෙබයායෙන්) පරම්පරා කථාව ප්‍රතික්ෂෙප කිරීමෙන් නියමය දක්වනු පිණිසය. යම්සේ යමෙකු විසින් අනුන්ගෙන් අසා කියන ලද්දේද, ඒ සඳහා කියන ලද්දේද නොවේ. යලිදු අසන ලද්දේම වෙයි. මෙය මෙහි භාග්‍යවතුන් වහන්සේ විසින් මෙසේ නොවදාරණ ලදී. එය වනාහි අර්හත් සම්මා සම්බුද්ධරදුන් විසින් අනුන්ගෙන් නො අසා ස්වයම්භූඥානයෙන් තමන් විසින් අවබෝධ කරන ලද්දේම වදාරණ ලද්දේ යයි යන මේ විශේෂය දක්වනු පිණිස දෙවරක් වදාරණ ලදී. අධික වචනය අන් අර්ථයක් දක්වයි. එබැවින් පුනරුක්ති දෝෂයක් නොවේ. ආපසු පෙරලිය නොහැකි වචනයන්ගේ ස්වභාවය දක්වනු පිණිස හෝ, යමක් භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරණ ලද්දේ ද, එය වදාරණ ලද්දේම වෙයි. එය ප්‍රතික්ෂෙප කිරීමට සමත් වූ ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ දෙවියෙක් හෝ මාරයෙක් හෝ බ්‍රහ්මයෙක් ලොව නැත්තේමය. අසන්නන්ට අර්ථය දනවන බව දැක්වීමට හෝ යමක් වනාහි මෙරමාගේ ආසය ආදිය නොදන්නා වූ නොසුදුසු දේශයෙහි අකාලයෙහි හෝ කියන ලද්දේ ද එය සත්‍ය වුවත් අසන්නන්ට අරුත් පහලවීමෙහි අසමර්ථ වේද, එය නොකියන ලද්දේ වෙයි. භාග්‍යවතුන් වහන්සේ වනාහි ආසය කුසලතාව නිසා ද දේසකාලද, අර්ථ සිද්ධියද දන්නා බැවින් කියන ලද්දේ වෙයි. අසන්නවුන්ට අපේක්ෂිත අර්ථය දනවන

බැවින් ද කියන ලද්දේම වෙයි. ඔහුට අවුත්න පරියායෙක් නැත. ආර්යයන් විසින් අවිරුද්ධභාවය දක්වනු පිණිස හෝ යම්සේ කියන ලද ද, එය භාග්‍යවතුන් වහන්සේ ද එසේමය. ඉන් අපර භාගයෙහි අර්හත් ආර්ය සංඝයා විසිනුදු කියන ලද්දේ වෙයි යනුයි.

ඉති මෙ සුතං යන මෙහි ඉති ශබ්දය, ප්‍රකාර නිදර්ශන අවධාරණ යන අර්ථයන්හි දතයුතුයැ. එහි ප්‍රකාර අර්ථයෙහි 'ඉති' ශබ්දයෙන් මෙම අර්ථය දක්වයි. නානා නය නිපුණ වූ අනෙක අජ්ඣාසය සමුට්ඨානකොට ඇති අර්ථයෙන් හා ව්‍යඤ්ජනයෙන් පරිපූර්ණ වූ විවිධ දේශනා පාටිහාර්ය ඇති ධර්ම අර්ථ දෙදෙනාගේ පටිවේධ ගම්භීරතාවයෙන් යුක්ත (ධර්ම දේශනය) සියලු සත්ත්වයන්ට තම තම භාෂා ස්වරූපයෙන් සවන පථයට වැටෙන්නා වූ ඒ භාග්‍යවතුන් වහන්සේගේ වචනය සර්වප්‍රකාරයෙන් දැනගැනීමට කවරෙක් සමර්ථද? සියලු උත්සාහයෙන් අසනු කැමැත්ත උපදවා ඉති මෙ සුතං එක් ආකාරයකින් අසන ලද්දේ යයි කියායි. නිදර්ශනාර්ථයෙන් 'මම ස්වයම්භූ නොවෙමි' මවිසින් මෙය සාක්ෂාත් කරන ලද්දේ නොවේයයි තමා එය මුදවන්නේ ඉති මෙ සුතං මෙසේ අසන ලද්දේ යයි දැන් කිවයුතුය. මුළු සූත්‍රයම නිදර්ශන වශයෙන් දක්වයි. අවධාරණාර්ථයෙන්:- 'එතදග්ගං භික්ඛවෙ මම සාවකානං භික්ඛූනං බහුස්සුතානං යදිදං ආනන්දො ඉති.

මහණෙනි, යම් ආනන්ද නම් මහණ කෙනෙක් වේද, බොහෝ ඇසූපිරූ තැන් ඇති, මගේ ශ්‍රාවක මහණුන් අතරෙහි මෙතෙම අග්‍රවෙයි. මේ ආනන්ද නම් මහණ කෙනෙක් වේද, ධාරණ ශක්තිය ඇති මහණුන් අතරෙහි, ප්‍රඥා ඇති මහණුන් අතරෙහි, ධෘතිමත් වූ මහණුන් අතරෙහි උපස්ථායක වූ මගේ මහණුන් අතරෙහි උපස්ථායක වූ මගේ මහණුන් අතුරෙහි මෙතෙම අග්‍රවෙයි' මෙසේ භාග්‍යවතුන් වහන්සේ විසින් 'ආයුෂ්මත් ආනන්ද තෙම, අර්ථ කුසලය, ධර්ම කුසලය, ව්‍යඤ්ජන කුසලය නිරුක්ති කුසලය, පූර්වාපර කුසල. දම්සෙනෙවි තෙරුන් විසින් ද ප්‍රශංසා කරන ලද්දේ, තම ධාරණ ශක්තිය, දක්වන්නේ සත්ත්වයන්ගේ අසනු කැමැත්ත උපදවයි. මෙසේ මා විසින් අසන ලදී. එය අර්ථ වශයෙන් ද බ්‍යඤ්ජන වශයෙන් ද නොඅඩු නොවැඩි වූ මෙසේම වූ අන් අයුරකින් නොවුයේ යයි දතයුතු යයි දක්වයි. මෙ ශබ්ද තෙමේ මවිසින් අසන ලද්දේ යයි ද මගේ ඇසීම යයි ද අර්ථ දෙක මෙහි යෙදේ. සුත ශබ්දයාගේ

සෝතද්වාරයාගේ අනුසාරයෙන් සලකා බැලූ යයි ද, සලකා බැලීම යයිද අර්ථයන් මෙහි යෙදේ.

එහි ඉති මෙ සුතං මා විසින් සෝතද්වාරානුසාරයෙන් සලකා බලනලද, මගේ ඇසීම සෝතද්වාරානුසාරයෙන් සලකා බලන ලදැයි. යන දෙඅයුරින්ම අර්ථ දත යුත්තේය. මෙහි අසන ලදී. කවර හෙයකින් මෙහි අනිකුත් සූත්‍රවල මෙන් 'එවං මෙ සුතං එකං සමයං' යනාදිය මෙන් කාල දේස නොදක්වා මෙසේ නිදාන දක්වන ලද්දේ ද යත්? එහිලා අනිකෙක් කීහු. අනඳ තෙරුන් විසින් නොකියන ලද බැවිනි. මෙය වනාහි ඛුජ්ජුත්තරානම් උපාසිකාව විසින් කියන ලදී. ඕ තොමෝ වනාහි කල්ප ලක්‍ෂයකට මත්තෙහි, පදුමුත්තර නම් බුදුරදුන් දවස බහුශ්‍රැත වූ උපාසිකාවන් අතුරෙහි, අගබවට පැමිණ, අපගේ බුදුරජාණන් වහන්සේගේ කාලයෙහි උදේන රජුගේ ඇතොවුරෙහි, සාමාවතිය ප්‍රමුඛ ස්ත්‍රීන් පන්සියයකගේ දාසිවූවද, මච්ඡනතුරෙහි සිට සෝවාන් වූවා පිළිසිඹියාවට පැමිණියාහු, බුදුරදුන් කොසඹෑ නුවර වැඩවසන සමයෙහි, කලින් කල බුදුරදුන් වෙත එළඹ බණ අසා, ඇතොවුරට අවුත් එම ස්ත්‍රීන්ට බුදුරදුන් දෙසූ න්‍යායෙන් ඇසූ පරිදි ධර්මය දේසනා කරත්. තමන් මුදා, වුත්තං හෙතං භගවතා වුත්තමරහතාති මෙසුතං යනුවෙන් නිදානය තැබීය. එබැවින් එම නගරයෙහි භාග්‍යවතුන් වහන්සේ හමුව, එය සිදුවිය. එදිනම ඇය විසින් ඔවුන්ට කියන ලදී. එබැවින් 'එකං සමයං භගවා කොසම්බියං' යනුවෙන් කාලදේස දැක්වීමෙහි ප්‍රයෝජනයක් නොමැත. ප්‍රකට බැවිනි. භික්‍ෂුණීහු ඇය හමුවෙහි දී මෙම සූත්‍රය අසා දැනගත්තාහුය. මෙසේ පරපුරෙන් එන්නා වූ භික්‍ෂූන් වහන්සේලා පිළිබඳව ද, ඇය විසින් තබන ලද නිදානය ප්‍රකටය. අනඳ තෙරුන් වහන්සේ ද ධම්ම සංගායනාව පවත්වන සේක් මෙම සූත්‍රයාගේ ඇය විසින් තබන ලද නිදානයම තැබීය. නමුත් නානානයින් සංගීතිකාර මහතෙරවරු මනාලෙස නානා නයින් ධර්මවිනයාගේ සංගායනා කාරය දන්නාහු, කිසිතැනක එවං මෙසුතං යනුවෙන් ද තැනෙක 'තෙන සමයෙන' යනාදී නයින් ද කිසිතැනක ගාථා බන්ධන වශයෙන් ද නිදාන තබමින්, සංගායනා කළාහුය. මෙසේ කියන ලද්දහුට අන්‍ය වූ ඒ සඳහා නිමිත්තක් නොහැගේ. වුත්තං හෙතතං -පෙ- සුත්ත යන මෙම කියන ලද්ද හැර මේ වචනය එබැවින් කියන ලදී. අටුවා ඇදුරෝ 'වුත්තං හෙතං භගවතා' ආදී නයින් පැවතුනා වූ එකසිය දසයකට අධික සූත්‍රාන්තයෝ ඉතිවුත්තකනම් වන්නාහුය. දැන් වනාහි, 'තමයා මෙ භිකඛවෙ අගගපපසාදා' මහණෙනි, මේ අග්‍ර වූ

පැහැදීම් තුන්දෙනෙක් වෙත් යනුවෙන් ඉදිරිපත් කරන ලද සූත්‍රයාගේ අරුත් දතයුතුයැ.

එහි අගගපපසාදා අග්‍ර වූ ශ්‍රේෂ්ඨ වූ පැහැදීම් අග්‍රභූත වූ හෝ පැහැදීම් එහි පළමු අර්ථයෙහි අගග ශබ්දයෙන් 'රත්නත්‍රය' කියනු ලැබේ. ඔවුන් අතුරෙහි භාග්‍යවතුන් වහන්සේ පළමුකොට අසදෘශ අර්ථයෙන් ද ගුණ විසිටඨ අර්ථයෙන් ද අසම සම අර්ථයෙන් ද අගග නම් වේ. එය වූ කලී අභිනීහාරය පටන් දශ පාරමී ධර්මයන්ගේ විශේෂ පුරුද්ද ද ආදිකොට බෝධි සම්භාර ගුණය මෙන්ම බුද්ධ ගුණයෙන් ද, සෙසු ජනයාට වඩා අසදෘශ වූයේනුයි අසදෘශ අර්ථයෙන් අගග නම් වේ. යම් බඳු වූ එහුගේ මහාකරුණා ආදි ගුණයෝ, සෙසු සත්ත්වයන්ට වඩා ගුණයෙන් විශිෂ්ඨ වූයේ නුයි. ගුණ විශිෂ්ඨ හේතුවෙන් ද සියලු සත්ත්වයන්ට වඩා උසස් බැවින් අගග නම් වේ. ඒ කලින් පහලවූ බුදුවරයන් වහන්සේලා සියලු සත්ත්වයන් හා අසමය. ඔවුන් සමග මෙතෙම රූපකාය ගුණයෙන් ද, ධම්මකාය ගුණයෙන් ද සමවූයේනුයි අසම සම අරුතින් අගග නම් වේ. දෙවනුවද මෙහි කියන ලද බුදුවරයන් විෂයෙහි, උපතින් අගග භූත වූවාහු පැහැදීම වේ. අග්‍ර වූ විපාක ඇතිබැවින් ද අගග පසාද නම් වේ. එහෙයින් කියන ලදී. අගෙග බො පනපසනනානං අගෙගා විපාකොති යවතා භිකඛවෙ සතතා යනාදි වචනයෙන්, කාම, රූප, අරූප භව, එකවොකාර, චතුවොකාර, පංචවොකාර භව, සඤ්ඤී අසඤ්ඤී, නේවසඤ්ඤී නාසඤ්ඤී භව යනාදි නවවිධ භවයන්හි සත්ත්වයන් ඉතිරි නොකොට ධර්මරාජයන් වහන්සේ ගෙනහැර දැක්වූ සේක. තෙසං අගගමකඛායති යනු නිර්ධාරනාර්ථයෙහි සාමි වචනයි. මකාරය පද සන්ධිය සඳහාය. අග්‍රයයි කියයි යනු පදවිභාගයි. අගෙගා විපාක අග්‍ර වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේ කෙරෙහි, පහන් වූවන්ගේ යම් පැහැදීමක් වේද, එය අග්‍රය. ශ්‍රේෂ්ඨය. උතුම් කෙලවරට පැමිණියේය. එහි විපාකයද අග්‍රය. ශ්‍රේෂ්ඨය. උත්තමය. කෙළවරට පැමිණියේය. උළාරතමය පණීත තමය එය ලෞකික ලෝකෝත්තර වශයෙන් දුවිධ වේ. ඔවුන් අතුරෙන් පළමුකොට ලෞකික සරණාගමනය,

**යෙ කෙචි බුද්ධං සරණං ගතාසෙ නතෙ ගමිසසනති අපාය භූමිං පහාය මානුසං දෙහං දෙව කායං පරිපූරෙසසනති**

**(යම්කිසි කෙනෙක් බුදුරදුන් සරණ ගියාහුද, ඔවුහු අපායට නො යන්නාහු මිනිස් සිරුර හැර පියා දෙව්පිරිස සපුරාලන්නාහ.)**

**බුද්ධොති කිත්තයන්තස්ස යස්සකායෙ භවති පීති**
**වරමෙව හි සා පීති, කසිනෙන පි ජම්බුදීපස්සා**

(බුද්ධ යයි පවසනවිට යමෙකුගේ සිරුරෙහි යම් ප්‍රීතියක් වේද, එම ප්‍රීතිය දඹදිව පුරා පැතිරවිය හැකි කසිණයකට වඩා උතුම් වේ.)

**සතං හත්ථී සතං අස්සා, සතං අස්සතරී රථා**
**සතං කඤ්ඤා සහස්සානි, ආමුත්තමණි කුණ්ඩලා**
**එකස්සපද වීතිහාරස්ස කලං නාග්ඝන්ති සොළසිං**

(සියදහසක් ඇත්තු ද සියක් දහසක් අස්හු ද, සියක් දහසක් අශ්වතරියෝ ද, මිණිකොඩොල් අබරණින් සරසන ලද සියදහසක් කන්‍යාවෝ ද (බුදුන් දක්නට යන්නහුගේ) එක් පියවරක් පිළිබඳ සොලොස්වෙනි කලාවෙන් කාලාවකුදු නො අගී.)

දේවේන්‍ද්‍රය, බුදුරදුන් සරණ ගියේ වේද, සාධු, මැනවි. දේවේන්‍ද්‍රයා බුදුරදුන් සරණයාම හේතුකොටගෙන මෙසේ මෙහි ඇතැම් සත්ත්ව කෙනෙක් කාබුත් මරණින් මතු සුගති සංඛ්‍යාත දෙව්ලොව උපදිත්. ඔවුහු අනිකුත් දෙවියන් කරුණු දශයකින් ඉක්මවත් දිව්‍යමය ආයුසින් ද, දිව්‍යමය වර්ණයෙන් ද, දිව්‍යමය සැපයෙන් ද දිව්‍යමය යසසින් ද දිව්‍යමය ආධිපත්‍යයෙන් ද යනුයි. රූප, ශබ්ද, ගන්ධ, රස, ඵොට්ඨබ්බ ධර්මයන්ගෙන්ද යනුයි. මේ ආදි සූත්‍රපදයන්ගේ වශයෙන් ඵල විශේෂ දතයුත්තේය. එබැවින් හෙතෙම අපාය දුක වැලැක්වීමත් සමග සියලු භවයන්හි උළාර විපාක දායක වේයයි දතයුත්තේය. ලෝකෝත්තර වශයෙන් සාමඤ්ඤඵල විපාක දායකව වට්ට දුක්ඛය නවත්වන්නේ ද වේ. මෙම පැහැදීම දෙවැදෑරුම් වේ. පරම්පරාගත වට්ට දුකඛය නවත්වන්නේම වේ.

ධම්මා ස්වභාව ධර්මයයි. සංඛතා සමෙච්ච සම්භූය්‍ය පච්චයෙහි කතාති - සංඛතා හෙතු ප්‍රත්‍යයන්ගේ එක්වීමෙන් කරණ ලද්දේ සංඛත නම් වේ. හේතුහිචෙච පච්චයෙහිම නකතාත - අපඩඛතා හේතුන්ගෙන් ද ප්‍රත්‍යයන්ගෙන් ද නොකරන ලද්දේ අසංඛත නම් වේ. අප්පච්චය නිබ්බාන සංඛත ප්‍රතියෝගයන්ගේ අභාවයෙන් බහුවචනයෙන් තබන ලදී. **අග්ගමක්ඛායති,** ඒ විරාගය (නිවන) ස්වභාවයෙන්ම සණ්හ සුඛුම භාවයෙන්ද සන්තතර, පණීතතර, භාවයෙන් ද ගම්භීර භාවයෙන් ද මද

නිම්මදනාදි භාවයෙන් ද අග්‍රය. ශ්‍රේෂ්ඨය. උත්තම යයි කියනු ලැබේ. මදනිම්මදනො යනු නිවනට සමාන අර්ථ ඇති වචනයකි. එසේම එයට පැමිණ මාන මද පුරිස මද ආදි වූ සියලු මදයෙන් නිමවද මදරහිත බවට පැමිණේ. කාම පිපාසා ආදිය දුරුව යත්. කාම ආලය ආදිය මුලිනුපුටා දමයි. කම්ම කිලෙස විපාක වට්ටයෝ නැතිව යත්. තණ්හාව ගෙවී යයි. කිලේසයෝ පහව යෙත්. සියලු දුක් නිරුද්ධ වෙයි. එබැවින් මදනිම්මදනො -පෙ- නිරොධො යනුවෙන් මද නිම්මදනය -පෙ- නිරෝධයයි කියනු ලැබේ. ඒ මේ තෘෂ්ණා තොමෝ භවයෙන් භවයට, ඵලයෙන් කර්මයට නැමේය. සම්බන්ධ කෙරෙයි නුයි මාන යයි කියනු ලැබෙයි. එය එහි නැත. එහි යෙදුන (ආර්ය මාර්ගයෙහි) ආර්ය පුද්ගලයාට එය නොවේනුයි නිබ්බාන නම් වේ. අගෙගා විපාකො යන මෙහි ද 'යෙ කෙචි ධම්මං සරණං ගතාසෙ' යමෙක් දහම් සරණ ගියේ ද, ධම්ම යයි කීර්තනය කරන යමක්හුගේ සිරුරෙහි ප්‍රීතියක් වේද, මැනව දේවනම්නැය, දහම් සරණයාමක් වේද, -පෙ- දිව්‍යමය ඓාට්ඨබ්බය යනාදි ඉහත දැක්වූ සූත්‍රපදයාගේ වශයෙන් ධර්මයෙහි පැහැදීම පිළිබඳ ඵලවිශේෂ දතයුතුය. මෙසේ මෙහි සියලු සංඛත ධර්මයන්ගේ නිස්සරණය දැක්වීම පිණිසද අසංඛත ධර්මයාගේ වශයෙන් ම අග්‍රභාවය ආයේ වෙයි. ආර්ය මාර්ගයාගේ වශයෙන් ද මෙම අර්ථය ලැබෙන්නේ මය. 'යම්තාක් මහණෙනි, සංඛත ධර්මයෝ වෙත් ද ආර්ය මාර්ගය විසින් අග්‍රයයි කියයි. මාර්ගයන් අතුරෙන් ආර්ය අෂ්ටාංගික මාර්ගයම ශ්‍රේෂ්ඨයයි පැවසේ.

සංඝො වා ගණාවා ජන සමූහ සංඛ්‍යා වූ ලෝකයෙහි සංඝො වූ හෝ ගණ වූ හෝ (පිරිස් ඇද්ද) තෙසං අගග මකඛායති, යනුවෙන් තමාගේ සීල සමාධි පඤ්ඤා විමුත්ති ආදි ගුණ විශේෂයෙන් අග්‍රය. ශ්‍රේෂ්ඨය. උත්තමය. පවරය යයි කියනු ලැබේ. යදිදං යම් මේ, පුරිස පුගගලා මෙහි පුරිස පුගගල යනු ඒකාර්ථ වූ පදයෝය. වෙනෙය්‍ය හික්මෙන පුද්ගලයන් වශයෙන් කියන දී. ආහුනෙය්‍ය යනු ගෙනැවිත් පිදිය යුතු දිය යුත්ත ආහුන නම් වේ. මාර්ගඵල භාවයන් උදාකරන හෙයින් එය පිළිගැනීම සුදුසු බැවින් ආහුණෙය්‍ය වේ. නැතහොත් දුරින් අවුත් සියලු වස්තුව මෙහි පිදිය යුතුය. සත්කාර ආදියෙන් පිදීමට සුදුසු වූයේ නුයි ආහවනීය නම් වේ. බ්‍රාහ්මණයන්ගේ ආහවනීය නම් ගින්නයි. හුතය මහත්ඵල වේය යනු ඔවුන්ගේ ලබ්ධිය යි. හුතය මහත්ඵල බැවින් ආහවනීය නම් වේ. සංඝයා ද ආහවනීය නම් වේ. සංඝයා විෂයෙහි කරන ලද හුතය (පූජාව) මහත්ඵල වේ. එහෙයින් කියන ලදී.

යො ච වස්ස සතං ජන්තු අග්ගිං පරිචරෙ වනෙ
එකඤ්ච භාවිතත්තානං මුහුත්තමපි පූජයෙ
සායෙව පූජනා සෙය්‍යො යඤ්චෙ වස්ස සතහුතං

(යම්කිසි පුරුෂයෙක් වෙනෙහි වැස හවුරුදු සියයක් මුළුල්ලෙහි ගිනි පූජාව කළේ වේද, යම් පුරුෂයෙක් ශීලාදි ගුණ වසයෙන් වඩන ලද සිත් ඇති එක් ආර්ය පුද්ගලයෙකුට ඇසිල්ලක් පිදුවේ වේද හවුරුදු සියයක් මුළුල්ලෙහි කරන ලද යම් ගිනි පූජාවකට වඩා ඇසිල්ලක් ද ආර්යයන්ට කරන ලද එම පූජාව උතුම් වේ.)

නිකායාන්තරයෙහි එන මේ ආහවනීය යන පදයද, මෙහි ආහුණෙය්‍ය යන පදයද මේ පද දෙක අර්ථ වශයෙන් එකකි. ව්‍යඤ්ජන වශයෙන් නානත්වයක් ඇත. පාහුණෙය්‍යො දිසානු දිසාවන්ගෙන් පැමිණියා වූ ප්‍රියමනාප වූ ඤාති මිත්‍රයන් උදෙසා සංග්‍රහ කිරීම සඳහා පිළියෙළ කළ ආගන්තුක දානයට මෙහි 'පාහුන' යයි කියනු ලැබේ. ඔවුන් තබා එබඳු පාහුනය සංඝයාට දීම සුදුසුය. එසේ ඇතිකල්හි එක බුද්ධාන්තරයක් ඉක්ම ගියේ නමුදු ධර්මයෙහි ප්‍රියමනාප කාරයෙන් යුක්ත වූයේ යයි පෙනෙන්නේ ය. එසේම පාහුනය (=පඬුර) පිළිගැනීමට සුදුසු වූයේනුයි පාහුණෙය්‍ය නම් වේ. 'යෙසං පන පාහවනියො' යනු ද පාඨයි. ඔවුන්ගෙන් සංඝතෙම පලමු සත්කාරයට සුදුසු වේ. එබැවින් පළමුව ගෙනවුත් මෙහි හුනිතබ්බනති පිදිය යුතුවෙනුයි 'පාහවනීය' නම් වේ. සර්වප්‍රකාරයෙන් හෝ පිදීමට සුදුසු වේනුයි 'පාහවනීය' නම් වේ. හෙතෙම මෙහි එම අර්ථයෙන් ම පාහුණෙය්‍ය යයි කියනු ලැබේ. 'දක්ඛිණා යනු පරලොව අදහා දියයුතු දානයයි. එයට සුදුසුය. දක්ෂිණාවට හෝ හිතවත්ය. මහත්ඵල හේතුවෙන් දක්ඛිණෙය්‍ය නම් වේ. දෙඅත හිසෙහි පිහිටුවා සියලු ලෝකයා විසින් කරනු ලබන්නා වූ අඤ්ජලි කර්මයට සුදුසු වෙනුයි අඤ්ජලි කරණීය නම් වේ. සංඝ තෙම දෙවියන් සහිත ලෝකයාගේ පින් වැඩෙන තැනකි. සංඝයා නිසා ලෝකයාගේ නානාප්‍රකාර වූ හිතසුව ඇතිවෙයි. පුණ්‍යයෝ වැඩෙත්. එබැවින් සංඝයා පුඤ්ඤක්ඛෙත්තං ලොකස්ස මෙහි ද යෙ කෙචි සංඝං සරණං ගතාසෙ' ආදි සූත්‍ර පදයන්ගේ වශයෙන් සංඝයා විෂයෙහි පැහැදීම පිළිබඳ ඵල විශේෂ ද මෙයින් ඔහුගේ අග්‍ර බවද අග්‍ර වූ විපාක ඇති බවද දතයුත්තාහුය.

ගාථාසු සූත්‍රයෙහි එන ගාථාවල, අග්ගතො යනුවෙන් අග්‍ර වූ රත්නත්‍රයෙහි අග්‍රබැවින් පැහැදුනා වූ අග්ගං ධම්මං රත්නත්‍රයාගේ උතුම්

බව, දශබලාදි ස්වාක්ඛාත ආදි, සුපටිපන්නතාදි ගුණ ස්වභාවයන් දන්නා වූ මෙසේ සාධාරණ වශයෙන් අග්‍ර ප්‍රසාද වස්තූන් දක්වා දැන අසාධාරණ වශයෙන් විස්තර කිරීම දක්වන්ට අග්ගෙ බුද්ධෙ ආදිය කියන ලදී.

එහි **පසන්නානං** අචල ප්‍රසාදයෙන් (ගුණ දැන) ඉතරීතර ප්‍රසාදය, (වෙනත් වෙනත් ක්‍රමවලින් ඇතිකරගත් පැහැදීමෙන් පැහැදුනවුන්ගේ අධික ලෙස යෙදුනවුන්ගේ **විරාගූපසමෙ**, විරාගයෙහි ද උපසමයෙහි ද (කෙලෙසුන්ගේ නොඇලීමට හා සංසිඳීමට හේතු වූ) සියලු රාගයාගේ ද සියලු කිලේසයන්ගේ ද අත්‍යන්ත විරාගයට හේතුභූත වූ අත්‍යන්ත උපසමයට හේතුභූත වූ යන අර්ථයි. **සුඛෙ**, සංසාර දුක්ඛයාගේ අභාවයෙන් සංඛාර උපසම සංඛ්‍යාත සැපයෙහි. **අග්ගස්මිං** අග්‍ර වූ රත්නත්‍රය විෂයෙහි දන් දෙන්නවුන්ට.

එහි ජීවමාන බුදුරදුන්ට සිවුපසයෙන් උපස්ථාන කරන්නා වූ ද, පුදන්නා වූ ද සත්කාර කරන්නා වූ ද, පිරිනිවියා වූ භාග්‍යවතුන් වහන්සේ උදෙසා ධාතු චෛත්‍ය ආදියට උපස්ථාන කරන්නා වූ ද, පුදන්නා වූ ද සත්කාර කරන්නා වූ ද (මේ සියල්ලෝම) බුදුරදුන් විෂයෙහි දන් දෙනාහු වෙති. **ධම්මං පූජෙස්සාම** ධර්මය පුදන්නෙමු යයි යමෙක් ධර්මධර පුද්ගලයන් සිව්පසයෙන් උපස්ථාන කරන්නේ ධර්මය බොහෝකල් පවතින්නක් කරන්නේ ධර්මයට දන්දෙන්නේ නම් වෙයි. එසේම ආර්ය සංඝයාට සිව්පසයෙන් උපස්ථාන කරන්නාහු, ඔවුන් උදෙසා වෙනත් ක්‍රමවලින් උපස්ථාන කරන්නාහුද, සංඝයා විෂයෙහි දන්දෙන්නේ නම් වෙයි. **අග්ගං පුඤ්ඤං පවඩ්ඪති**, උළාර වූ කුසල් රැස්කරයි. දැන් පුණ්‍යයාගේ අග්‍රවිපාක බව ද අග්‍රභාවය ද දක්වන්ට අග්ගං ආයු ආදිය කියන ලදී.

එහි ආයු දිව්‍යමය වූ මානුෂිකමය වූ හෝ උළාරතම වූ ආයු වැඩෙයි. **වණ්ණ** රූප සම්පත්තිය. **යසො**, පරිවාර සම්පත්තිය, **කිත්ති** ස්තුති ඝෝෂා. **සුඛං**, කායික චෛතසික සැපය. **බලං** කාය බලයද ඤාණ බලයද, **අග්ගස්ස දාතා** අග්‍ර වූ රත්නත්‍රය විෂයෙහි දෙන්නා වූ නැතහොත් අග්‍ර වූ දෙය්‍ය ධර්මයාගෙන් දානය උළාරකොට එයින් පින්කම් කරන්නා වූ. **අග්ගධම්ම සමාහිතො** අග්‍ර වූ පසාද ධර්මයන්ගෙන් ද දානාදි ධර්මයෙන් ද යුක්ත වූවාහු **අග්ගප්පත්තො පමොදති**, යම් යම් තැනක උපදීද, ඒ ඒ තැන්වල අග්‍රභාවය ශ්‍රේෂ්ඨභාවය පැමිණියේ අග්‍රභාවයට පැමිණියේ හෝ ලොව්තුරු මගපල අවබෝධ කිරීමෙන් හෝ ප්‍රමෝද

වේය අභිරමනය කෙරෙයි. අයමපි අභෝ ආදියෙහි පටන් ගාථා අවසානය දක්වා මෙම සූත්‍රයෙන් ප්‍රකාශ කළා වූ අර්ථය අපි ශබ්දය සූත්‍රය ඇතුළත කියූ අර්ථයන් සම්පිණ්ඩනය කෙරේය.

අග්ගප්පසාද සූත්‍ර වර්ණනාව නිමි.

## 26.

සබ්‍රහමක සුත්තෙ සබ්‍රහ්මක සූත්‍රයෙහි පුත්තානං, කරණාර්ථයෙහි සම්බන්ධ විභක්ති අජ්ඣාගාරෙ පූජිතා ස්වකීය ගෙදර යමක් ඇද්ද, එයින් පිළිදැගුම් කරන ලද්දාහු මනාප වුව කායික වාචසික ක්‍රියාවන්ගෙන් උපස්ථාන කරන ලද්දේ වෙයි. බ්‍රහ්මාති භික්ඛවෙ, යනාදි ඔවුන්ගේ බ්‍රහ්මාදිභාව සාධනය පිණිස කියන ලදී. යම්සේ බ්‍රහ්මයෝ භාවනා සතරක් අත්නොහරින ලද්දෝ වෙති. එසේම මෙත්තා කරුණා මුදිතා උපෙක්ඛා යන සතර භාවනාවෝ මව්පියන්ගේ දරුවන් කෙරෙහි අත් නොහරින ලද්දාහු වෙති.

කුසෙහි හොත් දරුවා කවදා පිරිපුන් අඟපසඟින් යුත් නිරෝගී දරුවකු දකින්නෙම් දැයි මව්පියන් කෙරෙහි මෙත්සිත් උපදී. යම්කලෙක්හි මන්ද වූ උඩුකුරු හොවින්නා වූ දරුවා උකුණන් විසින් හෝ මකුණන් විසින් හෝ දෂ්ට කරන ලද්දේ දුකසේ හිඳින්නේ ද, පෙලෙන ලදුව අඬන්නේ ද ඔහුගේ ශබ්ද අසා මව්පියන් තුළ කරුණා සිත උපදී. දුව පැන ඇවිද ක්‍රීඩාකරන වයසෙසහි හෝ ලෝභනීය වයසෙහි හෝ සිටි දරුවා දැක මව්පියන්ගේ සිත, ගිතෙලෙහි පොඟවන ලද සියක් වරක් පොලන ලද කපු පිළියක් මෙන් මෘදු වේ. සතුටු වේ. එකල්හි ඔවුන්ගේ මෘදුතාව ලබයි. යම්කලෙක්හි ඔවුන්ගේ පුත්‍රයෝ ආවාහ විවාහ වී වෙන වෙනම වාසය කෙර් ද, එකල්හි මව්පියන්ගේ දැන් දරුවෝ තමන්ගේ ධර්මතාවය අනුව ජීවත්විය හැක්කෝ යයි මැදහත් බවක් උපදී. මෙසේ එකල්හි උපේක්ෂාව ලබයි. මෙසේ මව්පියන්ගේ චතුර්විධ බ්‍රහ්මවිහාර ලැබීම සිදුවන බැවින් බ්‍රහ්මයාට සමාන පැවතුම් ඇති බැවින් කියන ලදී. බ්‍රහමාති මාතාපිතුනනං අධිවචනං යනුවෙනි.

සම්මුති - උත්පත්ති - විසුද්ධි යන දෙවිවරුන් අතුරෙහි විසුද්ධි දෙවිවරු සර්ව ශ්‍රේෂ්ඨ නම් වන්නාහුය. බාල ජනයන් විසින් කරන ලද අපරාධ ගණන් නොගෙන ඒකාන්තයෙන් ඔවුන්ට අනර්ථහානිය ද අර්ථෝත්පත්තිය ද බලාපොරොත්තු වන්නේ චතුර්විධ බ්‍රහ්ම විහාරයන්ගේ යෝගයෙන් අර්ථය හිතය සුඛය පිණිස පිළිපදින්නේ පරම දක්ඛිණෙය්‍ය වී තමන් විෂයෙහි කරන ලද ක්‍රියාවන්ගේ මහත්ඵල බව කැඳවත්. මෙසේ මව්පියෝ පුත්‍රයන්ගේ වැරදි ගණන් නොගෙන ඒකාන්ත වශයෙන් අනර්ථ හානියද අර්ථෝත්පත්තිය ද බලාපොරොත්තු වන්නේ චතුර්විධ බ්‍රහ්ම විහාරයාගේ ප්‍රතිලාභයෙන් අර්ථය, හිතය සුඛය පිණිස පිළිපදින්නේ පරම දක්ෂිණෙය්‍ය වී, තමන් විෂයෙහි කරන ලද ක්‍රියාවන් මහත්ඵල භාවය කැඳවත්. සියලු දෙවියන්ට වඩා ප්‍රථම ඔවුන්ට උපකාරවත් බැවින් ඔවුහු ආදියෙන් ම දේව වූයේ නුයි. පුබ්බදෙව යයි කියන ලදී.

මව්පියෝ වූ කලී පළමුකොට දරුවන් ළදරු කාලයේ සිට 'මෙසේ හිඳගන්න, මෙසේ සිටින්න, මෙසේ යන්න, මෙසේ තිදන්න, මෙසේ අනුභව කරන්න, මෝ ඔබේ මවය, මේ පියාය, මේ සහෝදරයාය, මේ නැගනිය යයි මේ ආදී ක්‍රමයෙන් උගන්වයි. අපර භාගයෙහි අන්‍ය ආචාර්යවරු ද ශිල්පාදිය උගන්වත්. සරණ සීලාදිය සමාදන් කරවත්. පාලි අට්ඨකථා උගන්වයි. පැවිදි උපසම්පදා දෙත්. සෝතාපත්ති මාර්ගාදියට පමුණුවත්. මෙසේ මව්පියෝ පළමු ආචාර්යවරයෝය. එහෙයින් කියන ලදී පුබ්බචරියා කියා.

ආහුණෙය්‍යා දුරින් ගෙනවුත් පිදිය යුතු වේනුයි හුනිතබ්බං නම් වේ. ආහුනය ආහාරපාන ආදියයි මව්පියවරු උපකාර ලැබීමට ක්ෂේත්‍ර බැවින් එයට සුදුසු වේනුයි ආහුනෙය්‍ය නම් වේ. තං කිස්ස හෙතු මව්පියන්ට බ්‍රහ්ම යනු අධි වචනයකි. (පරියාය වචනයකි.) කවර කරුණකින් ද යත්? ආපාදකා ජීවිතයට බෙහෙවින් උපකාර ඇත්තෝ වෙත්. පිළිවෙළින් පවත්වාගෙන ආවාහු වෙති. ඉමස්ස ලොකස්ස දස්සෙතාරො පුත්‍රයන්ගේ මේ ලෝකයෙහි ඉටු අනිටු අරමුණු දැකීම නම් මව්පියන් නිසා ඇතිවූවකි. මෙසේ මව්පියන්ගේ දරුවන් පිළිබඳව බහුපකාර භාවය බ්‍රහ්මාදී භාව හේතුවෙන්ම වූවකි. යම් හේතුවකින් දරුවෝ මව්පියන්ගෙන් සිදුවූ ලෞකික වශයෙන් සිදුවූ උපකාරයට ප්‍රතිඋපකාර කිරීමට සමර්ථ නොවෙත් ද භාග්‍යවතුන් වහන්සේ විසින් මෙසේ වදාරණ ලදී.

"මහණෙනි, මම මවටද පියාටදැයි යන දෙදෙනාට ප්‍රත්‍යුපකාර කිරීම සුකරයයි නොකියමි. මහණෙනි, සතවර්ෂායුෂ්ක වූ යමෙක් සියවසක් ජීවත්වන්නේ එක් අංශයකින් මවට පිළිදැගුම් කරන්නේ එක් අංශයකින් පියාට පිළිදැගුම් කරන්නේ වේද, එසේම ඔවුන්ගේ සිරුරු සුවඳ සුණු ඉලීමෙන් හා අත්පා පිරිමැදීමෙන් හා සිසිල් පැන් නෑවීමෙන් හා අංග සම්බාහනයෙන් හා උපස්ථාන කෙරේ ද, ඔහුත් ඒ අංශයෙහිම හිඳ මල මූත්‍ර පහකරන්නාහු නම්, මහණෙනි, හේ එසේ ද වුව මව්පියන්ට උපකාර හෝ ප්‍රත්‍යුපකාරයන් හෝ නොවේමැයි.

මහණෙනි, බොහෝ සත්රුවන් ඇති මේ මහා පෘථුවියෙහි මව්පියන් සක්විති රජයේ පිහිටුවන්නේ නමුදු මහණෙනි, මව්පියන්ට උපකාර කරන ලද්දේ හෝ ප්‍රත්‍යුපකාර කරන ලද්දේ හෝ නොම වෙයි. එයට හේතු කවරේද යත් මහණෙනි, මව්පියෝ දූ පුතුන්ට බොහෝ උපකාර ඇතියහ. පුතුන් වඩන්නාහු. පෝෂණය කරන්නාහු මේ ලෝකය දක්වන සුලු වෙති.'

මහණෙනි, යමෙක් ශ්‍රද්ධා නැති මව්පියන් ශ්‍රද්ධා සම්පත්තියෙහි සමාදන් කරවා ද, වසවා ද පිහිටුවා ද මසුරු වූවන් ත්‍යාග සම්පත්තියෙහි සමාදන් කරවාද වසවාද, පිහිටුවාද, මහණෙනි, මෙතෙකින් මව්පියන්ට උපකාර කරන ලද්දේත්, ප්‍රත්‍යුපකාර කරන ලද්දේත් අධික උපකාර කරන ලද්දේත් වේයයි.

**පජාය අනුකමපකා,** තමන්ගේ පුත්‍රයන්ට අනුග්‍රහ කරන්නෝය. **නමසෙසයය** උදේ සවස උවටැන් කොට මේ මගේ උතුම් පින් කෙතයයි නමස්කාර කරන්නේ ද, **සකකරෙයය,** මනාකොට සත්කාර කරන්නේය. ගෞරව කරන්නේය. දැන් එම සත්කාර දක්වන්නේ **අනෙනන** ආදිය වදාළහ.

**උචඡාදනෙන,** දුගඳ දුරුකොට සුවඳවත් කිරීම් වශයෙන් ඇඟ ඉලීමෙන් **නහාපනෙන,** සීත කාලයෙහි උණුදියෙන් ද උෂ්ණ කාලයෙහි සීත දියෙන් ද අඟපසඟ ආදියෙහි දිය ඉස නැහැවීමෙන් ද කාය නං පරිචරියාය මෙහි නං යනු නිපාත මාත්‍රයෙකි. කියන ලද පරිචර්යාවෙන්, එම පරිචර්යාව වනාහි පුත්‍රයාගේ දෙලොව හිත සැප එලවයි. මෙසේ දක්වමින් **ඉධෙව නං පසංසනති** යනාදිය වදාළහ.

**සබ්‍රහමක සූත්‍ර වර්ණනාව නිමි.**

# 27.

**නිරයූපපත්ති සුත්තං නිරයූපපත්ති සූත්‍රයෙහි**

මෙම සූත්‍රයාගේ උත්පත්තිය කවරීද? අර්ථෝත්පත්තියම මෙහි උත්පත්තියයි. එක්දිනක භික්ෂූහු දම්සභාවෙහි සිටියාහු මෙම කථාව ඉපදෙව්වාහුය. ඇවැත්නි, මෙහි ඇතැමෙක් බොහෝ පාප කර්ම කෙරෙත්. ඇතැමෙක් බොහෝ පින් කෙරෙති. ඇතැමෙක් පින් පව් දෙක මිශ්‍ර වශයෙන් කෙරෙති. මෙහි මිශ්‍ර වශයෙන් පව් පින් දෙකම කරන්නහුගේ මතු උපත කෙසේද? අනතුරුව භාග්‍යවතුන් වහන්සේ දම්සභා මණ්ඩපයට වැඩ, පනවන ලද බුද්ධාසනයෙහි වැඩසිටි සේක් එම කථාව අසා 'මහණෙනි, මරණාසන්න කාලයෙහි කිලිටි සිත් ඇත්තාහු දුගතිය කැමතිවිය යුතුයයි දක්වන්නේ මෙම අර්ථෝත්පත්තිය මත මෙම සූත්‍ර දේසනා දේසනා කළ සේක.'

මෙහි **පුගගලං** යනු, සත්ත්වයාය. හේ වනාහි කුසලා කුසලයන්ගේ ද එහි විපාකයන්ගේ ද සම්පූර්ණ කිරීමක් කරන අර්ථයෙන් ද මරණයෙන්ද එය ඉදිරියට ගලායයි යන අර්ථයෙන් 'පුගගල' යයි කියනු ලැබේ. **පදුටඨ චිත්තං** ද්වේෂයෙන්, ආඝාතයෙන් දූෂ්ට වූ සිත රාගාදීන්ගේ වශයෙන් හෝ දෘෂ්‍ය වූ සිත. **එවං** දැන් කිවයුතු ආකාරය දක්වයි. **චෙතසා** තමාගේ සිතින්, චිත්ත පරියායෙන් **චෙතො** ඔහුගේ සිත **පරිචච** පිරිසිඳ දැන, යථාකම්මූපග ඤාණයට මෙය විෂය වන්නේ නොවේද? එය ඇත්තය. එකල පැවැති අකුසල චිත්තයාගේ වශයෙන් මෙය වදාරණ ලදී. **ඉමමහි වායං සමයෙ** මෙම කාලයෙහි දූෂ්ට වූ ජවන වීථියෙන් අපර භාගයෙහි යන අර්ථය ජවන් මොහොතෙහි කාලක්‍රියාවක් නැත. **යථා හතං නිකඛිතෙතා, එවං නිරයෙ** ගෙනහැර සිටවූවක් මෙන් මෙසේ තමාගේ කර්මයෙන් ගෙනැවිත් දමන දෙයක් මෙන් නිරයෙහි තබන ලද්දේ වෙයි.

**අපායං** නිරයටම නමකි. අය නම් වූ සැපයෙන් තොර බැවින් අපාය නම් වේ. සුඛයට හේතුභූත වූ හෝ පුණ්‍ය සම්මත වූ හෝ අයෙන් පහවූයේ නුයි අපාය නම් වේ. දුක්ඛයාගේ ගතිය හෝ දුකට පිහිටවූයේ නුයි **දුගගති** නම් වේ. ද්වෙෂ බහුල බැවින් හෝ දූෂිත වූ කර්මයෙන් නිපදවූ ගතිවේනුයි **දුගගති** නම් වේ. විවසව පතිත වෙත්. එය පව්කාරයෝ විනාශවන්නා වූ එහිම වැටෙත්. බිඳෙන්නා වූ අවයව ඇත්තේනුයි **විනිපාත** නම් වේ. එහි අසසාද වශයෙන් සලකන අය වේනුයි **නිරය** නම් වේ.

නැතහොත් අපායට ඇතුලත්කොට තිරිසන් යෝනියද කියනු ලැබේ. තිරිසන් යෝනියද අපායකි. සුගතියෙන් වෙන්වූ හෙයින් දුගගති නොවේ. මහේශාක්‍ය ආදි නාගරාජයන් හමුවන බැවිනි. දුගති ගණයට ප්‍රේතලෝකය අයත් වේ. එයද අපායම වෙයි. දුර්ගතිය ද වෙයි. දුක්ඛයාගේ ගතියට අයත් වුවද, විනිපාත නොවේ. අසුර වැනි අය විනිපාත නොවන බැවිනි. විනිපාත ග්‍රහණයෙන් අසුර අසුර කාය නොගැනේ. එයද ඉහත සඳහන් අර්ථයෙන් අපායද දුග්ගතියද වේ. සියලු සත්ත්වයන්ට විනිපාත බැවින් විනිපාතයයි කියනු ලැබේ. නිරය ගැනීමෙන් අවීචි ආදි අනේකප්‍රකාර වූ නිරයන් ද කියනු ලැබෙත්. මෙහි සියලු පදයන්ගෙන් ම නිරයම කියනු ලැබේ.

ගාථාවන් අතුරෙහි පළමු ගාථාව ධර්ම සංගායක තෙරවරුන් විසින් තබන ලද්දාහු වෙත්. ඤත්වා කාලක්‍රියාවට කලින් ඤත්වා ශබ්දය හේත්වර්ථයෙහි වේ. ජානන හේතු යන අර්ථයි. භිකඛූනං සනතිකෙ භාග්‍යවතුන් වහන්සේ තමන් සමීපයෙහි හුන්නාහු භික්ෂූන්ට මේ පසුව කියනු ලබන අර්ථය ප්‍රකාශ කළසේක.

නිරයූපපතති සූත්‍ර වර්ණනාව නිමි.

## 28.

සුගතූපපතති සුතෙත සුගතූපපතති සූත්‍රයෙහි මෙහි ද කියන ලද ආකාරයෙන් අර්ථෝත්පත්තියම උත්පත්තිය වේ. පසනනචිතතං රත්නත්‍රය පිළිබඳ ශ්‍රද්ධාවෙන් ද කමමඵල පිළිබඳ ශ්‍රද්ධාවෙන් ද යුතු ප්‍රසන්න මනසක් ඇති. සුගතිං සුන්දර වූ ගතිය. සුඛයාගේ හෝ ගතිය සුගති නම් වේ. සගගං රූප ආදී සම්පත්තීන්ගෙන් මනා වූයේ අග්‍ර වූයේ සගග නම් වේ. ලොකං ලෝකය පිළිබඳ මෙහි පුඤ්ඤ පාප ඵලයෝය. බිඳෙන අර්ථයෙන් ලෝක නම් වේ. මෙහි සුගති ග්‍රහණයෙන් මනුෂ්‍ය ගතිය ද සංග්‍රහ වූයේ වෙයි. සගග ග්‍රහණයෙන් දේව ගතියම වේ. සෙස්ස ප්‍රකටමැයි.

සුගතූපපතති සූත්‍ර වර්ණනාව නිමි.

# 29.

**දෙවාචවන සුතෙත** දෙවා චවන සූත්‍රයෙහි, දෙවො, උත්පත්ති දෙවියෝ, දෙවිවරු කොටස් තුනකි. සම්මුතිදේව උත්පත්තිදේව විසුද්ධිදේව යනුයි. ඔවුන් අතුරෙන් සම්මුති දෙවියෝ නම් ක්‍ෂත්‍රිය වංශික රජවරුය. උත්පත්ති දෙවියෝ නම් චාතුර්මහා රාජිකයේ පටන් ඉහලට ඇති දෙවිවරුය. විසුද්ධි දෙවියෝ නම් රහතුන් වහන්සේලාය. මෙහි වනාහි කාමාවචර දෙවියන් අදහස් කෙරේ. **දෙවකායා** දේව සමූහයාගෙන් හෝ දේව ස්ථාන හෝ දේවලෝකයෙන් යන අර්ථයි. **චවන ධමෙමා** මරණ ධර්මයයි. ආයුෂ ගෙවීමෙන් හෝ පින හෙවීමෙන් හෝ එළඹුනා වූ මරණය යන අර්ථයි.

**පඤ්චසස පුබබනිමිතතානි පාතුභවනති** ඔහු වෙත එළඹෙන්නා වූ මරණයට පෙර පඤ්ච පූර්ව නිමිත්ත උපදිත්. ප්‍රකට හෝ වෙති. **මාලා මිලායනති.** ඔවුන් විසින් පළඳින ලද මල්මාලා මධ්‍යාහ්න සමයෙහි අව්වෙහි දමන ලද්දක් මෙන් මැලවෙත්. පහවූ සෝභා ඇත්තාහු වෙත්. **වත්‍ථානි කිලිසසනති,** සරද සමයෙහි වලාකුළින් තොර අහසෙහි උඩට නැගි තරුණ හිරුට සමාන ප්‍රභායෙන් නොයෙක් විරාග වර්ණ වූ රශ්මියෙන් හැදි පෙරවි වස්තර එකෙණෙහි මඩෙහි බහා මඩින ලද්දාක් මෙන් පහවූ ප්‍රභා ඇති කිළිටි වූවාහු වෙති. **කචෙඡහි සෙදා මුචචනති.** ඉතා පිරිසිදු ජාතිරංග මාණික්‍ය මෙන් ද, ඉතා හික්මුණ ශිල්පාචාර්යයන් විසින් කරන ලද සුවර්ණ ප්‍රතිමාවක් වැනිවූද, පෙර සෙව්ද, මල, ජල්ලිකා විරහිත ශරීරයාගේ එකෙණෙහි දෙකිසිලිවලින් දහදිය ගලත්. දහදිය ධාරා වැගිරෙත්. හුදෙක් කිසිලිවලින් පමණක් නොව මුළු සිරුරෙන්ම දහදිය ජලධාරාවන් මුදවත්. පැළඳගත් මුතුදැල් කෙසුරු ගොඩක් මෙන් ඔහුගේ සිරුරෙහි වෙයි. **කායෙ දුබබණණියං ඔකකමති,** පෙර පටිසන්ධියේ පටන් ආනුභාව පරිදි එක්යොදුන් දෙයොදුන් දොළස යොදුන් දක්වා පෙදෙස ආලෝකය පතුරුවා බබලමින් පැවැති කයක් විය. කැඩුම් බිඳුම් විරහිත විය. සීතෙන් උෂ්ණයෙන් උවදුරු නොවීය. දේවදුහිතෘහු සොලොස් වයස් ඇත්තෝ මෙන් වූවාහුය. දේවපුත්‍රයෝ විසිවයස් ඇත්තෝ මෙන් වූහ. එකෙණෙහිම ප්‍රභාරහිත තේජස් රහිත සිරුරෙහි විරූපභාවය පිවිසෙයි. පිහිටයි. **සකෙ දෙවො දෙවාසනෙ නාභිරමති** තමාගේ දෙවඟණන් සමූහයා සමග හැමකල්හි පිරිවරා ක්‍රීඩා කළ දිව්‍ය ආසනයෙහි ඇලුම් නො කරයි.

සිතේ සතුටක් නො ලබයි. ඔහුට මනුෂ්‍ය ගණනින් සත් දවසකින් මරණය වන්නේ යයි පෙරනිමිති පහල වෙත්.

හෙතෙම ඔවුන්ගේ උපත මෙවන් සම්පත්තියෙන් වෙන් වන්නේයැයි, බලවත් සෝකයෙන් මැඩුනේ වෙයි. සිරුරෙහි මහත් දාහයන් ඇතිවෙයි. මුළු සිරුරෙන් දහදිය මිදෙත්. එය ඉවසන්ට නොහැක්කේ, ඇතැමෙක් දැවෙමි දැවෙමි යයි අඬන්නේ විලාප නගන්නේ වෙයි. කිසිතැනෙක්හි ආස්වාදයක් නොලබන්නේ ඒ ඒ තැන ඇවිදියි. ඇතමෙක් සිහිය උපදවා කයින් වචනයෙන් විකාර නොකරන්නේ වියෝදුක ඉවසිය නොහැක්කේ වෙහෙසට පත්ව ඇවිදියි. මෙම පෙරනිමිති මිනිස්ලොව මහත් පින් ඇති රාජ රාජ මහාමාත්‍යයන්ට ද වෙයි. උල්කාපාත, භූමිකම්පා, චන්ද්‍රග්‍රහණ ආදි පෙරනිමිති වැටහෙත්. සියල්ලන්ටම නොවේ. මෙසේම මහේසාක්‍ය දෙවියන්ටම උපදිත්. උපන්නා වූ මෙම නිමිති මරණයාගේ පෙරනිමිති යයි සමහර දෙවියෝ දනිත්. සියල්ලෝම නොවේ. එහි යමෙක් මද වූ කුසල කර්මයකින් උපන්නේ ද හෙතෙම මේවා කෙසේ නම් දනියිද, කවරෙක් දනියි ද, කුමක් වන්නේදැයි භයට පත්වේ. යම්කිසි මහාපිනැති වේද, හෙතෙම මවිසින් බොහෝ දන්දෙන ලදී. සිල් රකින ලද පින් රැස්කරන ලදී. මට සුගතියම ලැබේයයි බලාපොරොත්තු වෙයි. භය නොවෙයි. මෙසේ පහල වූ පෙරනිමිතිත් සමග දෙවියෝ නන්‍දන වනයට පිවිසෙත්. සියලු දිව්‍යලෝකවල නන්දන වන ඇත්තේමය.

**තීහි වාචාහි අනුමොදෙනති** දැන් කියනු ලබන්නා වූ වචන තුනකින් අනුමෝදන් වෙති. අනුව සතුටු වෙති. එම මොහොතට උචිත වූ ප්‍රමෝදයක් උපදවත්. සැනසෙත්. **ඉතො** දෙව්ලොවින්, **සුගතිං** සුන්දර ගති ඇති මිනිස්ලොව සඳහා කියයි. **ගච්ඡ** පිළිසිඳ ගැනීම් වශයෙන් එළඹෙන්න. **එවං වුතෙත** මෙසේ දෙවියන් විසින් ඔහුට 'පින්වත, මෙයින් සුගතියට යව' යනාදියෙන් කියන ලද වචනයන් භාග්‍යවතුන් වහන්සේ විසින් කී කල්හි. **අඤ්ඤතරො**, අනුසන්ධි කුසල එක භික්ඛු භික්‍ෂුවක්, සුගති ආදිය විශේෂයෙන් ප්‍රකට කරවන්ට ස්වාමීනි, මේ කිමෙක්දැයි ආදි වචන කීහ.

**සුගති ගමන සංඛාතං** සුගති ගමනං යනු මනාලෙස කියන ලද, වර්ණනා කරන ලද ස්තුති කරන ලද මනුෂ්‍ය ආත්මභාවයයි. මනුෂ්‍ය ආත්මභාවය වූ කලී ශ්‍රද්ධා ආදි ගුණ විශේෂ ප්‍රතිලාභයට කරුණු වෙයි. දෙව්ලොව ඉපදීමට හේතුභූත වන බැවින්ද, මෙය දෙවියන්ගේ සුගති

ගමනයයි සම්මතය. යං මනුසස භූතො මෙහි යං යනු ක්‍රියා පරාමර්ශනයයි. සො යනුවෙන් ශ්‍රද්ධා ප්‍රතිලාභය වේය යන අර්ථයි. මනුසසභූතො, මිනිසුන් අතර උපන්නේ මනුෂ්‍යභාවයට හෝ පැමිණියේ යම්හෙයකින් දෙව්ලොව උපන්නහුට තථාගතයන් වහන්සේගේ ධර්මදේශනා බොහෝසෙයින් දුර්ලභ වේ. මිනිසුන්ට එසේ නොවේ. එහෙයින් කියන ලදි. මනුසසභූතො යනුවෙන්. තථාගතපපවෙදිතෙ ධමමවිනයෙ, තථාගතයන් වහන්සේ විසින් දේසිත සීල සමාධි ප්‍රඥා සංඛ්‍යාත ශාසනයෙහි, එය වනාහි ධර්ම වශයෙන් නොපත් ධර්මයෙහිද ආසය ධර්මයන්ට අනුරූපව හික්මවිය යුත්තන් හික්මවන බැවින් විනය නම් වූයේනුයි ධමම විනය වේ. සදධං පටිලභති. සවාකඛාතො භගවතා ධමෙමා පළමු සද්ධාව උපදවයි. ධර්ම විනයෙහි ආනුසාසනා පරිදි දිටඨධමමික සම්පරායික (මෙලොව පරලොව) පරමාර්ථයන් ලබාගනී. ප්‍රතිපත්තිය ශ්‍රද්ධාව මූලික බැවිනි. සුලදධලාභ සංඛාතං මෙහි යම්සේ හිරණ්‍ය සුවර්ණ ආදිය ලැබීම සත්ත්වයන්ගේ උපභෝග සුඛය එලවයි. සා පිපාසාදි දුක් වලක්වයි. දිළිඳුකම සංසිඳවයි. මුතු ආදි ධන ලැබීමට හේතුවෙයි. ලෝක සන්තතිය ද ගෙනදෙයි. මෙසේ ලෞකික ලෝකෝත්තර ශ්‍රද්ධාව ද, ලෞකික ලෝකෝත්තර විපාක සුඛය ද ගෙනදෙයි. ශ්‍රද්ධා ධුරයෙහි යෙදුනාහු ජාති ජරා ආදි දුක් යටපත් කරත්. ගුණයන් දිළිඳුකම ව්‍යුපසමනය කරයි. සම්බොජ්ඣංග ආදි රත්න ලැබීමට හේතුවෙයි. ලෝක සන්තතියද ගෙනදෙයි. මෙසේ ශ්‍රද්ධා ප්‍රතිලාභයාගේ සුලද්ධලාභාතාව දතයුත්තේය. යම්හෙයකින් මේ ශ්‍රද්ධ ප්‍රතිලාභ අනුගාමික තෙම අන්‍යයන් සාධාරණ නොවූ සියලු සම්පත්තියට හේතු වේ. ලෞකික වූ ද හිරණ්‍ය සුවර්ණ ආදි ධන ලාභයට කාරණ වේ. ශ්‍රද්ධාවෙන් ම දානාදි පුණ්‍යක්‍රියා කොට උළාර වූ වස්තු උපකරණ ලබයි එයින් තමාගේ ද අනුන්ගේ ද අර්ථයම සම්පාදනය කෙරෙයි. සද්ධා නැත්තහුට ඒවා අනර්ථය ගෙන දෙන්නාහු වෙති. මෙලොවද පරලොවද මෙවන් සද්ධාවෙන් පහසුවෙන් ලබන ලාභතා ඇති බව දතයුත්තාහුය. දැන් යම් සද්ධාවකින් ශාසනයෙහි කුසල ධර්මයන්හි මනාව පිහිටියේ වේද, නියම පිළිවෙළට බැසගත්තේ වේද, එම ශ්‍රද්ධාව දක්වන්ට සා බො පනෙසා (එම ශ්‍රද්ධාව වූ කලී) යනාදිය වදාරණ ලදී. නිවිටඨා චිත්ත සන්තානයට පිවිසියේ මූලජාතා හටගත් සද්ධා නමැති මුල් ඇත්තේ. සද්ධාව ඉපදවිය යුතු වස්තුවෙහි විශ්වාසයට හේතු වූ උපාය මනසිකාරයයි. යලිදු සත්පුරුෂයන් ඇසුරුකිරීම බණ ඇසීම නුවණින් විමසා කටයුතු කිරීම ධම්මානුධම්ම පටිපත්තිය යන සතර සෝතාපත්ති අංග, මූලයෝ යයි දතයුතුය. පතිටඨිතා ආර්ය මාර්ග

ආර්ය මාර්ගාධිගමයෙන් කිසිවෙක් අකම්පනීයභාවයෙන් පිහිටියාහු වෙත්. ඒ නිසාම කියන ලදී. දළ්හා අසංහාරියා, ස්ථිර වූයේ ඉවත් කරන්ට නසන්ට හෝ නො හැක්කේය යන අර්ථයි. ඒ දෙවිවරු ඔහු සෝවාන් වීම බලාපොරොත්තු වන්නේ මෙසේ කියත්. තම දිව්‍ය ලෝකයෙහි කාමසුඛ උපභෝග සුදුසු යයි ආර්ය පුද්ගලයන් කැමැත්තේ එහෙයින් කියන ලදී. එහි දෙව පුනප්පුනං (දෙවියෝ චුතවන දෙවියා වෙත පැමිණ) (දෙවිය නැවත නැවත මෙහි එන්න.) යනුවෙන් සතුටු කරවත්.

පුඤ්ඤක්ඛය මරණයද ජීවිතින්ද්‍රිය උපච්ඡේදයෙන්ම වෙයි යයි කියන ලදී. චවති ආයුක්ඛයා යනුවෙන් මනුස්සානං සහව්‍යතං, මිනිසුන් හා එක්වීම මෙය ප්‍රකාශකොට නැවත. මනුස්සභූතො, චුතවීම එම මනුෂ්‍ය වූවන් කෙරෙහි විද්‍යමාන බව දැක්වීම පිණිසය. යම් මනුෂ්‍ය ජාතිකයෙක් වූයේ, නොකටයුතු වූ ප්‍රාණඝාතාදිය කොට රාජ ආදීන්ගෙන් අත්කැපීම් ආදි කර්මයන්ට භාජනය වන්නේ මහත් වූ දුකක් අනුභව කරයි. මේ මිනිස් නේරයික නම් වේ. අනිත් තැනැත්තේ, පෙර කරන ලද කර්මයෙන් ආහාර ඇඳුම් ආදියද නො ලබයි. බඩසයින් සහ පිපාසයෙන් යුක්ත වූයේ දුක් බහුල වූයේ භයින් තැති ගත්තේ කිසිතැනකින් පිහිටක් නො ලබන්නේ හැසිරෙයි. මේ මනුෂ්‍ය ප්‍රේත නම් වේ.

අනිකෙක් අනුන්ට යටත් පැවතුම් ඇත්තේ අනුන්ගේ බර උසුලන්නේ බිඳුනු සිරිත් විරිත් ඇත්තේ අනාචාරයෙහි හෝ හැසිර මෙරමා විසින් තර්ජනය කරනු ලැබ මරණ භයින් තැතිගෙන වනගහනයන් ඇසුරු කරමින් දුක් බහුලව වාසය කෙරේ ද, හිත අහිත දෙක නොදන්නේ නින්දාව කුසගිනි දුක දුරුකිරීමෙහි තත්පර වූයේ මේ මනුෂ්‍ය තිරිසන් නම් වේ. යමෙක් වනාහි තමා පිළිබඳ හිත අහිත දන්නේ කම්පල අදහන්නේ ලජ්ජා භය දෙකින් යුක්ත වූයේ සියලු සත්ත්වයන් කෙරෙහි සංවේග බහුල වූයේ අකුසල කර්ම පථයන් දුරුකරමින් කුසල කර්ම පථයෙහි හැසිරෙමින් පින්කිරියවත් සම්පූර්ණ කෙරේ ද, මෙතෙම මනුෂ්‍ය ධර්මයෙහි පිහිටි පරමාර්ථ වශයෙන් මනුෂ්‍ය නම් වේ. ඒ දෙවිවරු වනාහි එබඳු වූම මනුෂ්‍යයන් කැමති වෙත්. ඔවුන් විසින් නැවත, නැවත මනුෂ්‍යභූත යයි කියන ලද්දේ මෙවැනි මිනිසුන්ටමය. මිනිසුන් හා සහභාවයට ගියේ මිනිස් දහම් දුරුනොකොට සිටියේය යන අර්ථයි.

සූපපවෙදිතෙ, තථාගතයන් වහන්සේ මනාකොට වදාළ කල්හි.

යසෑවසෑසෑද දොස සසෑසෑදිතං යමක් කියන ලද දුශ්චරිතයන්ගෙන් අන්‍ය වූ, රාග දෝස ආදි සංකිලෙස දෝෂයන්ගෙන් යුක්තව පවත්නා වූ අකුසල වේද, එය අතහැර, අපපමාණං යනු සකසා කළ උළාර වූ බොහෝ වාරයක් කළා වූ කිරීම් වශයෙන් ප්‍රමාණ රහිත වූ නිරුපධිං, කෙලෙස් උපධි රහිත වූ ඉතා පිරිසිදු වූ නිර්මල වූ. මෙසේ අත්‍යන්තයෙන්ම, අපායෙහි දොරටු වසන කර්ම දක්වා දැන් ස්වර්ග සම්පත්තිය උපදවන කර්ම දක්වන්ට තතො ඔපධිකං ආදිය වදාරණ ලදී.

ඔපධිකං උපධි සම්පත් ඇතිකරන්නා වූ ආත්ම භව සම්පත්තියද, භෝග සම්පත්තිය ද උපදවන්නා වූ පින්කොට කෙසේද? දානෙන, දන් දීමෙන්, අන් පින්කම්වලින් අන්‍ය වූ විපාක කියන ලදී. දානෙන දාන යන්නෙන් අභය දානය ද කියනු ලැබේ. ආමිස දාන පමණක් නොවේ. සීලයාගේ ද සංග්‍රහය දතයුතුයැ. යම්හෙයකින් මෙම දෙවියෝ අසුර සමූහයාගේ හානිය ද දේව සමූහයාගේ පරිපූර්ණත්වය ද කැමති වෙත්. එහෙයින් එයට උපාය දක්වන්නේ අඤ්ඤපි මචෙව සදධමෙම බ්‍රහමචරියෙ නිවෙසය, (අන්‍ය වූ මිනිසුන් ධර්මයෙහි ද බඹසරෙහි ද පිහිටුවව්.) ධර්ම දානයෙහි යොදවත්. යදා විද්දං දෙවියෝ යම්කලෙක චුතවන්නා වූ දෙවියකු දකිත්නම්, එකල්හි කී අයුරින් අනුකම්පාවෙන් දුක් පහකරනු කැමැත්තේ දෙව, මේ දෙවනිකායෙහි පුනපපුනං (නැවත නැවත) ඉපදීම් වශයෙන් එහි එන්න යයි සතුටු කරවත්.

දෙවාචවන සූත්‍ර වර්ණනාව නිමි.

# 30.

පටඨාන සුතෙත (සුඛපපථනා) පටඨාන සූත්‍රයෙහි.

සුඛානි, සුඛ නිමිති පඣයමානො, කැමති වන්නේ බලාපොරොත්තු වන්නේ, සීලං ගිහියෝ ගිහි සිල් පැවිද්දෝ, චතු පාරිශුද්ධි ශීලය රකෙඛයය, සමාදන්ව සිල්පද කඩන්නේ නැතිව මනාව ආරක්ෂා කරන්නේ, පසංසා මෙ ආගචඡතු, කල්‍යාණ වූ කීර්තිය මට ලැබේවා. සිල්වත් වූ ගැහැවියාගේ

පළමුකොට අසවල් කුලයෙහි පුත්‍රයා සිල්වත්ය. කල්‍යාණ දහම් ඇත්තේ, සැදැහැවත්ය. පැහැදුනු දායක කාරකයෙකුයි ආදි වශයෙන් පිරිස් මැද කීර්ති නාමය පැතිරෙයි. පැවිද්දාගේ, අසවල් භික්ෂුව සිල්වත්ය. වත් සම්පන්නය. වත්පිළිවෙත්වල ඇලුනේය. යහපත් හැසිරීම් ඇත්තේය. ගෞරව ඇත්තේය. යටහත් පැවතුම් ඇත්තේය යනාදි ක්‍රමයෙන්, **භොගා මෙ උපපජ්ජනතු** මෙහි සිල්වත් ගැහැවියාගේ රන් රිදී මැණික් ආදි භෝගයෝ නූපන්නාහු ද උපදිත්. උපන්නාහු ද රාජ දණ්ඩාදියෙන් විනාසයට නොපැමිණේය. දානයාගේ මහත්ඵල භාවය කැමතිවන්නා වූ දායකවරු සිල්වත් පැවිද්දහුට දන් දෙත්. එබැවින් එම සිල්වත් පැවිද්දාට චතුපච්චය සංඛ්‍යාත භෝගයෝ උපදිත්. **කායසසභෙදා,** උපාදිනනකඛනධයාගේ පරිත්‍යාගයෙන් ජීවිතෙන්‍ද්‍රියාගේ සිඳදැමීමෙන් හෝ **පරමමරණා,** චුතියෙන් මතු ඉමානි ඛො -පෙ- රකෙඛය්‍යාති මේ ප්‍රශංසා, භෝග, සුගති යන තුන් සුඛ කාරණයෝ සීලයාගේ ආනිසංස වූවාහු වෙති. සීලය නිසා පවතිත්. එබැවින් ඒවා පතමින් ඒවාට කාරණ වූ සීලයම රකින්නේය. **මෙධාවී,** ප්‍රඥාවෙන් යුක්ත වූ **තයො සුඛෙ** තුන් සුඛ නිමිති, එහි ස්වරූපය දක්වන්නේ **පසංසං** ප්‍රසංසා යනාදිය වදාරණ ලදී.

එහි **විතතලාභං** ධනලාභය, **පෙචච සගෙග පමොදනං,** පරලොව ගොස් උත්පත්තිස්ථාන වූ ස්වර්ගයෙහි සම්පත්ති අනුභව කිරීම් වශයෙන් සතුටුවීම **අකොරොනෙතාපි චෙ පාපං** තමා පව් නොකරන්නේ නමුත් ගර්හා අර්ථයෙහි වූ අපි ශබ්දයෙන්, හෙතෙම පව් නොකරන්නේ නමුදු පව් කරන්නෙකු සේවනය කරන්නේ නම් සෙස්සන් විසින් පාපයෙහි සැක කටයුතු වෙයි. **සංකියො හොති පාපසමිං** හෙතෙම අනුන් විසින් මෙතෙම පවිටු පුගුලන් සේවනය කිරීමෙන් මෙවැනි පාප කරන්නේ යයි පාප කර්මයෙහි සැකකටයුතු වෙයි. **අවණෙණා චසස රූහති,** පාප පුද්ගල සේවනයෙන් නින්දා හෝ බොරුව දොස් නැගීම් හෝ ඔහුට ඇතිවෙයි. **යාදිසං කුරුතෙ මිතතං** යම්බඳු කෙනෙකු මිත්‍රයෙකු කෙරේද, යම්බඳු කෙනෙකු සේවනය කෙරේ ද භජනය කෙරේ ද, ඔහු සමග යෙයි. ඔහු සමග හිඳියි. කථා කරයි. සාකච්ඡා කරයි. **සචෙ තාදිසකො,** හෙතෙම ඔහු සමග කාය කර්මයෙන්ද වචී කර්මයෙන් ද මනෝ කර්මයෙන් ද එබඳුම වෙයි. කුමක් හෙයින්ද යත්, සහවාසයෙන් ද සහවාස නිමිත්තෙන් ද හෙතෙම එබඳුම වේයයි යන අර්ථයි.

සමචුටෙඨා සමචූටයං පරා තමාගේ ස්පර්ශය අනිත් තැනැත්තේ ද ඔහුගේ ක්‍රියාව අනුකරණය වශයෙන් ස්පර්ශ කරන ලද්දේ වෙයි. සරො දිදෙධා කලාපං වා විස පෙවූ ඊකලාප, සෙසු ඊ කලාප ආලිත්තමපි තමා විසින් ස්පර්ශ කරන ලද හෙයින් සෙසු ඊවලද විෂ ආලේපිත කරන්නාක් මෙනි. මෙසේ පව්ටා පිරිසිදු පුද්ගලයා පාපයෙන් තවරයි. උපලෙපභයා ධීරො පාපසඛා, නුවණැත්තා පාප සහායකයෙක් නොවිය යුත්තේමැයි. (පිරිසිදු පුද්ගලයෙකු සේවනය, පාප පුද්ගල තෙමේ, පිරිසිදු පුද්ගලයෙකු ස්පර්ශ කරන පව්ටු පුද්ගල තෙමේ විෂ පොවන ලද ඊකලාප එම විෂ සෙසු ඊකලාපවල ආල්පිත කරන්නාක් මෙන් පිරිසිදු පුද්ගලයා පාපයෙන් තවරයි. නුවණැත්තේ පව්න් තැවරුණවිට ඇතිවන බිය නිසා පව්ටු මිත්‍රයන් ඇත්තෙක් නොවන්නේය.)

පූතිමච්ඡං කුසගෙගන, යම්සේ කුණුවූ මස් කුසතණවලින්, උපනයහති, මුලක් බඳින්නාක් මෙන් බඳී ද, (වෙලාද) එම කුණුමස් බන්ධනයෝ කුසතණ කුණු නොවූවත් පූති දුගඳව වායනති හමත් තසමා එහෙයින් පාප මිත්ත කල්‍යාණ මිත්ත සේවනයෙහි මේ එබඳු ආදීනවද ආනිසංසද වේ. එබැවින් කොල මිටක් මෙන් දුගඳ සුවඳ, වස්තු මිශ්‍රණයෙන් අසාධු, සාධු ජන නිග්‍රයෙන් ද දුක්ගෙන දෙන සැප ගෙනදෙන ඵලයන්ගේ නිෂ්පත්තිය දැන අසනෙත පාප මිත්‍රයන් න උපසෙවෙය්‍ය සේවනය නො කරන්නේය. සාන්ත වූ සන්සිඳුණු දෝෂ ඇති පසස්නා ලද පණ්ඩිතො සෙවෙය්‍ය පණ්ඩිතයන්ම ඇසුරු කරන්නේය.

මෙසේ භාග්‍යවතුන් වහන්සේ පළමු ගාථාවෙන් සීලයට කරුණු වූ සුබ නිමිති ද දක්වා අනතුරුව කරුණු පසකින් පාපමිත්‍ර සේවනයට කාරණ වූ අවර්ණ සංඛ්‍යාත ප්‍රසංසාවද විරුද්ධ පක්‍ෂයන් පරිවර්ජනය සමග කලණ මිතුරන් ඇසුරු කිරීමෙන් පසංසා නැමැති සැපයන්ගේ පැමිණීමට කරුණු කාරණා සමග අවසාන සැපය දක්වයි.

පටඨාන සූත්‍ර වර්ණනාව
නිමි.

# 31.

**මා පුඤ්ඤභායි සුත්ත මාපුඤ්ඤභායි සූත්‍රයෙහි**

**මා භික්ඛවෙ පුඤ්ඤානං භායිත්ථ** මහණෙනි, බොහෝ කලක්, කාය වචී සංවරය ද, වත්පිළිවෙත් පිරීමද, ඒකාසන ඒකසෙය්‍ය ව්‍රතද, ඉන්ද්‍රිය දමනය ද ධුතාංග ධර්මයන්ගෙන් සිතට නිග්‍රහ කිරීම ද, සති සම්පජඤ්ඤය ද කර්මස්ථානයට අනුරූපව විරියාම්භයද මේ ආදි භික්ෂූන් විසින් නිතර පැවැත්විය යුතු යම් පුණ්‍ය කෙනෙක් වෙත් ද, ඒවායින් භය නොවන්න. භය සන්ත්‍රාසයන් නොපැමිණෙන්න මෙය (නිස්සක්ක) අපාදාන අර්ථයෙහි (සාමි) (සම්බන්ධ) ඡට්ඨී-විභක්තිය වේ. දැන් එයින් භය නොවිය යුතු කාරණය දක්වන්නේ **සුඛස්සෙතං** ආදිය වදාළහ.

එහි **කන්තස්ස** ඉෂ්ට විපාකයාගේ කමනීය බැවින් සිත්කළු වූ දැන් තමාගේ මනාව ඇස් ඇති කල්හි කරන ලද පුණ්‍යකර්මයෙන් බොහෝකලක් විඳින ලද භවයෙන් වැසුණු උළාරතම වූ පුණ්‍ය විපාක ගෙනහැර එය ප්‍රකට කරන්නේ 'අභිජානාමි බො පනාහං' යනාදිය වදාළහ. එහි **මෙත්ත චිත්තං** මෛත්‍රී සහගත චිත්ත ශීර්ෂයෙන් සමාධිය කියන ලද්දේය. **භාවෙත්වා** යනු උපදවා, වඩවා ද **සත්ත සංවට්ට විවට්ට කප්පෙ** මහාකල්ප හතක් සංවට්ට විවට්ට ග්‍රහණයෙන් සංවට්ටට්ඨායි - විවට්ටට්ඨායි කල්පයන් ද ගන්නා ලදී. **ඉමං ලොකං**, කාමලෝකය. **සංවට්ටමානෙ සුදං** විනාශ වන්නේ, සුදං යනු නිපාත මාත්‍රයකි. **කප්පෙ** මෙහි කල්ප ශීර්ෂයෙන් ලෝකය කියන ලදී. **ආභස්සරූපගො හොමි**, පටිසන්ධි ගහණ වශයෙන් ආභස්සර බ්‍රහ්මලෝකයට යමි. **විවට්ටමානෙ**, නැවත හටගන්නේ උපදින්නේ, **සුඤ්ඤං** කිසියම් සත්ත්වයෙකුට කල්පය හටගත් කල්හි ශූන්‍ය වූ හිස් වූ බ්‍රහ්ම විමානයක උපදියි. **බ්‍රහ්මා** කාමාවචර සත්ත්ව විසින් ශ්‍රේෂ්ඨ අර්ථයෙන් ඒ ඒ කියන ලද ගුණයන් නිසා බ්‍රහ්මවිහාර හේතුවෙන් උපදියි යන අර්ථයෙන් බ්‍රහ්ම නම් වේ. බ්‍රහ්ම පාරිසජ්ජ, බ්‍රහ්ම පුරෝහිත බ්‍රහ්මයන්ට වඩා මහත් වූ බ්‍රහ්ම වූයේනුයි **මහා බ්‍රහම** නම් වේ. ඔවුන් අභිබවා සිටි බැවින් **අභිභූ** නම් වේ. ඔවුන් විසින් කිසියම් ගුණය කිසිදු මැඩපැවැත්විය නොහැක්කේනුයි, **අනභිභූත** වූයේ නම් වේ. **අඤ්ඤදත්ථු**, ඒකාන්ත අර්ථයෙහි නිපාතයකි. **දංසා**, දකිනසුලු අභිඥාවෙන් දැකිය යුතුයි. බලමි යන අර්ථයි. හේ වනාහි, අතීත-වර්තමාන-අනාගත යන (තුන්කල්) දැකීමට සමර්ථ වූයේ වෙයි. **වසවත්ති** සෙසු බ්‍රහ්මයන්ගේ

ඉද්ධිපාද භාවනා බලයෙන් තමාගේ සිත ද මා වසඟයෙහි පවත්වයි 'හොමි' වෙමි යයි යෙදිය යුතුයැ.

එකල බෝසතාණන් වහන්සේ අෂ්ට සමාපත්තිලාභී වූයේම සත්නට හිත වූ තෙම පාරමී පූරණය බලනුයේ එම ධ්‍යාන භූමි දෙකෙහි නිකාන්තිය උපදවා මෛත්‍රී බ්‍රහ්ම විහාර වශයෙන් ඔබමොබ සංසරණය කළහ. එබැවින් කියන ලදී. 'සත්ත වස්සානි -පෙ- වසවත්ති' යනුවෙන් මෙසේ භාග්‍යවතුන් වහන්සේ රූපාවචර පුණ්‍යයාගේ විපාක මාත්‍රය ප්‍රකාශකොට දැන් කාමාවචර පුණ්‍යයාගේ ද එය දක්වන්නේ, ඡත්ති සකබත්තං ආදිය වදාළහ.

එහිදී සකෙකා අහොසි, සතිස් වරෙක අත්තැනක නොඉපිද අනුපිළිවෙළින් ශක්‍රම වීමි. චතුර්විධ ආශ්චර්ය ධර්මයන්ගෙන් ද සතර සංග්‍රහ වස්තූන්ගෙන් ලෝකය රංජනය කෙරේනුයි 'රාජා' නම් වේ. චක්‍රරත්න පවත්වයි. සතර සම්පත් චක්‍රයද පවත්වයි. එයින් අන්‍යයන් ද යොදවයි. අනුන්ට හිතපිණිස ඉරියාපථ චක්‍රය පැවැත්ම මෙහි ඇත්තේනුයි චක්කවත්ති නම් වේ. දැහැමින් හැසිරේනුයි ධම්මික නම් වේ. න්‍යායට අනුව ක්‍රම නොඉක්මවා පවත්වයි යන අර්ථයි. ධර්මයෙන් ම රාජ්‍ය ලැබ රජ වීනුයි ධම්මරාජ නම් වේ. පරහිත කාරණයෙන් හෝ ධම්මික වේ. අත්තහිත ධම්මකරණ හේතුවෙන් 'ධම්මරාජ' වේ. සතරදිගක් ඇති සතර මුහුදු ඇති සතර දිවයින් අති පොළොවට අධිපති වේනුයි චාතුරන්ත නම් වේ. ආධ්‍යාත්මික ක්‍රෝධාදි සතුරන් ද බාහිර සතුරෝ ද, සියලු රජවරු ද දඬුවමින් තොරව, ආවුධවලින් තොරව දිනුවේ නුයි විජිතාවී නම් වේ. ජනපදයේ ථාවර භාවයට පැමිණියේ කිසිවෙකුට එයින් යොදවන්ට නොහැකි වේ. ජනපදය හෝ ස්ථාවර භාවයට පැමිණියේනුයි ජනපදත්ථාවරියප්පත්තො ජනපදයන්හි ස්ථිර භාවයට පැමිණියා වූ චක්ක රතනාදී සප්තවිධ රත්නයන්ගෙන් යුක්ත වූයේනුයි, සත්තරතන සමන්නාගතො (සත්රුවනින් යුක්ත වූ) සක්විති රජවීමි.

ඔවුන් අතුරෙන් සක්විති රජතෙමේ චක්ක රත්නයෙන් නොදිනූ දෙය දිනයි. හත්ථි අස්ස රත්නයන්ගෙන් සැපසේ රටෙහි හැසිරෙයි. පරිණායක රත්නයෙන් රට ආරක්ෂා කරයි. සෙසු රත්නයන්ගෙන් උපභෝග සම්පත් අනුභව කරයි. පලමු වස්තු තුන, අදෝස කුසලමූල ජනිත කර්මානුභාවයෙන් පහල වෙත්. මධ්‍යම වූ වස්තු අලෝභ කුසල මූලයෙන්

ජනිත කර්මයන්ගෙන් ද අන්තිමට වූ පරිණායක රත්නය අමෝහ කුසල මූලයන්ගෙන් යුත් කර්මයන්ගෙන් පහල වීයයි දතයුතුය. **පදෙස රජ්ජසස**, කුඩා රාජ්‍යයන්ගේ එතදහොසි තමාගේ සම්පත් ප්‍රත්‍යවේක්ෂා කරන්නහුට පශ්චිම සක්විති කාලයෙහි, මෙය මගේ කිනම් කර්මයක මෙය එලයක්දැයි යනාදි අදහස් ඇතිවිය. හැමතැනෙක්හිම ප්‍රයෝජනවත් වූ කර්මයන්ගෙන් ඒ ඒ භවයෙහි මෙය සිදුවූයේමය. එහි මෙය සක්විති කාල වශයෙන් යෙදිය යුතුය. එවං මහිද්ධිකො, මණිරතන හස්ථිරතන ආදිය ප්‍රමුඛකොට ධනාගාර, වාහන සම්පත්තියෙන් ද ජනපදයන්ගේ දියුණුවෙන් ද, මෙසේ මහත් සෘද්ධි ඇත්තේ, එවං මහානුභාවො චක්ක රතනාදිය ලැබීමෙන් කිසිවෙකුට පීඩා නොකරමින් සියලු රජවරුන් විසින් මුදුනින් පිළිගන්නා ලද අනුශාසනා ඇති බැවින්ද අහසින් යාම ආදී මෙසේ මහානුභාව ඇත්තේ දමසස චක්ඛු ආදී ඉන්ද්‍රිය දමනය මෙන්ම රාගාදී කෙලෙස් දමනයෙන් ද සංයමසස කාය වචී සංයමය එහි යම් සිත් එකඟවීම් වශයෙන් ඇතිවන කිලෙස දමන නම් වූ භාවනාමය පිනද, ඒ මෙත්තා බ්‍රහ්මවිහාර ආදිය මෙහි අදහස් කරන ලදී. එයද උපචාර, අපපණා භේදයෙන් දෙවදෑරුම් වේ. යමක් අපපණාප්‍රාප්ත වේද, එයින් ඔහුට කලින් දැක්වූ පරිදි ධ්‍යාන භූමි දෙකෙහි උපත ලැබේ. අනිකුත් ත්‍රිවිධ පුණ්‍ය ක්‍රියාවන්ගෙන් ද සුදුසු පරිදි සක්‍ර, චක්‍රවර්ති භාවයන් දතයුතුයැ.

**පුඤ්ඤමෙව සො සිකෙඛය්‍ය**, යම් දියුණුවක් කැමති කුලපුත්‍ර කෙනෙක් වේද, හෙතෙම ත්‍රිවිධ පුණ්‍යක්‍රියාවෙහිම හික්මෙන්නේය. නොකළ පුණ්‍යක්‍රියා කරන්නේය. කළ පුණ්‍යක්‍රියා වැඩිදියුණුවට කටයුතු කරන්නේය. **ආයතගගං** මහත්ඵල පිණිස උළාර පල පිණිස පවත්නේ ආයතගග නම් වේ. ප්‍රියමනාප ඵල ඇතිබව හෝ අනාගත උත්තම ඵල ඇත්තේනුයි ආයතගග නම් වේ. භාවයෙ තම සන්තානයෙහි උපදවන්නේය. වඩන්නේය. **එතෙ ධමෙම** දානාදී වූ සුචරිත ධර්මයෙහි, සුඛ සමුද්‍රයෙ, සැප ආනිසංස, **අබ්‍යාපජ්ඣං සුඛං ලොකෙ** කාමච්ඡන්ද ආදි උවදුරු නැති බැවින් නිදුක් වූ අනුන් පෙළීමක් නැතිවිට කිවයුත්තක් නොමැත. ධ්‍යාන සමාපත්ති වශයෙන් සුඛ බහුල බැවින් බ්‍රහ්මලෝක සැපය ද, අනිකුත් පුණ්‍ය ක්‍රියාවන්ගේ වශයෙන් එයින් අන්‍ය වූ සම්පත්ති සංඛ්‍යාත සැපවත් ලෝකයක් **පණ්ඩිතො උපපජ්ජති**, ඵලඹෙයි.

**මාපුඤ්ඤභායි සූත්‍ර වර්ණනාව**
**නිමි.**

# 32.

අප්පමාද සුත්ත අප්පමාද සූත්‍රයෙහි

භාවිතො, උපදවන ලද්දේ වඩන ලද්දේ ද, බහුලීකතො, නැවත නැවත කරණ ලද්දේ, අපෙ, හිතවත් වූ, එය වූ කලී කෙලෙස් නැතිවන හෙයින් එළඹිය යුතුය යන අර්ථයයි කියනු ලැබේ. සම්ධිගයහ තිටඨති මනා ලෙස පිලිගෙන අත්නොහැර පවතී. අප්පමාදො මෙහි අප්පමාදය ප්‍රමාදයට ප්‍රතිපක්ෂ බැවි දතයුතුයැ. ඒ මේ ප්‍රමාදය වූ කලී පමාවන ආකාරයයි. මෙසේ කියන ලදී. මෙහි පමාදය කවරේද යත් කාය දුශ්චරිතාදියෙහි හා පංචකාමයෙහි සිතහැර, සිතින් වෙන්ව ක්‍රියාකිරීම මෙකී කරුණුවලදී සිහියෙන් වෙන්වීම සිහියෙන් වෙන්වූ හැඟීම් කුසල් දහම් වැඩීමෙහි නො සකස් බව කුසල් දහම් නිතර නොකිරීම එහි සිහිය නොපිහිටුවීම එහි ඇකිලී සිටීම එහි අත්හල කැමැත්ත පසුබස්නා පැවැත්ම යනාදී ලෙසින් ධර්මයට පටහැනි වූ සිහියෙන් වෙන්වීම, ප්‍රමාදය මෙයින් කියවෙන්නේය.

එබැවින් කියන ලද ක්‍රමයට ප්‍රතිපක්ෂ වූයේ අප්පමාදය යයි දතයුතුය. අර්ථ වශයෙන් එය සතියෙන් තොර නොවීමය. නිත්‍යයෙන් එළඹ සිටි සිහියට මෙය නමකි. අන්‍යයෝ සතසමපජඤඤ යෝගයෙන් පැවති සතර අරූප ස්කන්ධයෝ අප්පමාදයයි කියත්. කෙසේනම් අප්පමාද වැඩිය යුත්තේ ද අප්පමාද භාවනාවක් නැත. වෙන් වූ එක් භාවනාවක් ඇත. යම්කිසි පුණ්‍යක්‍රියාවෝ කුසලක්‍රියාවෝ වෙත් ද ඒ සියල්ල අප්පමාද භාවනාවමැයි දතයුත්තේයැ. විශේෂ වශයෙන් වනාහි විවටට උපසස වූ සරණාගමනය කායික වාචසික සංවරයද ඇසුරුකොට පවත්නා සියලු සීලභාවනා ද සියලු සමාධි භාවනා ද සියලු පඤ්ඤා භාවනාද, සියලු කුසල භාවනාද අප්පමාද භාවනායයි දතයුත්තාහුය.

අප්පමාදො යන්නෙන් මහත් අර්ථයක් දක්වත්. මහත් වූ අර්ථයක් ගෙන සිටී. සියලු ත්‍රිපිටක බුද්ධ වචනය ගෙන අප්පමාද පදයට අර්ථ කථනය කරන්නා වූ ධර්ම කථික තෙම නොතොටින් ඇතුලට පිවිසෙන්නේ යයි නොකිය යුතුය. කුමක් හෙයින් ද අප්පමාද පදයාගේ මහත් බැවිනි. එය එසේමැයි. සම්මා සම්බුද්ධරජාණන් වහන්සේ පිරිනිවන්පානා සමයෙහි, අභිසම්බෝධියෙහි සිට සතලිස්පස් වසක් මුළුල්ලෙහි තමා විසින් දෙසූ

ධර්මය එකම පදයකින් සංග්‍රහකොට දක්වන්නේ අප්පමාදෙන සම්පාදෙථ යයි භික්ෂූන් වහන්සේලාට අවවාද කළ සේක. අප්පමාදං පසංසන්ති දාන ආදි පුණ්‍ය ක්‍රියාවන්හි අප්පමාදං, අප්‍රමාදයට පැමිණෙන්නා වූ පණ්ඩිතා බුද්ධාදීහු පසංසන්ති වර්ණනා කරත්. කුමක් හෙයින්ද? යම්හෙයකින් **අප්පමත්තො උභො අත්ථෙ අධිගණ්හාති පණ්ඩිතො** (සිහි ඇති පණ්ඩිත තෙම දෙලොව යහපත වෙසෙසින් සලසා ගනී.) මෙසේය. එහි අර්ථ යොජනා.

මෙහි දිට්ඨ ධම්මික අර්ථය කවරේ ද? සම්පරායික අර්ථය කවරේද? යම් මෙහි ලෝක සැපයක් වේද, එයද යම් මෙහි ලෝක සුඛය ගෙන දෙන්නක් වේද, එයද මේ දිට්ඨධම්මික අර්ථය නම් වේ. ඒ කවරේද යත්? ගිහියන්ගේ යම්කිසි ධන උපකරණ, නිරවුල් කර්මාන්ත ආරෝග්‍ය සංවිධාන, යෝගවිහිත වූ (යෝගයන්ගෙන් සාදන ලද) සිප්පායතන විද්‍යාස්ථාන, පිරිවර ජනයාට උපකාර වූ මේ ආදියද, පැවිද්දන්ගේ චීවර පිණ්ඩපාත සේනාසන ගිලානප්‍රත්‍යය භෙසජ්ජ - පරික්ඛාර යන ඔවුන්ගේ නිවැරදි ලාභයකි. කල්පනා කොට පටිසේවනය කිරීමද කල්පනාකොට වෙන්වීමද වස්තුවිසද කිරියතාව, අප්පිච්ඡතාවය සන්තුට්ඨිතාවය පවිවෙකතාවය අසංසංට්ඨතා ආදිය සම්පරායික අර්ථය නම් වේ. ධම්ම චරියාව උභයාර්ථය පිණිසම පතිරූපදෙස වාසය සත්පුරුෂ ඇසුර, ධර්මශ්‍රවණය යෝනිසෝ මනසිකාරය ආදිය උභයාර්ථයටම සාධාරණ වූවාහු වෙති. අත්ථාභි සමය ද්විධ වූ අර්ථයට හිත වූ ප්‍රතිලාභය පරමාර්ථ වූ නිර්වාණයාගේ ද සංග්‍රහ වීමකැයි දතයුත්තාහුය.

**අප්පමාද සූත්‍ර වර්ණනාව නිමි.**

# 33.

**සකුලලපකායික සුත්තෙ,** සතුලලපකායික සූත්‍රයෙහි

**සතුලලප කායිකා** සත්පුරුෂ ධර්මය සමාදාන වශයෙන් ප්‍රකාශකොට ස්වර්ගයෙහි උපන් බැවින් සතුලලපකායික නම් වේ. එහි කථාවස්තුවයි. මුහුදු වෙළෙන්දෝ සමූහයක් නැවකින් මුහුදු ගමනක් පිටත් වූහ. ඔවුන්ගේ විදින ලද ඊයක වේගයෙන් ගමන්කරන නැවේ සත්වන දිනයෙහි මුහුද මැද දී මහත් උවදුරක් විය. ජලපහරවල් අවුත් නැව පිරෙන්ට පටන්

ගත්තේය. නැවෙහි ගිලෙන්නා වූ මිනිස්සු තම තමාගේ දේවතාවුන්ගේ නම් කියමින් ආයාචනාදිය කරමින් ඇඬූහ. ඔවුන් මැද එක් පුරුෂයෙක් 'මෙවන් භයකදී මට පිහිටක් ඇත්තේදැයි ආවර්ජනා කරන්නේ තමන්ගේ තිසරණ සහිත සීලය දැක යෝගියෙකු මෙන් පලක් බැඳ සිටියේය. ඔහුගෙන් අනික් අය නිර්භය වීමට කාරණ විමසීය. පින්වතුනි නැව්නගින දින භික්සඝනට දන් දී තිසරණ සහිත සීලය ගත්තෙමි. එහෙයින් මට භයක් නැතැයි කීය. කිම ස්වාමීනි, එය අනින් අයටත් වටීදැයි ඇසීය. එසේය එය වටියයි කීය. එසේම නම් අපටත් දෙන්න යයි කීහ. ඔහු ඔවුන් කොටස් හතකට බෙදා සිල් දුන්හ. ඔවුන් අතර පළමු කොටස ගොප් ඇටය පමණ ජලයේ සිට පන්සිල් ගත්හ. දෙවන කොටස දනක් පමණද තුන්වන කොටස කටී ප්‍රමාණයේ දී ද හතරවන කොටස නාභි මත්තේ සිටද පස්වන කොටස තන පමණ සිට ද සවන කොටස බෙල්ල පමණද හත්වන කොටස මුඛ ප්‍රමාණයේ සිට ලුණුවතුර බොමින් සිල් ගත්තේය. හෙතෙම සිල් දී තොපට වෙන සරණක් නැතැයි සීලයම ආවර්ජනා කරන්න යයි ඝෝෂා කළේය. එම සත්සියයක් දෙන එහිදී කලුරියකොට ආසන්න කාලයේ ගත් සීලය නිසා තව්තිසා දෙව්ලොව උපන්නාහුය. ඔවුන්ට පෙලට විමානයෝ පහල වූහ. සියල්ලට මැද ආචාර්යවරයාට යොදුන් සියයක සුවර්ණ විමානයක් පහලවිය. අවසේස විමාන ඔහුට පරිවාර මෙන් පිහිටියාහ. අඩුම ප්‍රමාණයේ විමාන දොලොස් යොදුනක් විය. ඔවුන් උපන් කෙනෙහිම කර්මය ආවර්ජනා කරන්නේ ආචාර්යවරයා නිසා සම්පත්ති ලාභය දැක, යමු බුදුරදුන් හමුවේ අප ආචාර්යවරයාගේ ගුණ ප්‍රකාශ කරන්නෙමැයි මජ්ඣිමයාම සමයෙහි භාග්‍යවතුන් වහන්සේ වෙත එළඹියාහුය. ඔවුන් අතරෙන් දේවතාවෝ සදෙනෙක් ආචාර්යවරයාගේ ගුණ වර්ණනා කරනු පිණිස එක එක ගාථාව කිවූහ.

එහි, සබ්භිරෙව, සත්පුරුෂයන් සමගම සමාසෙථ, එක්වන්නේය. දේසනා ශීර්ෂ වශයෙන් මේ මය. සියලු ඉරියාපථයන්ගේ නම සත්පුරුෂයන් සමගම යෝග්‍ය වන්නේය යන අර්ථයි. කුබ්බෙථ කරන්නේය. සන්ථවං මිත්‍ර සන්ථවය තණ්හා සන්ථවය, කිසිවෙකු සමග නොකළ යුත්තේය. සතං බුද්ධාදීන්ගේ සද්ධම්මං පඤ්චසීල, දසසීල, චතුසතිපට්ඨාන ආදි ප්‍රභේද වූ සද්ධර්මය. මෙහි වනාහි සීලය අදහස් කෙරේ. සෙය්‍යො දියුණුව. න පාපියො ලාමක වූ කිසිවක් නොවේ. නාඤ්ඤතො, වැලිවලින් තෙල් මෙන් අන් ක්‍රමයකින් ප්‍රඥාව නොලැබේ. තල ආදියෙන් තෙල්

මෙන් සත්පුරුෂයන්ගේ ධර්මය දැන පණ්ඩිතවරුන්ට සේවනය කිරීමෙන් භජනය කිරීමෙන් ලහයි. සොක මජෙඣ සෝක වස්තූන්ගෙන් හෝ සෝකයට පත් සේනාපති, මල්ලිකා උපාසිකාව මෙන් ඤාති මජෙඣ විරොචති සංකිච්ච තෙරුන් සේ සද්ධිවිහාරික, අධිමුත්තක සාමණේරයන් මෙන් බැබලේ.

හෙතෙම තෙරුන්ගේ බෑනනු කෙනෙකි. තෙරුන් විසින් තමන් මහලු වූයේ යන්න වයස දැනගෙන එන්න, උපසම්පදා කරවන්නෙමැයි කී කල්හි මැනවයි පාසිවුරු ගෙන චෝර අටවියට මෑත භාගයෙහි සොහොයුරියගේ ගමට පිඬු පිණිස හැසුරුනේ සොහොයුරිය ඔහු දැක ගෙදරදී වැළඳවිය. හෙතෙම දන් වළඳ අවසන සොහොයුරියගෙන් වයස ඇසීය. ඕ මම නොදනමි, මගේ මව දන්නේ යයි කීහ. හෙතෙම ඔබ සිටින්න. මම මව සමීපයට යන්නෙමැයි අටවියට පිවිසියේය. එන්නාහු ඔහු දුරදීම සොර පුරුෂයෙක් දැක සොරුන්ට කීහ. සොරු ඔහුගෙන් සමහරෙක් මොහු මරමු, සමහරෙක් මොහු අත්හරිමු යයි මන්ත්‍රණය කළහ. සාමණේර තෙම මෙසේ සිතීය. 'මම තවම සේඛයෙකි. අකතකරණීය වෙමි. මොවුන් සමග කථාකොට බේරෙන්නෙමි යයි සොරදෙටුවා අමතා, ඔබට උපමාවක් දක්වන්නෙමැයි මේ ගාථා පන්තිය කීහ.

අහු අතීතමද්ධානං අරඤ්ඤස්මිං මහා වනෙ
ජෙතො කුටානි ඔඩ්ඩෙත්වා කපපකං අවධී තදා

කපපතඤ්ච මතං දිස්වා උබ්බිගහා මිගපක්ඛිනො
එකරත්තිං අපක්කාමුං අකිච්චං වත්තතෙ ඉධ

තථෙව සමණං හන්ත්වා අධිමුත්තකං අකිඤ්චනං
අද්ධිකා නා ගමිස්සන්ති ධනජානි භවිස්සති

සච්චං බො සමණො ආහ අධිමුත්තො අකිඤ්චනො
අද්ධිකා නාගමිස්සන්ති ධනජානි භවිස්සති

සචෙ පටිපථෙ දිස්වා නාරොචෙස්ස සි කස්සචි
තව සච්චානු රක්ඛන්තො ගච්ඡ භන්තෙ යථාසුඛං

අතීත කාලයෙහි ආරණ්‍යයෙහි මහා කුලයෙහි දක්ෂ උගුල් අටවන්නෙක් උගුලක් අටවා එයින් කරණවෑමියෙකු මළේය.

මේ කරණවෑමියාගේ මරණය දැක කලකිරීමට පත් සිවුපා පක්ෂීහු මෙහි නොවිය යුතු දෙයක් වන්නේ යයි එක් රැයකින්ම වනය අතහැර ගියාහුය.

එසේම වරදක් නැති අධිමුත්ත නම් මහණෙකු නසා ඒ හේතුවෙන් මගීහු නොඑන්නාහුය. ධනහානි වන්නේය.

වරදක් නොමැති අධිමුත්ත නම් ශ්‍රමණ තෙම ඇත්තක් කියන්නේය. මගීහු නොපැමිණෙන්නාහුය. ධන හානියද වන්නේය.

ඉදින් මග හමුවන කිසිවෙකුට නො කියන්නෙහි නම් මෙම ඇත්ත රකිමින් ඔබ කැමති පරිදි යන්න.

ඔවුන් විසින් මුදනු ලැබූ හෙතෙම නෑයන් දැක ද ඔවුන්ට නොකීය. ඉක්බිති ඔවුන් පැමිණියේ සොරු අල්ලාගෙන කරදර කළාහුය. පපුවට ගසා ගනිමින් හඬන්නා වූ මව සොරුන්ට මෙසේ කීවාහුය.

කිනෙත හොති, අධිමුතෙතා උදරෙ වසීති භාසසි
පුටෙඨා මෙ අමම අකඛාහි කථං ජානෙමු තං මයං

අධිමුතතසස අහං මාතා අයඤච ජනතො පිතා
භගිනි භාතරොචාපි සබෙබව ඉධ ඤාතයො
අකිචචකාරී අධිමුතෙතා, යං දිසවා න නිවාරයෙ

එතං බො වතතං සමණානං අරියානං ධමම ජීවනං
සචචවාදි අධිමුතෙතා යං දිසවා න නිවාරයෙ

අධිමුතතසස සුචිණෙණන සචචවාදිසස භිකඛුනො
සබෙබව අභයං පතතා සොතථිං ගචඡනතු ඤාතයො,

'පින්වතිය කිමෙක්ද? අධිමුත්ත තෙම උදරයෙහි විසුවේ යයි කියති. අසන්නා වූ මට මැණියෙනි, කියන්න එය අපි කෙසේ දැනගනිමුද?'

'මම අධිමුත්තගේ මව වෙමි. මේ ජනක නම් වූ පියාය. සහෝදරිය සහෝදරයෝ යන මේ සියල්ලෝම ඤාතිහුය. නොකළ යුත්තක් කළ අධිමුත්ත තෙම මෙය දැක එය නොමිදුවිවේය.'

'මේ ශ්‍රමණයන්ගේද ආර්යයන්ගේ ධම්ම ජීවීන්ගේ ද වචනය සත්‍යවාදී අධිමුත්ත තෙම යම් මේ උවදුර දැක වැලැක්වූයේ නැත.

මනා පුරුදු ඇති සත්‍යවාදී වූ භික්ෂුවගේ සියල්ලෝම නිර්භය වූවාහුය. දරුවනි! ඔබලා සියලුදෙනම සැපසේ යනු මැනව.'

ඒ පන්සියයක් සොරමුල පැහැදීමට පැමිණ අධිමුත්ත තෙරුන් හමුවෙහි පැවිදි වූහ. හෙතෙම ඔවුන් රැගෙන ආචාර්ය උපාධ්‍යායයන් සමීපයට ගොස් පළමුව උපසපන් වූයේ පසුව ඔවුන් තම අතවැසියන් කොට උපසපන් කරවීය. ඔවුහු ඔහුගේ අවවාදයෙහි පිහිටා සියල්ලෝම රහත් වූහ. සාතතං නිතර බොහෝකල් සිටිත්. සැපසේ හෝ සිටිත් යයි කියති. සබ්බසං වො තොප සියලු දෙනාගේ පරියායෙන, කාරණයෙන් සබ්බදුක්ඛා පමුච්චති, හුදෙක් තොප විසින් කියන ලද්දේ නොවෙයි. ශ්‍රේෂ්ඨ වූ ආකාරයට පත්ව සිටිති. සියලු වට්ට දුක්ඛයෙන් මිදුනේය යනුයි.

පඨම සතුල්ලපකායික සූත්‍ර වර්ණනාව
නිමි.

## 34.

දුතිය සතුල්ලප කායික සුත්තෙ දෙවන සතුල්ලපකායික සූත්‍රයෙහි. මච්ඡෙරා ච පමාදා ච මෙහි යමෙක් මෙය දෙන්නා වූ මගේ වස්තුව අඩුවේ. මගේ ගෙදර මිනිසුන්ට ඉතිරි නොවන්නේ යයි නොදෙයි. මෙතෙම

තමාගේ සම්පත් සැඟවීම ලක්‍ෂණකොට ඇති මසුරුබැවින් නොදෙන්නේ නම් වන්නේය. යමෙක් ක්‍රීඩා ආදියෙහි යෙදුන බැවින් දන් දිය යුතුයයි සිතක්වත් නූපදවයි. මෙතෙම සිහියෙන් තොරවීම නම් පමාදයෙන් නොදෙන්නේ නම් වේ. එවං දානං න දීයති මෙසේ යස දායක වූ සිරි දායක වූ සම්පත්ති දායක වූ දානය නොදෙනු ලැබේ යයි නොදීමට කරුණු කියයි. පුඤ්ඤ මාකංඛ මානෙන පුබ්බ චේතනාදි භේද වූ පින් කැමැත්තහු විසින් දෙය්‍යං හොති විජානතා දානයාගේ විපාක ඇතැයි දන්නහු විසින් දියුයුතුම වන්නේය. යසෙසව භීතො ජිගච්ඡා පිපාසා සංඛ්‍යාත භයින් බියවූයේ තදෙව තදෙවාදදතො භයං එම ජිගච්ඡා පිපාස සංඛ්‍යාත භය නොදෙන්නවුන්ට ම ආයේ වෙයි. යසස භායති මච්ඡරී, යම් ඒ ජිගච්ඡාවට ද පිපාසාවට ද මසුරා භය වේ. ජිගච්ඡා ච පිපාසාච තං යෙව බාලං මෙලොව හා පරලොව දෙක්හි ඵුසති, ලුහුබඳී. අත්තොහරියි. විනෙය්‍ය දුරුකොට දජ්ජා දානං මලාභිභූ මසුරුමල අභිබවා දන් දෙන්නේය. තෙ මතෙසු න මීයනති ඒ දෙන ස්වභාව ඇත්තෝ නොදෙන්නන් අතුරෙහි නොමිය යත්. යම්සේ මළ තැනැත්තේ පිරිවරා තබන ලද බොහෝ ආහාරපාන ආදියෙහි 'මෙය මොහුට වේවා. මෙය මොහුට වේවායි නැගිට බෙදා දීමක් නො කරයි. මෙසේ නොදෙන තැනැත්තේ ද, මළ තැනැත්තාට ද නොදෙන්නාට ද භෝගයෙන් සම සම වෙත්. එම දෙන තැනැත්තේ මෙවැනි මළවුන් අතුරෙහි නොමියයත් යන අර්ථයයි. පන්ථානංව සහබ්බජං යම්සේ කතරමග කැටුව යනවුනට අප්පස්මිං සුළු දෙය වූ බෙදා දී පවෙච්ඡනති දෙත් ද එසේම අනවරාග්‍ර වූ සසර කතරෙහි ගමන් කරන කල්හිදූ අල්ප වූ මාර්ගෝපකරණ සංවිභාගශීලීව බෙදා දෙන්නේමය. ඔවුහු මළවුන් අතර නොමිය යෙත්. එස ධමෙමා සනනතනො මේ පෞරාණික ධර්මයකි. සනන්තනයන්ගේ හෝ පණ්ඩිතයන්ගේ ධර්මයකි. අප්පසොකෙ ස්වල්ප වූ දියයුතු දේ ඇතිකෙනෙක් බහුනෙකෙ න දිච්ඡරෙ, බොහෝ භෝග සම්පත් ඇත්තේ ද ඇතැම් කෙනෙක් නොදෙත්. සහසෙසන සමං මිතා (මද දෙයින් දෙන ලද දක්ෂිණාව) දහසක් වැයකොට දෙන ලද දන හා සමාන යයි ප්‍රමාණ කෙරෙත්. දුද්දදං දද මානානං කර්මයද කර්මඵලය ද අදහා දෙන්නා වූ පණ්ඩිතයන්ගේ සත්පුරුෂයන්ගේ දානය, ශ්‍රද්ධාවෙන් තොර වූ මසුරුමල ආදී දෝසවලට වසඟ වූ අපණ්ඩිතයන් විසින් දුද්දදං අසතුටින් දෙන ලද්දේ වෙයි. අසප්පුරිස තෙම වනාහි නොසකසා සකස් නොකොට තුඹසෙහි සර්පයෙකු බහාලන්නාක් මෙන් යම්කිසි දෙයක් දෙති. කමම කුඛබනතං දාන සීල

ආදී පුණ්‍යකර්ම කරන්නවුන්ගේ සතං ධම්මො දුරනනයො සත්පුරුෂයන්ගේ දසකුසලපථ ධර්මය අසත්පුරුෂයන් විසින් අනුගමනය කිරීම අපහසුය. පිරීම අපහසුය. නානා හොති ඉතො ගති. මෙම මිනිසත් බැවින් මතු නානා භවයන් වේ. කවරේදැයි කීහ. අසනෙතා නිරයනති යනුවෙන් අසත්පුරුෂයෝ නිරයෙට යන බව කීහ.

ධම්මං චරෙ, දසකුසල කර්මපථ ධර්මයෙහි හැසිරෙයි. යොපි සමුඤ්ජකං චරෙ යමෙක් කලවිට ශුද්ධ කිරීම් පිදුරුපෙලීම් ආදී වශයෙන් දුකසේ ජීවිකාව පවත්වන්නේ, එකල්හිත්, මනාලෙස පිඬුසිඟා වඩින්නේ, දදමපපකසම්ං අල්ප වූ පලාකොල පමණකුදු බෙදා දෙන්නේ සතං සහසසානං සහස්‍රයාග කළ ලක්‍ෂයක් දෙනෙකුගේ යාගක්‍රියාවෝ. එබඳු දිළින්දාගේ දානක්‍රියාව පිළිබඳ ශත භාගයකුත් නොඅගී. සහසස යාගිනං භික්‍ෂූන් දහසකගේ යාගය හෝ -(දහසකට දන්දීම) කහවනු දහසක වියදමින් කරන යාගය - සහසසයාගය එය ඔවුන්ට ඇත්තේනුයි සහසසයාගිනො නම් වේ. මොහු භික්‍ෂූන් දහයකට දෙයි. තවකෙනෙක් භික්‍ෂූන් කෝටියකට දෙයි. මොහු කහවනු දහයක් වියදම්කර දන්දෙයි. අනිකා කෝටියක් වියදම් කර දන්දෙයි. එම සහසසයාගී ධනවතාගේ දානය දිළින්දාගේ දානයෙන් සොලොසින් පංගුවක් නොවටිනා බව පැවසෙයි. කලා නම් සොලොසින් භාගයයි. සත භාගද දහස් භාගද වේ. මෙහිදී සත භාගය දක්වන ලද්දේ වෙයි. කථාවිධසස සිඟීමෙන් ජීවත්වන්නා වූ ද, අඹුදරුවන් පෝෂණය කරන්නා වූද ස්වල්පයක් දෙන්නා වූද, එවැනි දිළිඳු පුරුෂයෙකු විසින් බෙදාදෙන ලද එක් සලාක බතක් හෝ සඟ බතක් හෝ වේද මෙයින් සියයෙන් පංගුවකුදු, අනිත් අයගේ දසකෝටි සහසස දානය නොඅගනේය. නොපැමිණේ යයි අදහස් කරන ලදී. මෙසේ තථාගතයන් වහන්සේ මහාදාන අගය නොකරන කල්හි එහි සිටි එක් දේවතාවෙක් මෙසේ සිතීය. මෙසේ භාග්‍යවතුන් වහන්සේ මහාදාන පාදයකට පරිවර්තනය රුවන් සියගණන් මෙන් තරකයෙහි හෙලන මේ ඉතා කුඩා දානය සඳමඬල මෙන් උලුප්පා දැක්වීමෙන් කෙසේනම් දානය මහත්ඵල තරවේදැයි දැනගුන පිණිස ගාථාවකින් ප්‍රකාශ කළේය.

යශෙඤඤා දානං, විපුලො, විපාකඵල වශයෙන් විපුල වූයේ. මහගගතො, ඊටම සමාන තේරුම් ඇති වචනයකි. සමෙන දිනනසස, දැහැමින් සෙමින් ලැබ දුන් දානය ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ දන්දීම බෙදා දක්වන සේක්, දදනති හෙකෙ ආදිය වදාළහ. විසමෙ විසම වූ

කාය-වචී-මනෝ කර්මවලින් යුක්තව, නිච්ඡයා - පිහිටා. ඡෙත්වා, තලා, වධිත්වා මරා, සොචයිත්වා අනුන් සෝකයෙහි ගිල්වා, අසසුමුඛා, හඬන කඳුළු වගුරුවන මුහුණුවලින් යුතුව දෙන ලද දානය අසසුමුඛ දානය යයි කියනු ලැබේ. 'මම සම්මා සම්බුද්ධ බැවින් මහාදානං ගහෙත්වා අල්පඵල වූවක් කරන්ට නොහැක්කේ වෙමි. පරිත්ත දානයක් හෝ මහත්ඵල කරන්ට, මෙම දානය වූ කලී තමන් තුල උපන් පිරිසිදු බව හේතුවෙන් මෙසේ මහත්ඵල වේයයි මෙම අරුත දක්වන්නේ එවං ආදිය වදාළහ.

දුතිය සතුලලප කායික සූත්‍ර වර්ණනාව නිමි.

## 35.

ආදිත්ත සුත්තෙ ආදිත්ත සූත්‍රයෙහි

ජරාය මරණෙන ච, මේ දෙසනා ශීර්ෂයයි. රාග-දෝස-මෝහ-ජාති-ජරා-මරණ-සෝක-පරිදේව-දුකඛ-දෝමනස්ස-උපායාස යන එකළොස් ගින්නකින් සත්ත්ව ලෝකය ඇවිලගන්නා ලද්දේමය. දානෙන දාන චේතනාවෙන්, දින්නං හොති සුනීහටං දාන පුඤ්ඤචේතනා තොමෝ දායකයාටද ගෙහිමියාට බැහැර කරන ලද භාණ්ඩද දෙන ලද්ද මැනවින් බැහැර කරන ලද්දේ වෙයි. තෙන වුත්තං එහෙයින් කියන ලද්දේ වෙයි. චොරාහරන්ති නොදෙන ලද සම්පත් සොරු ද පැහැර ගනිත්. රජවරුද පැහැරගනිති. ගින්නෙන් ද දැවෙයි. තිබූ තැනම නැසෙයි. අන්තෙන මරණයෙන් සරීරං සපරිගගහං, සිරුර ද, චෝරාදීන්ගේ වශයාන් නොහට සම්පත් ද සගගමුපෙති, වෙස්සන්තර රාජ ආදීන් මෙන් ස්වර්ගයෙහි උපදිත්.

ආදිත්ත සූත්‍ර වර්ණනාව නිමි.

# 36.

මච්ඡර සුත්ත, මච්ඡර සූත්‍රයෙහි.

කදරියා මෙය මච්ඡර යන්නට සමාන තේරුම් ඇති වචනයකි. මුදුක වූයේ මච්ඡරිය යයි කියනු ලැබේ. ථද්ද වූයේ කදරිය නම් වේ. එතෙක් තමා වසන තැනදී අත දිගහැර භික්ෂූන් නොවඳිති. විහාරයට ගොස් මනාකොට වැඳ මිහිරි පිළිසඳර කථා කෙරෙති. ස්වාමිනි, අපගේ වසන ස්ථානයට නොවඩින්නාහුය. ගෙදරට හෝ වඩින්න, ඒ ප්‍රදේශය ආර්යයන් වහන්සේලාට කැඳ බත් ආදියෙන් සංග්‍රහ කරන්ට සමත්ය. භික්ෂුවද සැදැහැවත් උපාසකයෙකි. යාගු භත්තාදියෙන් සංග්‍රහ කෙරෙයි. ඉක්බිති එක් තෙරනමක් ඔහුගේ ගමට ගොස් පිඬුපිණිස හැසිරෙයි. හෙතෙම භික්ෂුව දැක අන් දෙසකට හෝ යෙයි. ගෙට හෝ ඇතුල්වෙයි. ඉදින් ඉදිරියට හමුවන්නේ නම්, වැඳ ආර්යයන් වහන්සේට භික්ෂාව දෙවයි මම එක් වැඩකට යෙමැයි පිටත්ව යෙයි. හිස් පාත්‍රා ඇතිව තෙරුන්වහන්සේ නික්ම යයි. මේ මුදු මච්ඡරිය නම් වේ. යමෙක් දායකයෙකු මෙන් පෙන්වයි. එක් භික්ෂුවක් පිඬු පිණිස වැඩිකල්හි තෙරුන්වහන්සේ සිටියේ යයි කීකල්හි මගේ පා රිදේ යයි යනාදිය කීය. ගල්කණුවක් මෙන් සිටියි. වචන මාත්‍රයක්වත් කථා නොකරයි. මේ ථද්ධ මච්ඡරිය නම් වේ. මෙහිද තද මසුරුබව අදහස් කෙරේ.

පරිභාසකා ගෙදොර සිටි භික්ෂූන් දැක, කිම තොප, සීසා, වපුරා කපා ආවාහුද? අපි අපටවත් යමක් නොලබමු. කෙසේනම් තොපට දිය යුත්තක් තිබේද, ඉක්මණට පිටත් වව් යනාදි අයුරින් තර්ජනය කරන්නාහු අනතරාය කරා, දායකයාට සගගනතරාය ද, ප්‍රතිග්‍රහයනට ලාභනතරාය ද, තමාට උපඝාතක කර්මයදැයි මෙතෙක් අන්තරාය කරන්නා වූ, රති පංචකාම රතිය, ඛිඩ්ඩා කායික ක්‍රීඩා ආදිය දිට්ඨෙව ධම්මෙස විපාකො එහි උපන් තන්හි දිටුදැම්යෙහි ලැබෙන විපාකයෝය. මේ සම්පරායෙච දුගගති නිරයෙහි හා යම ලෝකයෙහි උපදිත් යයි සම්පරායික දුග්ගති කියන ලදී. වදඤ්ඤූ ගෙදොර හුන්නාහු භික්ෂූහු නිශ්ශබ්ද වූවාහු වෙති. අර්ථ වශයෙන් භික්ෂාව දෙවයි කියන්නේ වෙති. එහි යමෙක් 'අපි පියමු, ඔවුහු නෙපියත් පියන්නන් වෙත පැමිණ නොලබන්නාහු නම් කොහෙන් ලබන්නාහුද? දෙය්‍යධම්ම බෙදත් යයි ඔවුහු කියන්නාහු වෙති. ඔවුහු

වදඤ්ඤූ නම් වෙති. පකාසනති විමානයන්ගේ ප්‍රභාවෙන් බබලත්. පරසමභතෙසු, අනුන් විසින් රැස්කරන ලද භෝගයන්හි. සමපරායොච සුගති, එතෙ සගෙග මෙසේ කියන ලදී. මරණින් මතු ද සුගතියක ඉන් චුතව නැවත පරලොවද සුගතියම වේ.

මච්ඡර සූත්‍ර වර්ණනාව නිමි.

# 37.

යාව ජරා සුත්ත යාව ජරා සූත්‍රයෙහි,

සාධු, යහපත්, සීලං යාව ජරා යම්සේ මුතු මැණික් ආදී ආභරණයෝ තරුණ කාලයෙහිම හොබනේ වේ. ජරා ජීර්ණ කාලයෙහි ඒවා දරන්නේ 'මෙතෙම දැනුදු තරුණබව පතයි යයි කිවයුතු බවට පැමිණෙයි. සීලය එසේ නොවේ. සීලය හැමකල්හිම හොබනේ වෙයි. සද්ධා සාධු පතිට්ඨිතා, හත්ථාලවක චිත්ත ගහපති ආදීන්ට මෙන්, ලෞකික, ලෝකෝත්තර ශ්‍රද්ධාව නොසෙල්වෙන සේ පිහිටියාහු මැනවි. සද්ධාව මුල් වූ ධර්මයන්ගේ ප්‍රතිලාභයට හේතු වූ ගෞරව කටයුතු ඇල්ම උපදවන අතුල්‍ය වූ දුර්ලභ වූ උසස් සත්ත්වයන්ගේ පරිභෝග කිරීම් අරුතින් පඤ්ඤාරතන යයි කියන ලද්දාහුය. පුඤ්ඤං පුණ්‍ය චේතනා. එය අරූප බැවින් අත්හැරීමට නොහැකිය.

යාවජරා සූත්‍ර වර්ණනාව
නිමි.

## 38.

පවාසි මිත්ත සුත්ත. පවාසිමිත්ත සූත්‍රයෙහි සතො පවසතො මිත්තං විදේසයෙහි වසන පරදේසයට ගියාහු සමග හැසිරෙන පිරිස හෝ, රෝගයක් හටගත් විට පල්ලැක්කියකින් හෝ වෙනත් යානයකින් හෝ ගෙනගොස් සුවභාවයට පත්කිරීමෙන් මිත්‍රතෙම සහාය වෙයි. සකෙ ඝරෙ, තමාගේ ගෙදර යම් ආකාර රෝගයක් උපන්කල්හි පුත්‍ර-භාර්යා ආදීහු පිළිකුල් කරත්. මව වූ කලී අශූචි පවා සඳුන් මෙන් සලකා පිළිදැගුම් කරත්. එහෙයින් තමාගේ ගෙදර මව්තොමෝ මිත්‍රවන්නාහුය. අත්ථජාතසස උපන් කටයුතු ඇත්තහුට යමෙක් එම කටයුතු කරණය කෙරේද, හෙතෙම වැඩකටයුතුවලට සම්බන්ධ වන බැවින් සහායක මිත්ත නම් වේ. සුරාපාන ආදියට සහායවන්නා මිත්‍රයෙක් නොවේ. තං මිත්තං සමපරායිකං යම් පිනක් තමන් විසින් කරන ලද්දේ ද, ඒ කුසල කර්මයෝ සම්පරායික මිත්‍ර නම් වෙති.

පවාසිමිත්ත සූත්‍ර වර්ණනාව නිමි.

## 39.

මච්චුනාබභාහත සුතෙත මච්චුනාබභාහත සූත්‍රයෙහි,

මච්චුනාබභාහතො, මාරයාගෙන් මිදීම, අත්නොහැර පැතිර මරණ ලද්දේ වෙයි. උපන් කිසි සත්ත්වයෙක් මරණයෙන් නොමිදෙයි. ජරාය පරිවාරිතො, ජරාජීර්ණ භාවය පැමිණීමෙන්, ජරාවෙන් හාත්පසින් පිරිවරා ගත්තේ වෙයි. තණ්හා සලෙලන ඔතිණෙණ ඇතුලට අනිනු ලද පිටත ගත නොහැකි අන්දමින්, තණ්හා නමැති හුලෙන් අධෝමුඛ කොට ප්‍රවේශ කරන ලද්දේ. ඉච්ඡාපධූපායිතො, ඒ ඒ වස්තූන් ප්‍රාර්ථනා කිරීම් නමැති ඉච්ඡාවෙන් සදා හැමකල් දිවා රාත්‍රී ඇවිලගත්තේ වෙයි.

මච්චුනා බභාහත සූත්‍ර වර්ණනාව නිමි.

# 40.

සද්ධිධචිත්ත සුත්ත, සද්ධිචිත්ත සූත්‍රයෙහි

සද්ධිධ විත්තං යම්හෙයකින් සැදැහැවත් කුලපුත්‍ර තෙම සැදැහැයෙන්, මුතුමැණික් ආදී වස්තුහුද සද්ධා-සීල-සුත-චාග-පඤ්ඤා-හිරි-ඔත්තප්ප සංඛ්‍යාත සප්ත අරිය ධනයෝ ලබති. තුන් කුසල සම්පදාද, සවැදෑරුම් ස්වර්ග සම්පත් ද, නව වැදෑරුම් බ්‍රහ්මලෝක සම්පත් ද, අවසානයෙහි, නිවන් සම්පත් ද ලබයි. එහෙයින් මිණිමුතු ආදී වස්තූන් අතුරෙන් 'සදධා' නම් වූ ධනය ශ්‍රේෂ්ඨ වේ. ධම්මො දස කුසල කර්මපථ ධර්මයෝ, සුඛමාවහාති, සියලුම සාසව අනාසව අසංකිලිට්ඨ සැප ගෙනදෙයි. සාදුතරං ලුණු ඇඹුල් ආදි සියලු රස අතුරෙන් වාක් සත්‍යම මධුරතරය. යමක ආනුභාවයෙන් ජලය ආදිය වසයෙහි පවතිත් ද, ජාති-ජරා-මරණයන්ගේ පරතෙරට යෙත්ද,
එහෙයින් කියන ලදී.:

සච්චෙන වාචෙනුදකමපිධායති
විසමපි සච්චෙන හනන්ති පණ්ඩිතා
සච්චෙන දෙවො ථනයං පවස්සති
සච්චෙ ඨිතා නිබ්බුතිං පත්‍ථයන්ති
සච්චෙ ඨිතා සමණබ්‍රාහ්මණාච
තරන්ති ජාති මරණස්ස පාරං

'සත්‍ය වචනයෙන් ජලයද නවතී,
සත්‍ය වචනයෙන් පඬිවරු විසද නසත්.
සත්‍ය වචනයෙන් ගොරවමින් වැස්ස වස්සවයි.
සත්‍යයෙහි පිහිටියාහු නිවන ප්‍රාර්ථනා කරත්.
සත්‍යයෙහි පිහිටි ශ්‍රමණ බ්‍රාහ්මණයෝ
ජාති ජරා මරණයන්ගේ පරතෙරට යෙත්.'

පඤ්ඤා ජීවිං ජීවිත මාහු සෙට්ඨං යම් ප්‍රඥාවෙන් යුතු ගිහියෙක් හෝ කම්මට්ඨාන - සරණාගමන - සංවිභාග සීල සමාදාන උපොසථ කම්ම ආදි ගිහි පිළිවෙත් පුරන්නෙක් හෝ පැවිද්දෙක් හෝ විපිළිසර නොවී, සීල විසුද්ධි ආදි ප්‍රභේද ඇති පබ්බජිත ප්‍රතිපදාව, ප්‍රඥාවෙන් යුතුව ජීවත්

වේද, ඒ ප්‍රඥාවත් ජීවියාගේ ජීවිතය ශ්‍රේෂ්ඨයයි කීහු. එම ප්‍රඥා ජීවී පුද්ගලයා ශ්‍රේෂ්ඨ වූ ජීවිතයක් ගතකරයි යයි කියන ලද්දාහුය.

සඳ්ධිධ සූත්‍ර වර්ණනාව නිමි.

## 41.

රූපජීරණ සුත්තෙත, රූපජීරණ සූත්‍රයෙහි

රූපං ජීරති, රූපකාය ජරාජීර්ණ භාවයට පැමිණෙයි. නාම ගොත්තං න ජීරති, අතීත බුදුවරුන්ගේ ද අද දවස දක්වා නම්ගොත් කියනු ලැබේ. එබැවින් නම්ගොත් නොදිරයි යයි කියනු ලැබේ. උපපථො සුගතියටද, නිවනට ද යන්නවුන්හට නොමගකි. ලොභො ධම්මානං පරිපන්ථො, ලෝභය නූපන් දෙය ඉපිදවීමෙහි ද උපන් ධර්මය ස්ථාවර කිරීමෙහි ද යෙදුනවුන්ගේ ආර්ය ධර්මයාගේ අධිගමය පිණිසද පරිපන්ථො, උවදුරකි. නානත්ත ස්වභාවය ඇති බැවින් මෙසේ කියන ලදී. ලාභ උපයන මග අනිකකි. නිවන්මග වෙන එකකි. රත්තන්දිවකඛයා රැය ද දවාල ද ගෙවී යයි වදාළේ මැනෝ.

අච්චයන්ති අහොරත්තා, ජීවිතං උපරුජ්ඣති
ආයුඛීයති මච්චානං කුන්නදීනංච ඔදකං

'රෑ දහවල් හු ඉක්මයෙන් ජීවිතය නිරුද්ධ වේ මිනිසුන්ගේ ආයුෂ ගෙවේ. කුඩා නදියක ජලය මෙනි.'

ඉසී සෙසු බාහිරමල කෙරමැටි බාරම් ආදිය යොදා පිරිසිදු කළ හැකිය. මාගම් නමැති මලෙන් බැඳුනු තැනැත්තේ පිරිසිදුකළ නොහැක්කේය. එබැවින් ඉත්ථීමලං යනුවෙන් කියන ලදී. එත්ථ, සත්ව සමූහයා මෙහි ඇලේ. යටත් පිරිසෙයින් කුත්ථ කිපිලලිකාවක් නිසාද ප්‍රජාව ඇලේ. තපො යනු ඉන්ද්‍රිය සංවර - ව්‍රත ගුණ - විරිය ආදි දුෂ්කර ක්‍රියාවන්ට නමකි. මෙය හැර දුෂ්කර ක්‍රියා කිලෙස් තවන ප්‍රතිපදාවට සුදුසුය. තං සිනානං අනොදකං

ඒ තපසත් බ්‍රහ්මචරියාවත් දෙක මනසෙහි උපන් රාගාදී මලයන්ගේ නහන ජලයයි. යත්ථ චිත්තං න තිට්ඨති යම් සිදුරක, නොඋපන් දෙය අනුත්පාද වශයෙන් ද උපන් දෙය ක්‍ෂයවීම් වශයෙන් ද සිත නොපිහිටයි. එවැනි සිදුරු ලෝකයෙහි සයක් වෙති. ඒවා ස්වරූප වශයෙන් ආලසයං ආදි වශයෙන් දක්වයි. එහි ආලසසං අලස බවයි. යම් හේතුවකින් සිටි තැන සිටියේම වේද, හුන් තැන හුන්නේම වේද, ඒ වීර්යයාගේ අභාවයයි. පමාදො, නිදීම් වශයෙන් හෝ කිලේස වශයෙන් හෝ සති විප්පවාය ලක්ඛණ වූ පමාදයයි. අනුට්ඨානං (නැගී නොසිටීම) කර්ම සමයෙහි කර්ම කරන වීර්යයාගේ අභාවයයි. අසංයමො සීල සංයමයාගේ අභාවය විසිරීගිය ආචාර ඇති බව, නිද්දා නිදි බහුල බවයන්ගේ ද හුන්නේ ද නිදයි. නිපන් කල්හි කියනුම කවරේ ද, තන්දී, අතිශයින් බඩපිරීම් ආදියෙන් ඇතිවෙන ආගන්තුක අලස බවයි. තෙ ඡිද්දෙති අලස බැව් ආදි මේ කරුණු සය ධනයාගේ විනාසයට හේතුවන බැවින් ඡිද්‍රයෝය. විවරයෝය. තං, නිපාත මාත්‍රයෙකි.

රූප ජීරණ සූත්‍ර වර්ණනාව නිමි.

# 42.

පාථෙය්‍ය සුත්තෙන පාථෙය්‍ය සූත්‍රයෙහි,

සද්ධා බන්ධති පාථෙය්‍යං, සද්ධා තොමෝ ඔවුන්ගේ දීර්ඝ වූ සසර සාපිපාසාදී දුක් දුරුකරන, උපභෝග පරිභෝග සුඛයට හේතුවූ, සම්පත් උපදවන දානාදී පුණ්‍ය සංඛ්‍යාත මාර්ගෝපකරණ සකස් කරයි. පිළියෙළ කොට තමාට අයත් වූවක් කරයි. සද්ධාවෙන් යුතුව දන්දෙයි. සිල් රකියි. උපෝසථ කර්මය කරයි. සිරි යනු ඓශ්වර්යයයි. ආසයො යනු වසන ස්ථානයයි. ඓශ්වර්ය අභිමුඛකොට ගොඩින් ද, ජලයෙන් ද භෝගයෝ පැමිණෙන්නේම ය. එහෙයින් කියන ලදී:-

යං උස්සුක්කා සංහරන්ති, අලක්ඛිකා බහුං ධනං
සිප්පා වන්තො අසිප්පාවා ඤාණිනොපි අඤාණිනො
ලක්ඛී වා තානි භඤ්ජති

සබෙබව කත පුඤ්ඤසස අතිඝෙඤච පාණිනො
උපපජ්ජනති ච තෙ භොගා අපිනායතනෙසුපි

'යමෙක් උත්සාහවත්ත ද වාසනාව නැතත් බොහෝ ධනය එකතු කරත්. ශිල්පයක් දන්නෝ ද නොදන්නෝ ද නුවණ ඇත්තෝ ද නැත්තෝ ද වාසනාව ඇත්තෝ ද ඒවා අනුභව කරත්.'

'පින්කළ සියල්ලෝම බොහෝ ධාන්‍ය ඇති ප්‍රාණීන්ට මෙන් ආයතන නැතත් භෝගයෝ උපදිත්.'

ඉච්ඡා තණ්හාවයි. ඒ ඒ වස්තූන් ඉච්ඡා වශයෙන් ප්‍රිය කිරීම් වශයෙන් ඇතිවන්නේ ඉච්ඡා නම් වේ. පරිකසසති ඒ ඒ කැමති අරමුණු කරා අදියි. දුජ්ජහා කාල වර්ණය දුරුකිරීම පිණිස සෝදන ලද වලස් හමක් මෙන් දුකසේ දුරලිය යුතුය. ඉච්ඡා බඳධා දම්වැල් ආදියෙන් බැන්දාක් මෙන් දැඩි වූ තෘෂ්ණා බන්ධනය වේ.

පාථෙය්‍ය සූත්‍ර වර්ණනාව නිමි.

# 43.

ධම්මරථ සුතෙත ධම්මරථ සූත්‍රයෙහි,

අච්ඡරාසඞ්ඝ සංඝුට්ඨං, මෙම දේවපුත්‍ර තෙමෙ සත්‍යු සාසනයෙහි පැවිදිව, වත්පිළිවෙත් පුරමින්, පස්වස් කාලයෙහි පවාරණය කොට මාතිකා දෙක ප්‍රශ්නකොට කළයුතු නොකළයුතු දෙය ඉගෙන ප්‍රියකරන කමටහන් උගෙන සැහැල්ලු පැවතුම් ඇත්තේ ආරණ්‍යයට පිවිස භාග්‍යවතුන් වහන්සේ විසින් 'මධ්‍යම යාමය, නිදන්කොට අනුදන්නා ලදී. එයද පැමිණි කල්හි පමාවට භය වෙමි යයි ඇඳට නැග දිවා රෑ නිරාහාරව කර්මස්ථානයම මෙනෙහි කළේය. ඉක්බිති ඔහුගේ සිරුර අභ්‍යන්තරයෙහි 'සත්ථක' නම් වූ වාතයක් ඉපිද, ජීවිතය තොර කළේය. හෙතෙම ධුරයෙහි සිටම කළුරිය කළේය.

යම්කිසි භික්ෂුවක් සක්මනෙහි හෝ සක්මන් කරමින් හෝ ආලම්බන පුවරුව ඇසුරුකොට සිටියේ හෝ සක්මන් කෙලවර චීවරය ශීර්ෂයෙහි තබා සිටින්නේ හෝ පිරිස මැද අලංකාර ධර්මාසනයෙහි ධර්මය දේසනා කරමින් කළුරිය කෙරේ ද, එම සියලු අවස්ථාවන්හිදී හෙතෙම ධුරයෙහි සිට කළුරිය කළේ නම් වේ.

මෙසේ මෙතෙම සක්මන් කරමින් කළුරියකොට උපනිසසය සම්පත් මද බැවින් රහත් බවට නොපැමිණියේ තාවතිංස භවනෙහි මහ විමන් දොරෙහි නිදා පිබිදියකු මෙන් පහල විය. එකෙනෙහි ඔහුට රුවන් තොරණක් මෙන් තුන්ගවු උස ආත්ම භාවයක් පහලවිය. ඇතුළු විමනෙහි දහසක් පමණ අප්සරාවෝ ඔහු දැක, විමානය අයත් දිව්‍යපුත්‍රයා පැමිණියේ යයි ඔහු රමණය කරන්නෙමැයි තූර්ය භාණ්ඩ ගෙන පිරිවරා ගත්හ. දිව්‍යපුත්‍ර තෙම තවම චුත වූ බව නො දනී. පැවිදි සංඥා ඇත්තේම, අප්සරාවන් දැක, විහාර චාරිකාවට පැමිණි මාගමුන් දැක, ලජ්ජාවට පත් පංශුකූලිකයකු මෙන් තමන් මත්තෙහි වූ දුහුල් වස්ත්‍රය එකාංශ කරන්නේ අංශකුට වසා ඉන්ද්‍රියන් දමනය කොට බිම බලාගෙන සිටියේය. පළමුකොට ඔහුගේ කාය විවේකයෙන්ම මෙතෙම ශ්‍රමණ දේවපුත්‍රයෙකැයි දැන, මෙසේ කීවාහුය.

ආර්ය දේවපුත්‍රය, මේ දිව්‍යලෝකයෙකි. මෙහි මහණ දහම් කරන්ට අවකාශයක් නොවේය. මේ සම්පත් අනුභව කිරීමේ අවකාශයයි. හෙතෙම එසේම සිටියේය. දෙව්වරු තවම තේරුම් ගත්තේ නැතැයි තූර්ය වාදනයන් එළවූහ. එයද නොබලාම සිටියේය. අනතුරුව මුළු සිරුරම පෙනෙන කැඩපතක් ඉදිරියෙන් තැබූහ. හෙතෙම තම ඡායාව දැක චුත වූ බව දැන, මම මෙම ස්ථානය පතා මහණ දහම් කළේ නැත. උතුම් වූ රහත්ඵලය පතාම කෙළෙමි. සම්පත්තියට විපිලිසර රන්පට ගැන තර්කකොට යුදපිටියට පිවිසි මල්ලවයෙකුට තණමිටක් ලැබුනාක් මෙන් ඒ මේ ස්වර්ග සම්පත්තිය නම් සුලභය. බුදුකෙනෙකුගේ පහලවීම දුර්ලභයයි සිතා විමානයට නොපිවිස ම නොබිඳුන සිල් ඇත්තේ අප්සරා සමූහය පිරිවරා භාග්‍යවතුන් වහන්සේ වෙත එළඹ වැඳ එකත්පස සිටියේ මෙම ගාථාව කීවේය.

**එහි අච්ඡරාගණ සංඝුට්ඨං අප්සරා පිරිස විසින් ගීත වාදිත ශබ්දයන්ගෙන් ඝෝෂවත් වූ, පිසාචගණ සෙවිතං මෙහි අප්සරාවන්ම**

පිසාචයන් කොට කියන ලදි. වනනතනං, නන්‍දන වනය සඳහා කියන ලදී. මෙම නියාමයන් අනුව තමන්ගේ ගරුභාවය හේතුවෙන් දේව ගණයාට දේව ගණයා යයි කියන්ට රුචි නොවේ. පිසාච ගණයා යයි කියති. නන්‍දන වනයද නන්‍දන වනය යයි නොකියා මෝහන යයි කියති. යාත්‍රා නික්මයාම (=නිවන) ඉක්ම නොයන්නේය. රහත්බව පදට්ඨාන භූත වූ විපස්සනාවක් වදාරන්ට යයි භාග්‍යවතුන් වහන්සේට කියයි.

ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ 'මේ දේවපුත්‍ර තෙම කෙලෙස් ඉතා තුනී වූවෙකුයි දැන කිමෙක්දැයි ආවර්ජනා කරන්නේ තම සසුනෙහි පැවිදි වූ බව දැන, මෙතෙම දැඩිකොට වීර්යකොට දෙව්ලොව උපන්නේය. අදද ඔහුගේ ආත්මභාවය සක්මණෙහිමය. නොබුන් සීලයෙන් යුතුව ආයේ වනැයි සිතීය. බුදුවරයෝ වනාහි අකත අභිනිවෙස ඇති, ආදිකම්මිකයාට අකත පරිකර්ම ඇති අතවැසියාට භිත්ති පරිකර්මයෙහි විසිතුරු බව මෙන් සීලය පළමුව පිරිසිදු කරන්න. සමාධිය වඩන්න. කම්මසස කත පඤ්ඤාව ඍජු කරන්න යනුවෙන් පළමුකොට පූර්වභාග ප්‍රතිපදාව වදාරත්. මෙම සුදුසුකම් ඇති කර්මස්ථාන ඉල්ලන තැනැත්තේ රහත්මගට පදට්ඨාන වූ සණ්හ සුඛුම සුඤ්ඤත විපස්සනාව විමසත්. මේ දේවපුත්‍ර තෙමේ ද කාරකයෙකි. (මග වඩන්නෙකි.) නොබුන් සිල් ඇත්තේය. එක මගකුදු ඔහුට නොපැමිණියේය. විපස්සනාව වදාරන්නේ උජුකො නාම යනාදිය වදාළහ.

එහි උජුකො කාය වංකාදීන් නොමැති හෙයින් ආර්ය අෂ්ටාංගික මාර්ගය උජුක නම් වේ. අභයා නාම සා දිසා නිවන සඳහා කියන ලදී. එහි කිසි භයක් නැත. එයට පැමිණියහුට ද භයක් නැතිහෙයින් අභයා නාම සා දිසා යයි කියන ලදී. රථො, අකූජනො, අෂ්ටාංගික මාර්ගයම අදහස් කරන ලද යම්සේ පියවි රථය අක්‍ෂය නොඋසුලන තරම්, වැඩි මිනිසුන් නැගිවිට කූජනය කරන නමුත්, ඒ මේ ආර්ය අෂ්ටාංගික රථය තෙම එකවිට අසූසාර දහසක් ප්‍රාණීන් නැගීමේ දීත් එසේ කූජනය නොකෙරේ යනුයි. එබැවින් අකූජනො යයි කියන ලදී. ධම්ම චක්කෙහි සංයුතො, කායික, මානසික වීර්ය සංඛ්‍යාත ධම්ම චක්‍රවලින් යුක්ත වූයේ. හිරිකි මෙහි හිරි ගැනීමෙන් ඔත්තප්පය ද ගන්නා ලද්දේ වෙයි. අපාලම්බො, යම්සේ රථයෙහි සිටියා වූ යෝධයන්ගේ නොවැටීම සඳහා දාරුමය එල්බෙන පුවරුවක් වෙයි. එසේම මෙම මාර්ග නමැති රථයෙහි අජ්ඣත්ත - බාහිර සමුට්ඨාන යයි. හිරි ඔත්තප්ප අපාලම්බනයයි. සත්‍යසස පරිවාරණං,

රථයට සීහ සම් ආදිය පරිවාර වූවාක් මෙන් මෙම මාර්ග රථයට සති තෙමේ පරිවාරය වේ. ධම්මං ලෝකෝත්තර මාර්ග සම්‍යක් දෘෂ්ටිය සම්මා දිට්ඨි පුරෙජවං, විදර්ශනා සම්‍යග් දෘෂ්ටිය පෙරටුව යන්නා කොට ඇති, පුබ්බයායිකා = සම්මාදිට්ඨි පුරෙ ජවො. එම සම්මා දිට්ඨි පෙරටුව යන්නා, යම්සේ පළමුකොට රජපුරුෂයන් කාණ කුණි ආදිය පිටත ගෙනයාමෙන් මාර්ගය පිරිසිදු වූ කල්හි පසුව රජු නික්මෙයි. මෙසේ විපස්සනා සම්මා දිට්ඨියෙන් අනිච්චාදි වශයෙන් ස්කන්ධ ආදීන් පිරිසිදු වූ කල්හි, පසුව භූමිය ලැබ වට්ටය පිරිසිඳ දැනීමේ මාර්ග සම්මා දිට්ඨිය උපදී.

මෙසේ භාග්‍යවතුන් වහන්සේ දේශනාව නිමවා අවසානයෙහි චතුරාර්ය සත්‍ය දැක්වීය. දේශනාවසානයේ දේවපුත්‍රයා සෝතාපත්ති ඵලයෙහි පිහිටියේය. යම්සේ රජතුමා භෝජන කාලයෙහි තමන්ට ප්‍රමාණවත් ආහාර ගත්කල්හි උකුලෙහි උපන්නා වූ පුත්‍රයා ද තමන්ගේ ප්‍රමාණයට ආහාර ගනියි. එසේම භාග්‍යවතුන් වහන්සේ නිවන් කුළුගන්වා දෙසුම් පවත්වද්දී තම තමාගේ උපනිස්සය අනුරූපව සෝතාපත්ති ඵලාදියට පැමිණෙත්. මෙම දේවපුත්‍ර තෙම සෝතාපත්ති ඵලයට පත්ව භාග්‍යවතුන් වහන්සේට සුවඳ ආදියෙන් පුදා නික්ම ගියේය.

ධම්මරථ සූත්‍ර වර්ණනාව නිමි.

# 44.

න උඤ්ඤාතබ්බ සුත්‍තෙ නළඤ්ඤාතබ්බ සූත්‍රයෙහි සම්මොදි, ඛමනීය දෙය විචාරමින් භාග්‍යවතුන් වහන්සේ සමග සතුටුවූයේ වෙයි. සම්මොදනීයං ප්‍රීතිප්‍රමෝද්‍ය සංඛ්‍යාත සතුටු දනවන සතුටුවීමට යුක්ත බැවින් අසනු ලබන්නා වූ සැපයෙන් ද, ව්‍යඤ්ජන පරිසුද්ධතාවයෙන්ද සම්මොදනීය නම් වේ. අර්ථයෙන් හා ව්‍යඤ්ජන මධුරතාවයෙන් සිහිකරන්ට සුදුසු බැවින් සිහිකළ යුතු බැවින්ද සිහිකිරීමේ සුඛයෙන් ද අර්ථයාගේ පරිශුද්ධතාවයෙන් ද සිහිකරවිය යුතුවේ. වීති සාරෙත්‍වා, අවසන්කොට නිමවා පෙර තථාගතයන් නොදුටු බැවින් ගුණාගුණ වශයෙන් ගැඹුරු බව හෝ නොගැඹුරු බව හෝ නොදන්නේ එකත්පසෙක හුන්නේය.

මෙතෙම ලෝක නිස්සරණ, භවොක්කනතික ප්‍රශ්න රැගෙන යාමට පැමිණියේ වෙයි. එය විචාරීමට භවම්පිනො යනාදිය විචාළහ.

ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ බුද්ධ සිංහනාදය පවත්වන්නේ, යංහිතං ආදිය වදාළහ. සමණ බ්‍රාහ්මණා පැවිදි බවට පැමිණීමෙන් සමණ නම් වේ. ජාති වශයෙන් බ්‍රාහ්මණ නම් වේ. පබ්බජිත සමූහ නම් වූ සංඝයා මොවුන්ට ඇත්තේනුයි සංඝිනො නම් වේ. ඒ ගණයා (සමූහයා) මොවුන්ට ඇත්තේනුයි ගණිනො නම් වේ. ආචාර ශික්ෂා ඉගැන්වීම් වශයෙන් ගණයාගේ ආචාර්ය වේනුයි, ගණාචරියා නම් වේ. ඤාතා ප්‍රකට වූ අපපිච්ඡතාවයෙන් යුක්තය. සන්තුට්ඨිතාවයෙන් යුක්තය. වස්ත්‍රයකුදු නොහඳී යයි මෙසේ හටගත් යසස මොවුන්ට ඇත්තේනුයි යසස්සිනො නම් වේ. තිත්ථකරා, ලබ්ධි ඇතිකරන්නාහුය. සාධු සම්මතා සත්පුරුෂයන් විසින් සම්මත කරන ලද්දේය. බහු ජනසස අන්ධබාල පෘථග්ජනයන්ට පූරණො ආදිය ඔවුන්ගේ නාම ගෝත්‍රයෝය.

කෝලාහලයෝ තුන්දෙනෙකි. කප්පකෝලාහලය බුද්ධ කෝලාහල චක්කවත්ති කෝලාහල යනුයි. එහි වර්ෂ සතසහශ්‍රයක් මත්තෙහි කල්පය හටගන්නේ යයි (පැවසීම) කල්ප කෝලාහල නම් වේ. මිනි අවුරුදු ලක්ෂයක් මත්තෙහි ලෝකය විනාස වන්නේය. පින්වත මෛත්‍රිය, කරුණාව, මෘදුතාව, උපේක්ෂාව වඩන්නැයි දේවතාවෙක් මනුෂ්‍ය පථයෙහි ඇවිදිමින් ප්‍රකාශක කරයි. වර්ෂ දහසක් මත්තෙහි බුදුකෙනෙක් උපදින්නේ යයි ප්‍රකාශ කිරීම බුද්ධකෝලාහල නම් වේ. මිනි අවුරුදු දහසක් මතුවෙහි බුදුකෙනෙක් ඉපිද ධම්මානුධම්ම ප්‍රතිපදාවෙහි පිළිපන් සංඝරත්නය පිරිවරා ධර්මය දෙසමින් හැසිරෙන්නේ යයි දේවතාවෙක් උද්ඝෝෂණය කරමින් ඇවිදින්නේය. මිනි අවුරුදු සියයකින් මතුවෙහි සක්විති රජකෙනෙකු උපදින්නේ යයි (ප්‍රකාශ කිරීම) චක්කවත්ති කෝලාහල නම් වන්නේය. මිනි අවුරුදු සියයක් මත්තෙහි සත්ත රත්නයෙන් සමන්විත සතර දිවයිනටම අධිපති, දහසකට අධික පුත්‍රයන් පිරිවරාගත් අහසින් යා හැකි සක්විති රජකෙනෙක් උපදින්නේ යයි දේවතාවෙක් උද්ඝෝෂණ කරයි.

මෙම තුන් කෝලාහලයන් අතුරෙන් මේ ශාස්තෘවරුන් සයදෙන ගුරුවරුන් ඇසුරුකොට, චින්තාමණි විද්‍යා ආදිය ඉගෙන අපි බුදුවරයෝ යයි ප්‍රතිඥාකොට, මහජනයා පිරිවරා ජනපද චාරිකාවෙහි හැසිරෙන්නේ, පිළිවෙළින් සැවතට පැමිණියේ වෙයි. ඔවුන්ගේ උපස්ථායකයෝ රජු

වෙත එළඹ මහරජතුමනි, පූරණ කස්සප -පෙ- අජිත කේසකම්බල, බුදුවරුය. සර්වඥවරුයයි ප්‍රකාශ කළාහුය. රජතුමා තෙපිම ඔවුන්ට ආරාධනා කොට ගෙන එවු යයි කීහ. ඔවුන් විසින්, රජතුමා නුඹලාට ආරාධනා කරයි. රජගෙදර භික්ෂාව ගන්න යයි කියන ලදී. යෑමට උත්සාහ නො කරත්, නැවත නැවත කියනු ලබන්නාහු උපස්ථායකයන්ගේ සිත් ගැනීම සඳහා පිළිගෙන සියල්ලෝ එකටම ගියාහුය. රජතුමා අසුන් පනවා හිඳගන්න යයි කීහ. ගුණ නැත්තවුන්ගේ ආත්මභාව කෙරෙහි රාජ උණුසුම පැතිරෙයි. ඔවුහු මහත් වටිනා අසුන්වල හිඳීමට නොහැක්කාහු එලකවල බිම ද හිඳගත්තාහුය. රජතුමා ඒකාන්තයෙන් මොවුන්ගේ අභ්‍යන්තරයෙහි ගුණධර්මයක් නැතැයි, ආහාර නොදීම තල්ගස්වලින් පතිත මුගුරුවලින් පහරදෙන්නාක් මෙන්, තොප බුදුවරයෝ ද නැද්ද යනුවෙන් ප්‍රශ්න ඇසීය. ඔවුහු සිතූහ. ඉදින් බුදු යයි කිවහොත් රජතුමා බුද්ධ විෂය පිළිබඳ ප්‍රශ්න අසා පිළිතුරු දීමට අසමත් වුවහොත් තොපි අපි බුදුවරයෝ වම්හයි මහජනයා රවටා ඇවිදින්නාහු යයි දිව කැපීම ද කරත්, වෙනත් වූ අර්ථයන් ද කරන්නේ යයි සැක උපදවාම අපි බුදුවරයෝ නොවම්හයි, කීවාහුය. ඉක්බිති රජතුමා ඔවුන් ගෙදරින් පිටමං කළේය. රජගෙදරින් නික්ම යන්නා වූ ඔවුන්ගෙන් උපස්ථායකයෝ මෙසේ ඇසූහ. කිම ආචාර්යයන් වහන්ස, රජතුමා තොපගෙන් ප්‍රශ්න විචාරා සත්කාර සම්මාන කළාහුදැයි (ඇසීය.) රජු අපගෙන් 'තෙපි බුදුවරු වන්නහුදැ'යි ඇසීය. අපි කිසිවෙක් බුදුවරු වෙමු, මෙම රජතුමා බුද්ධ විෂයෙහි ප්‍රශ්න අසා කියනු ලබන්න නොදන්නේ අප කෙරෙහි සිත දූෂ්‍ය කරගනී. බොහෝ පව් රැස්කර ගනී. රජු කෙරෙහි අනුකම්පාවෙන් අපි බුදුවරු නොවම්හයි කීමු. අපගේ බුදුබව ජලයෙහි සෝදා හරින්නට නොහැකිය. මෙසේ ඔවුහු පිටතදී බුදුවරු යයි කීහු. රජු ඉදිරියේ අපි බුදුවරු නොවම්හයි කීහු. මෙය ගෙන රජතුමා මෙසේ කීහ.

**කිං පටිජානාති**, මෙහි **කිං** යනු ප්‍රතික්ෂෙප වචනයෙන් මොවුහු උපතින් මහලු වූද, පැවිදිව බොහෝ කල් වන්නාහු ද, බුදුයයි ප්‍රතිඥා නොකරති. **භවං ගොතමො ජාතියා දහරො පබබජ්ජාය නවො, කිං,** කිම ප්‍රතිඥා කෙරේද? නොකෙරේද **න උඤ්ඤාතබබාති**. අවමන් නොකළ යුතුය. **න පරිභොතබබාති** පරිභව නොකළ යුත්තේය. **භික්ඛු** මෙම පදයෙන් දේසනාවෙහි දක්ෂ බැවින් තමන් ඇතුලත්කොට සිල්වත් පැවිද්දන් දක්වයි. එහි ද දහර රාජකුමාරයෙකු දැක, උපක්‍රම කොට මග නොදෙන්නේ පාරුපන ආදිය නො එලවන්නේ හුන් අසුනින් නොනැගිටින්නේ, ඇත්පිට

ආදියෙන් එතෙර නොකරන්නේ යටත් පිරිසෙයින් ම මඤ්ඤනා වශයෙන් අන්‍ය වූද එවැනි නොසැලකිලි කරන්නේ අවමන් කිරීම නම් වේ. මේ රාජකුමාරයා යහපත් කෙනෙකි. මහ ගඩක් ඇති කෙනෙකි. මහ බඩක් ඇති කෙනෙකි. යම්කිසි සොර උවදුරක් සංසිඳුවන්ට. යම්කිසි තැනක රාජ්‍ය අනුසානා කරන්ට හැකි වන්නේදැයි යනාදිය කීම අපහාස කිරීම නම් වේ. අඳුන් සලාක මාත්‍රයක් වූ සර්ප පැටියකු දැක, බොටු ආදි තැන්වලට පීඩා කරමින් ඇඟිලි ද දිවෙන් සප්පවන්නේ, උරගයාට අවමන් කිරීම නම් වන්නේය. මෙම සර්පයා සොඳුරුය, දියබරියකු මෙන්ය. කිසිවිට දෂ්ට කරන්ට කිසිවිටක කයෙහි විස පතුරුවයි ආදිය කීමෙන් පරිහාස කරන්නේ නම් වේ. කලාමැදිරියකු පමණ ගිණි පුපුරක් දමන්නේ ද එය අතින්ගෙන ක්‍රීඩා කරන්නේ භාණ්ඩ, හැලි මත කොණ්ඩයෙහි, සයනය මත, සළුපිළි දමන පසුම්බියේ ආදියෙහි දමන්නේද එය ගින්නට අවමන් කිරීම නම් වේ. මේ ගින්න ඉතා මැනව. වෙන කවිද කැඳබත් විමසන්නේ, සමහරෙකුගේ සීත දුරුකරයි යනාදිය කියන්නේ ගින්නට පරිහාස කරන්නේ නම් වේ. දහර සාමණේර කෙනෙකු දැක රජකුමරුවන්ට කියයි. අනාචාර දේ කරන්නේය. ඒ භික්ෂූන්ට නින්දා කරන්නේ නම් වේ. ඒ සාමණේර තෙම බොහොම හොඳ මහගඩෙක්, මහබඩෙක් ආරණ්‍යයට පිවිස යමක් ඉගෙන ගන්න පුළුවන්ද? ථේර කාලයට පැමිණිවිට හොඳට හිටි යනාදිය කීම පරිහාස කරන්නේ නම් වේ.

ගාථාවල වනාභි, ඛත්තියං, කෙත්වලට අධිපති අභිජාතං (බ්‍රාහ්මණාදි) තුන් කුලය ඉක්මවා විශිෂ්ටව උපන් ඨානංහි, ඊට කරුණු ඇති, රාජදණ්ඩන රජු විසින් එසවූ දණ්ඩෙන්, එය ස්වල්පයක් නම් නොවේ. දස සහස්‍ර විංශති සහස්‍ර ප්‍රමාණ වූ දඩවම්ම වේ. තස්මිං පක්කමනෙ භුසං, එම පුද්ගලයා වෙත බලවත් ලෙස දඬුවම් කරයි. පරි වජ්ජෙය්‍ය, නොගැටේ. උච්චාවචෙහි නානාවිධ වූ වණ්ණෙහි, වේස විලාසයෙන් යම් විලාසයකින් හැසිරෙන්නේ ගොදුර ලබාද, ඒ සර්ප විලාසයෙන් හෝ දියබරණ විලාසයෙන් හෝ ධමනි වර්ණයෙන් හෝ ලෙහෙණුන්ගේ වර්ණයෙන් හෝ හැසිරෙයි. ආසජ්ජ, පැමිණ, පහූත භක්ඛං බොහෝ දෙය කන්නා වූ, ගින්න නොකන දෙයක් නැත්තේය. කණ්හවත්තනිං හිස් මග කලුවන හෙයින් කෘෂ්ණ මාර්ග ඇත්තා වූ මහා භූතවාන මහත්ව, ගින්න එක දවසින් බ්‍රහ්මලෝකය දක්වා ද ඇවිලෙයි. ජායන්ති තත්ථ පාරොහා එම ගින්නෙන් දැවුනු වනයෙහි තෘණ වෘක්ෂාදීහු පාරොහා මුල් පමණක් ඉතිරි වූ ගස්වලින් වැවෙත්. හටගනිත්. වැඩෙත්. එහෙයින් තෘණ

වෘක්‍ෂලතාදීන්ට නැවත හටගන්නා අර්ථයෙන් පාරොහා යයි කියනු ලැබෙත්. දහති තෙජසා, මෙහි යමෙක් (යම් අපහසුවක්) අක්‍රොස කරන්නහුට පෙරලා අක්‍රෝශ කෙරේ ද, කොලාහල කරන්නේ, පෙරලා කෝලාහල කෙරේ ද, පහර දෙන්නවුන්ට පෙරලා පහර දේ ද, භික්‍ෂුවට මොවුන්ගේ කිසිවක් සිල්තෙදින් දැවිය නොහැක්කේය. යම්කිසි භික්‍ෂුවක් සීල සම්පන්න ද, අක්‍රෝස කරන්නවුන්ට පෙරලා අක්‍රෝස නොකෙරේ ද, කෝලාහල කරන්නවුන් සමග පෙරලා කෝලාහල නොකෙරේද, පහර දෙන්නවුන්ට පෙරලා පහර නොදෙන්නේ ද, මෙසේ විරුද්ධ අයුරින් පිළිපදින්නා වූ පුද්ගලයන් පිළිබඳව සීල තේජසින් දවන්නේ වේ. එයින් දැවෙන බව දක්වන්ට න තසස පුත්‍තා යනාදිය වදාළහ. ඒ භික්‍ෂුවගේ සීල තේජසින් දැවුන පුද්ගලයාගේ පුත්ත ධීතරාදීහුද ගව-මහිස-කුක්කුට සූකර ආදී සිවුපාවෝ ද නොවෙත්. විනාසවෙත්. දායාද ඇත්තෝ ද එයින් සැප නොවිඳිති. මේ තේජසින් දැවුනාහු වෙති. අනපච්චා අසහායා (සාහායකයෝ නොවෙති. දූ පුතුන් නැතිව වඳවෙත් යනුයි.) අදායාදා, පුත්‍ර ධීතරාදි දායාද රහිත වූ, තාලාවත්‍ථු, මුදුන කැපූ තල්ගසක් මෙනි. පුත්‍ර ධීතරාදීන්ගේ වශයෙන් නොවැඩෙත් යන අර්ථයි. සමඑසසං අකතමතකනො, තමාගේ අභිවෘද්ධිය බලාපොරොත්තු වන්නා වූ සමමදෙව සමාචරෙ, මනා ලෙස හැසිරෙන්නේය. මනාව හැසිරෙන්නවුන් විසින් කුමක් කළයුත්තේද යත්? ක්‍ෂත්‍රියයා නිසා ලැබිය යුතු, ගාම-නිගම-යාන-වාහන ආදී ආනිසංස ද සර්පයා නිසා ඔහු ක්‍රීඩා කරවීමෙන් ලබන රන් රුවන් ආදී ආනිසංස ද, ගිනි නිසා එහි බලයෙන් ලැබිය යුතු කැඳ බත් පිළියෙල කිරීම සීත දුරුකරගැනීමේ ආදී ආනිසංස ද, භික්‍ෂුව නිසා ඔහුගෙන් ලැබිය යුතු, නොඇසූ දෙය ඇසීම ඇසූ දෙය තහවුරු කරගැනීම, ස්වර්ග මාර්ගය, අධිගමය ආනිසංසයද බලාපොරොත්තුවන පුද්ගලයා විසින්, මොවුන් නිසා බොහෝ ආදීනව ඇත්තේ යයි ද මේවායින් ඇති ප්‍රයෝජනය කිම සර්වප්‍රකාරයෙන් දුරුකළ නොහැක්කේ ය. (සූත්‍රයෙහි අදාල විෂයට අනුව).

ඓශ්වර්ය කැමැත්තහු විසින් කියන ලද ආකාර අවමන් කිරීම් ද පරිභව කිරීම් ද නොකොට, පළමුව නැගිටීම, පසු නිදීම ආදි උපායයන්ගෙන් ක්‍ෂත්‍රිය කුමාරයා සතුටුකළ යුතුයි. මෙසේ එයින් ඉසුරුමත් බවට පැමිණේ. අහිගුණ්ඨිකයා විසින් සර්පයා විශ්වාස නොකොට, නාගවිද්‍යාව පරිවර්තන කොට අජපද ආකෘතිය ඇති දණ්ඩෙන් බෙල්ලෙන් ගෙන විසහරණ මූලයන්ගෙන් දළ සෝධා පෙට්ටියක බහා (සර්පයා)

ක්‍රීඩා කරවමින් හැසිරිය යුතුය. මෙසේ ඔහු නිසා කෑම ඇඳීම් ලබයි. කැඳ පිසීම් ආදිය කරනු කැමැත්තහු විසින් ගින්න කෙරෙහි විශ්වාසයෙන් භාණ්ඩ හැලි ආදියෙහි නොබහා අතින් ස්පර්ශ නොකරමින් තෘණ දර ආදිය දල්වා කැඳ පිසීම් ආදිය කළයුතුය. මෙසේ ගින්නෙන් ප්‍රයෝජන ලබන්නේය. අසසුත - සවණාදිය බලාපොරොත්තු වන්නහු විසින් භික්ෂුව කෙරෙහි විශ්වාසයෙන් වෙජ්ජකම්ම, දූතකම්ම ආදියෙහි නොයොදවා සිවුපසයෙන් මනාකොට උපස්ථාන කළයුතුය. මෙසේ ඔහු නිසා පෙර නොඇසූ විරූ බුදු වදන් ද ධර්ම විනිශ්චයන් ද මෙසේ මෙලොව පරලොව අර්ථ දැන, තෙවැදෑරුම් කුසල සම්පත්තියද, සවැදෑරුම් ස්වර්ගයෙහි නව වැදෑරුම් බ්‍රහ්ම ලෝකයෙහි ඉපිද නිවන් දැකීම ලබන්නේය. එකදවොච රජතුමා ධර්ම දේශනාව අසා පැහැදුනේ ප්‍රසාදය ප්‍රකාශ කරන්නේ අභික්කන්තං යනාදි වචන ප්‍රකාශ කළේය. එය ප්‍රකාශ කරන ලද්දේමය.

න උඤ්ඤාතබ්බ සූත්‍ර වර්ණනාව නිමි.

# 45.

ජරාමරණ සුත්තෙ, ජරාමරණ සූත්‍රයෙහි,

අඤ්ඤත්‍ර ජරාමරණො, ජරාමරණවලින් මුත්ත කෙනෙක් ඇත්දැයි විචාරයි. ඛත්තිය මහාසාලා, මහාසාල තත්ත්වයට පත් ක්‍ෂත්‍රියයා ඔහුගේ ලක්‍ෂණ ධම්මහදය සූත්‍රයෙහි කියන ලද්දේම ය. අඩ්ඪා ඊශ්වර, නිධන්ගත ධනයාගේ මහත් බැවින් මහද්ධනා නම් වේ. සුවණ්ණ රජත පරිභෝග භාන්ඩ මහත් බැවින් මහාභොගා මහාභෝග නම් වේ. නිධන්ගත නොවූ ජාත රූප රජතයන්ගේ මහත් බැවින් පහූත ජාතරූප රජතා. සතුටු කිරීම් බහුල බැවින් පහූත විත්තූප කරණා, ගෝධන ආදියෙහි ද, සත්තවිධ ධාන්‍යයන්ගේ ද බහුල බැවින් පහූත ධන ධඤ්ඤා පහූත ධන ධඤ්ඤ නම් වේ. තෙසම්පි ජාතානං නත්ථි අඤ්ඤත්‍ර ජරාමරණං මෙසේ ඓශ්වර්යයෙන් යුතුව උපන්, සත්ත්වයන්ට ද ජරාමරණයෙන් මිදීමක් නැත. උපන්නේම ජරාමරණයෙන් මිදීමක් නම් නැත්තේය. ඔවුහු ජරාමරණයට අයත් වූවෝම වෙති. අරහන්තො ආදියෙහි කෙලෙස්වලින් තොරවූ බැවින් අරහන්ත

නම් වේ. මොවුන්ගේ ආසව ක්ෂීණ වූයේනුයි ඛීණාසව නම් වේ. බ්‍රහ්මචරිය වාසය කියන ලදි. පරිනිට්ඨිත වාසො වැස නිමවන ලද වාසය ඇත්තේනුයි වුසිතවනෙතා වුසිතවනත නම් වේ. සතර මගින් කරන ලද කිස මොවුන් කරන ලද්දේනුයි - කතකරණීයා නම් වේ. ඛන්ධභාර, කිලෙසභාර, අභිසංඛාර භාර කාමගුණාභාර මේ බර මොවුන් විසින් බහාතබන ලද්දේනුයි ඔහිතභාරා ඔහිතභාර නම් වේ. පිළිවෙළින් පැමිණියා වූ රහත්බව නමැති ස්වකීය අර්ථසිද්ධිය මොවුන්ට ඇත්තේනුයි අනුපපතත සදත්‍ථා නම් වේ. ක්‍ෂය කරන ලද දසවිධ සංයෝජන මොවුන්ට ඇත්තේනුයි. පරික්ඛීණභව සංයොජනා නම් වේ. මනා කාරණවලින් දැන මිදුනේනුයි සමමදඤ්ඤා විමුතතා නම් වේ. මාර්ග ප්‍රඥාවෙන් චතුරාර්ය සත්‍ය ධර්ම දැන ඵල විමුක්තියෙන් විමුත්ත වූයේ යන අර්ථයි. භෙදන ධමෙමා බිඳෙන ධර්ම, නිකෙඛපන සභාවො බැහැරලිය යුතු ස්වභාව ඇත්තේ.

මෙහි අර්ථෝත්පත්තිය සූත්‍රයාගේ නිකෙඛපය වේ. සිවිකා ශාලාවෙහි හිඳ කියන ලද්දේ යයි කියති. එහි භාග්‍යවතුන් වහන්සේ විසිතුරු රථ ආදිය දැකම උපමා කොට 'ජීරනති මෙ රාජරථා' යන ගාථාව වදාළහ. එහි ජීරනති ජරාවට පැමිණෙත්. රාජරථා රජුගේ මංගල රථයෝ සුචිතතා ස්වර්ණ රජත ආදියෙන් මනාලෙස විසිතුරු කරන ලද. අථො සරීරමපි ජරං උපෙති මෙබඳු, අනුපාදින්නක සාරදාරුමය රාජ රථයන් පවා දිරණ කල, මෙම ආධ්‍යාත්මික උපාදින්නක වූ මාංස ලෝහිත ආදිමය ශරීරය කෙරෙහි කිවයුතු කිම. ශරීරයද ජරාවට පැමිණේමය. සනෙතා භවෙ සබභි පවෙදයනති සත්පුරුෂ තෙමේ සත්පුරුෂයන් සමග සත්පුරුෂ ධර්මය ජරාවට නොපැමිණේ යයි මෙසේ ප්‍රකාශ කරත්. සත් පුරුෂයන්ගේ ධර්මය නම් නිර්වාණයයි. එය නොදිරයි. අජරය. අමරය. මෙසේ කියත් යයි යනු අර්ථය. යම්හෙයකින් නිවනට පැමිණ බිඳෙනසුළු කිලෙසයෝ බිඳෙත්. එය සබභි යයි කියනු ලැබේ. එබැවින් මෙම යෙදීම් දතයුතුය. සත්පුරුෂ ධර්මය ජරාවට නොපැමිණේ. එබැවින් සත්පුරුෂයෝ සත්පුරුෂයන් සමග කථනය කෙරෙත්. අජර වූ නිවන සත්පුරුෂ ධර්මය යයි ප්‍රකාශ කරත්. සබභි යන්න සත්‍ය යන්නෙන් සුන්දර වූ අධි වචනයකි. යම් 'සබභි' ධර්ම නම් වූ නිවන සත්පුරුෂයෝ පවෙදයනති කථනය කෙරෙත්. ඒ සත්පුරුෂ ධර්මය ජරාවට නොපැමිණේ යන අර්ථයි.

**ජරාමරණ සූත්‍ර වර්ණනාව නිමි.**

# 46.

අත්තපපිය සුත්තෙත (අත්තරක්ඛිත) අත්තපපිය සූත්‍රයෙහි,

එවමෙතං මහාරාජ මෙහි භාග්‍යවතුන් වහන්සේ මෙම සූත්‍රය බුද්ධ භාෂිතයක් කරමින් මෙය වදාළහ. මෙසේ ඔබ විසින් කියන ලද ආකාරයෙන් මේ කරුණ සිදුවේය යන අරුතිනි. නහි තං සුලභං හොති. පව්කාරයා විසින් එය සුලභ ලෙස අත්කර ගනු නොලැබේ. යම් සැපයක් කිසිකලෙක පව් කරන්නාට නොලැබේ යයි යෙදිය යුතුය.

අනතකෙනාධිපනනසස, මරණයෙන් යටකරන ලද්දහුට මානුසං භවං, මානුෂික ආත්මභාවයක් උභො පුඤ්ඤඤ්ච පාපං ච, මේ දෙවැදෑරුම් ස්වභාවය මිනිසුන්ට අනුගාමික වෙති. ඔවුන් අතුරෙහි මවෙචා යං පිනක් හෝ පවක් හෝ තම සන්තානයේ ඉපදීමක් වශයෙන් කුරුතෙ නිපදවයිද නිචයං සැප කැමැත්තවුන් විසින් තම සන්තානයෙහි ඉපදවිය යුතු සමපරායිකං, සම්පරාය නම් වූ පරලොව හිතසුව ගෙනදෙන්නා වූ පතිට්ඨා හොනති පාණිනං, පරලොව යන්නා වූ ප්‍රාණීන්ට කෑම ඇඳුම් පිරිවර ඇති තැනක ඉපදීම් වශයෙන් (කුසලා කුසල කර්මය) සත්ත්වයන්ට පිහිට වෙත්.

අත්තපපිය සූත්‍ර වර්ණනාව නිමි.

# 47.

පමාද සුත්තෙත පමාද සූත්‍රයෙහි

උළාරෙ, උළාරෙ, ප්‍රණීත වූ ද, බොහෝ වූ (සම්පත් ලැබ) මජ්ජනති, මාන වශයෙන් භෝග, යස, මදයන්ට පැමිණෙත්. ගෙධං ආපජ්ජනති මිනිස්සු වනාහි දිළිඳු කාලයෙහි මෙවැනි පින් කරන්නෙමු. මෙවැනි දාන දෙන්නෙමු ආදිය කියත්. උළාර වූ භෝගයන් ලද කල්හි කාමයෙන් මූර්ඡා වූයේ එවැනි වචනයක්වත් සිහි නොකරත්. විපපටි පජ්ජනති බන්ධන-

තාඩන-ඡේදන-පීළන ආදී වශයෙන් නොකටයුත්තක්ම කෙරෙත්. සාරත්තා කාම භොගෙසු අඹු, දරු හිරඤ්ඤ සුවණ්ණ, හත්ථි, ගව අස්ව ආදී වූ කාම වස්තූන් කෙරෙහි මනාව ඇලුනේ ගිද්ධා ලෝභ වශයෙන් ගෙතුනේ මුච්ඡිතා, ස්මෘති විප්‍රවාස වශයෙන් අතිශයින් මූලාවට පැමිණියේ, අතිසාරං න බුජ්ඣනති අකුසල කර්මය කටුක ඵල ඇත්තේය. මෙසේ කුසල මර්යාදාව ඉක්මවා යාම, පවෙහි හැසිරීම නොදනිත්. කූටංච ඔඩ්ඩිතං වැද්දා විසින් බැඳෙන අයුරින් අටවා ඇති පාසය නොදන්නවුන් මෙන් පච්ඡාසං කටුකං පසුව ඔවුන්ට කටුක වූ විපාක ලැබෙයි. විපාකොහිසස ඒ පාපකර්මයාගේ විපාකය දුගතියෙහි ලැබෙන උවදුරු වශයෙන් පාපයෝ පිහිටක් නොලබන්නෝ වෙත්. ලාමකය.

පමාද සූත්‍ර වර්ණනාව නිමි.

## 48.

අප්පමාද සුත්තෙන අප්පමාද සූත්‍රයෙහි

සමධිගය්හා තමා අනුව පවතින්නෙකු කොට (අත්පත් කොටගෙන සිටී) අප්පමාදො, තමාට හිතවත් කර්ම කරවන්නා අප්පමාද නම් වේ. ජංගමානං පෘථුවියෙහි හැසිරෙන්නා වූ සමොධානං ඇතුලත් වීමට එකතුකොට තැබීම, යදිදං මහන්තතෙනාන, ඇත් පාදයේ යම් මහත්බවක් වේද, මේ මහත් බැවින් අග්‍රයයි යෙදිය යුත්තේය. එවමෙවඛො, ඇත්පාදය මෙනි. (කරවන්නා) කාරාපක සංඛ්‍යාත අප්පමාදය සෙසු පාදයන් මෙනි. අවසේස පාදයෝ, ත්‍රෛභූමක කුසල ධර්මයෝ අත්පාදයේ සෙසු පාදයන් මෙනි. සියල්ල අප්පමාද පදයෙහි සංග්‍රහට යෙත්. අප්පමාද පදය ඇතුලෙහි ඒ සියල්ල ඇතුලත් වෙති. යම්හෙයකින් ඇත්පාදය සෙසු පාදයන් අතුරෙන් අග්‍ර ද ශ්‍රේෂ්ඨ ද වේ. මෙසේ අප්පමාදය සෙසු ධර්මයන් දක්වයි. රතියො, දිව්‍ය මානුෂ පංචකාම රතින් හා ධ්‍යාන විදර්ශනා මාර්ගඵල සම්පත්ති රතීන් අපරාපරා අපරාපර උත්පත්ති වශයෙන් හා විශිෂ්ඨතර වශයෙනුත් අනොඤානඤ වූ, අප්පමාදං පසංසනති මේ ආයු ආදිය ප්‍රාර්ථනා කරන්නහු විසින් අප්පමාදයම කළයුතුයයි, මූලකාරණභූත වූම අප්පමාදය පසංසා

කෙරෙත්. පුඤ්ඤකිරියාසු පණ්ඩිතා අප්පමාදං පසංසන්ති එබැවින් ආයු ආදිය ප්‍රාර්ථනා කරන්නහු විසින් අප්පමාදයෙහිම යෙදිය යුතුය යනු යෝජනායි. අත්ථාභිසමයා, අර්ථ ප්‍රතිලාභය හේතුකොට.

අප්පමාද සූත්‍ර වර්ණනාව නිමි.

# 49.

අපුත්තක සුත්ත අපුත්තක සූත්‍රයෙහි

දිවාදිවසස දවසේ දිවාකාලය මධ්‍යාහ්න සමය යන අර්ථයි. සාපතෙය්‍යං යනු ධනයයි. කොපන වාදො රූපියස්ස රන් රිදී, කඹ, කාලලොහ හල (නගුලහිස) කච්ඡපක (හැලි වෙසෙසක්) ප්‍රභේද වූ ඝන වස්තු වශයෙන් ද පරිභෝග භාජන විශේෂ වශයෙන් ද රිදී භාජනයන් පිළිබඳව කියනුම කවරේද, මෙපමණයයි පරිච්ඡේද කිරීම් ගැන කවර කථාද යන අර්ථයි. භත්තභොගො, පරිභෝග කරන බත. කණාජකං නිවුඩුහාලේ බත, බිලංගදුතියං කාඩි දෙවෙනිකොට ඇති, සාණං හණවැහැරිමය, තිපක්ඛවසනං, තුන්කඩක් ඇති දෙපොලකින් මසා නිමකරන ලද වස්තරයක් (දරයි) පිණ්ඩපාතෙන පතිමානෙසි, පිණ්ඩපාතය දෙවයි යෙදවිය. පිණ්ඩපාතය දෙවීය. පක්කාමි කිසියම් රාජකාරියක් සඳහා ගියේය. පච්ඡා විප්පටිසාරී අහොසි ඔහු වනාහි අතිකූත් දිනවල එම පසේබුදුන් දකිති. දීමට සිතක් ඔහුට නො උපදියි. එම දිනයෙහි ඒ පදුමවතී දේවියගේ කුන්වන පුත්‍රයා, තගරසිඛී පසේබුදුරජාණන් වහන්සේ ගන්ධමාදන පර්වතයෙහි එල සමවත් සුවයෙන් වැඩසිට පෙරවරු සමයෙහි අනොතත්ත විලින් මුව දොවා කායබන්ධනය බැඳ පාසිවුර ගෙන අභිඥා පාදක ධ්‍යානයට සමවැද ඉර්ධියෙන් අහසට නැග නුවර දොරටුවෙහි බැස සිවුර පොරවා පාත්‍රය ගෙන නගරවාසීන්ගේ ගෙදොරවල ලක්ෂයක් වටිනා ථවිකාවක් තබන්නාක් මෙන් පැහැදිළි අභික්කන්ත වර්ණයෙන් බබලමින් පිළිවෙළින් වඩින්නේ සිටුවරයාගේ ගෙදොරට පැමිණියේය. එදවස සිටුතුමා උදෙන්ම නැගිට ප්‍රණීත වූ භෝජනවලද

ගෙදොර දොර කොටු වෙත ආසනයක් පනවා, දත් අතර ශුද්ධ කරමින් හුන්නේ එම පසේබුදු රදුන් දැක එදින සාන්තව සිට දාන චේතනාව උපදවා භාර්යාව කැඳවා මේ මහණ හට පිණ්ඩපාතය දෙවයි කියා පිටත්ව ගියේය. සිටු භාර්යාව සිතීය. මවිසින් මෙපමණ කලකින් මොහුගෙන් දෙවයි වචනයක් නො ඇසූ විරූය. දෙන්නේ ද අන්කිසිවෙකුට නොව පහවූ රාග-දෝස-මෝහ ඇති පසේබුදුරජාණන් වහන්සේට දෙවවයි යම්කිසිවක් නොදී ප්‍රණීත දෙයක් දෙමැයි ගෙදරින් නික්ම පසේබුදුරදුන්ට පසඟ පිහිටුවා වැඳ පාත්‍රය ගෙන ඇතුළුගෙහි පැනවූ අසුනෙහි වැඩහිඳුවා ඉතා පිරිසිදු හැල් සහලෙන් බතක් සකසා එයට අනුරූප කැවුතු ව්‍යඤ්ජනද සූපද සලකා පාත්‍රය පුරවා පිටත සුවඳින් ආලේපකොට පසේ බුදුරදුන්ගේ අතෙහි තබා වැන්දේය. පසේ බුදුරජාණන් වහන්සේ අනෙක් පසේ බුදුරජාණන් වහන්සේලාට සංග්‍රහ කරන්නෙමැයි නොවළඳම අනුමෝදන් කොට වැඩිසේක. එම සිටුතුමා ද බැහැර සිට එන්නේ පසේ බුදුරදුන් දැක මම තොපට පිණ්ඩපාත දෙවයි කියා නික්මුනේ වෙමි. ලැබූ සේක් ද. එසේය සිටුතුමනි. ලැබුවෙමි. බලමින් බෙල්ල උස්කර බැලුවේය. ඔහුට පිණ්ඩපාත සුවඳ අවුත් නැහැය පහරා සිටියේය. හෙතෙම සිත සකස්කර ගැනීමට නොහැකි වූයේ පසුව විපිළිසර වූයේය. වරමෙතං යනාදිය විපිලිසර උපන් ආකාරය දැක්වීමයි. භාතුචච පන -පෙ- ජීවිතා වොරොපෙසි එකල්හි වස්තුව නොබෙදාම මව්පියන් දෙදෙන ද වැඩිමහල් සහෝදරයා ද කලුරිය කළාහුය. හෙතෙම සහෝදරයාගේ බිරිය සමගම සංවාසයෙහි යෙදුනේය. සහෝදරයාට එක් පුතෙක් විය. පාරේ සෙල්ලම් කරන මිනිස්සු ඔහුට කියත්, 'මේ දාසයා, මේ දාසිය, මේ යානාව, මේ ධනය. ඔබ සතුය' ඔහු ඔවුන්ගේ කථා ඉගෙන 'මේ දාසයයි, මෝ දාසියයි, මේ ධනයයි, ඒවා මට අයත්ය' ආදිය කියයි. සුළුපියා සිතීය. 'මේ දරුවා දැන්මම මෙසේ කියයි. වැඩි වයසට පැමිණි කල්හි සම්පත්තිය බිඳ දමන්නේය. දැන්මම කළයුත්තක් කරන්නෙමැයි එක් දිනක් ආවුධයක් ගෙන එන්න පුතේ කැලයට යමු යයි කියා කැලයට ගෙනගොස් කෑ ගසද්දී මරා වලක දමා පස්වලින් වැසුවේය. මේ සඳහා මෙසේ කියන ලදී.

සතහකඛතතුං සත්වරක් පූර්ව, පශ්චිම චේතනා වශයෙන් මෙහි අර්ථය දතයුතුය. එක පිණ්ඩපාත දානයක් පිළිබඳව එක චේතනාවකි. පටිසන්ධි දෙකක් නොදෙවයි පූර්ව පශ්චිම චේතනාවලින් සත්වරක් ස්වර්ගයෙහිද සත්වරක් සිටුකුලයෙහි ද උපදවන ලදී. පුරාණං,

පසේබුදුරදුන්ට පිණ්ඩපාතය පිදූ චේතනා කර්මය පරිගගහං පරිගගහිත වස්තුව (තමන් සතු යම්කිසි දෙයක් ඇත්නම් එයද), අනුජීවිනො එක මහ කුලයක් නිසා පණහක් හැටක් කුලයෝ ජීවත් වෙත්. ඒ මිනිසුන් සඳහා මෙය කියන ලදී. සබබං නාදාය ගනතබබං මේ සියල්ල නොගෙන යා යුතුය. සබබං නිකඛිසස ගාමිනං සියල්ල හැර දමා යන ස්වභාව ඇත්තේය. අත්හැර දැමිය යුත්තේය යන ස්වභාව ඇත්තේය යන අර්ථයි.

අපුතතක සූත්‍ර වර්ණනාව නිමි.

# 50.

තමොතම සුතෙත (පුගගල) තමොතම සූත්‍රයෙහි. නීචෙකුලෙ පචචාජාතො යනාදි වශයෙන් අඳුරෙන්, යුත් වූයේ තමො නම් වේ. කාය දුචචරිතාදීන්ගේ වශයෙන් නැවත, නිරයට පැමිණෙන හෙයින් තම පරායණ නම් වේ. මෙසේ දෙඅයුරින්ම බන්ධතම වූවක් මෙන් මෙසේ කියන ලද්දේ වෙයි. උචෙච කුලෙ පචචාජාතො ආදි වශයෙන් ජෝතිමත් භාවයෙන් යුක්ත වූයේ ජොති නම් වේ. ආලෝකයෙන් යුක්ත වූයේ යයි කියන ලද්දේ වෙයි. කාය සුචරිතාදිය නිසා නැවත ස්වර්ගයෙහි ඉපදී බැබලීමට පැමිණියේ වෙයි. ජොති පරායණො චෙණ කුලෙ, කුළුපොතු කුලයෙහි නෙසාදකුලෙ, මුවවැදි ආදීන්ගේ කුලයෙහි.

රථකාර කුලෙ සොම්මර කුලයෙහි, පුකකුස කුලෙ පස්වඩු කුලයෙහි (කසල සොධක) කසිරවුතතිකෙ දුකසේ ජීවිත වෘත්තිය කරගෙන යනු ලබන කුලයෙහි සාසචඡාදො, අනුභව කළයුතු ආහාර, හැඳපෙරවිය යුතු වස්ත්‍ර. දුබබණෙණා, පාංශුපිපාසචයකු මෙන් ද, දැවුණු කණුවක් මෙන්ද වර්ණයෙන් යුක්ත වූයේ. දුදදසිකො වැදූ මවට ද, නපුරු දැකුම් ඇතියෙක් වූයේ. ඔකොටිමකො, කොටෙක් වූයේ, කාණො, එක් ඇසක් කණ වූයේ හෝ ඇස් දෙකම කණ වූයේ හෝ කුණි, එක් අතක් කොර වූයේ හෝ අත්දෙකම කොර වූයේ හෝ. ඛඤ්ජො එක් පයකින් කොර වූයේ හෝ

පා දෙකින්ම කොර වූයේ හෝ, **පකඛහතො,** පක්‍ෂයක් නටුවෙක් හෝ (පීඨසංපී) අත් පා කොරෙක් හෝ **පදීපෙය්‍යසස** තෙල් බඳුන් ආදී ප්‍රදීප උපකරණයන්ගේ.

**එවං ඛො මහාරාජ,** මෙහි එක් පුද්ගලයෙක් පිටත ආලෝකයක් නොදැක, මව්කුසේදීම මියගොස් අපායෙහි උපදින්නාහු මුලු කල්පයක්ම ඇවිදියි. මෙතෙම තමො තම පරායණ පුද්ගලයා නම් වේ. මෙතෙම වූ කලී කුහක පුද්ගලයෙක් වන්නේය. කුහක පුද්ගලයාට මෙවන් උපත් වේයයි කියන ලදී. මෙහි, **නීචෙ කුලෙ පච්චාජාතොහොති චණ්ඩාල කුලෙ වා** ආදියෙන් ආගමන විපත්ති මෙන්ම, නැවත නැවත, උපන් ප්‍රත්‍යයන්ගේ විපත්ද දක්වන ලද්දේ වෙයි. **දළිද්දෙ** ආදියෙන් ප්‍රත්‍යය විපත්තිය ද, **කසිර වුතතිකෙ,** ආදියෙන් ආජීව උපාය විපත්තිය ද, **දුබබණෙණා** ආදියෙන් ආත්මභාව විපත්තිය ද, **බවහාබාධො** ආදියෙන් දුක්ඛ කාරණ සමායෝගය ද, **නලාභී,** ආදියෙන් සුඛ කාරණ විපත්තිය මෙන්ම උපභෝග විපත්තිය ද කායෙන දුච්චරිතං ආදියෙන් තමපරායණ භාවයාගේ සමායෝගය ද **කායසස** භෙදා ආදියෙන් සම්පරායික පක්‍ෂයට අයත් සුක්ක පක්‍ෂය කියන ලද්දට ප්‍රතිපක්‍ෂ නයින් දතයුත්තේයැ.

**පාප සංකපෙපා** පවිටු වූ කාම ව්‍යාපාද විහිංසො විතර්කයන්ගෙන්, යුක්ත වූ **අනාදරො,** ගරුකටයුතු මව ආදී පුද්ගලයන් කෙරෙහි ගෞරව රහිත වූයේ. **අකෙකා සති.** දසවිධ ආක්‍රෝශ වස්තූන්ගේ ආක්‍රොස කෙරේ. **පරිභාසති** කිම මෙහි සිටියහුද? තොප විසින් අපගේ සී සෑම් ආදිය කළේද? යනාදී පිරිහෙළීම් බස් බිණීමද, ගැටේ ද, **නත්‍ථිකො** නැත, නැත යයි යාචකාදීන්ට කියන සුල්ලෝ. **ඝොරං** භයානක වූ. **සෙට්ඨසංකපෙපා** කුසල පක්‍ෂයෙහි නෙක්ඛම්ම, අව්‍යාපාද, අවිහිංසා විතක්කයන්ගෙන් යුක්ත වූ. **අබ්‍යගග මනසො** සුලං නැති තැන දැල්වූ පහන මෙන් එකඟ වූ සිත් ඇත්තේ, **සමචරියාය සිකඛති** දසකුසල කම්මපථ නම් වූ සම චරියාවෙහි හික්මෙයි. පරිපූරණය කෙරේ. කයින් වචනයෙන් හා සිතින් සුචරිත කර්මයන් කෙරේ යන අර්ථයයි.

**තමොතම සූත්‍ර වර්ණනාව නිමි.**

# 51.

**පබ්බතූපම සුත්තෙන** පබ්බතූපම සූත්‍රයෙහි,

**මුද්ධාවසිත්තානං** ක්‍ෂත්‍රිය අභිෂේකයෙන් මුදුනෑ ඉසින ලද අභිෂේක ජලය ඇති, කරන ලද අභිෂේක ඇති. **ඉස්සරිය මද මත්තානං,** ඉසුරු මදයෙන් පමා වූ, **කාම ගෙධ පරියුට්ඨිතානං,** කාමයෙහි ගිජු බැවින් මැඩුනු, අභිභූත වූ. **ජනපදත්ථාවරියප්පත්තානං,** ජනපදයෙහි ථිරභාවයට පැමිණියා වූ රාජකරණීයානි, රාජකර්ම, රජවරුන් විසින් කළයුතු කෘත්‍යය. **තෙසවාහං** මම දැන් එහි. **උස්සුක්කතං** (උත්සුක බවට පැමිණියේ වෙමි.) ව්‍යාප්ත වීමි.

මෙම රජතුමා දවසට තුන්වරක් භාග්‍යවතුන් වහන්සේට උපස්ථාන සඳහා යෙති. අතරමග ගමන් ද බොහෝ වෙති. ඔහුගේ නිතර ගමන්හිදී බලකාය මහත් වේ. සමහරවිට, සමහරවිට අල්පද වේ. එක්දිනක් පන්සියයක් සොරු සිතුවාහුය. 'මේ රජතුමා අවේලාවෙහි අල්ප වූ බලසෙන් යුතුව ශ්‍රමණ ගෞතමයන්ට උපස්ථානයට යයි. අතරමගදී ඔහු ගෙන රාජ්‍ය ගන්නෙමු යයි අන්ධ වනයෙහි සැඟවුනාහුය. රජවරු මහත් පුණ්‍යවන්තයෝ වෙති. ඉක්බිති ඔවුන් අතුරෙන් එකෙක් අවුත් රජතුමාට කීවේය. රජතුමා මහත් බලකායක් ගෙන අන්ධවනය වටකොට ඔවුන් සියල්ල අල්ලා අන්ධවනයේ සිට නගරය දක්වා පාර දෙපස ඔවුනොවුන් ඇසෙන් ඇස ගැටෙන සේ ආසන්නයෙහි සූලයෙන් සිටුවා උල්වල තැබුවාහුය. ඒ සඳහා මෙසේ කියන ලදී.

ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ මෙසේ සිතීය. ඉදින් මහරජතුමන්ට මෙසේ කියමි. මහරජතුමනි, මා වැනි බුදුවරයෙකු සමීප විහාරයෙහි සිටිද්දී, තාවිසින් දරුණු වැඩක් කරන ලදී. ඔබ නො සුදුසු දෙයක් කළෙහිය. රජතුමා නිශ්ශබ්දව බිම බලා දරා ගැනීමට නොහැකි වූයේය. පරියාය වශයෙන් ධර්මය කියන්නේම සලකන්නේ යයි ධර්ම දේශනාව ආරම්භ කරන්නේ **තංකිං මඤ්ඤසි,** ආදිය වදාළහ.

එහි **සද්ධායිකො,** ඇදහිය යුත්තේ, ඔබ යමෙකුගේ වචනය අදහන්නෙහිදැයි මෙවන් අර්ථ ඇත්තේය. **පච්චයිකො** එයටම පරියාය වචනයෙකි. **යඟෙඝ** යනු චෝදනාර්ථයෙහි නිපාතයෙකි. එය අවබෝධ

කරමියි යන අර්ථයි. අබ්භසමං ආකාසය හා සමවූ, නිපෝථයෙන්තා ආගච්ඡන්ති පොලොවේ සිට අකනිටා බඹලොව දක්වා සියලු සතුන් තලඇට මෙන් සුණුවිසුණු කරමින් එයි. අඤ්ඤත්‍ර ධම්මචරියා, දසකුසල කම්මපථ නම් වූ චරියාව හැර වෙන කළයුත්තක් නැත. සමචරියා යනු ද එයටම පරියාය වචනයකි. ආරොචෙමි, කියමි. පටිවෙදයාමි. දන්වමි. අධිවත්තන්ති මැඩගෙන සිටි. හත්ථියුද්ධාති, නාලාගිරි ඇතු සමාන කපපන නම් ඇතා පිට නැඟී කළයුතු යුද්ධ, ගති, නිබ්බත්ති, ඉපදීමයි. විසයො, අවකාසයයි. සමර්ථභාවය හෝ ඔවුන්ට ජරා මරණ දෙක ප්‍රතිබාහනය කිරීමට නොහැක්කේය. මනතිනො මහාමනතා බුද්ධිසම්පන්න වූ මහෞෂධ විධුරපණ්ඩිත, සමාන වූ මහාමන්ත්‍රීහු, භූමිගතං මහා ලෝහ කළ පුරවා පොළොවේ තබ්බන ලද, සම් පසුම්බි ආදියෙහි පුරවා තුලා සංඝාටා ආදියෙහි එල්වා අහසෙහි පසුම්බි ආදියෙහි පුරවා තුලා සංඝාටාදියෙහි එල්වා අහසෙහි සිටියා වූ ගොඩනැගිල්ලක මුදුනෙහි කොත වැනි තැනක පුරවා තබන ලද (ධනය) උපලාපෙතුං, ඔවුනොවුන් ලවා බිඳුවන්ට යම්සේ දෙදෙනෙක් එක්මගකින් නොයත්. එසේ කරන්ට නභං ආහච්ච අහස පුරවා සමන්තා අනුපරියෙයායුං සතර දිසාවෙන් සත්ත්වයන් සුණුවිසුණු කරමින් පෙරලෙමින් එත්. එවං ජරාව මචවු ච මෙයින් පර්වත දෙකක් ගන්නා ලද්දාහුය. රාජ අවවාදයෙහි ජරාව එන්නේ සියලු යෞවනය විලුම්පනය කරමින් එයි. මෙසේ ජරා-මරණ-ව්‍යාධි-විපත්ති, මේ හතරම ආවාහු වෙත්. සද්ධං නිවෙසයෙ, සද්ධාව වාසය කරවන්නේය. පිහිටුවන්නේය. (තුණුරුවන් කෙරෙහි)

පබ්බතූපම සූත්‍ර වර්ණනාව නිමි.

# 52.

ලොකානුවිචරණ සුත්‍තෙන ලෝකානු විචරණ සූත්‍රයෙහි

පාරිසජ්ජා පරිවාර දේවතාවෝ, ඉමං ලොකං අනුවිචරන්ති අටවක් දිනයෙහි සක්දෙව්රජ තෙම සතරවරම් දෙවිවරුන්ට අණකෙරෙයි. 'දරුව, අද අටවක් දිනයයි. මිනිස්ලොව විවිධ පින් කරන්නවුන්ගේ නම්ගොත්

දැනගෙන එනු මැනවි. ඔවුහු අවුත් තමන්ගේ පිරිවරට අයත් වූවන් පෝෂණය කරත්. යන්න දරුවෙනි, මනුෂ්‍ය ලෝකයෙහි හැසිර පින් කරන්නවුන්ගේ නාමගෝත්‍ර රන් තහඩුවල ලියා ගෙන එව්. ඔවුහු එසේ කරත්. එබැවින් කියන ලදී.

ඉමං ලොකං අනුවිචරනතීති කචචි බහු, ආදිය ඔවුන්ගේ පරීක්‍ෂණය දැක්වීම පිණිස කියන ලදී. මෙසේ පරීක්‍ෂා කරමින් ඔවුහු හැසිරෙත්. මතෙතයාා මවට හිතවත් වූ මවට හොඳින් සලකන්නේය යන අර්ථයි. ශ්‍රමණයන් කෙරෙහි මනාව පිළිපදින්නාහු සාමඤ්ඤා නම් වේ. ඛීණාසව බ්‍රාහ්මණ නම්ද වේ. ඔවුන් විෂයෙහි මනාව පිළිපදින්නාහු බ්‍රහමඤ්ඤ නම් වේ. උපොසථං උපවයනති මසකට අටවරක් පෙහෙවස් සමාදන් වෙත්.

පටිජාගරොනති පටිජාගරණ නම් උපොසථ කර්මය කරත්. එය කරන්නාහු එක් අඩමසෙක්හි සතර උපොසථ දිනයන් පච්චුග්ගමන අනුගමන වශයෙන් කරත්. පංචමී උපෝසථය පච්චුග්ගමනය කිරීමෙන් හතරවන උපෝසථයයෝ වෙති. අනුව යන්නාහු ජට්ඨී උපෝසථය ද අට්ඨමී උපෝසථය පච්චුග්ගමනය කරන්නේ සත්තමී උපෝසථයයි ද, පච්චුග්ගමනය කරන්නේ, චාතුද්දසියද ඒ දෙකම අනුව යන්නේ පාටිපදික උපෝසථකයෝ ද වෙති.

පුඤ්ඤානි කරොනති සරණාගමන - නිච්ච සීල පූපඵ පූජා ධම්මසවණ දහස් ගණන් වූ පහන්පූජා විහාර කිරීම් ආදී නානාපපකාර වූ පින්කම් කරති. ඔවුහු එසේ ඇවිදිමින් ගම් නියම්ගම් රාජධානිවලට පැමිණෙත්. ඉක්බිති ඔවුන් වෙනුවෙන් අධිගෘහීත වූ දෙව්වරු මහරජවරුන්ගේ ඇමැතියෝ ආවාහු යයි පඬුරු ගෙන ඔවුන් සමීපයට යත්. කිමෙක්ද පින්වතුනි, බොහෝ මිනිස්සු මවට උපස්ථාන කිරීම් ආදී කී ආකාරයෙන් මිනිසුන්ගේ පින් විචාරති. එසේය පින්වත අසවල් ගමේ අසවලා, අසවලා පින් කරයි යනුවෙන් කී කල්හි පින් කරන්නවුන්ගේ නම් ගොත් ස්වර්ණමය පට්ටිකාවක ලියා අන් තැනකට යෙත්. මෙසේ මිනිස්ලොව හැසිරෙන්නේ ඒ ස්වර්ණමය ලේඛනයන් ගෙනවුත් සතරවරම් රජදරුවන්ට දෙත්.

පුතතා ඉමං ලොකං අනුවිචරනති සතරවරම් දෙව්වරුන් විසින්

කලින් කී නයින්ම යවනු ලැබුවාහු පිළිවෙළින් හැසිරෙත්. තදහු, එදවසෙහි. උපොසථෙ පොහොත් දිනයෙහි. සචෙ භික්ඛවෙ අප්පකා හොන්ති එම ලිඛිත රන්පටවලට අනුව මේ කාලයෙහි (පින්කරන මිනිස්සු) ස්වල්පයහ. මේ කාලයෙහි බොහෝ යයි දැනගනිත්. ඒ සඳහා මෙය කියන ලදී. දෙවානං තාවතිංසානං පළමුව උපන් තෙතිස් දිව්‍ය පුත්‍රයන් නිසා මෙසේ ලද නම් ඇති. තෙන එම ප්‍රකාශනයෙන්, එයින් පින් කරන්නවුන්ගේ අල්පභාවය හේතුවෙන් 'අපි පිරුණු දෙව් පිරිස් මැද, නැකැත් කෙළි කිරීමට නොලබමු යයි නොසතුටු සිත් ඇත්තාහු වූහ. දිබ්බා වත භො කායා, පරිහායිස්සන්ති අළුත් අළුත් දිව්‍ය පුත්‍රයන්ගේ පහළ නොවීමෙන් රමණීය වූ දසදහස් යොදුන් වූ දේව නගරය ශුන්‍ය වෙයි. අසුරකායා සතර අපාය, කුසල පක්ෂයෙහි මෙම ක්‍රමයෙන් අර්ථය දතයුතුයැ.

භූතපුබ්බං භික්ඛවෙ සක්කො දෙවානමින්දො, තම සක්දෙව් රජ සමය පිළිබඳව මෙසේ කියයි. එක් සක්‍රයෙකුගේ අදහස ගෙන කියන ලද්දේ වෙයි. අනුබෝධ කරවමින් (ඇලුම් කරවමින්) තායං වෙලායං එම කාලයෙහි. පාටිහාරිය පක්ඛංච, මෙහි පාටිහාරිය පක්ෂය නම් වස්කාලය ඇතුලත වූ තුන්මාසය නිබඳ පෙහෙවස් සමාදන් වීමයි. එසේ නොහැකි නම් පවාරණ දෙක අතර එක්මසක් නිබඳ පෙහෙවස් සමාදන් වීමයි. යොපස්ස මාදිසො නරො. යම් සත්ත්වයෙක් මා මෙන් වන්නේ නම් යම් ශක්‍රයා වනාහි කියන ලද ආකාර උපෝසථයාගේ ගුණ දෙදෙව්ලොව සම්පත් හැර මසකට අට දවසක් පෙහෙවස් සමාදන්ව වාසය කරයි. එබැවින් මෙසේ කියන ලදී. යම් සත්ත්ව කෙනෙක් මා මෙන් වන්ට මා පැමිණි සම්පත්වලට පැමිණීමට කැමැත්තේ නම්, යන අර්ථයි. සක්‍රතෙම වනාහි මෙවැනි උපෝසථ කර්මයෙන් ශක්‍ර සම්පත්තියට පැමිණෙන්ට වුසිතවා, විසූ පෙහෙවස් ඇත්තේ, කතකරණීයා සතර මගින් කළයුතු දෙය නිමකොට සිටියේ. අනුප්පත්ත සදත්ථො, රහත් බවට සදත්ථ යයි කියනු ලැබේ. එයට පැමිණියේ. පරික්ඛීණ භවසංයොජනො යම් සංයෝජන ධර්මයක බැඳීමෙන් භවයට අදිනු ලැබේ ද, එය ක්ෂය කළ බැවිනි. සම්මදඤ්ඤා විමුත්තො, මනා හේතුවෙන් නයින් කාරණයෙන් දැන, මිදුනේ, කල්ලං වචනාය, කියන්ට සුදුසු. යො පස්ස මාදිසො නරො, යම් සත්ත්ව කෙනෙක් මා වැනි රහත් කෙනෙක් වන්නේ ද, හෙතෙමේ ද මෙසේ පෙහෙවස් සමාදන් වූයේමය. පෙහෙවස් සමාදන් වීමෙහි ගුණ දත්තෝ මෙසේ කියන්නේය. අනිකුදු ක්‍රමයෙකිः- යම් සත්ත්වයෙක් මා වැනි වන්නේ ද මා පැමිණි සම්පත්වලට පැමිණීමට කැමති වන්නේය

යන අර්ථයි. ඒ එසේමැයි. මෙවන් උපෝසථ කර්ම වැඩීමෙන් රහත්බවට පැමිණීමට හැකිවන්නේය.

ලොකානු විවරණ සූත්‍ර වර්ණනාව නිමි.

# 53.

සුපුබ්බණ්හ සුත්ත සුපුබ්බණ්හ සූත්‍රයෙහි

සුනක්ඛත්තං, ආදියෙහි යම් දවසක තුන් සුචරිත ධර්මයෝ පිරුණාහු වෙත් ද, එම දවසෙහි යෙදුන නක්ඛත්ත යෝගය සුනක්ඛත්ත නම් වේ. එහෙයින් ඔහුට එකල්හි සුනක්ඛත්තයක් වේයයි කියනු ලැබේ. එදවසම කරන ලද එහෙයින් ඔහුට එකල්හි සුමංගල යයි කියනු ලැබේ. (එසේ වූ කල්හි) ප්‍රභාත කාලයද සුපපභාත නම් වේ. සයනයෙන් නැගිටීම ද සුවුට්ඨිතම වේ. එම මොහොතද, සුඛණො නම් වේ. මොහොත ද සුමුහුත්ත නම් වේ. අසුරුසන් දසයක කාලය ඛණ නම් වේ. එයින් දස ඛණයක් ලය නම් වේ. එම ලයින් දසඛලයක් ඛණලය නම් වේ. ඉන් දසගුණයක් මුහුත්ත මොහොත නම් වේ. එම මොහොතින් දසගුණයක් ඛයමුහුත්ත නම් වේ. මෙම විභාග කිරීම දතයුතුය. සුයිට්ඨං බ්‍රහමචාරිසූ යම් දවසක තුන් සුචරිතය සම්පූර්ණ වූවාහු වෙත් ද, එදා ඔහුගේ ශ්‍රේෂ්ඨ චරියාවෙන් යුතුව දුන් දානය සුයිට්ඨ නම් වේ. පදක්ඛිණං කායකම්මං එදවස එම කළ කාය කර්මය වර්ධනය වූ කාය කර්මයක් වේ. පණිධීතෙ පදක්ඛිණා එදවස ඔහු යම් ප්‍රාර්ථනාවක් තබයිද එම ප්‍රාර්ථනා තොමෝ වර්ධනය විය යුත්තාහු සාර්ථක විය යුත්තාහුය. පදක්ඛිණාති කත්වාන වැඩිය යුතුම කාය කම්ම ආදිය කොට ලභනත්ථෙ පදක්ඛිණෙ, මෙහි දියුණු අර්ථයම ලබත්.

සුපුබ්බණ්හ සූත්‍ර වර්ණනාව නිමි.

# 54.

සලල සුත්තෙ සලල සූත්‍රයෙහි

කා උත්පත්ති මෙහි උපත කවරේද යත්? භාග්‍යවතුන් වහන්සේගේ උපස්ථායක වූ එක් උපාසකයෙකුගේ පුත්‍රයෙක් කලුරිය කළේය. හෙතෙම පුත්‍ර වියෝග සෝකයෙන් පෙලුනේ සත් දිනක් නිරාහාරව සිටියේය. ඔහුට අනුකම්පා වශයෙන් භාග්‍යවතුන් වහන්සේ ඔහුගේ ගෙදරට වැඩමකර ශෝකය නැතිකිරීම පිණිස මෙම සූත්‍රය වදාළ සේක.

එහි අනිමිත්තං ඇස් ගැලවීම් ආදි ක්‍රියාකාරක නිමිති රහිත වූයේය. මම මේ මේ දේ කරන්නෙමි. එතෙක් කල් ඔබ ජීවත්වන්න. මිය නොයන්න. මෙසේ කියා ලැබිය නොහැකිය. අනඤ්ඤාතං මෙයින් මෙපමණ කාලයක් ජීවත්විය යුතුයයි ආයුෂයාගේ පරියන්තය වශයෙන් දැනගත නොහැකිය. කසිරං නොයෙක් ප්‍රත්‍යයන් සම්බන්ධ පැවතුම් ඇති බැවින් දුකසේ යැපිය යුතුය. ඒ එසේමැයි. එය අසසාය - සසසාය පටිබද්ධය, මහාභූත ප්‍රතිබද්ධය. කබලීකාර ආහාර ප්‍රතිබද්ධය. උණුසුම ප්‍රතිබද්ධය. විඤ්ඤාණය ප්‍රතිබද්ධය. අනතුරකට නොපැමිණෙන්නේ ද, නොදකින්නේ ද ජීවත් නොවේ. මහාභූතයන්ගේ සම පැවැත්ම නිසා ජීවත් වෙයි. ඔවුන් අතුරෙන් එකක්හුගේ ප්‍රකෝප වීමෙන් කට්ඨමුඛ ආදී සර්පයන් දෂ්ට කළාක් මෙන් මේ කය, ඉතා තද භාවයන්ට පැමිණියේ ද එකල්හි ජීවිතය නොපවතී.

පත්ථද්ධො භවතී කායො, දට්ඨො කට්ඨ මුඛෙන වා
පඨවිධාතුප්පකොපෙන හොති කට්ඨ මුඛෙව සො

පූතිකො භවතී කායො දට්ඨො පූතිමුඛෙන වා
ආපොධාතුප්පකොපෙන හොති පූති මුඛෙව සො

සන්තත්තො භවතී කායො දඩ්ඪො අග්ගි මුඛෙන වා
තෙජො ධාතුප්පකොපෙන හොති අග්ගි මුඛෙව සො

සඤ්ඡින්නො භවතී කායො දට්ඨො සත්ථ මුඛෙන වා
වායො ධාතුප්ප කොපෙන හොති සත්ථ මුඛෙව සො

'කට්ඨ මුඛ නම් සර්පයෙකු දෂ්ට කරනු ලැබුවහුගේ සිරුර ඉතා දැඩි ලෙස තද වේ. එසේම පඨවි ධාතුව කිපියෙකුගේ සිරුර ද කට්ඨමුඛ සර්පයෙකු දෂ්ට කළහුගේ සිරුර මෙන් වේ.'

'පූතිමුඛ නම් සර්පයෙකු දෂ්ට කරනු ලැබුවහුගේ සිරුර කුණුවීමට පත්වේ. එසේම ආපෝධාතු කිපියෙකුගේ සිරුර ද පූතිමුඛ සර්පයෙකු දෂ්ට කළාහුගේ සිරුර මෙන් වේ.'

'අග්ගිමුඛ නම් සර්පයෙකු දෂ්ට කරනු ලැබුවහුගේ සිරුර ඉතා රත් කළ බවට පත්වේ. එසේම තේජෝ ධාතු කිපි අයකුගේ සිරුර ද අග්ගිමුඛ සර්පයෙකු දෂ්ට කළහුගේ සිරුර මෙන් වේ.'

'සත්‍ථමුඛ නම් සර්පයෙකු දෂ්ට කළහුගේ සිරුර සිඳුනේ වේ. (කැපුනේ වේ. එසේම වායෝ ධාතුව කිපි අයකුගේ සිරුර ද සත්‍ථමුඛ සර්පයා දෂ්ට කළහුගේ සිරුර මෙන් වේ.'

දුර්භික්‍ෂ ආදියෙහි දී ආහාර නොමැතිවීමෙන් සත්ත්වයන් ගේ මරණය ප්‍රකටය. එසේ වනුයේ කබලීකාර ආහාර සම්බන්ධ වූ ජීවිතය. එසේම කෑම බීම ආදියෙහිදී කමමප තේජෝධාතු ඌන වූ කල්හි සත්ත්වයෝ ජීවිතක්‍ෂයට පත්වෙති. එසේ උණුසම පටිබද්ධ නිසා ජීවිතය විනාශ වෙයි. විඤ්ඤාණය නිරුද්ධ වූ කල්හි ප්‍රකෘතියෙන්ම සත්ත්වයන්ගේ ජීවිත නොවේ. මෙසේ වන්නේ ජීවිතය විඤ්ඤාණ පටිබද්ධ නිසාය. පරිත්තං අල්පය. දෙවියන්ගේ ජීවිතය සමානකොට බලනවිට තණ අග පිණි බිඳුවකට සමානය. චිත්ත ක්‍ෂණයකට මත්තෙහි අභාවය සිදුවන නිසා හෝ පරිත්ත නම් වේ. ඉතා දිගු ආයුසක් ඇති සත්ත්ව තෙමේ අතීත සිතින් ජීවත් වූහ. වර්තමානයෙහි ජීවත් නොවෙයි. අනාගතයෙහිද ජීවත් නොවන්නාහුය. අනාගතයෙහි ජීවත් වන්නේය. ජීවත් නොවෙයි. ජීවත් නොවූහ. වර්තමානයෙහි ජීවත් වෙයි. ජීවත් නොවූවාහුය. ජීවත් නොවන්නේය. තඤ්ච දුක්ඛෙන සංයුත්තං එම ජීවිතය ද එසේ අනිමිත්ත, අඤ්ඤාතය. සැපසේ යැපෙන්නේ නොවෙයි. ස්වල්ප වූ ද සමාන වූ ද සීත උෂ්ණ මැසි මදුරුවන්ගේ ස්පර්ශය, බුපපිපාස ආදි සංසාර දුක්ඛය, විපරිණාම දුක්ඛය, දුක්ඛ දුක්ඛය යන මොවුන්ගෙන් යුක්ත වූවාහු වෙති.

කුමක් කියන ලද්දේ වේද? යම්හෙයකින් මෙවැනි මනුෂ්‍යයන්ගේ

ජීවිත මෙවැනි වූ ජීවිතය නැතිවී යාමට පෙර ධර්මචර්යාවම වඩන්න. පුත්‍රයා අනුව සෝක නොකරන්න යයි මෙයිනුදු දැනගන්නෙහිය. සියලු උපකරණයන්ගෙන් පුත්‍රයා ආරක්‍ෂා කරන්නේ ද, හෙතෙම මළේය. එබැවින් සෝක කරමි. එසේ ද සෝක නොකරවයි දක්වන්නේ නහි සො ආදිය වදාළහ.

යම්හෙයකින් හෙතෙම ජරාවට පැමිණි අන්තෙහි මරණය අනුරූපය. ඉතා දහර වයසේ දී මගේ පුත්‍රයා මළේ යයි සිතීය. එබැවින් වදාළහ. ජරම්පි පණ්ඩා ආදිය ජරාවට පැමිණ ද නොපැමිණ ද මරණය වෙයි. එහි නියමයක් නැතැයි කියන ලදී. දැන් එම අදහස නිදර්ශන ඉදිරිපත් කරන්නේ ඵලාන මිව යනාදිය කීහ. එහි අර්ථය නම් :- යම්සේ පැසුණු ගෙඩි හිරු උදාවේ පටන් හිරු රශ්මියෙන් සන්තර්පනය වන්නේ ගසෙහි පඨවි රසයද ආපෝ රසය ද පත්‍රවලින් ශාඛාවලට ද ශාඛාවලින් කඳටද කඳින් මුල්වලට ද, මුල්වලින් පොලොවටද පිවිසෙයි. ආපසු ගමන ආරම්භයේ පටන් පොලොවෙන් මුල්වටලද මුල්වලින් කඳට ද මෙසේ අනුක්‍රමයෙන් ශාඛා, පත්‍ර ඵල නැවත වැඩෙත්. මෙසේ පඨවි රසාදිය නගින්නේ පැසුනු (ඉදුණු) ගෙඩියෙන් නටුවේ මුලට නොපිවිසෙත්. අනතුරුව හිරු රශ්මියෙන් සන්තර්පනය වන්නේ නටුවේ මුල දැවීමක් ඇති කෙරෙයි. එයින් එම ගෙඩි වැටෙන්නේ බොහෝ වෙලාවක් වැටෙති. ඔවුන්ගේ අළුයම වැටීමෙන් එයින් ප්‍රයෝජනය ගන්නේ ඵල කැමැත්තවුන්ගෙන් ඵල හිමියන්ට භයක් වෙයි. එසේම උපන් මිනිසුන්ට මරණයෙන් ඤාති ප්‍රියමනාප වූවන්ට භයක් වේ. ඉදුනු ගෙඩි සදිසයෝය, සත්ත්වයෝ.

වැඩිපුර කීමෙන් කිම, යථාපි කුම්භකාරසස -පෙ- ජීවිතං, එබැවින් දහරා ච -පෙ- මච්චුපරායණ, මෙසේ වදාළ පරිදි ගණන් ගන්න. (සලකන්න.) එහි ගච්ඡතං පරලොකතො, මෙලොවින් පරලොවට යන්නවුන්ගේ යම් හෙයකින්, න පිතා තායතෙ පුත්තං ඤාතිවාපන ඤාතකෙ, (පියා සිය පුතු පරලොවින් නොරක්නේය. ඤාතිහු හෝ සිය නෑයන් නොකරන්නාහ.) එබැවින් පෙක්ඛතං යෙව -පෙ- නීයති, එහි අදහස මෙසේය. උපාසකවරුනි, බලව ඤාතීන් බලාසිටුත්ම මාරයා මිනිසුන් අතුරෙන් එක එකා ගෝඝාතකයා මෙන් ගෙනයයි.

අබ්භාහතො ලොකො, එහි, යම් බුදු පසේබුදු ආදි බුද්ධිමතුන් මොවුහු මෙසේ මරණයෙන් ද ජරාවෙන් ද මැඩුනේ ප්‍රතිඝාතනය කරන්ට

කිසිවෙකුට නොහැක්කාහුය. කසමාධීරා තසොචනති විදිත්වා ලොක පරියායං. මෙම ලෝක ස්වභාවය දැන සෝක නොකරත් යයි කියන ලද්දේ වෙයි. ඔබ වනාහි, යසස -පෙ- පරිදෙවසි, කුමක් කියන ලද්දේ ද, මච්කුසට පැමිණියා වූත් මිය ගියාවූත් යමෙකුගේ ගතාගත මාර්ගය නොදනුයෙහි නම් උභයාර්ථයන් නොදක්මින් නිරර්ථක වලප්නෙහිය. ධීරයෝ වනාහි එය දකිමින් දැන ලෝක පරියායට නොම සෝක කරත්. දැන් නිරත්‍ථං පරිදෙවසි මෙහි දක්වන ලද පරිදේවනයෙහි නිරර්ථක භාවය ඔප්පු කරමින් පරිදේව මානොච, ආදිය වදාළහ.

එහි උදබබහෙ, දරන්නේය. තමා කෙරෙහි උපදවා ගතයුතුයැ යන අර්ථයයි. සමමූළ්හො හිංස මතතානං, මුලාවට පත්ව තමා එහි හෙලන්නේ, කයිරාච නං විචකබණෙ ඉදින් එවැනි කිසි අර්ථයක් දරන්නේය. විචක්‍ෂණ තැනැත්තේද, එම පරිදේවනය කරන්නේය. නහිරුණෙණන, මේ මෙහි අදහසයි. කිසිවකේ ඇඬීමෙන් හෝ සෝකයෙන් හෝ චෙතසික සාන්තියකට නොපැමිණෙයි. යලිදු හැඬීමෙන් ද සෝක කිරීමෙන් ද භියෙ‍‍ය්‍යා අසස උපපජ්ජතෙ දුකඛං සරීරඤච දුර්වර්ණාදියෙන් උපහඤ‍ඤති සිරුර නැසේ. න තෙන පෙතා, එම හැඬීමෙන් කළුරිය කළාහු න පාලෙනති නොයැපෙත්. එය ඔවුන්ට උපකාර පිණිස නොවෙයි. එබැවින් නිරත්‍ථා පරිදෙවනා හුදෙක් නිරර්ථ පමණක් නොවෙයි. අනර්ථද ගෙන දෙයි. කුමක් හෙයින්ද යත්? යම්හෙයකින් සොකමපපජහං -පෙ- වසමනවගූ, එහි අනුත්‍ථුනනෙතා අනුව සෝක කරන්නේ වසමනවගූං වසඟයට ගියේ වේ. මෙසේ සෝකයාගේ නිරත්‍ථක බව ද අනර්ථ ගෙනදෙන බව ද දක්වා දැන් සෝකය දුරුකිරීම පිණිස අවවාද කරන්නේ අඤ‍ඤෙපි පසස ආදිය වදාළහ. එහි ගමියෙති ගමනට සූදානම් වූයේ, පරලොව ගමනට සූදානම්ව සිටියේ යයි කියන ලද්දේ වෙයි. එඤනෙත විධ පාණිනො මරණ භයින් කම්පා වන්නා වූ ම මෙම සත්ත්ව තෙම. යෙන යෙන, යම් යම් ආකාරයෙන් හඟියි. දීඝායුක වන්නේය. නිරෝග වන්නේය. එයින් ඔහු අන් ස්වභාවයකට පත්වූයේ වෙයි. හෙතෙම එසේ හඟින්නේ මරණයට පත්වන්නේ ද රෝගී ද වෙයි. එම විනාභාවය මෙබඳු යයි හඟින්නේ එයට ප්‍රතිවිරුද්ධ වේ. උපාසකය, බලන්න, ලෝක ස්වභාවය මෙහි මෙසේයැයි අදහස් කරන ලද්දේ යයි දතයුත්තේය.

භියො වා පන වර්ෂ සියයකට අධිකවම ජීවත්වන්නේ නම්, ඤාති සංඝෙ විනා හොති, අනිත්‍ය භාවයට පත්වූයේ නෑ ගණයාගෙන් (මරණය

විසින්) වියෝ වේමැයි. ඉධ ජීවිතං මෙසේ වර්ෂ සියයක් හෝ ඊට වැඩියෙන් හෝ ජීවත් වන්නේ නොමැරී සිටීමක් නම් නැත්තේය. අරහතො සුත්වා, මෙසේ මෙබඳු ස්වරූප ඇති රහත්හුගේ ධර්ම දේශනාව අසා න සො ලබ්භා මයා ඉති, එම මියගිය තැනැත්තේ දැන් මවිසින් නැවත ජීවිතය නොලබමි යයි මෙසේ දැනගන්නේ විනෙය්‍ය පරිදෙවනං පරිදේවනා හැරපියන්නේ යයි කියන ලද්දේ වෙයි.

වැඩිපුර කියනු කවරේද? යථාසරණ මාදිත්තං -පෙ- ධංසයෙ එහි ධීරො ධෘති නම් වූ ස්වාභාවික ප්‍රඥාව ඇති. සපපඤ්ඤො (බහුශ්‍රැත ප්‍රඥාවෙන්) පණ්ඩිත වූ කුසලො චින්තාමය ප්‍රඥාවෙන් යුක්ත වූයේ යයි දතයුත්තේය. චින්තාමය - සුතමය භාවනාමය ප්‍රඥාවන් හෝ යෙදිය යුතුය. හුදෙක් සෝකය පමණක් නොවේ. පරිදෙවං පජපපඤ්ච -පෙ- සලල මතතනො එහි පජපපං තෘෂ්ණාවයි. දොමනසසං චෙතසික දුකයි. අබබහෙ, උදුරාලන්නේය. සලලං මෙම තෙවැදෑරුම් වූම (-පරිදෙව, තෘෂ්ණා දෝමනස්ස) ඉවත් කිරීමට අපහසු අරුතින් ද ඇතුලට පිවිසි අරුතින් ද උලක් වැනි වූ, අසිතො, තෘෂ්ණා දෘෂ්ටීන් ඇසුරු නොකළ. සනති, රාගාදි කෙලෙස් දරථ සාන්ත බවට පැමිණියේ. සනතිං නිවන, නිබබුතො, මෙසේ උපන්නහුගේ දිරීම ද දිරීම ඇතිවූවහුගේ මරණය ද යන සත්ත්ව ලෝකයේ ස්වභාවය වූ ප්‍රකෘතිය දැන නිපක නම් වූ ප්‍රඥාවෙන් යුක්ත වූ පණ්ඩිත තෙම ජාති-ජරා-මරණයන්ගෙන් මිදෙනු කැමති විපස්සනා භාවනා වඩා පිළිවෙළින් රහත්මග නැණින් සියුල කෙලෙස් දරථ මුලිනුපුටා කිලෙස් පරිනිර්වාණයෙන් නිවුනේ වෙයි. මෙසේ භාග්‍යවතුන් වහන්සේ රහත්මග කුළුගන්වා දේශනාව නිම කළ සේක.

සලල සූත්‍ර වර්ණනාව
නිමි.

# 55.

නඛසිඛා සුත්ත නඛසිඛා සූත්‍රයෙහි.

සංඛං, උපනිධිං කලභාගං, මේ ශබ්දයෝ ඔවුනොවුන්ට වේවචනයෝය. සමාන තේරුම් ඇත්තෝය. එහි කලභාග :- නම් සොලොස්වෙනි භාගය, සත භාගය, සහසස භාගය, සතසහසස භාග යයිද කියනු ලැබේ. මනුසෙසුසු පච්චාජායනති මිනිස් ලොවින් චුතව නැවත මිනිස් ලොව උපදිත්. ඔවුහු ද අල්පයයි අපේක්‍ෂා කරනු ලැබේ. අඤ්ඤත්‍ර මනුසෙසහි, මනුෂ්‍ය ලෝකයෙන් චුත වූවන් ද මනුෂ්‍ය ලෝකයෙහි වූවන් ද හැර, සතර අපායෙහි උපදිත්. ඔවුහු මහපොළොවෙහි පස් මෙන් බහුතරය. මෙම සූත්‍රයෙහි දෙවාපි මිනිසුන් සමග සංග්‍රහ කරන ලදී. එහෙයින් මිනිසුන් අතර උපදින්නෝ ද අල්ප වෙති. දෙවියන් පිළිබඳවද මෙසේම දතයුතුය. මෙසේ බුදුරජාණන් වහන්සේ දුර්ලභ වූ මිනිසත් බව දක්වා අප්පමාද පටිපදාවෙහි නියෝජනය කරන්නේ තසමා තිහ භිකඛවෙ යනාදිය වදාළහ.

නඛසිඛා සූත්‍ර වර්ණනාව නිමි.

# 56.

නිධි කණ්ඩ සුත්ත, නිධිකණ්ඩ සූත්‍රයෙහි නිධිං නිධෙති පුරිසො නිධන් කෙරේනුයි. නිධි නම් වේ. තබයි, රකියි, ගෝපනය කෙරෙයි යන අර්ථයි. එම නිධාන හතර කොටසකි. ථාවර, ජංගම, අංගසම, අනුගාමික යනුයි. එහි ථාවර, නිධාන නම්, භූමිගත වූ හෝ අහස්ගත වූ හෝ හිරණ්‍ය හෝ ස්වර්ණ හෝ කෙත් වත් ආදිය හෝ අන්‍ය වූ මෙවන් වස්තුවක් හෝ ඉරියාපථ රහිත වේද, එයයි. ජංගම නිධාන නම් :- දාසි-දාස-හත්ථි-ගව-අසස-වළව-අජේලක කුකකුට සූකර මෙවැනි අන්‍ය වූවක් ද, ඉරියාපථවලින් යුක්ත වේද එයයි. අංගසම නිධානය නම්. කම්මායතන සිපපයතන විද්‍යාස්ථානවලින් ලද බොහෝ දැනුම. ආත්මභාවය හා සම්බන්ධ බැවින්

අංග සම නම් වේ. අනුගාමික නිධාන නම් :- දානමය - සීලමය - භාවනාමය, ධම්ම සවණමය ධම්ම දේසානමය පුණ්‍යකර්ම. යම්කිසි මෙහා සමාන චෙතත් පින්කමක් හෝ ඒ ඒ තැන්වලට අනුව ගොස් ඉවුපල උපදවාද, ඒවා වනාහි මෙම ගාථාපදයෙහි ථාවර ධනය අදහස් කරනු ලැබේ.

නිධෙති, තබයි. තැන්පත් කරයි. ගෝපනය කරයි. පුරිසො මෙහි පුරිස ශිර්ෂයෙන් දේශනාව ආයේ වෙයි. ගම්භීරෙ ඔදකන්තිකේ, බැසගත යුතුය යන අර්ථයෙන් ගැඹුරු වූ ජලයෙන් අවසන් වන බැවින් ඔදකන්තික නම් වේ. ගැඹුරු වූ ජලය නොමැති. කැලෑභූමි භාගයක, සතාධික පුරිසප්‍රමාණ ආවාටයක් මෙනි. අවසන ජලය ඇති ගැඹුරු නොවූ නිම්නයෙහි මඩ වගුරක එක් වියතක් පමණ වූ ආවාටයක් මෙනි. ගැඹුරු වූ ද, අවසන ජලය ඇත්තා වූ ද කැලෑ භූමි ප්‍රදේශයකි. යම්තාක් ජලය එන්නේ ද ඒ තාක් හාරණ ලද ආවාටයක් මෙනි. ඒ සඳහා කියන ලදී. ගම්භීරෙ ඔදකන්තිකෙ, යනුවෙන්. අත්‍ථෙ කිච්චෙ සමුප්පන්නෙ අර්ථය ගෙනදෙනු ලබන හිතවත් බව ගෙනදෙනු ලබන යම්කිසි කටයුත්තක් පැමිණි කල්හි කළයුත්තේ ය. යන ආකාරයෙන් එළඹ සිටින්නා වූ අත්‍ථාය මෙ භවිස්සති, මේ නිධානයන්ගේ ප්‍රයෝජන දැක්වීමකි. ඒ මාගේ කෘත්‍යයාගේ නිෂ්පත්තිය වන්නේ යයි යන අර්ථයයි. කෘත්‍ය ඇතිවීම වූ කලී එම කෘත්‍ය නිපන් කල්හි අර්ථය දතයුත්තේය.

මෙසේ නිධානයන්ගේ ප්‍රයෝජනය අර්ථාධිගම උපාය දක්වා දැන් නිපාතයාගේ ප්‍රයෝජනය අනර්ථයාගේ අපගමනය අභිප්‍රාය දක්වන්ට කීහ. රාජතො වා -පෙ- ආපදාසුව මට ප්‍රයෝජනය පිණිස වන්නේ යයි මෙහි කියන ලද්දේ වන්නේ යයි පදයන් මෙහි ගෙනහැර යෙදිය යුත්තේය. මේ එහි යෝජනා වේ. මේ සොරෙකැයි හෝ පරදාර කර්මයෙහි යෙදෙන්නෙකැයි හෝ අයබදු නොගෙවන්නෙකුයි මේ ආදි ක්‍රමවලින් විරුද්ධකරුවන් විසින් නපුරුකොට කියන ලද, නැති දොස් දක්වා දොස් කියන ලද, මට රජුන්ගෙන් හෝ මිදීමක් වන්නේය. මංපහරින සොරුන් විසින් ධනය පැහැර ගැනීමෙන් හෝ මෙපමණ හිරඤ්ඤ-ස්වර්ණ දෙවයි සොරුන් විසින් අල්ලාගත් කල්හිද, එයින් පීඩිත වූ මට ඔවුන්ගෙන් මිදීම පිණිස හෝ වන්නේය. මට ණයකරුවෝ ඇත. ඔවුහු මට ණය දෙවයි චෝදනා කරත්. ඔවුන් විසින් මට චෝදනා කරනු ලබන මගේ ණයින් මිදීමක් වන්නේය. දුර්භික්ෂ වූ ශස්‍ය විනාස වූ පිණ්ඩපාත දුර්ලභ වූ එවන්

සමයක් ඇතිවන්නේය. එහිදී අල්ප වූ ධනයෙන් යැපෙන්ට නොහැක්කේය. එවන් දුර්භික්‍ෂයක් හෝ මට ඇති වන්නේය. ඒ මේ ආපදා ඇති වෙත්. ගින්නෙන් හෝ ජලයෙන් හෝ අප්‍රිය දායාදවලින් හෝ මෙවැනි ආපදා මට ඇතිවන්නේ යයි පුරිස තෙම නිධාන තැන්පත් කරති.

මෙසේ අත්‍ථාධිගම අභිප්‍රාය ද, අනත්‍ථ අපගමන් අභිප්‍රාය ද, ගාථා දෙකකින් ද්විධ නිධාන ප්‍රයෝජන දක්වා දැන් එය නිගමන වශයෙන් වදාළහ. එතදත්‍ථාය ලොකස්මිං නිධිං නාම නිධීයති. එහි අර්ථය :- යම්හෙයකින් මෙසේ අත්‍ථාධිගමය ද, අනත්‍ථාපගමනය ද දක්වන ලද්දේය. මේවායේ නිපදවීම පිණිස මෙ අවකාස ලෝකයෙහි යම්කිසි හිරණ්‍ය, ස්වර්ණ ආදී ප්‍රභේද නිධාන තැන්පත් කරනු ලැබේ. යම්හෙයකින් මෙසේ තැන්පත් කරන ලද්දා වූ නිධාන පුණ්‍යවන්තයන්ගේ ම බලාපොරොත්තු අර්ථ සාධනය පිණිසම වේ. අනිත් අයට නොවේ. එබැවින් එම අර්ථය දක්වමින් මෙසේ වදාළහ. 'තාව සුනිහිතො -පෙ- උපකප්පති. එහි අර්ථයː- යමෙක් එම නිධානය. ගම්භීරෙ ඔදකන්තිකෙ, (ජලයට සමීප වූ තාක් ගැඹුරු වූ තැනෙක) මනාකොට හාරා තැන්පත් කරන ලද්දේද, යම් පුරුෂයෙකු විසින් තැන්පත් කරන ලද්දේ ද, සබ්බානිධි, ඔහුගේ මුළු ජීවිත කාලය තුල නොලැබෙයි. කියන ලද පරිදි කෘත්‍ය සිදුකිරීමට සමර්ථ නොවේ. කුමක් වේ ද? කිසිකලෙක්හි කිසිවිට ලැබේ. කිසිවිටක නොලැබේ. එහි තං යනු පද පූර්ණ මාත්‍රයක් වූ නිපාතයකි. ලිංග විපර්යාසය හෝ කොට සො කියා කිවයුතුය.

දැන් යම් කාරණා නිසා නිධාන ලඟට නොපැමිණේ ද නො ලැබේද එය දක්වමින් වදාළහ. නිධි වා ඨානා -පෙ- අපසසතො එහි අර්ථය :- යම්තැනක නිධානය මනාව තැන්පත් කරන ලද්දේ වේද, එම නිධානය තුඹූ තැනින් චවති, පහවෙයි. ඉවත්වෙයි. අචේතන වුවද පින ගෙවීයාම නිසා අන් තැනකට යයි. සඤ්ඤා වා අසස විමුය්හති, යම්තැනක තැන්පත් කරන ලද නිධානය තිබූ තැන අමතක වෙයි. ඔහුගේ පින ගෙවීම නිසා මෙහෙයවනු ලැබූ, නාගා වා තං අපනාමෙන්ති වෙන තැනකට පමුණුවත්. යක්ඛා වාපි හරන්ති යක්‍ෂයෝ හෝ එය කැමති තැනකට ගෙනයත්. අපසසතො, ඔහු නොදැක්කදී අප්පියා වා දායාද (අප්‍රිය වූ උරුමක්කාරයෝ හෝ) පොලොව හාරා එම නිධාන ගනිත්. මෙසේ තිබූ තැනින් චෙත්වීම, වෙතට නොපැමිණෙන කාරණා දක්වා දැන් යම් ඒ කරුණුවලට මුල් වූ එකම පින්ගෙවීම නම් වූ කාරණය දක්වන්නේ මෙසේ වදාළහ. යදා -පෙ-

විනසසති එහි අර්ථ :- යම්විටක භෝග සම්පත් උපදවන්නා වූ පිනෙහි ගෙවීමක් වේ ද, පිරිහීම පිණිස පවතින අකුසලයට ඉඩ තබා සිටියේ එකල්හි මේ සියලුම තැන්පත් කරන ලද ධනය වැනසේ.

දැන් පුණ්‍යසම්පදා නම් වූ පරමාර්ථ වශයෙන් වූ නිධානය දක්වන්ට වස්තු හිමියන්ට අනුමෝදනා පිණිස නිධි ඛණ්ඩය අරබයා යසස දානෙන ආදිය වදාළහ. එහි දානෙන, දීයතෙ අනෙනාති දානං මොහු විසින් දෙනු ලැබේනුයි දාන නම් වේ. අනුකම්පා බුද්ධියෙන් හෝ පූජා බුද්ධියෙන් ආහාර ආදි දාන වස්තු පරිත්‍යාග චේතනාව දාන නම් වේ. එයට අනුකූල වූ හෝ අලෝභයයි. සීලං කායික - වාචසික කුසලයන්ගෙන් යුක්ත වූ, පඤ්චංග අටඨාංග - දසංග - පාතිමොක්ඛ සංවර ආදි සියලුම සීලයයි. සංයමො සංයමයෙන් ද සිත, නොයෙක් අරමුණු ගැනීම නැවැත්වීම යයි කියන ලද්දේ වේ. මෙය සමාධියට අධිවචනයකි. යමකින් යුක්ත වූයේ හත්ථ සංයමය, පාද සංයමය, වාචා සංයමය යන මෙයින් යුක්ත වූයේ වෙයි. අපරයෝ කීහු. සංයමනය සංයම නම් වේ. සංවරණ යයි කියන ලද්දේ වෙයි. ඉන්ද්‍රිය සංවරයට මෙය පරියාය වචනයකි. දමනය දම නම් වේ. කෙලෙසුන්ගේ ව්‍යපසමනය යයි කියන ලද්දේ වෙයි. මෙය ප්‍රඥාවට අධිවචනයකි. සමාන වචනයකි.

මෙසේ පුණ්‍ය සම්ප්‍රදාය පරමාර්ථ වශයෙන් නිධාන බැව් දක්වා දැන් යමෙක්හි පිහිටි හෙතෙම නිධානය මනා ලෙස තැන්පත් කළේ වේද, එම වස්තු දක්වන්නේ, චෙතියම්හි ච යනාදිය වදාළහ. එහි වැඳිය යුතු පිදිය යුතු චිතතතා වා = චෙතියං (පූජනීය බැවින් චෛතිය වේ.) චෛතිය වූ කලී ත්‍රිවිධ වෙයි. පාරිභෝගික චෛතිය උද්දේසික චෛතිය ශාරීරික (සධාතුක) චෛතිය යනුයි. එහි බෝධිවෘක්ෂය පාරිභෝගික චෛතියයි. බුද්ධ ප්‍රතිමා, උද්දේසික චෛතියයි. ධාතුගර්භ ථූපය සධාතුක චෛතියයි. සංඝො බුද්ධ ප්‍රමුඛ සංඝයා පුගගලො ගිහි පැවිදි දෙපිරිස අතුරෙන් කිසිවෙක්, ඔහුට තිථියක් නැත යම්කිසි දවසක පැමිණේනුයි අතිථි නම් වේ. එකෙණෙහි පැමිණි පාහුනක (පිදිය යුත්තාට) නමකි. මෙම චෛතිය ආදි වස්තූන්හි පුණ්‍යමය නිධි තැන්පත් කරන ලද්දේ මනාව තැන්පත් කරන ලද්දේ වෙයි. බොහෝ කාලයක් ඉටුපල ප්‍රදානයට සමත් බැවින්, එසේ ස්වල්ප වූ දෙයක් චෛතියට පූජා වශයෙන් පුදා බොහෝ කලක් ඉටුපල ලාභීහු වෙත්. එහෙයින් කියන ලදී.

එකපුපඵං චජිත්වාන අසීතිං කපප කොටියො
දුගගතිං නාභිජානාමි, පුපඵදානසසිදං ඵලං

මතතාසුඛ පරිච්චාගා පසෙස චෙ විපුලං සුඛං,
චජෙ මතතා සුඛං ධීරො සමපසසං විපුලං සුඛං

'එක් මලක් පුදා අසූකෙලක් හවුරුදු දුගතියක් ගැන නොදනිමි. මේ මල් පිදීමේ අනුසයි.'

ස්වල්ප සැපයක් පරිත්‍යාග කිරීමෙන් විපුල වූ සැප බලන්න. ධීර තෙම විපුල වූ සැපයක් බලා ස්වල්ප මාත්‍ර වූ සැප අත්හරින්නේය.

මෙසේ වේලාම ආදි සූත්‍රවල කියන ලද ආකාරයෙන් සංඝාදි වස්තූන් විෂයෙහි දාන ඵල විභාගය දත යුත්තේය. යම්සේ චෛත්‍යාදිය විෂයෙහි පූජා පවත්වා මහත්ඵල දක්වන ලද්දේය. මෙසේ යෙදෙන පරිදි සියලු තැන ඒ ඒ පූජාවන් ආරම්භකොට චාරිත්‍ර-වාරිත්‍ර වශයෙන් සීලයාගේ ද, බුද්ධානුස්සති වශයෙන් සංයමයාගේ ද විපස්සනා මනසිකාර ප්‍රත්‍යවේක්‍ෂා කිරීම් වශයෙන් ඉන්ද්‍රිය දමනයෙහි යෙදීමේ ඒ ඒ ඵල විභූතිය ද දතයුත්තාහුය.

දැන් පුණ්‍ය නිධිහු ජලය තාක් ගැඹුරු තන්හි තැන්පත් කරනු ලැබූ නිධානවල විශේෂත්වය දක්වන්නේ එසො නිධි සුනිහිතො, ආදිය වදාළහ. එහි අජෙය්‍යො අන්‍යයන් විසින් දිනාගන්ට නොහැකිය. එබැවින් අජෙය්‍ය නම් වේ. අනුගච්ඡතීති අනුගාමිකො අනුව යන්නේ නුයි අනුගාමික නම් වේ. පරලෝ යන කල්හිද, ඒ ඒ තැන්වල ප්‍රතිඵල ගෙනදීම අත්නොහරී යන අර්ථය ගෙන දේ. පහාය ගමනීයෙසු එතං ආදාය ගච්ඡති. චුතවන දවසින් සත්ත්වයා හැර, ගමණීයෙසු, යන කල්හි භෝගයන් කෙරෙහි හෝ සත්ත්වයන් කෙරෙහි මරණ වශයෙන් භෝගයන් අතහැර ගමනීයෙසු යන කල්හි ගති විශේෂයන් කෙරෙහි හෝ සත්ත්වයාගේ මරණයෙන් භෝගයන් අතහැර ඉපදීම් වශයෙන් ගමනීයෙසු යායුතු කල්හි අතින් හෝ ආමර්ශනය කොට හෝ දිය නොහැකි භාවය නිසා ප්‍රථම කය අතහැර පසුව හුදු චේතනාවෙන් ගමනීයෙසු, යායුතු බැවින් ඉක්මවිය යුතු භෝගයන් කෙරෙහි, ඔවුන් අතර වනාහි පළමු නිර්ධාරනාර්ථයෙහි සත්තමී වේ. අතහැර යායුතු ස්වභාවයක් ඇති භෝගයන් අතුරෙන්, යම්

ධනයක් දාන වශයෙන් තැන්පත් කරනු ලැබේද, එයම එයින් උදුරා ගෙන යයි. අනුගාමික බැවිනි. එම නිධානය ගෙනයන්නා ස්වභාවය ලකුණු කරනු ලැබේ.

දැන් භාග්‍යවතුන් වහන්සේ තමා විසින් දේසිත පුඤ්ඤ නිධි ගුණ වර්ණනා කරන්නේ අසාධාරණ මඤ්ඤෙසං, ආදි පද දෙක වදාළ සේක. එයින් එම ගුණ වර්ණනා කිරීමෙන් එහි දෙව්මිනිසුන්ගේ උත්සාහ උපදවන සේක් කයිරාථ ධීරො පුඤ්ඤානි ආදි පද දෙක වදාළහ. මේ වනාහි මෙහි පද පිළිවෙල යෙදීමයි. යම් හෙයකින් පුණ්‍යයෝ අන්‍යයන් හා අසාධාරණ වේද, නිධිය සොරුන් විසින් පැහැරගත නොහැකිය. හුදෙක් නිධිය පමණක් නොව නිධිය හා විපාකය යන දෙකයි. යලිදූ, එසො නිධි සුනිහිතො අජෙය්‍යො අනුගාමිකො මෙහි කියන ලද යම් නිධියක් වේද, එය අනුගාමික වේ. යම්හෙයකින් එය පිණිම වේද, එබැවින්, කයිරාථ කරන්නේය. ධීරො බුද්ධි සම්පන්න තෙම පුඤ්ඤානි, දැන් භාග්‍යවතුන් වහන්සේ යමෙක් මෙසේ උත්සාහ කොට නිධි ක්‍රියාව සම්පාදනය කෙරෙත්ද, හෙතෙම ඔවුන්ට යම් ඵලයක් දෙයි ද එය සැකෙවින් දේසනා කරන සේක්, එස දෙව මනුසසානං, ආදි පද දෙක වදාළහ. යම් හෙයකින් ප්‍රාර්ථනාවට සම්බන්ධව ඔහුට කැමති සියලු සම්පත් දෙන්නේ වෙයි. එහෙයින් වදාළහ. 'ගැහැවියෙනි, ඉදින් ධම්මචාරී සමචාරී පුද්ගලතෙම මම කාබුන් මරණින් මතුව කැත් මහසල් කුලයෙහි වේවයි, -පෙ- සහභාවයට පැමිණේ යන තෙල කරුණ සිදුවන්නේය. ඒ කවර හෙයින් ද යත් හෙතෙම ධම්මචාරී සමචාරී වෙයි. එහෙයින් මෙසේ ද වදාළහ. 'මහණෙනි, මෙහි මහණතෙම ශ්‍රද්ධාවෙන් සීලයෙන් සුතයෙන් ත්‍යාගයෙන් ප්‍රඥාවෙන් සමන්විත වේද, ඔහුට මෙසේ වෙයි. අහෝ මම කාබුන් මරණින් මතු කැත් මහසල් කුලයෙහි හෝ -පෙ- සහභාවයට යන්නෙමැයි උපදින්නෙමැයි හෙතෙම එම සිත පිහිටුවයි. එම සිතින් අධිෂ්ඨාන කෙරෙයි. එම සිත වඩයි. ඔහුට එම සංඛාරයෝ ද, විහරණයෝ ද, මෙසේ භාවිතා කිරීම් එසේම නැවත නැවත කිරීම් එහි උපත පිණිස පවතී යයි යනාදිය, එබැවින් චිත්ත පදහන - අධිට්ඨාන භාවනා පරික්ඛාර (-උවමනා උපකරණ) සහ පැතීම සියලු කැමති සම්පත් දීමට හේතුව දක්වන්නේ, යං යදෙවා'භිපත්‍ථෙනති ආදි පද දෙක වදාළහ.

දැන්, යමක් වේද ඒ සියල්ල මෙයින් ලබයි. එය සීමා වශයෙන් දක්වන්නේ, සුවණ්ණතා සුසසරතා මේ ආදි ගාථාවන් වදාළහ. එහි

සුවණ්ණතාව නම් සුන්දර වූ ඡවි වර්ණතාවයයි. රන්පැහැති සමක් ඇති. එය ද මෙම පුණ්‍ය නිධානයෙන් ලබයි. එහෙයින් වදාළහ. "මහණෙනි, තථාගතයන් වහන්සේ අන්තිම ආත්මභාවයට පෙර ආත්මභාවයෙහි මනුෂ්‍ය වූයේ ක්‍රෝධ නොකරන්නෙක් වූයේ, උපායාසයන්ගෙන් තොර වූයේ දෙන්නේ ද විය. සුඛුම වූද මෘදු වූ ද ඇතිරිලි-කොට්ට-මෙට්ට ආදියෙහි කවර, බොම සුඛුම - කපපාසික - කෝසෙය්‍ය සැප ගෙනදෙන කම්බිලි හෙතෙම එම කර්මය කළ බැවින් රැස්කළ බැවින් මේ ආත්මභාවයට පැමිණියේ මේ මහාපුරිස ලක්‍ෂණ ලබයි. රන්වන් වූයේ වෙයි. රන් සමාන ඡවි වර්ණ ඇත්තේ වෙයි. මේ අයුරින් මෙයින් අන්‍ය වූවන්ට ද මෙම පුණ්‍ය නිධානවලින් ලැබිය හැකි සාධක වූ සූත්‍ර පදයන් ඒ ඒ තැනින් ගෙන කිවයුත්තේය.

සුස්සරතා, බ්‍රහ්ම ස්වරතාවය, මිහිරි හඬ ඇත්තේය. (කරවීක නම් පක්‍ෂියාට මෙන්) සුසණ්ඨානං, මනා සටහන් ඇතිබව, සන්සුන් පැවතුම් ඇතිබව, අංග ප්‍රත්‍යංගයන්ගේ, අඟපසඟ පිළිබඳ මනා සටහන් ඇති බවද, කියන ලද්දේ වෙයි. සුරූපතා, මෙහි සකල සරීරයට රූපයයි දතයුතුය. එහි සුන්දරබව. අති දීර්ඝ නොවූ ඉතා රස්ස (කොට) නොවූ ඉතා කෙට් වූ නොවූ, ඉතා මහත් නොවූ ඉතා කළු නොවූ ඉතා සුදු නොවූ (මෙවන් ලක්‍ෂණ) කියන ලද්දේ වෙයි. ආධිපච්ච පරිවාරො, මෙහි ආධිපත්‍ය නම් අධිපති බවයි. ඛත්තිය මහාසාර ආදිය නිසා ස්වාමි බවද ඇත්තේය යන අර්ථයි. පරිවාරො ගිහියනට සජන, පරිජන සම්පත්තිය ද පැවිද්දන්ට පරිස සම්පත්ති වෙහි ද සුවණ්ණතා ආදි ශරීර සම්පත්තිය ආධිපත්‍යයෙන් භෝග සම්පත්තිය, පිරිවරින් පරිස සම්පත්තිය කියන ලද්දාහුය. යමක් පතයිද, එය යං යදෙවාභි පත්‍ථෙනති, සබ්බමෙතෙන ලබ්භති, (ඔහු යමක් යමක් ප්‍රාර්ථනා කෙරේද, ඒ සියල්ල මේ පුණ්‍ය නිධාන හේතුවෙන් ලැබේ) යයි කියන ලද්දේ වෙයි. එහි, මෙයද පළමුකොට සයක් සීමා වශයෙන් කියන ලද්දේය. සුවර්ණතා ආදිය සියල්ල මෙයින් ලැබේ යයි දතයුතු යයි දක්වයි.

දැන් කී පරිදි දේව මනුෂ්‍ය සම්පත්තිවලට වඩා උලාර වූ පුඤ්ඤානුභාවයෙන් ලැබිය යුතුය. දේවමනුසස රාජ්‍ය සම්පත්ති දක්වන්නේ පදෙසරජ්ජං ආදිය වදාළහ.

එහි පදෙසරජ්ජං යනු එක දිවයිනක සියලුම කොටස්වලට

නොපැමිණ පොලොවෙහි එක් ප්‍රදේශයක රාජ්‍යයකි. ඉසසර භාවො ඉසසරියං, ඉසුරුමත් බව ඉසසරිය නම් වේ. මෙයින් දිවයිනකට ඉසුරු බව ඇති රාජ්‍යයක් පවත්වමි. සක්විති රජෙකුගේ සැපය චකකවතති සුඛ නම් වේ. පියං යනු ඉෂ්ට වූ කාන්ත වූ මනාප වූ යනුයි. මෙයින් සිව් දිවයිනකට අධිපති සක්විති රාජ්‍යයන් දක්වයි. දෙවෙසු රජජං = දෙවරජජං, දෙවියන් විෂයෙහි වූ රාජ්‍යය දෙවරජජ නම් වේ. මෙයින් මන්ධාතු ආදි මනුෂ්‍යයන්ගේ දේවරාජ්‍යය ද දක්වන ලද්දේ වෙයි. අපි දිබෙබසු, මෙයින් යම් කෙනෙකුන්ගේ දෙව් බව වෙත්නුයි දිබබා යයි කියනු ලැබෙත්. එම දේව නිකායවල උපන්නා වූ දිව්‍ය රාජ්‍යයක් දක්වයි. මෙසේ ප්‍රදේශ රාජ්‍ය ආදිය දෙවනුවද සීමා වශයෙන් සියල්ල මෙයින් ලබයි යයි දැන් මෙම ගාථා දෙකින් කියන ලද සම්පත් කැටිකොට දක්වා නිවන් සැපත දක්වා වදාරණ සේක්, මානුසිකාච ආදිය වදාළහ.

එහි මනුසසානං අයනති = මානුසසී මානුසසී එව මානුසිකා (මෙය මිනිසුන්ගේ යන අර්ථයෙන් මානුසසී නම් වේ. මානුසිබවට මනුසිකා නම් වේ.) සමෘද්ධ වීම = සම්පත්ති නම් වේ. මේ පදයෙන් යම් ඒ සුවර්ණතාදි පදයෙන් කියන ලද මානුසික සම්පත්තිය ද නොකියන ලද සම්පත් වේද එයද, සූරා සතිමනෙතා -පෙ- ඉධ බ්‍රහමචරියවාසො යනාදි නයින් දක්වන ලද ප්‍රඥාවෙහි දක්‍ෂභාවය ආදි ප්‍රභේදයෝ මානුසික සම්පත්ති වේ. එය මෙයින් දක්වන ලදි. දෙවානං ලොකො = දෙවලොකො. තසමිං දෙවලොකෙ. (දෙවියන්ගේ ලොව දෙව්ලොව වේ. එහි දිව්‍ය ලෝකයෙහි) රමනති එතාය අජඣතතං උපපනනාය, බහිද්ධාය උපකරණ භූතාය = රති (අධ්‍යාත්මික වස්තූන් කෙරෙහි බාහිර උපකරණ භූත වස්තූන් කෙරෙහි ද රමණය කිරීම රති නම් වේ.) සැපයට ද, සැප වස්තූන් කෙරෙහි ඇතිවන චේතනාවට ද රති යනු සමාන අර්ථ ඇති අධි වචනයකි. යම් ඒ සුවණණතා මේ පදයෙන් කියන දෙවලොක රතියද යම් ඒ නොකියන ලද ධ්‍යාන ධර්මයන් පිළිබඳ රතියක් වේ. එයද මෙයින් දක්වන ලද්දේය. 'නිබබානං යෙව නිබබාන සමපතති, (නිවනම නිබබාන සම්පත්තිය වේ.) මෙසේ තෙවැදෑරුම් සම්පත්තිය ද මෙයින් තෙවනුව සීමා වශයෙන් සියල්ල මෙයින් ලැබේ යයි දක්වන ලද්දේ විය.

අනතුරුව භාග්‍යවතුන් වහන්සේ, තෙවිජජා උභතොභාග විමුතති භාවනා වශයෙන් ද, පැමිණිය යුතු නිර්වාණ සම්පත්තියද, එයට උපායද දක්වන සේක් මිතත සමපද මාගමම ආදිය වදාළහ. එහි, සමපජජති

එතාය ගුණවිභූතිං පාපුණාතීති = සම්පදා. මිත්තො එම සම්පදා මිත්ත සම්පදා, (මෙම ගුණ විභූතියට පැමිණෙනුයි සම්පදා නම් වේ. මිත්‍රයාම සම්පදාම වෙනුයි මිත්ත සම්පදා නම් වේ. ආගම්ම, ඇසුරුකොට අවවාදයද අනුශාසනාවද ගෙන කැමති පරිදි ප්‍රතිපත්තියෙන්, යොනිසො පයුඤ්ජතො සිහියෙන් යුතුව භාවනානු යෝගයේ යෙදුනහුට. විජානන්ති එතායාති, විජ්ජා (මෙයින් දැනගනීනුයි = විජ්ජා) දිබ්බචක්ඛු, පුබ්බෙනිවාස ඤාණය හා ආසවක්ඛය නම් වූ ත්‍රිවිද්‍යාවෝය. විමුච්චන්ති එතාය සයංවා විමුච්චතීති. විමුත්ති (මෙයින් හෝ තෙමේ හෝ මිදුනේ) අට සමවත් සහ නිවන. විජ්ජා - විමුත්තීසු වසීභාවො විජ්ජා විමුත්ති වසීභාවො, (විද්‍යාවෙහි හා විමුත්තියෙහි වසීභාවය, විජ්ජා විමුත්ති වසීභාව නම් වේ. මේ එහි පිළිවෙලයි. යම් මේ ශාස්තෘන් වහන්සේ හෝ අන්‍ය වූ ගරුකටයුතු බ්‍රහ්මචාරි කෙනෙකු හෝ මිත්තසම්පදං ආගම්ම මිත්‍ර සම්පත්තිය නිසා එයින් අවවාද ද අනුශාසනා ද ගෙන අනුශාසන පරිදි ප්‍රතිපත්තියෙන් ද යොනිසො පයුඤ්ජතො, විජ්ජා විමුත්ති ආදියෙහි දැන යෙදුන බැවින් වසීභාවො මෙයද සතරවනුවද සබ්බමෙතෙන ලබ්භති යන්නෙහි ප්‍රමාණ කරන ලද්දේ කියන ලද්දේ වෙයි.

අනතුරුව යම්හෙයකින් විජ්ජා විමුත්ති වසීභාවයට පැමිණියේද, උභතො භාග විමුත්ත වූයේ නමුදු සියල්ලෝම පටිසම්භිදා ගුණ විභූතිය නොලබත්. මෙයින් වූ කලී ඒ ඒ අයුරින් කරන ලද පුණ්‍ය සම්පදාවන් පටිසම්භිදා විභූතියට පදට්ඨාන භාවය ලබත්. එබැවින් එය දක්වන්නේ පටිසම්භිදා ආදිය වදාළහ. එහි එම පටිසම්භිදා තොමෝ ධම්ම-අත්ථ-නිරුත්ති-පටිභාන වශයෙන් ප්‍රභේදගත වූවාහු වෙති. පටිසම්භිදාවෝ. යමෙක් මේ 'රූපී රූපානි පස්සති' යනාදි වශයෙන් කියන ලද්දා වූ අෂ්ට විමෝක්ෂයෝය. ශ්‍රාවකයන් විසින් පැමිණිය යුතු ශ්‍රාවක සම්පත්තිය සිදුකරන්නා වූ යම් මේ ශ්‍රාවක පාරමිතාවක් වේද, එය ස්වයම්භූ භාවය සිදුකරන්නා වූ යම් මේ පච්චෙක බෝධියක් වේද, එයද, සියලු සත්හට වඩා උතුම් වූ යම් බුද්ධභූමියක් වේද, එය ද මෙය පස්වන වරටත් සියල්ල මේ හේතුවෙන් ලබයි යනු සීමා වශයෙන් දතයුතුය. මෙසේ භාග්‍යවතුන් වහන්සේ යමක් වේද එය යං යදෙවාහි පඨොභත්ති, සබ්බමෙතෙන ලබ්භති යයි කියන ලද්දේ වෙයි. එය මේ ගාථා පසකින් කොටස් වශයෙන් දක්වා අනතුරුව මෙවැනි සියල්ල කැමති සියලු සම්පත් දෙන්නා වූ 'නිධාන' නාමයෙන් දක්වන්නේ, එවං මහත්ථිකා එසාති මෙම ගාථාවෙන් දේශනාව අවසන් කළ සේක.

එහි එවං යනුවෙන් අතීතාර්ථය නිදර්ශනය කිරීමයි. මහා අත්‍ථො අස්සාති - මහත්‍ථිකා. (මහත් වූ අර්ථය මොහුට වේනුයි මහත්‍ථිකා නම් වේ.) මහත් වූ අර්ථය සඳහා පවතී යයි කියන ලද්දේ වෙයි. මහිද්ධියා යනුද පාඨයකි. එසා උද්දෙස වචනයයි. එබැවින් :- යස්ස දානෙන සීලෙන, මෙත්‍තත්සිට කයිරාථ ධීරො පුඤ්ඤානි, යනුවෙන් දක්වන ලද පුණ්‍ය සම්පදාව යම්තාක් පෙන්වා දෙයිද ඒතාක්. යදිදං, අභිමුඛ කිරීම් අර්ථයෙහි නිපාතයෙකි. එබැවින් එසා, යනුවෙන් දක්වන ලද්ද නිර්දේශ කිරීමට මේ එය යයි අභිමුඛ කෙරෙයි. පුඤ්ඤාණං සම්පදා - පුඤ්ඤ සම්පදා, (පුණ්‍යයන්ගේ සම්ප්‍රදාව පුණ්‍ය සම්ප්‍රදා නම් වේ.) ධීරා බුද්ධිමත්හු, කතපුඤ්ඤතං, කළ පින් ඇති බව මේ එහි පිළිවෙළයි. මෙසේ සුවණ්ණතාදි බුද්ධභූමි, අවසන්හි මහත් වූ අර්ථ සිද්ධියකට පමුණුවන බැවින් මහත්‍ථිකා එසා යදිදං මයා යස්ස දානෙන සීලෙන, ආදි නයින් දේසිත පුණ්‍ය සම්පදාව, එහෙයින් මා වැනි සත්හට හිතසැප ගෙන දෙන ධර්ම දේශනාවට පසුබට නොවීම් සංඛ්‍යාත යථාභූත ගුණයෙන් ද, ධීරා පණ්ඩිතා, 'අන්‍යයන්ට අසාධාරණ යයි යනාදි වශයෙන් මෙහි කියන ලද්දවුන් විසින් 'මහණෙනි, පිනට භය නොවවු. මහණෙනි, එය සැපයට අධිවචනයකි. -පෙ- යම් ඒ පින යනාදි වචනයන්ගෙන් ද, අනේක ප්‍රකාරයෙන් කතපුඤ්ඤතං පසංසන්ති පක්ෂපාතී භාවයෙන් නොවේ.

නිධිකණ්ඩ සූත්‍ර වර්ණනාව නිමි.

# 57.

චරිමාලොප සුත්තෙ චරිමාලොප සූත්‍රයෙහි

එවංචෙ භික්ඛවෙ සත්තා ජානෙය්‍යුං, එවං යනු උපමා ආකාර නිපාතයකි. චෙ පරිකල්පනාර්ථයෙහිය. දානසංවිභාගස්ස යම් චේතනාවකින් යුතුව ආහාර ආදි දෙය්‍ය ධර්මයන් ගෙනවුත් අනුකම්පා වශයෙන් හෝ පූජා වශයෙන් හෝ වෙනත් ආකාරයකින් හෝ අනුන්ට දෙනු ලැබේ ද, එම දානය තමන් පරිභෝග කිරීම සඳහා ගන්නා ලද, එයින් යම් කොටසක් බෙදා දෙනු ලැබේ ද, මේ සංවිභාගයයි. විපාකං ඵලයයි. යථාහං ජානාමි

මෙහි මේ අදහසයි. තිරිසන්ගත වූවෙකුට දන් දී ආත්මභාව සියයක් ප්‍රවෘත්ති සුඛ විපාක වශයෙන් සිය ගුණයක දක්ෂිණාවක් වේ යයි මේ ආදි වශයෙන් 'මහණෙනි, යම් ආකාරයකින් මම දාන සංවිභාගයාගේ විපාකය ප්‍රත්‍යක්ෂ වශයෙන් දනිමි. මෙසේ මේ සත්ත්වයෝ ඉදින් දන්නේ නම් න අදත්වා භුඤ්ජෙය්‍යුං. යම් අනුභව කළයුතු දෙයක් තමාට ඇත්ද, එයින් අනුන්ට නොදී අනුභව නො කරන්නාහුය. දීම අනුභව කරන්නාහුය. නච නෙසං මච්ඡෙර මලං චිත්තං පරියාදාය තිට්ඨෙය්‍ය, තම සම්පත්තීන්ගේ අනුන් හා සාධාරණ බව නො ඉවසීම් ලක්ෂණ කොට ඇති සිතේ පිරිසිදු බව නසන්නා වූ, උපක්ලේශයක් වූ, කණ්හ ධර්මයන්ගෙන් එකක් වූ මසුරුමල නැතහොත් උක්තප්‍රකාර මසුරුමලද අනිකුදු දානයට අන්තරාය කරවූ. ඊර්ෂ්‍යා-ලෝභ දෝස මලද ඇතිකල්හි එම සත්ත්වයන්ගේ සිත සුදුසු පරිදි දාන චේතනා නොපවතී. පිරිසිදු හෝ නොවෙයි. මෙසේ පරියාදාය, හාත්පසින් ගෙන අභිභවනය කොට නො සිටින්නේය. කවරෙක් නම් මනාකොට දානඵල දන්නේ තම සිතේ මසුරුමලට ඉඩ දෙයිද? චරිමො ආලොපො, සියල්ලට ම පසු බත්පිඩ වන්නේය. අවසන් කබල වන්නේය. එයටම සමාන වචනයක් මෙහි කියන ලද්දේ වෙයි. මේ සත්ත්වයෝ ප්‍රකෘතියෙන් යම් පමණ බත්පිඩු ප්‍රමාණයකින් තමන් යැපෙන්නේ වේද, එම බත් පිඩුවලින් එකක් පමණක් තමා පිණිස තබා අනිත් සියල්ල පැමිණි ඕනෑකම ඇති අයට දී, යම් ඒ තබන ලද ආලෝපයක් වේද, එය මෙහි චරිමාලෝපය නම් වන්නේය. එයද නොබෙදා නොවළඳන්නාහුය. බෙදාම, එකදේසයක් දීම අනුභව කරන්නාහුය. යසමා ච ඛො, මේ ආදියෙන් කමමඵලය ප්‍රත්‍යක්ෂ නොවන බැවින් මේ සත්ත්වයෝ මෙසේ මේ සත්ත්වයෝ දාන සංවිභාගයෙහි නොයෙදෙති. යම්සේ බලාපොරොත්තු අර්ථය මේ කරුණින් සම්පාදනය කෙරේද එබැවිනි. මෙයින් අන්‍ය වූවෝ පිනෙහි නො පිහිටයි. පවෙහි පිහිටයි යන්නද මෙයින් දක්වන ලද්දේ යයි දතයුතුය. තත්ථෙතං මෙම සූත්‍රයෙහි දක්වන ලද අර්ථ සමූහය, දැන ගාථා බන්ධන වශයෙන් ද භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරනු ලැබේ.

එවඤ්ච සත්තා ජානෙය්‍යුං, යථා හොති මහප්ඵලං සංවිභාගයාගේ එම විපාකය මහත් වූ ප්‍රතිඵල ඇත්තේ වෙයි. එවං මේ සත්තා ච, ඉදින්, ජානෙය්‍යුං විපාකං සංවිභාගසස, යථා වුත්තං මහෙසිනා, තිරිසන් ගතවූවන්ට දන් දී සිය ගුණයක් දක්ෂිණ ඵල කැමතිවිය යුත්තාහු යයි මහෙසිනා, භාග්‍යවතුන් වහන්සේ පැවසූ අයුරින් විනෙය්‍ය මච්ඡෙර මලං,

මසුරුමල දුරුකොට, කම්ම හා කම්මඵල සද්ධාවෙන් විශේෂයෙන් රතනත්තය පිළිබඳ සද්ධාවෙන් ද පැහැදුනු සිතින් ද, යත්‍ථ යම් කෙලෙස් දුරුකළා වූ අරියෙසු, සීලාදි ගුණ සම්පන්නයන් කෙරෙහි දිනනං ස්වල්ප දෙයිනුදු මහප්ඵලං මහත්ඵල ලැබේ. තෙසු සුදුසු කාලයෙහි දජ්ජා දිය යුත්තාහුය. අනනුකූව, දත්වාති, දක්ඛිණෙය්‍යෙසු මහත්ඵල භාවය ඇති කිරීමෙන් දක්ඛිණාව පිලිගැනීමට සුදුසු වූ මනාව පිලිපන්නා වූ දක්ඛිණං පරලොව විශ්වාසකොට දියයුතු දෙය්‍ය ධර්මය, යම් සේ එම දානය මහා දානයක් වේද, එසේ බොහෝ ප්‍රතිග්‍රාහකයන්ට අනනං දත්වා, නැතහොත් බහුනො අනනං දත්වා කෙසේනම් දානය දිය යුත්තේ දැයි ඇසූහ. දක්ඛිණෙය්‍යෙසු දක්ඛිණං, ච ශබ්දයෙන් එයින් අන්‍ය වූ අවශේෂ දෙය්‍ය ධර්මය සම්පිණ්ඩනය කෙරෙයි. ඉතො මනුස්සත්තා මනුෂ්‍ය ආත්ම භාවයෙන් කාම කාමිනො කැමතිවිය යුතුව උලාර වූ කාමගුණයන්ගෙන් සමන්විත වූයේ, මොදනති කැමති පරිදි පිරිවරා ගනිත්. අයමපි අත්‍ථො ආදියෙහි පටන් ගාථා අවසානය දක්වා මේ සූත්‍රයෙන් ප්‍රකාශිත වූ අර්ථය අපි ශබ්දය සූත්‍රාන්තරයන්හි කියන ලද අරුත් සම්පිණ්ඩනය කෙරෙයි.

වරිමාලොප සූත්‍ර වර්ණනාව නිමි.

# 58.

පඤ්චවට්ඨාන සුත්තෙන පඤ්චවට්ඨාන සූත්‍රයෙහි

පඤ්චවඨානානි, යනු හිත සුඛයට කාරණ හෙයින් ආයු ආදි කාරණයෝ. ආයුං දෙති, ආයුෂ ගෙන දෙයි. වණ්ණං ශරීර වර්ණය. සුඛං යනු කායික චෛතසික සැපය. බලං ශරීර ශක්තිය. පටිභාණං සුදුසු මිදුනු නුවණ. ආයුසය භාගී, ආයුෂයාගේ අවශ්‍යයෙන්ම ඒකාන්තයෙන්ම ලැබීම.

පඤ්චවට්ඨානදාන සූත්‍ර වර්ණනාව නිමි.

# 59.

බලදාන සුත්ත බලදාන සූත්‍රයෙහි

අනනදො බලදො, යම්හෙයකින් ඉතා බලවත් තැනැත්තෙක් වුවද දෙතුන් දිනක් බත් අනුභව නොකොට නැගී සිටීමට නොහැකි වෙයි. අනුභව කිරීමෙන් දුර්වල කෙනෙක් වුවද බලසම්පන්න කෙනෙක් වෙති. එබැවින් ආහාර දීම බලය දීම නම් වේ. එහෙයින් එම ආහාර දානය කරන්නාහට කර්මානුරූප විපාක වශයෙන් බලය ලැබෙයි. වස්ත්‍ර දානය කරන්නාහට ඒ සමගම වර්ණ සම්පත්තිය දෙන්නේ වෙයි. අවමන් ලද විරූප වූවෙක් වුවද වස්ත්‍රාභරණවලින් සැරසුණුවිට දිව්‍යපුත්‍රයෙකු මෙන් හොබනේ වෙයි. එබැවින් වත්‍ථදො වණ්ණදො නම් වේ. යානදො ඇතුන් ආදී යානා දෙන තැනැත්තේ, (ඒවා අතර ඇත්යාන ආදිය ශ්‍රමණයන්ට කැප නොවෙත්. පාවහන් ආදිය සුදුසු වෙත්. එබැවින් කුඩ-පාවහන්-සැරමිටි-මඤ්ච-පීඨ ආදිය දෙන දායක තෙමේද, යමෙක් මග පිරිසිදු කෙරේද, හිණිමං හේදඬු කෙරේ ද, ඔරුපාරු පිළියෙල කර දේද, මේ සියල්ලම ගෙනදීම වේ. එයද, සුඛදො, සැප දීම නම් වේ. යානයෙන් සැප ගෙනදෙන බැවිනි. අන්ධකාරය ඇතිකල්හි ඇස් ඇත්තවුන්ටද රූප නොපෙනෙන බැවින් දීපදො චක්ඛුදො, ප්‍රදීප දෙන තැනැත්තේ ඇස් දෙන්නේ වේ. අනුරුද්ධ තෙරුන් මෙන් දිවැස් ලබයි. සබ්බදදො, සියලු බල ආදිය දෙන්නා වේ.

දෙතුන් ගමක පිඬු පිණිස හැසිර කිසිවක් නොලැබ පැමිණියහු සිසිල් පොකුණක ස්නානය කොට ගෘහය ඇතුලට පිවිස දොර වසා මොහොතක් හොත්තහු ද තෙහෙට්ටු සියල්ල සමනය වෙයි. පැහැපත් බව ගෙනවිත් තැන්පත් කලාක් මෙන් වෙයි. පිටත හැසිරෙන්නවුන්ගේ පයෙහි කටු ඇණෙති. කණු මුල්වල හැපෙති. සර්පාදි කරදර ඇතිවෙයි. සොරභයද ඇතිවෙයි. ගෙට ඇතුල්ව දොරවසා හුන්නහුට ඒ සියලු උවදුරු නොවෙත්. ධර්ම සජ්ඣායනය කරන්නහුට ධර්ම පීති සැපය ද, කමටහන් මෙනෙහි කරන්නහුට ව්‍යුපසම සැපයද උපදී. පිටත හැසිරෙන්නහුට දහඩිය මිදෙත්. ඇස් සැලෙත්. සෙනසුනට ඇතුල් වූ මොහොතෙහි ළිඳකට බැස්සාක් මෙන් වෙයි. හැඳ පුටු ආදිය නො වැටහෙත්. මොහොතක් සිටියහුට චනාහි චක්ඛු පසාද රූප අවුත් බැසගත්තාක් මෙන් වෙයි. මඤ්ච පීඨාදිය පෙනෙත්. එයින් කියන ලදීඃ-

සොච සබ්බ දදො හොති යො දදාති උපස්සයං යමෙක් ආවාස දේද, හේ සියල්ල දෙන්නේ වේ. යො ධම්මානුසාසති යමෙක් ධර්මානුශාසනා කෙරේද, හෙතෙම යනුයි. අමතන්දදො ච සො, ප්‍රණීත භෝජනයන්ගෙන් පාත්‍රය පුරවන්නාක් මෙන් අමෘත දානය ගෙන දෙයි. අට්ඨකථා කියයිද, පෙල කියවයිද, අසන ලද ප්‍රශ්න විසඳයිද, කම්මට්ඨාන විමසයි ද, ධර්මශ්‍රවණය කරවයිද, මේ සියල්ල ධර්මානුසාසනා නම් වේ. සියලු දානයන් අතුරෙන් ධර්ම දානයම අග්‍රයයි දතයුතුය. කියන ලදී :- සබ්බ දානං ධම්ම දානං ජිනාති යනුවෙන්.

බලදාන සූත්‍ර වර්ණනාව නිමි.

# 60.

පුඤ්ඤ වඩ්ඪන සුත්තෙන පුඤ්ඤ වඩ්ඪන සූත්‍රයෙහි,

ධම්මට්ඨා සීලසම්පන්නා කෙ ධම්මට්ඨා? කෙ සීල සම්පන්නා? කවරෙක් ධර්මයෙහි පිහිටියාහුද? කවරෙක් සීල සම්පන්නද? යනුවෙන් විචාරයි. භාග්‍යවතුන් වහන්සේ පළමුකොට මෙම ප්‍රශ්න වස්තුන් සමග දක්වන්නේ ආරාම රොපා යනාදිය වදාළහ. ආරාම රොපා, පුෂ්පාරාම ඵලාරාම කරවා දෙන්නාහු, වනරොපා ස්වයංජාත, හෝ රෝපනය කරන ලද වනයෙහි සීමාව ඇසුරුකොට චෛත්‍ය-බෝධි-චංකමන-මණ්ඩප-කුටි-ලෙන්-රාත්‍රියෙහි සිටින තැන් - දිවා කාලයෙහි සිටින තැන්, කරන්නා වූ දායකයෝ ද, ඡායාව ඇති ගස් රෝපනය කොට දෙන්නෝ ද වනරෝප ගණයටම වැටේ. සෙතුකාරකා විසම ස්ථානවල හේ දඬු කරන්නෝ ද, ජලයෙහි ගමන් කිරීමට ඔරුපාරු සපයන්නෝ ද, පපං පානීය දානශාලා සපයන්නෝ ද, උදපානං යම්කිසි පොකුණු - තලාක ආදිය කරදෙන්නෝ ද, උපස්සයං වාසස්ථාන කර දෙන්නෝද යන මේ අයට පුඤ්ඤං වඩ්ඪති (පින වැඩේ.) අකුසල විතර්කයන් විතර්කනය කරන්නහුටද, නිදන්නවුන්ටද පින වැඩේ. යම් යම් අවස්ථාවක සිහිකෙරේද, ඒ ඒ කල්හිම විශේෂයෙන් වැඩෙත් යයි දතයුතුයැ. ධම්මට්ඨා සීල සම්පන්නා ඒ ධර්මයෙහි පිහිටි බැවින් ධම්මට්ඨා නම් වේ. ඒ සීලයෙන් සමන්විත බැවින් සීල සම්පන්න

නම් වේ. නැතහොත් මෙවැනි පින්කම් කරන්නවුන්ගේ දසකුසල ධර්මයෝ සම්පූර්ණ වෙත්. ඔවුහු එහි පිහිටි බැවින් ධම්මට්ඨා - ධම්මට්ඨ නම් වේ. එම සීලයෙන් ද යුක්ත බැවින් සීල සම්පන්න නම් වේ.

පුඤ්ඤාභිවඩ්ඪන සූත්‍ර වර්ණනාව නිමි.

# 61.

යාගුදානානු මොදනායං යාගුදාන අනුමෝදනාවෙහි

ඒ බ්‍රාහ්මණ තෙම ලක්‍ෂයක් වියදම් කොට බොහෝ කැඳ ද මී පිඬුද පිළියෙල කළේය. සඤ්ඤතානං කාය සංවර ආදියෙන් යුක්ත වූ, පරදත්ත භොජිනං අනුන් විසින් දෙනු ලබන ආහාර බුදිනසුලු වූ කාලෙන, ආර්යයන් අනුභව කරන කාලයෙහි. අනුපපවෙච්ඡති දෙනු ලැබේ.

යාගුදාන මෝදනා වර්ණනාව නිමි.

# 62.

වසසකාරානුමොදනා - වසසකාර අනුමෝදනාවයි.

වාසං කප්පෙති, වාසය කෙරේනම්, යා තත්‍ථ දෙවතා ආසුං, එම වාසස්ථානයෙහි යම් භුමාටු ආදි දේවතාවෝ වූවාහුද, තාසං දක්ඛිණමාදිසෙ, මගේ මේ පින්දීමෙන් යම්, ගාම-නිගම-අරඤ්ඤ-භූමි-රුක්ඛ යන කොටස්වල දේවතාවෝ වෙත් නම් ඔවුහු සම්පත්ති ඓශ්වර්යය, අධිපති බව, ලාභ, යස, පරිවාර ආදියෙන් යමක් කැමති වෙත්නම් ඒවා සම්පූර්ණත්වයට පැමිණෙත්වා. ඔවුන්ට තමන්ගේ ප්‍රාප්තිදාන පෙනේවා. පුණ්‍යප්‍රාප්තිය පිණිස ප්‍රකාශ කරත්වා. පින් දෙන්නේය. තා පූජිතා පූජයන්ති ඒ දේවතාවෝ ඒ ප්‍රාප්ති දානයෙන් පුදනු ලැබුවාහුය. එම පුද්ගලයා

අහිත පහ කිරීමෙන් ද හිතසැප ගෙන දීමෙන් ද, පෙරලා පුදත්. එසේම **මානිතා මානයනති,** බුහුමන්කරන ලද දෙවියෝ ඔහුට බුහුමන් කරති. **අනුකමපනති** අනුග්‍රහ කෙරෙත්. **භද්‍රානි පසසති,** ධනය, කීර්තිය, සම්පත් ලාභ ආදි යහපත් දෙය දෙවියන්ගේ ආනුභාවයෙන් දකියි. පැමිණෙත්.

**වසසකාර අනුමෝදනා වර්ණනාව නිමි.**

## 62

**විහාරදාන අනුමොදනායං,** විහාරදාන අනුමෝදනාවෙහි,

**අපඤ්ඤත්තං** අනුමත නොකල, **විහාරො නාම** විහාර නම්, අඩඪයෝග (ගුරුළු පියාපත් වැනි වහල ඇති) ගෘහ හැර, අවසේස ගෘහයත්, අඩඪයොග, ගුරුළු පියාපත් මෙන් නැමුනු ගෙවල්, **පාසාදො** දීර්ඝ ප්‍රාසාද, **හම්මියං,** අහස් තලයෙහි කූටාගාර ඇති ප්‍රාසාදයෝමය. **ගුහා** යනු ගඩොල් ගුහා ශෛලමය ගුහා, දැවමය ගුහා, පාංශුමය ගුහා **ආගතානාගතසස, චාතුද්දිසසස, සංඝසස** පැමිණියා වූද නොපැමිණියා වූද සිවුදිග මහ සඟනට, **සීතං උණ්හං** අභ්‍යන්තර ධාතූන්ගේ කැලඹීම් වශයෙන් හෝ, බාහිර ඍතු විපර්යාස වශයෙන් හෝ ඇතිවන්නා වූ විෂම සීත හා උෂ්ණය. **පටිහනති** කාය - චිත්ත දෙකටම බාධාවක් නොපැමිණේ. සීත උෂ්ණයන්ගෙන් පෙලුනු ශරීරයෙහි විසිරුණු සිත් ඇත්තේ යෝනිසෝ මනසිකාරයෙන් යුතුව උත්සාහ කරන්ට නොහැකි වෙයි. එසේම **වාලමිගානි සිරිංසපෙ මකාසෙ** සිංහ ව්‍යාඝ්‍ර ආදි දරුණු සතුන්ගෙන්ද සර්ප මදුරු ආදින්ගෙන්ද බිය පැමිණෙත්. ආරක්ෂිත සෙනසුනකට පිවිස දොර වසා හුන්නහුට ඒ සිංහ ආදීන්ගෙන් උවදුරු නොවෙත්. **සිසිරෙ,** සිසිර කාලයේදී ස්පර්ශ වන වාතය හෝ දින හතඅටක් අහස වළාකුළින් වැසී තිබීම් **සතතාභාවද්දළිකා** වශයෙන් ඇතිවන්නා වූ සිසිර කාලයට අයත් ස්පර්ශයක් ද, **වුටඨියො** මහවැසි. යම්කලෙක්හි මහවැසි පටන් ගත්තේ ද, එකල්හි. **වාතාතපො සොරො,** ගස් පඳුරු මුලින් උදුරා දැමීම් බිඳදැමීම්, වශයෙන් දරුණු වූ වාතයද ග්‍රීෂ්ම කාලයේ උපතින්ම ඝෝර වූ සූර්යාතාපයද පීඩාකරනු ලබයි. **පටිහඤ්ඤති** විහාරයෙන් ඒවා ප්‍රතිබාහනය

කෙරේ. ලෙනත්ථ, සැඟවීම යන අරුති. උවදුරක් ඇති වූ කල්හි, වාසය කිරීම පිණිසයි. සුඛත්ථං සිංහ ආදි උවදුරු නැතිවීමෙන් සැපසේ වාසය කිරීම පිණිසය. ඣායිතුං අටතිස් අරමුණුවලින් කිසිවක ධ්‍යාන භාවනාවක සිත යොදවන්ට. විපසසිතුං අනිත්‍යාදි වශයෙන් සංඛාර ධර්මයන් සම්මර්ශනය කිරීමට මෙම පද දෙක සුඛත්ථං, මෙම පදය සමග යෙදිය යුත්තේය. නැතහොත් පරපදය යෙදිය යුත්තේය. ධ්‍යාන උපදවන්ට ද විදසුන් වඩන්නද, විහාරදානං, 'මෙහි ධ්‍යාන වඩත්, විදසුන් වඩත්. විහාර දානයෙහි යෙදෙන තැනැත්තේ. සංඝසස අගගං බුදෙධන වණණිතං, යම් හෙයකින් අග්‍රයයි වර්ණනා කරන ලදද, තසමාහි පණඩිතො පොසො කාරයෙ, කරවන්නේය. රමෙම මනරම් වූ නිවාස සැපයෙහි වාසයෙත්ථ බහුසසුතෙ, කරවා එම විහාරයෙහි පරියතති බහුසසුත, පටිපතති බහුසසුත, පටිවෙධ බහුසසුත. (භික්‍ෂූන්) වාසය කරවන්නේය. මෙසේ කරවන ලද විහාරයෙහි වාසය කරන්නා වූ භික්‍ෂූන්ගේ භිකඛාචාර වත් විමසන්නේ. තෙසං අනනදෙච පානඤච ආදිය වදාළහ. එහි අර්ථය නම් ඔවුන්ට සුදුසු වූ ආහාර පාන ද, වස්ත්‍රද ඇඳ පුටු ආදී සේනාසන ද, ඒ සියල්ල. ඔවුන් අතුරෙහි, උජුභූතෙසු, අකුටිල වූ සිත් ඇති. විපපසනෙනන, කම්ඵල තුණුරුවන් ගුණ අදහන, වසඟයෙහි පවත්නා වූ සැක නැමැති මල විරහිත, චෙතසා දදෙය්‍ය (සිතින් යුතුව) නිදහන් කරන්නේය.

මෙසේ භාග්‍යවතුන් වහන්සේ ගිහියන් විසින් භික්‍ෂූන්ට සිවුපසය දීමෙහි බොහෝ උපකාර දක්වා දැන් භික්‍ෂූන්ට ද ගිහියන්ට ද සියලු සංසාර දුක දුරලන සද්ධර්ම දේශනා නම් වූ අධිකතර වූ උපකාර ධර්මය දක්වන්නේ තෙ තසස ධමමං දෙසෙනති ආදිය වදාළහ. එහි තෙ යනු එම විහාරයෙහි වසන්නා වූ ඒ භික්‍ෂූහු තසස තමාට බොහෝ උපකාර වූ උපාසකයනට මෙලොව පරලොව අර්ථයද, නිර්වාණගාමී මගද ශ්‍රද්ධා ශීල ආදී ප්‍රතිපත්ති මාර්ගය දීපක වූ සද්ධර්ම දේශනා කරත්. මෙපමණකින් භික්‍ෂූන්ගේ උපකාරක වූ ගිහියන්ට ප්‍රත්‍යුපකාර කිරීම නම් වූ යම් මේ ධර්ම දේශනාවක් වේද, එය භාග්‍යවතුන් වහන්සේ ප්‍රතිකෙෂප කළේ නැත. චෙළුදාන ආදි කර්ම ප්‍රතිකෙෂප කරන ලද්දේය. යං සො ධමමං ඉධඤඤාය, ඒ උපාසක තෙම යම් සද්ධර්මයක් මේ සාසනයෙහි මනාව පිළිපැදීමෙන් උපදවාගෙන අග්‍ර වූ මාර්ගාධිගමයෙන් අනාසවො, ආශ්‍රව දුරුකොට පරිනිබබාති පිරිනිවන් පාන්නේය.

**විහාර දාන අනුමෝදනා වර්ණනාව නිමි.**

## 64.

වෙළුදානානුමෝදනා වුත්තනයත්තා, උත්තානත්ථායෙව.

'වෙළුදාන අනුමෝදනාව කියන ලද නය ඇති බැවින් නොගැඹුරු අරුත් ඇත්තේමය.'

## 65.

ගිහී පටිපදා සුත්තෙ ගිහී පටිපදා සූත්‍රයෙහි

ගිහි සාමීචි පටිපදං, ගිහියන්ට සුදුසු වූ ප්‍රතිපත්තිය. පච්චුපට්ඨිතො හොති. (ගිහි සාමීචි ප්‍රතිපදාවට පිළිපන්නේ වෙයි.) ගෙන අවුත් දිය යුතු බැවින් පෙරලා එළඹියේ වේ ද, භික්ෂු සංඝයා වෙත එළඹ සිවුරු දෙයි යන අරුත් ඇත්තේය. පටිපජ්ජන්ති තම සන්තානයෙහි සමාදන්ව පවත්වා ගැනීමෙන් පවතිත්. සමග්ගතෙ උපොසථ ආදි සංඝ කර්මයන්ගේ එක්ව කිරීම වශයෙන් සමග්ගතෙ අන්‍යොන්‍ය ස්වභාවයට පැමිණියා වූ. උපට්ඨිතා උපස්ථායක තෙමේ. තෙසං දිවාච රත්තොච, යමෙක් මෙසේ සිව්පසයෙන් උපස්ථාන කෙරෙත්ද, ඔවුන්ට දිවා රෑ දෙක්හි, පරිත්‍යාග වශයෙන් ද සිහිකිරීම් වශයෙන් ද, සදා පුඤ්ඤං පවඩ්ඪති, සග්ගඤ්ච කමතිට්ඨානං මෙබඳු තැනැත්තේ කල්‍යාණ කර්ම කොට ස්වර්ගයට යයි. මෙසේ භාග්‍යවතුන් වහන්සේ ගිහියන්ට අගාරිය පටිපදාව වදාළ සේක.

ගිහිපටිපදා සූත්‍ර වර්ණනාව
නිමි.

# 66.

මහාසමය සුත්‍තෙ, මහාසමය සූත්‍රයෙහි

සක්කෙසු, සක්ක නම් ලද නම් ඇති රාජ කුමාරවරුන්ගේ වාසස්ථාන වූ එක් ජනපදයෙකි. ආරෝපනය කළ නාම වශයෙන් සාක්‍යයයි කියනු ලැබේ. එම ජනපදයෙහි පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි සබ්බෙහෙව අරහන්තෙහි, මෙහි භාග්‍යවතුන් වහන්සේ ශාක්‍ය-කෝලිය යන දෙපාර්ශ්වයෙහි කලහ සංසිඳුණු කල්හි උභය නගරවාසී වූ දෙසියපනස බැගින් කුමාරවරු එම රජවරුන් විසින් දෙනලද්දාහු භාග්‍යවතුන් වහන්සේ සමීපයෙහි පැවිදිව හටගත් අනභිරතියෙන් කලකිරුණාහුය. භාග්‍යවතුන් වහන්සේ එවුන්ගේ අනභිරත භාවය දැන ඔවුන් හිමාල වනයෙහි කුණාල විල්තෙරට ගෙනගොස් කුණාල ජාතකය දෙසා ඔවුන්ගේ අනභිරතිය දුරුකොට, ඒ සියලුදෙන සෝතාපත්ති ඵලයෙහි පිහිටුවා නැවත මහා වනයටම අවුත් පනවන ලද අසුනෙහි වැඩසිට ඔවුන්ගේ මත්තෙහි වූ මාර්ග තුනට කර්මස්ථාන වදාලේය. ඒ භික්ෂූහු කමටහන් ගෙන වෙන වෙනම පබ්භාර රුක්මුල් ආදියෙහි සිට කමටහන් මෙනෙහිකොට පන්සිය දෙනම පියුම් කෙමියෙන් පිබිදුනු පියුම් මෙන් පිළිසිඹියා සහිත රහත්මග ප්‍රබෝධමත් වූයේ, මා පැමිණි රහත්භාවය භාග්‍යවතුන් වහන්සේට දන්වන්නෙමැයි වෙන වෙනම පැමිණෙන්නාහු, දාන ශාලාවට පැමිණෙන්නවුන් මෙන් පිළිවෙළින් පැමිණියාහුය. පළමුව පැමිණි තැනැත්තේ භාග්‍යවතුන් වහන්සේ වැද ලබාගත් ගුණ විශේෂය ප්‍රකාශ කරනු කැමැත්තේ, 'අන් කිසිවෙක් ඇත්ද, නැද්දැයි නැවතී ආමග බලන්නේ, අන් පිරිසද දැක්කේය. මෙසේ සියලු දෙනම ගොස් ඔවුනොවුන් තමන් ගැනම ලජ්ජාවෙමින් කථා නොකළාහුය. එකෙනෙහි යුගන්දර පව්ව වටකොට පරිසුද්ධං පරිපූර්ණ සඳමඬල පැමිණියේය. මෙසේ මෙවන් මොහොතෙහි භාග්‍යවතුන් වහන්සේ සක්කෙසු -පෙ- සබ්බෙහෙව, එදවසම අරහන්තෙහි (රහත් වූ)

දසහිච ලොකධාතූහි, දසදහසක් සක්වලවලින්, මෙහි සහස්සී ලෝකධාතු එක් ලෝකධාතුවකි. ලෝකධාතු දසයක් දසසහස්සී සක්වලයයි අදහස් කරන ලද්දාහුය. යෙභුය්‍යෙන, බොහෝ රැස් වූවාහුය. මද නොවූවාහුය. අසඤ්ඤී, අරූපාවචර ඒ හා සමාන වෙනත් දෙව්වරු බොහෝසෙයින් පැමිණියාහුය. අල්ප වශයෙන් නොපැමිණියාහුය. වනය

හාත්පස නිවැසි දෙවියෝ කලබල වූහු. පින්වතුනි! ඉතා ප්‍රයෝජන සහිත බුදුන් දැකීමට යමු. ඉතා ප්‍රයෝජනවත් ධර්මය ශ්‍රවණයට යමු. ඉතා ප්‍රයෝජනවත් භික්‍ෂු සංඝයා දැකීමට යමු. යමු, යමු යයි මහාඝෝෂා පවත්වමින්, අවුත් බුදුන් ද, ඒ මොහොතෙහි රහත් බව ලත් රහතුන් ද වැඳ එකත්පස්ව හුන්හ. මේ ආකාරයෙන් එම දෙවිවරුන්ගේ ශබ්දය අසමින් මොහොතින්ම දසදහසක් සක්වලෙහි රැස්වූවාහු වෙති. මෙසේ රැස්වූ දෙවියන්ගෙන් සියලු සක්වල ගැබ බඹලොව දක්වා හිදිකටු සිදුරක දමා ඇති තුලක් මෙන් පරිපූර්ණ ලෙස නිරන්තරයෙන් පිරී පවතී.

ලෝවාමහා ප්‍රාසාදයෙහි සත්වෙනි කුළුගෙයට සමාන ගලක් යටම බඹලොව සිට යටට හෙළුවේනම් එය බිමට පැමිණීමට සිව්මසක් ගතවේ. එතරම් විශාල වූ අවකාශයක යම්සේ යට සිට යැවූ මල් හෝ දුම් හෝ උඩට යාමට උඩ සිට දැමූ අබ පහතට බැසීමට තරම් ඉඩක් මේ මොහොතෙහි නොවිය. මෙසේ අතරක් නොමැතිව දෙවිවරු රැස්වූහ. භාග්‍යවතුන් වහන්සේ වැඩසිටි තැන සම්බාධ රහිතය. පැමිණි, පැමිණි මහේශාක්‍ය දේවතාවෝ ද බ්‍රහ්මයෝ ද ඉඩ ලබත්.

කෙස් අගක් අහින ප්‍රමාණයෝ ප්‍රදේශයක සියුම් වූ ආත්මභාව මවාගෙන විස්සක් තිහක් පමණ දේවතාවෝ සිටියාහුය. අන්තිම වශයෙන් සැට සැට බැගින් දේවතාවෝ සිටියාහුය.

සුද්ධාවාස කායිකා සුද්ධාවාස බ්‍රහ්මලෝක වාසීන්ට එකදහසකි, එම බ්‍රහ්මයෝ සමාපත්තියට සමවැදී නියමිත පරිච්ඡින්න කාලය තුල ධ්‍යානයෙන් නැගීසිට බ්‍රහ්ම භවනය බලන්නාහු බ්‍රහ්මයෝ කොහි ගියාහුදැයි සිහිකරන්නාහු මහා සමාගමට ගිය බව දැන, තමන් පැමිණි බව දන්වනු පිණිස, දශබලයන් වහන්සේගේ ගුණ වර්ණනා කරනු පිණිස ද එක එක ගාථාව සකස් කරගෙන පැමිණෙනු කැමැත්තාහු වෙත්. එබැවින් ඔවුන්ට මෙබඳු අදහසෙක් විය. භගවතො පුරතො පාතුරහංසු. ඔවුහු බඹලොව සිටියාහුම ගාථා සකස් කරගෙන කෙනෙක් පෙරදිග සක්වල මෙන් පිටෙහි බැස්සේය. කෙනෙක් දක්ඛිණ සක්වල මෝවිටෙහි කෙනෙක් පශ්චිම සක්වල මෝවිටෙහිද කෙනෙක් උත්තර සක්වල මෝවිටෙහිද බසිත්.

ඔවුන් අතුරෙන් පුරත්ථිම චක්කවාල මුවවිටෙහි බසින බ්‍රහ්මතෙම නීලකසිණයට සමවැද නිල් රැස් විහිදා දසදහසක් දෙවියන් අතර

මාණික්‍යමය සමක් මුදාහරින්නාක් මෙන් තමා ආ බව දන්වා බුද්ධ වීර්‍ය්‍ය නම් කිසිවෙකු විසිනුදු වසාගෙන නොසිටිය හැකි බැවින් මහත් වූ බුද්ධ වීර්‍ය්‍යෙයන්ම අවුත් බුදුන් වැඳ එකත්පසක සිටියේය. එකත්පසක හුන් හෙතෙම තමා පිළියෙල කරගෙන ආ ගාථාව කීය.

දකුණු සක්වල මෝවිටෙන් බට බ්‍රහ්ම තෙම, පීත කසිනයට සමවැද, ප්‍රභා විහිදුවා දස දහසක් සක්වල දෙවියන් අතර රන් වස්ත්‍රයක් පොරවන්නා සේ තමා පැමිණි බව අඟවා පෙරසේම කළේය. පැදුම් දිග සක්වල මෝවිටෙහි බට බ්‍රහ්මතෙම ලෝහිත කසිණයට සමවැද ලේවන් රැස් විහිදා දසදහසක් සක්වල දෙවියන් රත් කම්බිලියකින් පොරවන්නා සේ තමා ආ බව දන්වා එසේම කළේය. උතුරු සක්වල මෝවිටේ බට බ්‍රහ්ම තෙමේ ද ඕදාත කසිණයට සමවැද, ඕදාත රැස් විහිදුවා දස දහසක් සක්වල දෙවියන් අතරද සමන්පැහැ වස්ත්‍රයක් පොරවන්නා සේ තමා ආ බව අඟවන්ට එසේම කළේය. පෙලෙහි වනුයේ මෙසේය. බුදුන් ඉදිරියෙහි පහලවූහ. ඉක්බිති ඒ දෙවියෝ බුදුන් වැඳ එකත්පසක හිඳගත්හ කියා මෙසේ එක මොහොතකම ඉදිරියේ පෙනී සිටීමත් වැඳ එකත්පසක හිඳගැනීමත් කියන ලද්දේය. එය මෙසේ පිළිවෙලින් වියයි එක්කර දක්වන ලද්දේය. කියන ලද ආකාරයෙන් ද දතයුත්තේය.

මහාසමයොති, මහා සමූහයයි, 'පවන' නම් වනපෙතයි. දෙවකායා දේව සමූහ යයි. ආගතමහ ඉමං ධම්ම සමයං අපිද්‍ධ, අපරාජිත සංඝං කිසිවෙකු විසිනුදු දිනය නොහැකි අම තුන්මරුන් මැඩ දිනූ සටන් ඇති, මේ සංඝයා දක්ඛිතායෙ දකිනු පිණිස ආවෙමු. ඒ බ්‍රහ්ම තෙම මෙම ගාථාව කියා භාග්‍යවතුන් වහන්සේ වැඳ පුරත්‍ථිම චක්කවාල මුවවිටෙහිම සිටියේය. දෙවැන්නා ද කියන ලද ක්‍රමයෙන් අවුත් ගාථාව කියා, සුදුසු ස්ථානයෙහි, දකුණ සක්වල මුවවිටෙහි සිටියාහුය. එහි, තත්‍ර භික්ඛවො, ඒ රැස්වූ තැන භික්ෂූහු, සමාදහංසු, සමාධියෙන් යුතුව සිටියහ. චිත්ත මත්තනො උජුකමකංසු, තම සිත වංක, කුටිල ජිම්හ ගති සියල්ල දුරුකර ඍජු කළහ. සාරථීව නෙත්තානි ගහෙත්වා, යම්සේ රියක අසුන් යහපත් සේ පවත්නා කල රියදුරු සියලු යොත් ගෙන චෝදනා නො නගමින් නොවලක්වමින් සිටී. එසේම ෂඩංග උපෙක්ෂා සමන්වාගත වසන ලද දොරටු ඇති පණ්ඩිතා පන්සියයක් සියලු භික්ෂූහුය. ඉන්ද්‍රියානි රක්ඛන්ති, භාග්‍යවතුන් වහන්ස, මොවුන් දකිනු වස් මෙහි ආම්හ. භාග්‍යවතුන් වහන්ස යයි යෙදිය යුතුය. ඡෙත්වා ඛීලං යම්සේ බිත්ති ආදියෙහි ප්‍රවේශ

කරන ලද බීලය දුරුකිරීම අපහසු ද, කෙලෙස් ද එබඳුය. නගර ප්‍රවේශය වලක්වන වාසල් දොර අගුල ඇරීම අපහසුද, නගරයේ පිහිටා ඇති ඉන්‍ද්‍රබීලය ඉවත්කිරීම අපහසුද, මනාලෙස හාරන ලද ගැඹුරු නිම්වලල්ල ඉවත් කිරීම අපහසුද, එසේම සත්ත්ව සන්තානගත වූ රාග-දෝස-මෝහයෝ, පහකිරීම අපහසු බැවින් නිවන් නමැති නගරයට ප්‍රවේශවීම වලක්වන්නා වූ (එම කෙලෙස්) බීලං, පලිඝං, කණයම ඉන්‍ද්‍රබීල යනුවෙන් කියන ලද්දාහුය. ඌහච්ච මනෙජා ඒ භික්ෂූහු තණ්හා නම් වූ ඒජාවගේ අභාවයෙන් අනේජ වූ ඒ භික්ෂූහු. ඌහච්ච, පවි උදුරා, ඉවතට දැමූ (ඒ භික්ෂූහු) තෙ චරනත සතර දිසාවන්හි අප්‍රතිහත චාරිකාවෙහි හැසිරෙති.

සුද්ධා උපක්ලේශ රහිත, උපක්ලේශයන්ගෙන් තොර, චකඛුමතා පසැසින් යුතු, සුදනතා ඇසින් - කණින් - නැහැයෙන් - දිවෙන් - කයින් - සිතින් යන සියලු දොරටුවලින් දැමුනා වූ සුසුනාගා ශ්‍රේෂ්ඨ තරුණයෝ, ගතාසෙ, නිබ්බමතික (සැක නැති) සරණාගමනයට පැමිණියා වූ,

ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ මෙය බලන්නේ, පොලෝ තලයෙහි පටන් සක්වල මෝවිට සීමාවේ සිට අකනිටා බඹලෝ දක්වා දෙවියන් රැස්ව සිටිනාහු දැක, මෙසේ සිතුහ. මෙය මහා දේව සමාගමකි. මෙය මාහ දේව සමාගමක් බව භික්ෂූහු නොදනිති. ඉක්බිති ඔවුන්ට කියමියි සිතා භික්ෂූන් ඇමතුහ.

එබැවින් කියන ලදී. අප බො හගවා ආදිය. එහි එතපරමා, එතං පරමං පමාණං එතෙසනති එතපරමා, (මේ පරම වූ ප්‍රමාණය මොවුන්ට නුයි එතපරමා නම් වේ. දැන් බුදුරදුන් නොමැති හෙයින් 'මහණෙනි, ඔවුහු දැන් වනාහි' යනුවෙන් තුන්වන වාරයක් නොකියන ලදී.

ආචිකඛිසසාමි භිකඛවෙ, කුමක් හෙයින් කියන ලද්දේ ද? දෙවියන්ගේ සිත පැහැදීම පිණිසය. දෙවියෝ මෙසේ සිතුහ. බුදුරදහු මෙවැනි සමාගමකැ මහේශාඛ්‍ය දෙවියන්ගේ පමණක් නම් ගොත් කියන්නාහ. කිම? අල්පේශාක්‍ය දෙවියන් ගැනත් කියන්නේද? මේ අතර බුදුරදහු මේ දෙවියෝ කුමක් සිතත්දැයි ආවර්ජනා කරන්නා වූ 'මුඛයෙන් අත යවා හෘදය මාංශය පිරිමදින්නා සේ' බඩු සහිත සොරු අල්ලා ගන්නා සේක. ඒ ඔවුන්ගේ චිත්තා චාරය දැක. සියලු එම පිරිස් භවය, අභව්‍ය වශයෙන් කොටස් දෙකක් කොට අභව්‍ය කොටස හැර, භව්‍යයෝ වනාහි මෙපමණක්

රාගචරිතයෝය. මෙපමණක් ද්වේෂ චරිතයෝය. මෙපමණක් මෝහ චරිතයෝය යනුවෙන් චරියා වශයෙන් කොටස් හයකට බෙදා, ඉක්බිති ඔවුනට සප්පාය ධම්මදෙසනා ගැන සලකන්නේ රාග චරිත දේවතාවුන්ට සම්මා පරිබ්බාජනීය, සූත්‍රය දේසනා කරන්නෙමි. දෝස චරිතයන්ට කලහවිවාද සූත්‍රයද මෝහ චරිතයන්ට මහාබ්‍යූහ, සූත්‍රයද, විතක්ක චරිතයන්ට චූලබ්‍යූහ, සූත්‍රයද සද්ධා චරිතයන්ට තුවටක පටිපදාවද බුද්ධි චරිතයන්ට පුරාභේද සූත්‍රය ද දේශනා කරන්නෙමැයි වෙන් කරගෙන නැවත, ඒ පිරිස, අත්තජ්ඣාසය වශයෙන් දේශනාව වශයෙන් දේශනාව අවබෝධ කරගන්නේද, නැතහොත් පරජ්ඣාසය වශයෙන් ද නැතහොත් අට්ඨුප්පත්තික වශයෙන් ද නැතහොත් පුච්ඡාවසික වශයෙන් ද යන මේ ගැන බලති.

එයින් පුච්ඡාවසික වශයෙන් දැනගන්නේ යයි දැන පන්සියයක් භික්ෂූන් අතර දෙවියන්ගේ අදහස් දැන චරිත වශයෙන් ප්‍රශ්න ඇසීමට සමතෙක් ඇත්දැයි බැලුයේ කිසිදු සමතෙක් එහි නොවීය. ඊලඟට අසූ මහ සව්වන් ද, අගසව්වන් දෙදෙන ද සොයා බලා ඔවුනුදු අපොහොසත් බවම දැන මෙසේ සිතීය. ඉදින් පසේ බුදුවරයෙක් වෙතොත් හැකිවේද, එතුමන් ද අපොහොසත් වග දැන ශක්‍ර සුයාමාදිය අතරෙහි වත් සමතෙක් ඇද්දෝ හෝ විමසන්නේ එහිදු කිසිවකු නොදැක්කහ. අනතුරුව භාග්‍යවතුන් වහන්සේට මෙබඳු සිතක් පහල විය. මේ පැනය විසඳීමට මා බඳු බුදුවරයෙකුම පොහොසත් වන්නේය. ඒ නිසා කිසියම් ලොවෙක තවත් බුදුවරයෙක් ඇද්දෝ හෝයි අප්‍රමාණ ලෝක ධාතුවල අප්‍රමාණ ඥානය, පතුරුවා බලන්නාහු අනික් බුදුවරයෙකු මෙසේ තමා හා සමාන කෙනෙකු නොදැක සිතීය. ඉදින් මම ම ප්‍රශ්න අසා ප්‍රශ්න විසඳන කල එය තේරුම් ගැනීමට දෙවියෝ අපොහොසත් වෙති. අනික් බුදුවරයෙකුම ප්‍රශ්න විචාර කල්හි ඒවා මා විසඳන කල්හි දෙවියන්ට අවබෝධ කරගන්ට හැකිවෙත්. එයින් ඓශ්වර්යමත් දෙයක් වන්නේ යයිද, අනතුරුව තමා හා සමාන දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් හෙබි, සවනක් රැස් විහිදුවමින් ප්‍රාචීන ලෝකධාතුවෙන් ආවා වූ නිර්මිත බුදුරුවක් අභිඥා සිතින් අධිෂ්ඨාන කළේය. ඒ නිර්මිත බුදුරජාණන් වහන්සේ දේව සමූහය බලා සිටියදී අවුත් දශබලයන් වහන්සේට නොවැදම ඉදිරිපිට සම සමකොට මවන ලද ආසනයේ හිඳ :-

**පුචඡාමි මුනිං පහුත පඤ්ඤං**
**තිණ්ණං පාරගතං පරිනිබ්බුතං ඨිතත්තං**
**නික්ඛම්ම ඝරා පණුජ්ජකාමෙ**
**කථං භික්ඛු සම්මා ලොකෙ පරිබ්බජෙය්‍ය**

"මහා නුවණැති, සතර ඔඝතරණය කළ නිවන් පරතෙරට ගියා වූ කෙලෙස් පිරිනිවියා වූ අකම්ප්‍ය වූ සිත් ඇති මුනිහු පුලුවුසුම්හ. ගිහිගෙයින් නික්ම වස්තුකාමයන් දුරලා ලොවෙහි නොඇලී ඒ ප්‍රකට මහණ කෙසේ මොනවට වෙසෙන්නේ ද හෙවත් ලොවින් නික්ම යේද?' යන ගාථාව වදාළහ. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ දෙවියන් සිත් ප්‍රබෝධ කරනු පිණිස පළමුකොට ඒ පැමිණියවුන්ගේ නම් ගොත් කියන්නෙමැයි සිතා **ආචික්ඛිස්සාමි භික්ඛවෙ** යනාදිය වදාළහ.

එහි **සිලොකමනු කස්සාමි** අක්ෂර පාදයන්ගේ නියම කිරීමයි. වචන සමූහය අනුව කරන්නෙමි. **යත්‍ථ භුම්මා තදස්සිතා,** යම් ස්ථානයක භූමාටු දෙවියෝ වෙත් ද, ඒ ඒ ස්ථාන ඇසුරුකර. වාසය කරන්නා වූ **යෙ සිතා ගිරිගබ්භාරං,** ආදියෙන් ඒ භික්ෂූන්ගේ වර්ණය ප්‍රකාශ කළහ. යම්කිසි මහණෙක් පර්වත ගුහාවක් ඇසුරුකළේද එය ඔවුන් සමග **සිලෝක මනුකස්සාමි** යනු ද සම්බන්ධ වේ. **පහිතත්තා,** යවන ලද බැවින් පුථු බොහෝ **සීහාව සල්ලීනා** සිංහයෙක් මෙන් සැඟවුනා වූ එකඟ බවට පැමිණි **ලෝමහංසාභි සම්භූනො,** ලොමු ඩැහැගන්නා ස්වභාවය මැඩ පවත්වා සිටීය. නිර්භය වූ යන තේරුමයි. **ඔදාත මනසා සුද්ධා** පිරිසිදු කළ සිත් ඇතිව, සුද්ධව හුදෙක් සිරුරේ පිරිසිදු බව පමණක් නොවේ. **විප්පසන්න මනාවිලා,** අති ප්‍රසන්න නොකැලඹුනු. **භියො පඤ්චසතෙ ඤත්වා** බුදුරජාණන් වහන්සේ සමග අතිරේක පන්සියයක් භික්ෂූහු මොවුහු දිවැසින් මේ දේවසමූහයා දකිත්යයි දැන. **වනෙ කාපිල වත්‍ථවෙ,** කපිලවස්තු නගරය සමීපයෙහි වූ වනයෙහි. **තතො ආමන්තයි.** එකල්හි ආමන්ත්‍රණය කළ සේක. **සාවකෙ සාසනෙ රතෙ,** තමන්ගේ ධර්ම දේශනාවන් ශ්‍රවණය කරන බැවින් ද ආර්ය ජාතිසභා උපන් බැවින් ද ශ්‍රාවක නම් වූ ත්‍රිවිධ ශික්ෂා සාසනයෙහි ඇලුන බැවින් සාසනෙ රත නම් වේ. **දෙවකායා අභික්කන්තා තෙ විජානාථ භික්ඛවෙ** ඔවුහු දිවසින් දනිව් යයි ඔවුන්ට දිවැස් ඇති බව හැඟවීමට කීය. **කෙච ආතප්ප මකරු සුත්වා බුද්ධස්ස සාසනෙ,** ඒ භික්ෂූහු ද බුදුරදුන්ගේ අනුසාසනය අසා, එකෙණෙහි ම ඒ නිවන සඳහා වීර්ය කළහ.

තෙසං අමනුස්සානං දස්සනං ඤාණං පාතුරහු අමනුෂ්‍යයන් දැකීම පිණිස දිව්‍ය ඥාණ පහලවිය. එය ඔවුන් විසින් එකෙණෙහිම පරිකර්ම කොට උපදවන ලද්දක් නොවේ. ආර්ය මාර්ගය ලැබෙනු සමගම එයද පහලවිය. අමනුෂ්‍යයන් දැකීම පිණිස ප්‍රාර්ථනාව පමණක් කරන ලදී. අපෙපකෙ සත මද්දකඛුං ඔවුන් අතුරෙන් ඇතැම් භික්ෂු කෙනෙක් අමනුෂ්‍යයන් සියයක් දිවසින් දුටහ. සහස්සං අථ සත්තරි. කකාරයට රකාරාදෙස කොට සමහර කෙනෙක් දහසක් ද සමහර කෙනෙක් සත්තිස් දහස් සැත්තා දහස් ගණනින් ද දුටහ. සතං එකෙ සහස්සානං සමහර කෙනෙක් සිය දහස් ගණනින් දුටහ. අපෙපකෙනත්ත මද්දකඛුං මහත් සංඛ්‍යාවක් අප්‍රමාණ ලෙස දුටුවාහුය. සමහර කෙනෙක් සිය ගණනින් ද සිය දහස් ගණනින් ද, පිරිසිඳීම් නැතිව අනන්ත අප්‍රමාණව දුටුවාහුය යන අරුති. කුමක් හෙයින්ද, යම්හෙයකින්, දිසා සබ්බ, ඵුටා අහු. සම්පූර්ණයෙන්ම පිරීගියේය. තඤ්ච සබ්බං අභිඤ්ඤාය, ඔවුන් අතුරෙන් එකෙක් දක්නා ලදී. එය අනිකෙක් අසන ලදී, එහෙයින් එම දකින ලද දෙය ද අසන ලද දෙය ද යන සියල්ල දැන. වවත්ථිත්වාන ප්‍රත්‍යක්ෂ වශයෙන් වව්ථාන කොට පවෙක්ඛිත්වාන, වාචොද්ගත කෙරෙත් එම අර්ථයමැයි. තතො ආමන්තයී, කලින් කියන ලද ගාථාව නම් ගොත් කථනය සඳහා කීහ. 'තොපි මෙය විජානාථ දැනගනිව්, බලව්. යෙ වො අහං කිත්තයිස්සාමි, යන්න හා සම්බන්ධයි. ගිරාහි වචනයන්ගෙන් අනුපුබ්බයො, පිළිවෙලින් සත්ත සහස්සා යක්ඛා භුම්මා කාපිල වත්ථවා, සත්දහසක් පමණ යක්කු. මේ ගණන කපිල වස්තු නගරය ඇසුරුකොට උපන් භූමාටු යක්කු යයි කියයි.

ඉද්ධිමනෙතා දිව්‍යමය ඍද්ධියෙන් යුතු. ජුතිමනෙතා ආනුභාව සම්පන්න, වණ්ණ වනෙතා, ශරීර වර්ණයෙන් යුත් යසස්සිනො පිරිවර සම්පත්තියෙන් යුක්ත වූ. මොදමානා අභික්කාමුං, සතුටු සිත් ඇතිව ආවාහුය. භික්ඛූනං සමිතිං වනං, මේ වනයට භික්ෂූන් දැකීම පිණිස ආවාහුය. නැතහොත් සමිතිං භික්ෂූන්ගේ සමූහයයි. දැකීම පිණිස ආවාහුය යන අර්ථයි. ඡ සහස්සා හයදහසක් හේමවතිකයෝය. පර්වතයෙහි උපන්නා වූ යක්ඛා ඒ සියල්ලෝම නීලාදි නොයෙක් වර්ණවලින් යුක්ත වූවාහුය. සාතාගිරා තිසහස්සා සාතාගිරි පර්වතය ඇසුරුකොට උපන් තුන්දහසක් පමණ යක්ෂයෝ. ඉච්චෙතෙ සොළස සහස්සා මේ සියල්ල එක්වූ කල්හි සොළොස් දහසෙක් වෙති.

**වෙසසා මිතතා පඤච සතා,** වෙසසා මිතතා නම් පර්වතයෙහි උපන් පන්සියයක් ද **කුමභීරො රාජ ගහිකො** රජගහනුවර කුම්භීරනම් යක්‍ෂයෝ ද, **වෙපුලලසස නිවෙසනං** ඔවුනට වෙපුල්ල පර්වතය වාසස්ථාන වෙයි. **භීයො නං සතසහසසං යකඛාන යකඛානං පයිරු පාසති,** යකුන් ලක්‍ෂයකට අධික සංඛ්‍යාවක් ඔහු සේවනය කරයි. **සොපාග සමිතිං වනං,** ඒ කුම්භිර නම් යක් තෙමේ ද පිරිවර සහිතව මෙම වනයට ඒ භික්‍ෂු රැස්වීම දකිනු පිණිස පැමිණියේය. **පසාසති** අනුශාසනා කරයි. **ගනධබබානං ආධිපති,** සතර දිශාවන්හි ගාන්ධර්වයන්ට අධිපතිය. ඒ සියල්ලෝ ඔහුගේ වශයෙහි පවතිත්. **මහාරාජා යසසසිසො** මේ මහාරාජ තෙම මහත් පිරිවර ඇත්තේය. **පුතතාපි තසස බහවො ඉඤනාමා මහබබලා** ඒ ධෘතරාෂ්ට්‍ර නම් දෙව්රජුට ඉතා බලසම්පන්න පුත්‍රයෝ බොහෝය. ඒ සියල්ලෝ සක්දෙව් රජුගේ නමින් හඳුන්වත්. **විරූළෙහා තං පසංසති** ඒ දිශාවට විරූළ්හ නම් දෙව්රජ අනුශාසනා කරයි. පෙලෙහි 'මහබබලා' යනුවෙන් ලියත්. අටඨකථාවල සියලු වාරයන්හි 'මහාබලා' යනුවෙන් පාඨයකි.

**පුරිමං දිසං ධත රටෙඨා** මේ ගාථා සියල්ල සංග්‍රහකොට දැක්වීම් වශයෙන් කියන ලදී. (පෙරදිග ධෘතරාෂ්ට්‍ර) වරම් රජු ද, විරූළ්හ වරම් රජු දකුණු දිශාවෙන් ද, විරූපාක්‍ෂ වරම් රජු පශ්චිම දිශාවෙන් ද, කුවෙර වරම් රජු උතුරු දිශාවෙන් ද, මේ අයුරින් සතරවරම් රජවරු කිඹුල්වත් පුර හාත්පස සතර දිසාව ඇසුරුකොට සිය තෙදින් බබලමින් සිටියාහුය.)

මේ වනාහි මෙහි අර්ථයයි. දස දහසක් සක්වල වෙන වෙනම් ධෘතරාෂ්ට්‍ර රජවරු ඇත. ඒ සියල්ලෝම කෝටිලක්‍ෂය බැගින් ගාන්ධර්වයන් පිරිවරාගෙන අවුත් පෙරදිගින් කිඹුල්වත්පුර මහා නගරය පටන් සක්වල ගැබ පුරා සිටියාහුය. දකුණුදිග ආදි සෙස්සෙහිදූ විරූළ්හක ආදීහු මේ නයින්ම අරක්ගෙන සිටින බව සැලකුව මැනව. එබැවින් කියන ලදී. **සමනතා චතුරොදිසා දදලලමානා අටඨංසු** යන මෙය කීය. (හාත්පස වූ සක්වල වලින් අවුත් සිව් දිග්හි ප්වත මස්තකයන්හි ගිනිකඳු මෙන් මනාව දිලිසෙමින් සිටියාහුය. ඔවුන් කිඹුල්වත් පුර වනය නිසාම පැමිණියාහුය. සක්වල පුරවා සක්වල හා සම සමව සිටියාහු) **වනෙ කාපිල වඤවෙ** යනුවෙන් කියන ලද්දේය.

**තෙසං මායාවිනො දාසා ආගු වංචනිකා සඨා** ඒ සතරවරම් රජවරුන්ගේ තම තමන් කළ පව්කම් සැඟවීම් ලක්‍ෂණයෙන් යුතු මායාකාර

කුටිල වූ ආචාර පැවතුම් ඇති දාසයෝ වෙති. තවද හමුවෙහි හා නො හමුවෙහි වංචනික ගතිවලින් ලෝකය රවටන අර්ථයෙන් වංචනික නම් වූද, කෛරාටික නම්වලින් යුතු බැවින් සට යයිද කියති. ඔවුහුද ආවාහුය, යන අර්ථයි.

මායා කුටෙණ්ඩු වෙටෙණ්ඩු විටුච්ච විටුඩො, සහා, ඒ සියල්ලෝ දාසයෝය. මායාකාරයෝය. කුටෙණ්ඩු ආදිකොට ඇති නිඝණ්ඩු අවසන් කොට ඇත්තේ ඔවුන්ගේ නාමයෝය. ඔවුන් අතර එකෙක් විටෙණ්ඩු නම් වේ. පෙලෙහි වෙටෙණ්ඩු යයි ද ලියති. සහා, යනු ඒ විටූඩ තෙමේ ද ඔවුන් සමගම ආ එකෙකි. කිනනිඝණ්ඩු නම් වේ. පාලියෙහි කිනනුඝණ්ඩු කියා ද ලියත්. පණාදො -පෙ- සූරියවච්චසා මොවුහු දේවරාජවරුය. එහි දෙවසූතො, දෙව සාරථී වූ මාතලී දිව්‍ය පුත්‍රයාය. චිත්තසෙනො චිත්තච සෙනොච චිත්ත සෙනො, චිත්තය සේනය චිත්තසේනය දේවපුත්‍රයෝ තිදෙනෙකි. එකසේස නයින් මෙසේ කියන ලදී. ගන්ධබ්බා, මේ චිත්තසේන ගන්ධබ්බ කායිකය. හුදෙක් මොහු පමණක් නොවේ. සියලුම මේ පණාද ආදීහු ගාන්ධර්වයෝම නොවෙති.

නලොරාජා, නලකාර පුත්‍ර නම් වූ එක් දිව්‍යරාජයෙකි. ජනො සභො, ජනවසභ දිව්‍යපුත්‍රයාය. ආගපඤ්ච සිඛො චෙව, පංචසිඛ නම් දිව්‍යපුත්‍ර තෙම පැමිණියේය. තිම්බරූ, තිම්බරූ නම් ගාන්ධර්ව දිව්‍යරාජයා සූරියවච්චසා, ඔහුගේම දියණිය. එතෙචඤ්ඤෙ -පෙ- සහ රාජූහි, මේ නම් වශයෙන් ප්‍රකාශිත ගාන්ධර්ව රජවරු අඤ්ඤෙච, මේ රජවරුන් සමග බොහෝ ගාන්ධර්වයෝ. අථාගු නාභසා නාගා වෙසාලා සහ තච්ඡකා, ආකාස ගංගා ආදියෙහි වසන දිව්‍ය නාගයෝ ද වෙසාලී වැසි වූ නාගයෝ ද පැමිණියාහුය. ඔවුහු තච්ඡක නම් නාගපිරිස සමග ආවාහුය යන අර්ථයි. කම්බලස්සතරා, කම්බල සහ අස්සතර යන දෙදෙන, මොවුහු මහමෙර පාමුල වසති. සුපර්ණයන් විසින් අනුද්ධරණීය වූ මහේශාක්‍ය නාගයෝ පයාගා සහ ඤාතිභි, පයාග තීර්ථවාසීහු තම නෑයන් සමග පැමිණියාහුය. යමුනා ධතරට්ඨාච, යමුනා වාසී වූ ධතරට්ඨ කුලයෙහි උපන් නාගයෝ ද, එරාවණෙ මහා නාගො, ඓරාවන දිව්‍යපුත්‍ර තෙම හේ ජාතියෙන් නාගයෙක් නොවේ. එහෙත් නාග නාමයෙන් අමතයි. හස්තිනාග ව්‍යවහාරයෙන් එසේ ව්‍යවහාර කෙරෙයි.

යෙ නාගරාජෙ සහසා හරන්ති, කම්බලස්සතර හැර කියන ලද මේ

නාගයෝ වෙත් ද ලෝභයෙන් මඩනා ලද්දා වූ සැහැසි ලෙස පැහැර ගනිත්. දිබ්බා දිජා පක්ඛි විසුද්ධ චක්ඛු, දිව්‍යානු භාවයෙන් යුක්ත වූයේ දිබ්බ නම්. මව්කුසින් හා අණ්ඩකෝෂයෙන් බිජුවටින් ද යනාදි වශයෙන් දෙවරක් උපන් බැවින් දිජා යයි කියති. පියාපත්වලින් යුක්ත බැවින් පක්ෂි යයි කියති. යොදුන් සියයක් අතුරෙහි ද, යොදුන් දහසක් අතුරෙහි ද නාගයන් දැකීමේ සමත් ඇස් ඇති බැවින් දිබ්බ චක්ඛු යයි කියති. වෙහාසය තෙ වනමජ්ඣ පත්තා ඔවුහු අහසින්ම මේ වන මැදට පැමිණියාහුය. චිත්‍රා සුපණ්ණා ඉති තෙසං නාමං, ඔවුන්ගේ විසිතුරු සුන්දර පියාපත් වර්ණය නිසා චිත්‍රා - සුපණ්ණ යන නම් ලබා ඇත.

අභයං තදා නාගරාජානමාසි සුපණ්ණතො ඛෙම මකාසි බුද්ධො මිතුරන් මෙන් ද, නෑයන් මෙන් ද, ඔවුහු එකිනෙකා සියුම් මෘදු වචනයන්ගෙන් සංග්‍රහ කරන්නාහු ප්‍රියමනාප වචනයන්ගෙන් කතාබහ පවත්වන්නාහු සතුටින් වැළඳ ගන්නාහු අත් ගන්නාහු., උරහිස්හි අත් තබන්නාහු සතුටු සිත් ඇත්තාහුය. නාගා සුපණ්ණා සරණ මගංසු බුද්ධං ඔවුහු බුදුන්ම සරණ ගියාහුය.

වජිර හත්ථෙන ඉන්ද දෙවිතෙමෙ සමුද්දං අසුරාසිතා මහ සමුදුර වැසි අසුරයෝ ද, දිනන ලද සුජාතා නම් අසුර කන්‍යාව කාරණා කොටගෙන භාතරො වාසවස්ස කාලකඤ්ජා මහාභිසමා, (සියලු සොහොයුරෝ මහත් පල පැහ.) කාලකඤ්ජයෝ ද මහත් වූ බියජනක මහත් වූ භයානක ආත්මභාව මවාගෙන ආවාහුය. අසුරා දානවෙඝසා, දාන වෙඝසා නම් වූ අන්‍ය වූ ධනුගගාහක අසුරයෝ ද වෙපචිත්ති, සුචිත්ති ච, වෙපචිත්ති අසුර සුචිත්ති අසුර යන මේ අසුරයෝ, නමුචි සහා, නමුචි නම් මාරදිව්‍ය පුත්‍ර තෙමේ ද, මොවුන් සමගම ආවේය. මොවුහු සමුද්‍රවාසීහුය. මෙතෙම පරනිම්මිත දිව්‍යලෝක වැසියෙකි. මේ පරනිම්මිත දිව්‍යලෝක වැසියෙකි. මේ පරනිම්මිත දිව්‍යලෝක වැසියෙක් කුමක් නිසා මොවුන් සමග ඇතුලත් කළේද? අවජනිකය. (අබබ) වසවර්ති තෙමේ ද එසේය. ඒ නිසා ධාතු වශයෙන් සසඳමින් මෙසේ දැක්වීය. ආවේය. සතඤ්ච බලිපුත්තානං, බලිනම් මහ අසුරයාගේ සියයක් පුත්‍රයෝ. සබ්බෙ වෙරොච නාමකා, ඒ සියල්ලෝම තම මාමා වූ රාහුගේ නාමය දරන්නාහුය. බලිං සෙනං සන්නයිහිත්වා, සිය බලිනම් අසුර සේනාව යුද පිණිස සූදානම් කර, රාහුභද්දං රාහු අසුරිඳු වෙත පැමිණියාහුය. පළමුකොටම භික්ෂු සංඝයා දැකීමට යහපත් කාලයක් උදාවේවා.

ආපොවදෙවා, ආපෝ කසිණ ආදියෙහි පරිකර්ම කොට උපචාර ධ්‍යානයෙන් කාමාවචර දෙවියන් අතර උපන්නා වූ ආපෝ යන නමින් හඳුන්වන දෙවියෝ ද එකල්හි ආවාහුය. වරුණා වරුණ දේවතාවෝසෝම දේවතාවෝ මෙනම් ඇති දෙවියෝ යසසා නම් දෙවියන් සමග පැමිණියාහුය යන අර්ථයි. මෙත්තා මෙත්තා ධ්‍යානයෙන් කරුණා ධ්‍යානයෙන්ද පරිකර්ම කොට උපන් කාමාවචර දෙවියෝ, මේ දෙවියෝ ද යසස්සිනො මේ මහා යසස් ඇති දෙවියෝ ද පැමිණියාහුය. දසෙතෙ දසධා කායා ඒ දස ආකාරයකින් සිටි දසවැදෑරුම් දේවතා කොටස්වලට අයත් සියලුම දෙවියෝ සීලාදී නොයෙක් වර්ණයෙන් යුතුව පැමිණියාහුය යන අර්ථයි. වෙණ්හු ච දෙවා, වෙණ්හු දේවතාවා ද, සහලී දේවතාවා ද අසමා ච ද්‍වෙයමා එනම දෙවියන් හා යමක නම් දෙවියන් දෙදෙනා ද, (පැමිණියාහුය.) චන්‍දස්සූපනියාදෙවා චන්ද්‍රයා ඇසුරු කළ දෙවියෝ චන්‍දං පුරක්ඛත්‍වා චන්‍දයා පෙරටුකොට ආවාහුය. එසේම සූරියස්සූපනියා දෙවා නක්ඛත්තානි පූරක්ඛත්‍වා, එසේම සූර්යා ඇසුරුකළ දෙවියෝ සූර්යයා පෙරටුකොට පැමිණියාහුය. ඒ ඒ නැකැත් තරු ඇසුරුකළ දෙවියෝ ඒ ඒ තරු පෙරටුකොට ආවාහුය. ආගුමන්‍ද වලාහකා, වාත වලාහක, අභ්‍ර වලාහක, උණ්හ වලාහක යන මේ සියල්ලෝම මන්‍දවලාහක යයි කියනු ලැබෙත්. ඒ සියල්ලෝම ආවාහුය. වස්ස වලාහකයෝ පජ්ජුනගේ පිරිවරය. එබැවින් ඔවුන් මෙහි නොකියන ලදී. වසූනං වාසවො සෙට්ඨො, වසු නම් දරණ දෙවිවරුන් අතුරෙන් වාසව තෙම ශ්‍රේෂ්ඨය. යම්කෙනෙක් සක්‍ර යයි ද පුරින්දද යයි ද කියනු ලැබෙත්. හෙතෙමේ ද මෙහි පැමිණියේය. දසෙ තෙ දසධා කායා, මේ දසවැදෑරුම් දේව නිකායෝ දස ආකාර වශයෙන්ම පැමිණියාහුය. නීලාදී වශයෙන් නොයෙක් වර්ණයෙන් යුතුව ආවාහුය. අථාගු සහභූ දෙවා අනතුරුව සහභූනම් දෙවියෝ ද ආවාහුය. ජලමග්ගිසිඛාරිව, ගිනිසිලු මෙන් බබලන්නාහු අග්ගි ශිඛාවක් මෙන් පැමිණියාහුය. මේ ඔවුන්ගේ නම් යයි ද කියන ලදී. අරිට්ඨකාච, අරිට්ඨක දෙවියෝ ද රෝජ දෙවියෝ ද උමමාපුපඵනිභා උමමපුපඵදේවා එක් දේව කොටසකි. (එම මල් හා සමාන ශරීර ප්‍රභාව ඔවුන්ගේ ශරීරයෙන් නික්මෙන බැවින් එනම් කියති.) රෝජ දෙවිවරු ද උමමාපුපඵ දෙවිවරු ද, වරුණ දෙවිවරු ද සහධම්ම දෙවිවරු ද අච්චුත නම් දෙවිවරු ද අනේජක නම් දෙවිවරු ද සූලෙය්‍ය නම් දෙවිවරු ද, රුචිර නම් දෙවිවරු ද වාසව වනෙසි දෙවිවරු ද මෙනම් ඇති දෙවිවරු ආවාහුය. සමානා මහාසමානා, සමානා නම් දෙවිවරු ද, මහාසමානා නම් දෙවිවරු ද, මානුසා නම් දෙවිවරු ද, මානුසුත්තමා නම් දෙවිවරු ද ඛිඩ්ඩාපදූසිකා නම් දෙවිවරු ද

මනෝ පදූසිකානම් දෙවිවරු ද, හරිනම් දෙවිවරු ද, ලොහිත වාසිනො නම් දෙවිවරු ද, පාරගා නම් දෙවිවරු ද මහාපාරගා නම් දෙවිවරු ද ආවාහුය. සුකකා කරුම්හා සුකකා කරුම්හා අරුණා දෙවිවරු තිදෙන ද වෙසනස සමග ආවාහුය. ඔදාත ගය්හා ඔදාත ගයහ නම් ප්‍රමුඛ දෙවිවරු ආවාහුය. විචක්ඛණා, සදාමත්තා හාරගජා යසසින් සම්පූර්ණ වූ මිශ්‍රක නම් දෙවියෝ ද, පැමිණියහ. පජ්ජුනන නම් දෙවිරජ නාද පවත්වමින් (ගුගුරුවමින්) ආහ. යමෙක් යම් දිශාවකට යයි ද ඒ ඒ තන්හි වැසි වසී. (මේ දසනිකායෝ දස ආකාරයකින් පැමිණියාහුය.) ඛෙමියා තුසිතා ආරක්ඛා සහිත වූ තුසිත වාසී වූද යාම දෙව්ලොව වැසි දෙවියෝ ද, යසසින් යුතු කඨක නම් දෙවියෝ ද (පාලියෙහි කටඨක යයි ද ලියති) ලම්බීතකා ලාමසෙට්ඨා, පර්වත මුදුනෙහි කළ බට වනයක බුරාබුරා නගින ගිනිකඳක් සේ බබලන, දේව කොට්ඨාශය ජොති දේව නම් වෙති. ඒ ජෝති දෙවියෝ ද ආසා නම් දෙවියෝ ද පැමිණියාහුය යන අර්ථයි. ඡන්දය වශයෙන් සලකා 'ආසව' යයි කියන ලදී. එහි ඛෙමිය කඨක ආදි පස සමග සවැදෑරුම් දේව සමූහය තව්තිසා වැසියෝ යයි කියති.

සටෙඨ තෙ දෙවකායා මොවුහු ද ආප දේව ආදී මෙහි දැක්වූ දසක සයක් වූ දේවනිකාය සැටට අයත් සියලුම දෙවියෝ නීලාදි වර්ණ වශයෙන් නොයෙක් වර්ණයෙන් යුතු වූවාහුය. නාමන්වයෙන ආගච්ජුං නාම භාග වශයෙන් නාම කොට්ඨාශ වශයෙන් පැමිණියාහුය. යෙවඤ්ඤෙ සදිසා සහා තවත් අන්‍යයෝ වෙත් ද ඔවුහුද වර්ණ වශයෙන් නාම වශයෙන් මෙහි දැක්වූ අය හා සමාන වෙති. මේ ආකාර වූ දෙවියෝ සෙසු සක්වල එලද වෙත්ද, ඔවුහු කලාප වශයෙන් කොටස් වශයෙන් මෙන් එක්කොට සංග්‍රහකර දක්වයි. මේ සියල්ලෝ ද පැමිණි බව කියයි. මෙසේ දසලෝක ධාතු සහශ්‍රයන්හි වූ දේව නිකායන් ගෙනහැර දක්වා, දැන් යමක් පිණිස ඔවුහු ආවාහුද, එය දක්වනු පිණිස, පවුත්ථජාති යනාදිය ගාථාව වදාළහ. එහි අදහස නම්, ප්‍රහීන කළ ජාති ඇති හෙයින් ආර්ය සංඝයා පවුත්තජාති නම් වේ. ඒ පවුත්ථජාතියයි. ආර්ය සංඝයායි. දක්ඛෙම බලමු. ඔඝානං තිණ්ණතතා, ඔඝතරං, සතර ඕඝයන් තරණය කළ බැවින් ඔඝතර නම් වේ. ආගුං අකරණතො නාගං, අපරාධ නොකරන බැවින් නාග නම් වේ. අසිතාතිගං කාලභාවය ඉක්මවූ චන්‍දංව චන්ද්‍රයා මෙන් ශ්‍රීයෙන් බබලන බුදුරදුන් දකිමු.

දැන් බ්‍රහ්මයන් දක්වන්නේ සුබ්‍රහ්මා පරමත්තො චං ආදිය වදාළහ.

එහි සුබ්‍රහ්මා එනම් බ්‍රහ්මයා පරමත්තො එනම් බ්‍රහ්මයා පුත්තො ඉද්ධිමතොසහා භාග්‍යවතුන් වහන්සේගේ පුත්‍රයන් සමාන බ්‍රහ්මයන් කැටුව පැමිණියාහුය. සනංකුමාරො තිස්සො ච, සනංකුමාරය, තිස්සය යන බ්‍රහ්මයන්, සහස්සං බ්‍රහ්මලොකානං, එක් ඇඟිල්ලකින් එක සක්වලකද, ඇඟිලි දශයකින් දසදහසක් සක්වලෙහි ද ආලෝක කිරීමට සමර්ථ වූ මහා බ්‍රහ්මයන්ගෙන් දහසක්ම පැමිණියහ. මහා බ්‍රහ්මාභි තිට්ඨති යම්තැනක මහා බ්‍රහ්මයෙක් තනිවම අනිත් බ්‍රහ්මයන් මැඩපවත්වා සිටීද එවන් මහා බ්‍රහ්මකෙනෙක් මෙයින් ගැනේ. උපපන්නො බ්‍රහ්ම ලෝකයෙහි උපන්, ජුතිමන්තො ආනුභාව සම්පන්න, භිස්මා කායො මහා කයක් ඇති, මගද ගම් කෙත් දෙක තුනක් පමණ විශාල ආත්මභාව ඇති. යසස්සිසො, ආත්මභාව ශ්‍රී සම්පත්ති නම් යසසින් පරිපූර්ණ වූ. දසෙත්ථ ඉස්සරා ආගු පච්චෙක වසවත්තිනො, වෙන් වෙන් වශයෙන් වූ බ්‍රහ්මයන් දසදහස බැගින් වූ කොටස් ඇත. ඒ කොටසකට ප්‍රධාන බ්‍රහ්මයෙක් ද වෙයි. මෙසේ වූ දහසේ කොටස් දහයක ප්‍රධාන බ්‍රහ්මයන් දසදෙන පෙරටුව ආවාහුය.

තෙසඤ්ච මජ්ඣතො ආගා හාරිතො පරිවාරිතො, එම බ්‍රහ්මයන්ගේ මැද හාරිත නම් මහා බ්‍රහ්ම තෙමේ සියක් දහසක් බ්‍රහ්ම පිරිවර සමග පැමිණියාහුය. තෙච සබ්බෙ අභික්කන්තෙ සඉන්දෙ දෙව සබ්‍රහ්මකෙ ඒ සියල්ලෝ සක්දෙව් රජ පෙරටුකොට ආවා වූ දෙව් විරියෙහි හාරිත බ්‍රහ්මයා දෙටූකොට ආවා වූ බ්‍රහ්මයෝ මය. අභික්කාමුං, පැමිණියහ. පස්ස කණ්හස්ස මන්දියං, කාලධර්ම ස්වභාව වූ මාරයාගේ බාල බව බලව. එථ ගණ්හථ බන්ධථ, මේ අයුරින් තම පිරිසට නියෝග කරයි. රාගෙන බද්ධ මත්ථුවො, මේ සියලු දෙව් මඬුල්ල රාගයෙන් බැඳුනේ වේ. වීතරාග භාවය එලවත්තා වූ ධර්මශ්‍රවණයට අන්තරාය කිරීම සඳහා රාගයෙන් බැඳුනේ වෙයි. එබැවින් මෙසේ කීහ. වා වො මුඤ්චිත්ථ කොචිනං තොපගෙන් එකෙකුදු මොවුන් කෙරෙන් නොමිදුනේය. මා වො මුඤ්චිත්ථ කියාත් පාඨයකි. මෙම අර්ථය මැයි. ඉති තත්ථ, මෙසේ ඒ මහාසමය අවස්ථාවෙහි. පාණිනා තල මාහච්ච අතින් පොලෝ තලයට ගසා සරං කත්වාන භෙරවං, භයානක වූ මාරාවේශය දක්වනු පිණිස, භයානක වූ ශබ්ද පවත්වා, අවසන්කොට දැන් එම ශබ්දය උපමාවකින් දක්වන්නේ යථා ආදිය දැක්වූහ. එහි අර්ථය මෙසේය. විදුලි කෙටීම් සහිත මහාවැසි සමයක් මෙන් මහා ගර්ජනාවක් ඇතිකොට තදා සො පච්චුදාවත්ති එකල මාරයා බියජනක දර්ශන දක්වා නැවැත්තේය, සංකුද්ධො අසයං වසෙ, දැඩි

ලෙස කිපුනේ කිසිවෙකු වශයෙහි විසීමට නොහැකි වන්නේ අන්‍ය වශයකට නොපත්ව තම වශයෙහි අකමැත්තෙන් නැවතුනේය. (නොහොත් ආපසු හැරී තම භවනටම ගියේය.)

භාග්‍යවතුන් වහන්සේ, මේ මාරයා මේ මහා සමාගම දැක, ඊට අභිසමය අන්තරාවක් කරන්නෙමියි වරින් වර මරසෙනග මාරයාගේ බිහිසුනු දර්ශන දක්වත් යයි දැනගත්හ. ස්වභාවයෙන්ම යම්තැනක බුදුරදුන්ගේ අභිසමයක් නොවෙයිද, එහි මාරයාගේ බිහිසුනු විකාරපෑම නොවැලැක්වෙයි. යම්තැනක අභිසමය වෙයිද එහි මාරයාගේ විකාරපෑම වැලකෙයි. එහි පිරිස යම්සේ මාර රූපය නොදකීද, ශබ්ද නොඅසයිද, එපරිද්දෙන් සිදුවන සේ අධිෂ්ඨාන කරයි. මේද සමාගමෙහිද මහත් අභිසමයක් වන්නේය. එනිසා දෙවියෝ ඔහුගේ රූප නොදකින පරිද්දෙන් ශබ්ද නොඇසෙන පරිද්දෙන් ද සිදුවන සේ අධිෂ්ඨාන කළේය. එහෙයින් කියන ලදී. එකල්හි මාරයා සිය කැමැත්ත නොකළ හැකි වූයේ යයි කිපියේය. යන බව දැනගත් පඤ්චචක්ඛු නම් වූ බුදුරද ඒ සියල්ල ඇති සැටියෙන් දැක නුවණින් ව්‍යවස්ථාපනය කොට දැනගත්තේය. එහෙයින් කියන ලදී. තදා සො පචවුදාවතති, සංකුදෙධා අසයංවයෙ, තඤච සබබං අභිඤඤාය, ඒ සියල්ල භාග්‍යවතුන් වහන්සේ දැන වවත්‍ථාපනය කොට මහණෙනි, මරසෙනග ඉදිරියට ආහ. එවුන් ගැන තෙපි තම තමන්ට අනුරූප පරිදි දැන හැඳින ගනිවු. එලසමවතට සම වදිවු යයි වදාළහ. ආතපප මකරුං, එල සමාපත්තියට පිවිසීම පිණිස වීර්ය ඇරඹූහ. වීතරාගේහ පකකාමුං, මාරයා ද මාර අනුචරයෝ ද, වීතරාගී වූ ආර්යයන් කෙරෙන් දුරින්ම දුරට ඉවත්ව ගියහ. වීතරාගෙහි යනු මෙය දේශනා ශීර්ෂයයි. සියලු පිරිසෙන් ඉවත්ව ගියහ. නෙසං ලොමමපි ඉඤජයුං ඒ වීතරාගී රහතුන්ගේ ලෝමයකුදු නොසෙල්වූහ. අනතුරුව මාරයා භික්ෂු සංඝයා අරබයා මේගය ගැයීය.

'පහවූ රාග ඇති බ්‍රහ්මාදීන් කෙරෙන් මාර සේනාවෝ පහව ගියෝය. ඒ වීතරාගීන්ගේ ලෝමයකුදු කම්පා නොකළාහුය. ජයගත් මාර යුද්ධ ඇති, ඉක්මවන ලද බිය ඇති යසස් ඇත්තා වූ ජනයන් අතරෙහි ප්‍රකට වූ ඒ සියලු බුදුසව්වෝ ද, දිව්‍යබ්‍රහ්ම ආදී ආර්ය ශ්‍රාවකයන් සමග සතුටුවෙත්.'

ජනෙ සුතා, ජනයා අතර ඉතා ප්‍රසිද්ධ වූ මේ මහාසමය සූත්‍ර දේශනාව :- මෙය දෙවියන්ට ඉතා ප්‍රියය. මනාපය එහෙයින් මෙය

මංගල කාරණයක් වශයෙන් අලුතෙන් ඉදිකළ ස්ථානවල කියති. භාවිතා කරති. දෙවියෝ වනාහි මේ සූත්‍රය අසන්නෙමුයි ඒ සඳහා යොමුකළ කන් ඇත්තාහුම හැසිරෙති. මෙම දේශනාව දේශනාකොට අවසන් කළවිට කෝටි ලක්‍ෂ ගණන් දෙවියෝ රහත්බව ලැබූහ. සෝවාන් ආදී පහල මගපල ලත් දේවතාවන්ගේ ප්‍රමාණයක් නැත. මෙය දෙවියන්ට ප්‍රියමනාප බව දැක්වීමෙහි මේ එක නිදසුන් ප්‍රවෘත්තියකි.

"පෙර කෝටි පබ්බත නම් විහාරයෙහි නාග නම් ලෙන්දොර, නාරුක්හි එක් දෙව්දුවක් වසයි. එක් කුඩා භික්‍ෂුවක් ලෙන තුල මේ මහාසමය සූත්‍රය හදාරයි. දෙව්දුව අසා සූත්‍ර දේශනා අවසානයෙහි මහහඬින් සාදුකාර දුන්නාය. මේ කවරෙක්ද? මම වහන්ස දෙව් දුවක්මි. කුමක් නිසා සාදුකාර දුන්නී ද? වහන්ස, දශබලයන් වහන්සේ මෙම සූත්‍රය මහා වනයෙහි වැඩසිට දෙසූ දින ද මේ සූත්‍රය ඇසීමි. අදත් එයම ඇසීමි. බුදුරදුන් දෙසූ සැටියෙන්ම එක අකුරකුදු නොනසා මේ දහම ඔබවහන්සේ විසින් මනාව ධාරණය කරගෙන තිබේ. බුදුන් දෙසූ දේශනාව තී විසින් අසන ලදද? එසේය වහන්ස, මහාදේව සමාගමයක් විය. තී වනාහි කොහිසිට ඇසුවාද? වහන්ස, මම මහා වනවාසී දේවතාවන් සමග සිටියෙමි. එහි මහේශාක්‍ය දේවතාවන් පැමිණෙන කල්හි දඹදිව ඉඩකඩ නොවිය. අනතුරුව මේ තම්බපණ්ණි දීපයට පැමණ දඹකොළ පටුනෙහි සිට අසන්ට පටන් ගතිමි.

එහිදු මහේශාක්‍ය දෙවිවරුන් පිරී එන කල්හි, පිළිවෙලින් පසුබසිමින් රෝහන දනව්වෙහි මාගමට පිටුපස්හි වූ ගොලු මුහුදෙහි බෙල්ල තෙක් දියෙහි ගිලී එහි සිටගෙන ඇසුවෙමියි කීවාය. එම්බා සිටුදුව, තී සිටි තැනට දුරින් බුදුරදුන් දුටුවෙහිද? කුමක් කියන්නහුද? 'වහන්ස, බුදුරදහු මහ වනයෙහි හිඳ දහම් දෙසන්නාහු නිතරම මා දෙස බලතියි හඟිමි. ලජ්ජාවෙන් හා බියෙන් යුතුව දියරැලිවල සැඟවුනෙමියි කීවාය.

එදවස වූ කලී කෝටි ලක්‍ෂ ගණන දෙවිවරු රහත්බවට පැමිණියාහුය. තෙපිද එදින රහත්වූයේ ද නැත වහන්ස, එසේනම් අනාගාමි ඵලයට පැමිණියා යයි හඟිමි. නැත වහන්ස. එසේනම් සකෘදාගාමි ඵලයට පැමිණියායි හඟිමි. නැත වහන්ස. ත්‍රිවිධ මාර්ගයන්ට පත් දෙවියන්ගේ ගණන් ප්‍රමාණය ඉක්ම ගියේය. මම සෝවාන් වූවායයි හඟිමි. දෙව්දුව එදවස සෝවාන් ඵලයට පත් බැවින් ලජ්ජාවූවා ආර්යයන් වහන්සේ

නොඇසිය යුත්තක් ඇසූහයි කීවාය. ඉක්බිති ඇයට ඒ භික්ෂුව කීය. එම්බා දෙව්දුව, ඔබගේ ශරීරය අපට දැක්විය හැකිද? වහන්ස, මුළු ශරීරය දැක්විය නොහැකිය. යතුරු සිදුරෙන් ඇඟිල්ලක් ලෙන තුලට යැවීය. එකල සියදහස් හිරු දහස් නැංගාසේ ආලෝකමත් විය. දෙව්දුව, වහන්ස, අප්‍රමාද වෙවයි කියා දහර භික්ෂුවට වැඳ පිටත්ව ගියාය. මෙසේ මෙම සූත්‍රය දෙවියන්ට ප්‍රියමනාපය. මමායනය කරති. සියල්ලෝම ප්‍රිය කරති.

මහාසමය සූත්‍ර වර්ණනාව නිමි.

## 67.

තිරොකුඩ්ඩ සුත්තෙ තිරෝකුඩ්ඩ සූත්‍රයෙහි,

තිරොකුඩ්ඩෙසු, බිත්තීන්ගේ පිටපැත්තෙහි. සන්ධි සිංඝාටකෙසු ච මෙහි සන්ධීහු නම් චතුරශ්‍රාකාර සන්ධීහු (හතරමංසන්ධිය) යයි කියනු ලැබේ. සරසන්ධි, බිත්ති සන්ධි, ආලෝක සන්ධිහුද, සතරමං සන්ධි ත්‍රිකෝණ සන්ධියයි ද කියනු ලබත්. ද්වාර බාහාසු තිට්ඨන්ති නගර දොරටු, ගෙවල දොරටු, දොරබා නිසාද සිටිත්. ආගන්ත්වාන සකංඝරං මෙහි තම ගෙයනම් පෙර අත්බැව්හි තම ඤාති ඝරයයි. තමාගේ ස්වාමි භාවයෙන් වාසය කළ පෙර ගෙය අදහස් කෙරේ. තමන්ගේ ගෙය යන හැඟීමෙන් එයට පැමිණෙත්. එබැවින් ආගන්ත්වා සකං ඝරං යනාදිය වදාරණ ලදී. දැන් ඔවුන් විසින් කළා වූ කර්මයාගේ දරුණුභාව දක්වන්නේ පහුතෙ අන්නපානම්හි යනුවෙන් දෙවෙනි ගාථාව වදාළහ. එහි පහූතෙ බොහෝ වූ මෙහි භකාරය පකාරය වී ඇත. උපට්ඨිතෙ පිළියෙළ වී ඇතිකල්හි න තෙසං කොචි සරති ඒ ප්‍රේතයන්ගේ කිසියම් මවක් හෝ පියෙක් හෝ පුතෙක් හෝ සිහිනොකරයි. කම්ම පච්චයා කර්මය හේතුවෙන් තමා විසින් කළා වූ ආහාරදාන වැලැක්වීම් ආදී තද මසුරුකම නම් වූ කර්මය ප්‍රත්‍යවීමෙන් ඔහුව ඒ ඤාතීන්ට සිහිකරන්ට ඉඩ නොදෙයි.

දැන් රජතුමා විසින් ප්‍රේතව උපන් ඤාතීන් උදෙසා දුන් දානය ප්‍රශංසා කරන්නේ, එවං දදන්ති යනුවෙන් තුන්වන ගාථාව වදාළහ.

මහරජතුමනි, ඔබ ප්‍රේත විෂයෙහි උපන් ඤාතීන් උදෙසා දානයක් දෙන ලදී. මෙසේ යම්කිසි පුත්‍රයෝ හෝ දූවරු හෝ සහෝදරයෝ හෝ අනුකම්පා ඇත්තාහු දියුණුව කැමැත්තාහු හිතවත් ද වෙත්. ඔවුහු ඤාතීන්ගේ මව්පසින් ද පියපසින් ද සම්බන්ධ වූ මියගිය ප්‍රේතයන්ට **සුචිං**, පිරිසිදු වූ ධාර්මිකව ලැබුවා වූ **පණීතං** උත්තම වූ **කප්පියං** සුදුසු වූ පරිභෝග කිරීමට සුදුසු ආර්යයන්ට **පානභොජනං කාලෙන**, ඤාති ප්‍රේතයන් අවුත් සිටි කල්හි දදහති දෙත් උදෙසා දෙත්, පවරත්.

දැන් යම් ප්‍රකාරයකින් දෙන ලද්ද ප්‍රේතයන්ට පැමිණේ ද එය දක්වන සේක් 'ඉදං වො ඤාතීනං' යන හතරවන ගාථාවෙහි පූර්වාර්ධ වදාළහ. එය තුන්වන ගාථාවෙහි පූර්වාර්ධ සමග සම්බන්ධ කළ යුතුය. **එවං දදනති ඤාතීනං යෙ හොනති අනුකමපකා**, යම් නෑ කෙනෙක් එවුන්ට අනුකම්පා කරන්නාහු වෙත්ද, මේ පින පරලොව ගිය නෑයන්ට වේවා ඔවුහු සුවපත් වෙත්වා. 'ඉද වො ඤාතීනං හොතු', මේ ආකාරයෙන් දෙත්. අන් ආකාරයකින් නොවේ. ආකාරාර්ථයෙහි වූ එවං ශබ්දයෙන් දිය යුතු ආකාරය දක්වන ලද්දේ වෙයි. 'වො' කාරය වනාහි මෙහි නිපාත මාත්‍රයකි. සාමිවචන නොවේ. යම්හෙයකින් ඉදංවො ඤාතීනං හොතු යයි කී කල්හි අන්කෙනෙකු විසින් කළ කර්මයෙහි ඵලය අනිකෙකුට නොවේ. හුදෙක් එසේ උදෙසනු ලබන එම වස්තුව නෑයන්ගේ කුසල කර්මයට ප්‍රත්‍යය වෙයි. එබැවින් යම්හෙයකින් ඔවුන්ගේ එම වස්තුවෙහි එකෙනෙහි ඵලය උපදවන කුසල කර්මයක් වේ. එය දක්වන්නේ **තෙච තත්‍ථ** යන හතරවන ගාථාවෙහි පශ්චිම අර්ධය පස්වන ගාථාවෙහි පූර්වාර්ධයද වදාළහ. එම ඤාති ප්‍රේතයෝ යම්තැනක එම දානය දෙනු ලැබේද, **තත්‍ථ සමාගනත්‍වා** හාත්පසින් අවුත් **සමාගතා**, මේ අපේ නෑයෝ අප උදෙසා දන්දෙත්. ඒ සඳහා එක්වූවාහුය. මෙසේ තමන් ගෙනහැර දක්වන කල්හි. **පහූතෙ අනනපානමහි සකකචච, අනුමොදරෙ** (තමන් උදෙසා බොහෝ ආහාරපාන දෙනු ලබන කල්හි, කම්පල අදහා පින් අනුමෝදනා කරත්.) කම්පල අදහන්නාහු ගරුබුහුමන් අතනොහැර නොවිසුරුණු සිතින් යුතුව 'මෙම දානය හිතසැප පිණිස වේවා. අනුමෝදනා කරත් ද, ප්‍රීතියෙන් සොම්නසින් යුක්ත වූවාහු වෙත්. මේ නැයන් නිසා උපදවාගත් කුසලකර්ම ඵලය අනුභව කරන්නා වූ ඤාති ප්‍රේතයන් ගේ ඤාතීන් අරබයා ස්තුති කරන ආකාරය දක්වන්නේ **චිරං ජීවනතු** පස්වන ගාථාවේ අවසාන අර්ධයද හයවන ගාථාවෙහි පූර්වාර්ධය ද වදාළහ. **චිරං ජීවනතු** බොහෝකල් ජීවත්වන්නෝ වෙත්වා. **නො** යනු

අපගේ, යෙසං හෙතු යම්කිසි කාරණාවක් ලභාවසෙ ලබමු. තමන් එම මොහොතෙහි ලද සම්පත්තිය පෙන්වන්නේ කියත්. මියගියවුන්ගේ තමාගේ අනුමෝදන් වීමෙන් ද දායකයන්ගේ උද්දේශයෙන් ද, දක්ඛිණෙය්‍ය සම්පත්තියෙන් ද යන තුන් අගින් දක්ෂිණාව සමෘද්ධ වේ. ඒ මොහොතෙහිම ප්‍රතිඵල නිපදවන්නේ වෙයි. එහි දායක තෙම විශේෂ හේතුව වේ. ඉදං වො ඤාතීනං හොතු යනුවෙන් මෙසේ දානය උද්දේස කිරීමෙන් අපට ද පූජා කරන ලද්දේ වෙයි. යම් සන්තානයක පරිත්‍යාගමය කර්මය කරන ලද්දේ ද, ඔහුට එහිදීම විපාකදීම හේතුවෙන් දායකයෝ ද ඵල රහිතයෝ නොවෙත්. ප්‍රේත විෂයෙහි උපන්නහුගේ සීසෑමෙක් නැත්තේය. ගවපාලනයක් නැත්තේය. සම්පත් ලැබීමට හේතු වූ එබඳු වෙළඳමකුත් නැත්තේය. මිනිස්ලොව වසන නෑමිතුරන් විසින් දෙන ලද පිනෙන් යැපෙන බව දක්වන්නේ, නහි තත්‍ථ කසී යනුවෙන් හවන ගාථාවේ පශ්චිම අර්ධයද, හත්වන ගාථාවද වදාළහ. එහි අර්ථය, එම ප්‍රේත විෂයෙහි යමක් නිසා සම්පත් ලබන්නාහුද, එබඳු කෘෂිකර්ම ආදිය එහි නැත. කාලගතා, තමාගේ මරණ කාලයෙන් ගියා වූ කාලකතා යනුවෙන් ද පාඨයකි. කතකාල, කතමරණං යන අර්ථයි. තහිං ප්‍රේත විෂයෙහි.

දැන් උපමාවන්ගෙන් එම අර්ථය ප්‍රකාශ කරන්නේ උන්නමෙ උදකං යනාදි ගාථාව වදාළහ. උස්බිමක වැස්ස වර්ෂා ජලය මිටිබිම කරා ගලාබසීද, පැමිණේ ද උපකපපති, උපදී පහළවෙයි. වාරිමහා පූරා, මහා නදී කුඩා ගං හෝ ආදියෙහි එකතුවන ජලය, දැන් යම්හෙයකින් එම ප්‍රේතයෝ මෙහෙන් කිසිවක් ලබමු යයි නෑ ගෙදරට අවුත් ද මෙය අපට දෙවයි ඉල්වන්ට අසමර්ථ වූවාහු, කුමක් හෙයින් ඔවුන්ගේ සිහිකලයුතු වස්තූන් සිහිකරන්නේ සිහිකරන කුලපුත්‍රයෝ දක්ෂිණාවක් දෙන්නෙමැයි දක්වන්නේ අදාසිමෙ යන ගාථාව වදාළහ. මෙනම් මම ධනය හෝ ධාන්‍ය හෝ දුන්නේ ය. මේ මගේ කාර්යය කළේය. මේ මගේ මව්පසින් හෝ පියපසින් හෝ සම්බන්ධ වූ බැවින් ඤාතීහුය. පිහිට වීමට සමත් බැවින් මිත්‍රයෝය. වැලිකෙළියෙහි පටන් යහලුවෝය. මෙසේ පෙර කළ සියල්ල සිහි කරන්නේ ප්‍රේතයන් උදෙසා දක්ෂිණාවක් දජ්ජා, දෙන්නේය. පෙතානං දක්ඛිණං දජ්ජා යනුවෙන් ද පාඨයකි. දක්ෂිණාව, මියගිය අය පෙර කළ දෙය සිහිකරමින් දිය යුත්තාහුය යන අර්ථයි. කරණාර්ථයෙහි පච්චත්ත ප්‍රථමාව වේ. දැන් යමෙක් ඤාති මරණයෙහි හැඬීම ආදි සෝකයන්ගෙන් යුක්තව සිටිත්. ඔවුන් පිණිස කිසිවක් නොදෙයි. ඔවුන්ගේ ඒ සෝක කිරීම් හැඬීම් ආදිය හුදෙක් සිරුරට දුක්දීමකි. මියගියවුන්ට

කිසිවක් නොලැබේ යයි දක්වන්නේ නහිරුණ්ණංවා යන මේ ගාථාව වදාළහ.

රුණ්ණං හැඬීමයි කඳුලු හෙළීමයි. සොකො, සෝක කිරීමයි. පරිදෙවනා වැලපීමයි. එකම පුත්‍රයා කොහි ද, ප්‍රිය වූ මනාප වූ, යනුවෙන් ගුණකථනය කිරීමයි. ඒ සියල්ල මියගියවුන්ට වැඩ පිණිස නොපවතී. හුදෙක් සිරුර තවමින් නෑයෝ සිටිති. දැන් රජු විසින් දනක් දෙන ලදී. එහි සාර්ථකභාවය දක්වන්නේ අයඤ්ච බො දක්ඛිණා යන ගාථාව වදාළහ. මහරජතුමනි, මෙම දක්ෂිණාව ඔබතුමා නෑයන් උදෙසා දෙන ලදී. පුණ්‍යක්ෂේත්‍ර වූ සංඝමහි සුපතිට්ඨිතා අසස (සංඝයා කෙරෙහි මනාව පිහිටියේ වෙයි.) ප්‍රේත සමූහයාට, දීඝරත්තං හිතාය ඨානසො උපකප්පති (හිත සැප පිණිස විපාක දෙයි.) පැමිණෙයි. සමෘද්ධ වෙයි. දැන් භාග්‍යවතුන් වහන්සේ විද්‍යමාන ගුණයෙන් රජුට ප්‍රශංසා කරන්නේ, සො ඤාති ධම්මො යන ගාථාවෙන් දේශනා අවසනට පත්කළ සේක. ඒ මේ ඤාතීන්ගේ ඤාතීන් විසින් කළයුතු දෙය කිරීමෙන් ඤාති ධර්මය දානය දෙන්නා වූ තොප විසින් දක්වන ලද්දේය. බොහෝ ජනයාට ප්‍රකට කරන ලද්දේය. ප්‍රේතයන්ට ද දිව්‍ය සම්පත්තිය ලබාදෙන්නා වූ උළාර පූජාවක් ඔබ විසින් කරන ලදී. බුදුපාමොක් සඟන ආහාරපාන ආදියෙන් සන්තර්පනය කරන්නා වූ තොප විසින් භික්ෂූන්ට බලය ද දෙන ලදී. අනුකම්පාදි ගුණ පිරිවරකොට ඇති ත්‍යාග චේතනාව, නිපදවන්නා වූ තොප විසින් බොහෝ පින් පසුතං රැස්කරන ලදී.

තිරොකුඩ්ඩ සූත්‍ර වර්ණනාව නිමි.

## 68.

ජානුස්සොනි සුත්තෙ ජානුස්සොනි සූත්‍රයෙහි.

සද්ධානි මතක දානයයි. උපකප්පතු පැමිණේවා. ඨානෙ, සුදුසු තන්හි නො අට්ඨානෙ නො සුදුසු තන්හි නේරයික සත්ත්වයන්ගේ ආහාරය නම් ඔවුන් එහි ඉපදවූ කර්මය මැයි. එයින්ම ඔවුහු එහි යැපෙත්. තිරිසන් යෝනියෙහි උපන්නවුන්ගේ තෘණ පර්ණ ආදි වශයෙන් ආහාරය දතයුතුය.

මිනිසුන්ගේ ආහාර කොමුපිඩු වශයෙන් දෙවියන්ගේ සුධාභෝජන වශයෙන් ද ප්‍රේත විෂයෙහි වූවන්ගේ කෙල සොටු ආදීන්ගේ වශයෙන් ද, යං වා පනසස ඉතො අනුපපවෙචඡනති යම්කිසි ඔහුගේ මිත්‍ර ආදි කෙනෙක් මෙහි සිට දෙන්නාහු එය ලබත්. ප්‍රේත විෂයෙහි වූවෝම පරදත්තූප ජීවී ද වෙත්. ඔවුන්ට දෙන දෙය ලැබේ. අන්‍යයන්ට නොලැබේ. දායකොපි අනිපඵලො, යමෙක් උදෙසා එම දානය දෙන ලදද, ඔහු පැමිණේවා. එසේ නොවුවහොත් දායක තෙමේ ද ඵලරහිත වූයේ නොවෙයි. දායක තෙමේ ද එම දානයෙහි විපාක ලබන්නේමය.

අටඨානෙපි භවං ගොතමො පරිකපපං වදති (භවත් ගෞතමයන් වහන්සේ අස්ථානයෙහිදු දානඵලයාගේ පරිකල්පනය වදාරත් ද?) අනවකාසයක් ඇතිකල්හිදු ඒ නෑයන් කෙරෙහි භවත් ගෞතම තෙම දානයාගේ ඵලය පරිකල්පනය කෙරෙත්මැයි පනවන්නේම නොවේ ද? විචාරයි. බ්‍රහ්මණයාගේ ලබ්ධිය වූ කලී මෙසේ දෙන ලද දානයෙහි ඵලය දායකයා නොලබයි යනුයි. අනතුරුව භාග්‍යවතුන් වහන්සේ ප්‍රශ්නය දැන, දායක තෙමේ පින්ඵල අනුව ජීවත්වන තැනක උපන්නේ දානයාගේ ඵල ලබන්නේම යයි දක්වන්ට ඉධ බ්‍රාහමණ යනාදිය වදාළහ. සො තත්‍ථ ලාභි හොති හෙතෙම ඇත් යෝනියෙහි උපන්නේ ද මංගල හස්ථි ස්ථානය ලබන්නේය. අශ්වයන් පිළිබඳව ද එසේමය.

ජානුසොණි සූත්‍ර වර්ණනාව නිමි.

අඣකවින්ද සුතෙත, අන්ධකවින්ද සූත්‍රයෙහි,

ආරකඛ සතිනො, දොරටු රකින්නා වූ සිහියෙන් යුතුව.

නෙපකකසතිනො දොරටු රකින්නා වූ සිහි නුවණින් යුතුව සතාරකෙඛන චෙතසා, සමනනාගතා ආරක්ෂා සහිත සිතින් යුතුව, අපපභසසා ස්වල්ප කථා ඇති. සමමා දිටඨිනො, කමමසසකත, ධ්‍යාන-විපසසනා මගග ඵල, වශයෙන් පංචවිධ වූ සම්මා දිට්ඨියෙන් යුක්ත වූ එසේම, ප්‍රත්‍යවේක්ෂා ඥානයද සම්මා දිට්ඨියයි දතයුතුය.

අඣකවින්ද සූත්‍ර වර්ණනාව නිමි.

# 70.

මහාරාහුලොවාද සුත්තෙ, මහා රාහුලෝවාද සූත්‍රයෙහි,

භාග්‍යවතුන් වහන්සේ රාහුල තෙරුන්ට බොහෝ ධර්මදේසනා කරන ලද්දාහුය. මේ ආයුෂ්මත් තෙම සත්අවුරුදු කල්හි, භාග්‍යවතුන් වහන්සේගේ සිවුරුකොන අල්වාගෙන, දායජ්ජං මෙ සමණ දෙහි යනුවෙන් දායාද ඉල්ලමින් (ගමන් කළේය.) භාග්‍යවතුන් වහන්සේ සැරියුත් තෙරුන්ට පවරා පැවිදි කරවූයේය. අනතුරුව භාග්‍යවතුන් වහන්සේ දහර කුමාරවරු වනාහි යුතු අයුතු කථා කරත්. ඔහුට අවවාද දෙමියි රාහුල තෙරුන් ඇමතුවේය. රාහුල සාමණේරයන් විසින් තිරච්ඡාන කථා කිරීම නො සුදුසුය. තා කියනු ලබන්නේ මෙබඳු කථාවක් යයි සියලු බුදුවරුන් දුරුනොකරන ලද ප්‍රශ්න දහයක් ඇත. 'එක නාම කිං? සබෙබ සත්තා ආහාරට්ඨිතිකා -පෙ- දස හංගෙහි සමන්නාගතො අරහාති වුච්චති යන මෙම සාමණේර ප්‍රශ්නය වදාළ සේක. නැවත සිතීය. දහර කුමාරවරු මුසාවාදයට ප්‍රිය වූවෝ වෙති. මොහුට අවවාද දෙමියි 'අම්බලට්ඨික රාහුලෝවාද සූත්‍රය වදාළහ. මේ දෙකම සත්වයස් වූ සාමණේර කාලයෙහි වදාළහ.

සිවුපසයෙහි තෘෂ්ණාව දුරුකිරීමද, පංචකාමයන්හි ඡන්දරාගය ප්‍රහාණය පිණිස ද, කල්‍යාණ මිතුරන්ගේ ඇසුරෙහි උසස් භාවයද, දක්වා රාහුල සූත්‍රය නිතර අවවාදය පිණිස කියන ලදී. මෙම කාලයෙහි මෙය කියන ලද්දේ යයි නොකිය යුත්තේය. රාහුල සූත්‍රය පැමිණි තන්හි භවයෙහි ඡන්දරාගය නොකළ යුතුයයි දැක්වීම පිණිසය. විපස්සනාව මුදුන් පැමිණවීම පිණිසද සත්වැසි කාලයේ සිට අවශ්‍ය භික්ෂුකාල දක්වා කියන ලදී. චූල රාහුලෝවාද සූත්‍රය තෙරුන්ගේ පංචදස කාලයෙහි, විමුත්ති පරිපාචනීය ධර්ම මුහුකුරා යන කාලයෙහි රහත්බවට පමුණුවනු පිණිස අවශ්‍ය භික්ෂු කාලයෙහි වදාරණ ලදී. 'මම සොභාමත් වෙමි. මගේ වර්ණය පැහැපත්ය යනුවෙන් ආත්මභාවය නිසා ඇතිවන ඡන්දරාගය නොකළ යුතුයයි අවවාද වශයෙන් තෙරුන්ගේ දහඅට අවුරුදු වයසැති සාමණේර කාලයේ මේ මහා රාහුලෝවාද සූත්‍රය වදාළ සේක.

තත්‍ර පිට්ඨිතො පිට්ඨිතො අනුබන්ධි දර්ශනය නොහැර ගමන කඩ නොකොට පස්සෙන් පස්සෙන් ඉරියව් අනුව ලුහුබැන්දේය. එදින වනාහි භාග්‍යවතුන් වහන්සේ පාදයෙහි පාදය බහා තමන්ගේ (විලාසිතා ගමනින්

පෙරටුව, පෙරටුව වඩින සේක.) මැණික් ගුහාවකින් නික්මී ගොදුරු පිණිස පිලිපන් කේසර සිංහයෙකු මෙන් විලාසිත ගමණින් ඉදිරියෙන් වඩිති. රාහුල තෙර සිංහරාජයා අනුව යන සිංහ පෝතකයකු මෙන් දසබලයන් වහන්සේගේ පදානුපදිකව පිටුපසින් ගමන් කරයි.

එහි දී ආයුෂ්මත් රාහුල තෙම භාග්‍යවතුන් වහන්සේ පිටුපසින් යන්නේ පාද තලයෙහි පටන් කේසාන්තය දක්වා තථාගතයන් වහන්සේ බැලීය. හෙතෙම බුදුරදුන්ගේ බුද්ධශරීර වේශය බලා, භාග්‍යවතුන් වහන්සේ දෙතිස් මහා පුරුෂ ලක්‍ෂණයන්ගෙන් විචිත්‍ර වූ ශරීරය ඛ්‍යාම ප්‍රභාවෙන් පරික්‍ෂෙප කරන ලදුව ඡබ්බණ්ණ රශ්මියෙන් බබලන්නේ, අහෝ පාරමිතානු භාවයෙන් සජ්ජිත වූ ආත්ම භාවයාගේ ශ්‍රී සම්පත්තිය මහිමය යයි සිතීය. අනතුරුව තමා දෙස බලා 'මම ද සොභාමත් වෙමි.'

ඉදින් භාග්‍යවතුන් වහන්සේ සතරමහ දිවයිනෙහි සක්විති රජය කරවිනම් මට පරිනායක තනතුර දෙන්නේය. මෙසේ ඇතිකල්හි දඹදිව් තලය ශෝභාමත් වන්ට තිබුනේ යයි ආත්මභාවය නිසා ගේහසිත ඡන්‍දරාගය උපන්නේය. භාග්‍යවතුන් වහන්සේ ද පෙරටුව වඩින්නේ මෙසේ සිතූ සේක. පිරිපුන් ඡවි-මංස-ලෝහිතයන්ගෙන් සැදුනේය. රාහුලගේ ආත්මභාවය ඔවුනොවුන් හා එකට බැඳුනේ විය. ඇලුම් කරවන රූපාරම්මන ආදියෙහි චිත්තයාගේ පැනීම ඇතිකරවන කාලය ඇතිවිය. කුමක් බහුලව ගෙන රාහුල තෙම කාලය ගෙවයිදැයි, ඉක්බිති ආවර්ජනය සමග පැහැදුනු දියෙහි මසුන් මෙන් ඔහුගේ චිත්තෝද්දය දුටු සේක. මේ රාහුල තෙමේ මට දා පුතෙකුව මගේ පිටුපසින් එන්නේ ආත්ම භාවය නියත ගේහසිත ඡන්‍දරාගය ඉපදවූයේ ය. නියමකොට නොවන තන්හි, පැත්තේ, නරක මාර්ගයට පිලිපන්නේ අගෝචරයෙහි හැසිරෙයි. මේ කිලේසය තෙම අභ්‍යන්තරයෙහි වැඩෙන්නේ ආත්මාර්ථයද තත්වූ පරිදි දකින්ට නොදෙයි. එසේම පරාර්ථයද උභයාර්ථයද එපරිදිම වෙයි. එයින් නිරයෙහි පිළිසිඳ ගැනීම කෙරෙන්නේය. තිරිසන් යෝනියෙහි ද ප්‍රේත විෂයෙහි ද අසුර කායෙහි ද සම්බාධ වූ මවුකුස්හිද (ඉපදීම කෙරෙන්නේය.) කෙලවරක් නැති සංසාර වට්ටයෙහි හෙලන්නේය.
මෙය වනාහි,

**අනත්‍ථ ජනනො ලොභො, ලොභො චිත්තපපකොපනො**
**භයමන්තරතො ජාතං, තං ජනො නාව බුජ්ඣති**

'ලෝභය අනර්ථය උපදවන්නකි. ලෝභය සිත කෝප කරවන්නකි. ඇතුලතින් භය ඇතිවෙයි. එය ජනතෙම අවබෝධ නොකරයි.'

"යම් සේ නොයෙක් රුවන් පිරූ මහනැවක් බිඳුනු පුවරු අතුරින් දිය අදිනු ලබන්නේ මොහොතක්වත් මධ්‍යස්ථ විය යුතු නොවෙයි. ඉතා වේගයෙන් එම විවරය වසන්නට වටී. එපරිද්දෙන්ම මෙතෙම පිළිබඳවද මධ්‍යස්ථ නොවිය යුතුය. යම්තාක් මොහුගේ මේ ක්ලේශය අභ්‍යන්තරයෙහි සිල් නමැති රුවන් ආදිය විනාශ නොකෙරේද, එයට කලින් ඔහුට නිග්‍රහ කරන්නෙමියි අදහස් කළ සේක. මෙසේ අදහස් කොට මුලුකිසින්ම පරිවර්තනය වී සිටියේ රාහුල භද්‍රයන් ආමන්ත්‍රණය කළ සේක. ඒ සඳහා අථ ඛො භගවා අපලොකෙත්වා යනාදිය වදාරන ලදී. එහි යං කිඤ්චි ආදීන්ගේ අර්ථය මත්තෙහි අනත්තලක්ඛණ සූත්‍රයෙහි එන්නේය. ඉක්බිති ආයුෂ්මත් හට සබ්බං රූපං නෙතං මම, නෙසොහමස්මි, න මෙසො අත්තා මේ සියලු රූපය මට අයිති නොවේ. මම ඒ රූපය නොවෙමි. එය මගේ ආත්මය නොවේ යනුවෙන් භාග්‍යවතුන් වහන්සේ සියලු රූපය විදර්ශනා ප්‍රඥාවෙන් දතයුතුයයි මෙසේ වදාරති.

වේදනා ආදිය පිළිබඳව කෙසේ පිළිපැදිය යුතුදැයි නය ක්‍රමයක් ඇත. එබැවින් එම නයෙහි පිහිටියේ මෙසේ විචාරයි. රූපමෙව නුඛො යනුවෙන් විමසයි. මේ ආයුෂ්මත් රාහුල තෙම නය පිළිබඳ දක්‍ෂයෙකි. 'මෙය නොකටයුතුයයි කී කල්හි මෙයද නොකට යුතුය. මෙයද නොකටයුතු යයි නය සියයකින් ද නය දහසකින් ද අවබෝධ කරයි. මෙය කටයුතු යයි කී කල්හිද එසේමය.

ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ යම්හෙයකින් රූපය පමණක් මෙසේ නොවෙයි. වේදනාදියද මෙසේ දතයුතුය. එහෙයින් රූපමපි රාහුල, රාහුලය රූපයද යනාදිය වදාළ සේක. කොනුජ්ජා අද කවරෙක්ද යනුයි. තෙරුන් වහන්සේට මේ අදහස විය. සම්‍යක් සම්බුද්ධයන් වහන්සේ මාගේ ආත්මභාව නිශ්‍රිත ඡන්දරාගය දැන ශ්‍රමණයන් විසින් නම් මෙබඳු විතර්කයක් විතර්කනය නොකට යුතුයයි පරියාය කථා නොකී සේක. දූතයකු පිටත් නොකළ සේක. හමුවෙහි සිටම බඩු සහිත සොරු කෙස්වැටියෙන් අල්ලා ගන්නාක් මෙන් සම්මුඛයෙහිම සුගතෝ වාදය දුන් සේක. සුගතෝවාදය නම් අසංඛ්‍ය කල්පයකින් පවා ලැබීමට දුර්ලභය. මෙබඳු වූ බුදුකෙනෙකු සමීපයෙන් අවවාදය ලැබ, කවරනම් පණ්ඩිතයෙක් අද ගමට පිඩු පිණිස

හැසිරෙන්නේ දැයි ඉක්බිති මෙතෙම අහරකිස අතහැර යම් තැනක වැඩසිටියේ නම් එතැන සිට අවවාද ලැබුයේ එතැනින් ආපසු හැරී එක්තරා රුක්මුලක හුන්නේය. භාග්‍යවතුන් වහන්සේ ද එම නැවතුන ආයුෂ්මතුන් වහන්සේ දැක, මෙසේ නොකී සේක. 'රාහුලය, නොනවතුව. තාගේ භික්ෂාචාර කාලයයි' යනුවෙනි. කුමක් හෙයින් ද අද කායගතා සති අමෘත භෝජනය පමණක් වළඳවායි මෙසේ උන්වහන්සේට අදහස් වූ සේක.

අද්දසාඛො ආයසමා සාරිපුත්තො (ආයුෂ්මත් සැරියුත් තෙර තෙමේ දැක්ක සේක්මය.) යනුවෙන් භාග්‍යවතුන් වහන්සේ වැඩිකල්හි පසුව වඩින්නේ දුටු සේක. මේ ආයුෂ්මතුන් වහන්සේගේ තනියම වඩිනවිට අන්‍ය වූ වතකි. භාග්‍යවතුන් වහන්සේ සමග වැඩවසන විට අන්‍ය වූ වතකි. යම් කලෙක අග්‍රශ්‍රාවක දෙනම වෙනම එකල්හි උදයෙන්ම සෙනසුන හැමද, සිරුර පිළිදැගුම් කොට සමාපත්තියට සමනොවැදී සිටියාහු තමන්ට කැමති පරිදි භික්ෂාචාරයට වඩිති. භාග්‍යවතුන් වහන්සේ සමග වාසය කරන කල්හි තෙරුන් වහන්සේලා මෙසේ නොකරත්. එදින භාග්‍යවතුන් වහන්සේ බික්සඟන පිරිවරා පළමුව පිඬු පිණිස හැසිරෙන සේක. භාග්‍යවතුන් වහන්සේ වැඩිකල්හි ස්ථවිර තෙම ස්වකීය සෙනසුනෙන් නික්ම.

බොහෝ දෙනා වසන තැනනම් සියල්ලෙන්ම පැහැදුන වුත් කරන්ට හැකි වෙති. නැතිනම් නොහැකි වෙතියි ඒ ඒ තැන ගොස් නොහැමදි තැන් හමදියි. ඉදින් කසල ඉවත් නොකළේ වේද, එය ඉවත් කරයි. පැන් තැබිය යුතු තැන පැන් භාජනය නැතිනම් එතැන එය තබයි. ගිලනුන් ලඟට ගොස් ඇවැත්නි, නුඹවහන්සේලාට කවර දෙයක් ගෙන එව්ද, නුඹවහන්සේලා කුමකට රුචිදැයි විචාරයි. දහර භික්ෂූන් සමීපයට ගොස් ඇවැත්නි, සාසනයෙහි ඇලෙව්, නොකළකිරෙව්. සාසනයෙහි ප්‍රතිපත්ති සාර යයිද අවවාද කරයි. මෙසේ කොට සියල්ලන්ටම පසුව පිඬු පිණිස හැසිරෙයි. එසේ පිඬු පිණිස නික්මුනේ එදවස් රුක්මුල හුන් රාහුල භද්‍රයන් දුටු සේක. ඉක්බිති කුමක් හෙයින් ආනාපාන සතිය නියම කළ සේක්ද. හිඳගැනීමට සුදුසු බැවිනි. තෙරුන්වහන්සේ මොහුව භාග්‍යවතුන් වහන්සේ විසින් රූප කර්මස්ථානය කියන ලදැයි ආවර්ජනා නොකොටම යම් ආකාරයකින් මේ තෙමේ නොසෙල්වෙන ආසනයක් බැන්දෙක්ව හුන්නේ ඔහුට මේ එක් වැඩහිඳීමේ කර්මස්ථානයක් සුදුසු යයි සිතා මෙසේ කී සේක.

**ආනාපාන සතිං** යනු ආශ්වාස ප්‍රශ්වාසයයන් වටකොට ඒ මගින් චතුත්ථ - පංචක ධ්‍යාන උපදවා අරහත්වයට ගනුවයි යන්න දක්වයි. **මහපඵලා හොති**, මහත්ඵල වේද, මේ සාසනයෙහි භික්ෂු තෙම, ආනාපාන සතියෙන් යුක්ත වූයේ එක් අසුනෙහි සිටියේම සියලු ආශ්‍රවයන් ක්‍ෂයකොට රහත්බවට පැමිණෙයි. එසේ නොහැකි වන්නේ මරණ කාලයෙහි සමසීසි වෙයි. (මරණයත් රහත්වීමත් දෙක එකට සිදුවෙයි.) එසේ නොහැකි වන්නේ දෙව්ලොව ඉපිද ධර්මකථික දිව්‍ය පුත්‍රයෙකුගෙන් ධර්මය අසා රහත්බවට පැමිණෙයි. එය වරදින්නේ නම් බුදුකෙනෙකු නූපන් කල්හි පසේබුදුබව ලබාගත්තේය. එයද නොවන්නේ නම් බුදු කෙනෙකු හමුවේදී බාහිය ආදි තෙරවරුන් මෙන් වහා අභිඥාප්‍රාප්ත වන්නේය. මෙසේ මහත්ඵල මහානිසංසයන් බලමින් තෙරුන්වහන්සේ සද්ධිවිහාරික (රාහුලයන්) එහි යෙදවීය.

මෙසේ භාග්‍යවතුන් වහන්සේ රූප කර්මස්ථානයද ස්ථවිරයන් වහන්සේ ආනාපාන සතියදැයි කර්මස්ථාන දෙකම කියා වැඩි සේක. සොඳුරු රාහුල තෙම විහාරයෙහිම නැවතුනේය.

භාග්‍යවතුන් වහන්සේ ඔහුගේ නැවතීම දන්නේ ද තමන් වහන්සේ විසින් කෑයුතු බුදිය යුතු දේ රැගෙන නොවැඩි සේක. අනඳ තෙරුන් නොයැවූ සේක. කොසොල් රජුටද අනේපිඩු සිටුතුමාට ද නොදැන්වූ සේක. යම්තම් දැනීමක් ඇතිවූවාහු නම් ඔවුහු බත් කදක් යවන්නාහුය. භාග්‍යවතුන් වහන්සේද සැරියුත් තෙර තෙමේද කිසිවක් නොකළ සේක. රාහුල තෙමේ නිරාහාර වූයේ සුන් බත් ඇත්තෙක් විය. ඒ ආයුෂ්මතුන් වහන්සේට වනාහි තමන් විහාරයෙහි නැවතුන බව දන්නේද, තමන් ලැබූ පිණ්ඩපාතය තමන්වහන්සේ රැගෙන නොආ සේක. අනෙක් කෙනෙකු අත නොඑවූහ. මිනිසුන්ටද නොදැන්වූහ. මාගේ උපාධ්‍යායයන් වහන්සේද මාගේ දන්නා සේක්, එසේම කිසිවක් නොකළහයි සිතකුදු නොඋපන්නේය. ඒ හේතුවෙන් මමායනයක් හෝ අතිමානයක් හෝ කෙසේ උපදවන්නේද යත්? භාග්‍යවතුන් වහන්සේ විසින් දේසනා කළ කර්මස්ථානය පෙරබතද, පසුබතද, මෙසේ රූපය අනිත්‍යය, මෙසේ දුකය, මෙසේ අශුභය. මෙසේ අනාත්ම යයි ගිනි මොලවන්නාක් මෙන් නිතර මෙනෙහි කොට සවස් කාලයෙහි මෙසේ සිතීය.

මම උපාධ්‍යායන් විසින් අනාපාන සතිය වඩවයි කී කල්හි

උන්වහන්සේගේ වචනය නොකරන්නෙමි. ආචාර්ය උපාධ්‍යායන්ගේ වචනය නොකරන්නා, දුර්වච කෙනෙක් වේ. රාහුල දුර්වචය දුර්වච කෙනෙක් වේ. රාහුල දුර්වචය, උපාධ්‍යායයන්ගේ වචනය නොකෙරේ යයි හැඟීමක් ඉපදීමෙන් කෘෘර වූ පීඩාවක් නම් නැත්තේ යයි භාවනා විධානයක්, විචාරනු කැමැත්තේ, භාග්‍යවතුන් සමීපයට ගියේය. එය දක්වන්ට **අථ ඛො ආයසමා රාහුලො** යනාදිය කියන ලදී.

එහි **පටිසලලානා** යනු ඒකී භාවයෙන් යුතුව යනුයි. **යං කිඤ්චි රාහුලා,** (රාහුල යම්කිසිවක්) කුමක් හෙයින් භාග්‍යවතුන් වහන්සේ ආනාපාන සතිය විචාරණ ලද්දේ, රූප කර්මස්ථානය කී සේක්ද? රූපයෙහි ඡන්දරාගය දුරුකිරීම පිණිසයි. මෙසේ උන්වහන්සේට අදහසෙක් විය. රාහුල හට ආත්මභාවය නිසා ඡන්දරාගයක් උපන්නේය. කලින් ඔහුට සැකෙවින් රූප කමටහන කියන ලදී. දැන් ඔහුට සතලිස් ආකාරයකින් ආත්මභාවය විභාගකොට එය ඇසුරුකළ ඡන්දරාගය නො ඉපදවීමේ තත්ත්වයට පමුණුවන්නෙමියි යන අදහසයි. අනතුරුව කුමක් හෙයින් ආකාස ධාතුව විස්තර කළේද? උපාදාය රූපය දැක්වීම සඳහාය. කලින් සතර මහා භූතයෝම දක්වන ලදහ. උපාදාය රූපය නොවේ. එහෙයින් මේ මගින් එය ආකාස ධාතුව විස්තර කළ සේක. නැවත අධ්‍යාත්ම ආකාසයෙන් පරිච්ඡින්න වූ රූපය ප්‍රකට වෙයි. එබැවින් එය ප්‍රකට කිරීම සඳහා ආකාස ධාතුව වදාළ සේක.

එහි **අජ්ඣත්තං පච්චත්තං** (තමා පිළිබඳ වූ, තමා නිසා හටගත්) තමා පිළිබඳ වූ අධ්‍යාත්මයට, අධිවචනයක් වේ. **කක්ඛලං,** තද, **ඛරිගතං,** ඵරුෂ. **උපාදින්නං** මහාභූතයන් නිසා හටගත්, ගන්නා ලද, පරාමර්ශනය කරන ලද, ශරීරයෙහි ඇත්තා වූ, ඒ කවරේද යත්? කෙස් -පෙ- කරීස. මෙය අජ්ඣත්ති පඨවි ධාතුව වශයෙන් ධාතු කර්මස්ථානයේ දී බෙදන ලදී. මෙහි වූ කලී මනසිකාරය අරබයා විදසුන් වඩා රහත් බව ගැනීමට විධාන වශයෙන් චතුධාතු වවත්ථානය විස්තර කරන ලද්දේමය. මත්ථලුංගය මෙහිදී පාලියට නො නගන ලදී. එය ද ගෙන මෙනෙහි කළ යුතුය. **යං වා පනඤ්ඤම්පි** මෙහි ඉතිරි භූත කොටස් තුනට අනුගත වූ පඨවි ධාතුවෙන් ගනු පිණිස කියන ලදී. **යං චෙව ඛො පන අජ්ඣත්තිකා පඨවි ධාතු** (යම් මේ අධ්‍යාත්මික පඨවි ධාතුව යයි කියනු ලැබේ ද) යම් මේ කියන ලද ආකාර වූ පඨවි ධාතුව, **යාච බාහිරා** (යම් බාහිර පඨවි ධාතුවක් ඇද්ද,) යම්සේ විභංගයෙහි 'අයො ලොහනති' ආදි වශයෙන්

ආචා වූ බාහිර පඨවි ධාතුවයි. මෙසේ භාග්‍යවතුන් වහන්සේ විසින් අධ්‍යාත්මික පඨවි ධාතුව නානා ස්වභාව ඇති බැවින් විසි ආකාරයකින් විස්තර වශයෙන් දක්වන ලදී. බාහිර පඨවි ධාතුව සැකෙවිනි. කුමක් හෙයින්ද යත්? යමක් විෂයෙහි සත්ත්වයන්ගේ ආලය, නිකනති පත්ථනා, පරියුටඨාන, ග්‍රහණ පරාමර්ශන බලවත් වේද එහිදී ඔවුන්ගේ එම ආලයාදීන්ගේ උදුරා දැමීම සඳහා බුදුවරයෝ හෝ බුද්ධශ්‍රාවකයෝ හෝ විස්තර කථා කෙරෙත්. යම් තැනක බලවත් නොවේ ද, එහි කළයුතු දෙයක් නැති බැවින් සැකෙවින් කෙරෙත්.

පඨවි ධාතුරෙවෙසා, (යම් අධ්‍යාත්මික පඨවි ධාතුවක් ඇද්ද, යම් බාහිර පඨවි ධාතුවක් ඇද්ද තෙල පඨවි ධාතුව මැයි) දුවිධ වූ ද මෝ තොමෝ තද බැවින් පරුෂ බැවින් එකම ලක්‍ෂණ වූ පඨවි ධාතුවමැයි. මෙසේ භාග්‍යවතුන් වහන්සේ අධ්‍යාත්මික පඨවි ධාතුව බාහිර පඨවි ධාතුව සමග ගලපා දක්වයි. කුමක් හෙයින්ද යත්, බාහිර පඨවි ධාතුවේ අචේතන බව ප්‍රකටය. අධ්‍යාත්මික පඨවි ධාතුව එසේ ප්‍රකට නොවේ. එබැවින් ඕ බාහිර පඨවි ධාතුව සමග එක සමානය. අචේතන බව ගත්තහුට පහසුවෙන් තේරුම් ගැනීම සිදුවෙයි. යම්සේ දැමුණු ගොනෙකු නොදැමුණු ගොනෙකු සමග යෙදූවිට අදාන්ත ගොනු කිහිප දිනක් කලබල ගති පෙන්වයි. නමුත් නොබෝ කලකින් දමනය වෙයි. මෙසේම අභ්‍යන්තර පඨවි ධාතුව බාහිර පඨවි ධාතුව සමග එක සමානයයි ගන්නහුට දින කිහිපයක් යනතුරු අචේතන භාවය වැටහෙයි. එම අජ්ඣත්ත බාහිර පඨවි ධාතු දෙකම මගේ නොවේ. මම නොවෙමි. මගේ ආත්මය නොවේ යයි තත්වූ පරිදි යථාභූත ඥානයෙන් දතයුතුය. යථාභූතං, යථා ස්වභාවය එය වනාහි අනිත්‍ය ආදි ස්වභාවය වෙයි. එබැවින් අනිත්‍ය, දුක්ඛ, අනාත්ම යයි මෙසේ දතයුතුය යන අර්ථයි. යථාභූතං සම්මප්පඤ්ඤාය දිසවා මෙයින් විදර්ශනා ඥානය දක්වයි. නිබ්බින්දති, කලකිරෙයි. මෙයින් බලවත් වූ විදර්ශනා ඥානය දක්වයි. විරාජෙති, යම්සේ සිත රාගාදි සහගත නොවේද, මෙසේ මාර්ගයෙන් රාගාදිය සමුච්ඡෙද විමෙන් සිත බබලයි. රාගාදිය පහව යයි. මෙයින් මාර්ග ඥානය දක්වයි.

ආපෝ ධාතු නිර්දේශයෙහි ආපො, යනු වැගිරෙන ස්වභාවයයි. ආපොගතං ආපො ස්වභාවයට ගිය, වැගිරෙන ස්වභාවය වූ ආපො ස්වභාවයට ගිය ආපයම ආපොගත නම් වේ. සෙස්ස කියන ලද්ද මෙනි.

තෙජො උෂ්ණ ස්වභාවයයි. තෙජොගතං කී පරිදිම වේ. යෙනච සනතපපති කුපිත වූ තේජෝ ධාතුවකින් මේ කය තමාද, එක්දවසක් පවත්නා ජරාදීන්ගේ වශයෙන් උණුසුම් වූයේ වෙයි. යෙනච ජීරති, යමකින් මේ කය දිරයි ද, ඉන්ද්‍රිය විකලත්වයට බල පිරිහීමට ඇඟ රැලි වැටීම් ආදියට පැමිණෙයි. යෙනච පරිඩයහති යම් තේජෝ ධාතුවක් කිපීමෙන් මේ කය දැවේද, එම පුද්ගල තෙමේද දැවෙමි, දැවෙමි යයි හඬමින් සියක් වරක් පිසින ලද ගිතෙල් ද ගෝසීස චන්‍දනාදී ආලෝපයන් ද විජිනිපත් වාතයද කැමැති වෙයි. යෙනච අසිත පීත ඛායිත සායිතං සම්මා පරිපාකං ගච්ඡති (යමකින් බුදින ලද පානය කරන ලද, කන ලද, රස විඳින ලද ආහාරය පරිණාමයට යේ ද) යමෙකු විසින් කන ලද බත් ආදිය හෝ බොන ලද පානවර්ග හෝ කඩා කන ලද පිටි කැවුම් ආදිය හෝ රසවිඳින ලද අඹ-පැණි ආදිය හෝ රසාදි බැවින් වෙන්ව යේ ද, (එවන් තේජෝ ධාතුවයි.)

වායො, යනු පුම්බන ස්වභාවයයි. වායො ගතං, කී අයුරුමැයි. උද්ධංගමා වාතා, වමන ඔක්කාර ඉක්කා ආදිය පවත්වමින් උඩට නගන වාතය, අධොගමා මාතා, මලමූත්‍රා පහකරවමින් යටට බසින අධොගම වාතය. කුච්ඡිසයා වාතා, බඩවැලින් පිටත පවතින කුච්ඡිසය වාතය, කොට්ඨසයා වාතා බඩවැල් කුහරය ඇතුලත පවත්නා කොට්ඨසය වාතය අංගමංගානුසාරී වාතා නහරවැල් අනුව පවත්වමින් අඟපසඟ දික්කිරීම් හැකිලීම් කරන අංග මංගානුසාරී වාතය. අස්සාසො ඇතුලට පිවිසෙන වාතය. පස්සාසො පිටත නික්මෙන වාතය. (නාස් පුඩුවලින් ඇතුලට ගනිමින් හා පිටත යවමින් පවත්නා වාතය අස්සාස පස්සාස වාතය නම් වේ.)

ආකාසං, ස්පර්ශයක් නොමැති බව, කණ්ණච්ඡිද්දං මස් ලේ ආදියෙන් නොගැටුන කන්සිදුර නාස ඡිද්‍ර ආදියෙහිදු මේ ක්‍රමයමැයි. යෙන, යම් ඡිද්‍රයකින් අජ්ඣොහරති, ඇතුලට පිවිසේද, දිවෙහි පටන් උදර පටලය දක්වා වියත් සතරඟුල් ප්‍රමාණයේ සිදුරු ඇත. ඒ සඳහා මෙසේ කියන ලදී. සනතිට්ඨති, පිහිටයි. මිනිසුන්ට වනාහි මහත්ව පට පෙරහනක් පමණ වූ උදර පටලයක් වෙයි. ඒ සඳහා මෙසේ කියන ලදී. අධොභාගං යට යංවා පනඤ්ඤම්පි මෙයින් සම්-මස්-නහර-ඇට-ලොම් අතර වූ ආකාසය දක්වයි. අසං පඤ්චස්කන්ධය, විවරො අතරක් නැති.

දැන් ඔහුගේ තාදි භාව ලක්ෂණය ප්‍රකාශ කරන්නේ පඨවිං සමං

යනාදිය කීහ. ඉටු අනිටු දෙයෙහි නො ඇලෙන්නේ, ද්වේෂ නොවන්නේ තාදි නම් වේ. මනාපාමනාපා මෙහි ලෝභ සහගත චිත්ත සම්ප්‍රයුක්ත ධර්මයෝ මනාප නම් වේ. දෝමනස්ස සහගත සම්ප්‍රයුක්ත ධර්මයෝ දෙදෙන 'අමනාපං' නම් වේ. චිත්තං න පරියාදාය ඨස්සන්ති යන මේ ස්පර්ශයෝ ඉපිද තාගේ සිත මීට ඇතුළතට කරන්නාක් මෙන් වටකොට ගෙන සිටින්නට නොහැකි වෙති. මම හොබනේ වෙමි. මගේ වර්ණායතනය ප්‍රසන්න යයි නැවත ආත්මභාවය නිසා ඡන්දරාගය නූපදනේය. ගුථගතං, ආදියෙහි ගුථයට ගුථගත වේ. න කත්ථචි පතිට්ඨිතො, පොලොව, පර්වත, වෘක්ෂ ආදි එක්තැනෙක් හිදු නො පිහිටියේ යනුයි. යම් හෙයකින් යට තාදිභාව ලක්ෂණය දක්වන ලදී. මම තාදිගුණයෙන් යුක්තහයි කීමට නොහැකි. එසේ කීමට කරුණු නැත. මම උසස් කුලයක උපන්නේ වෙමි. බහුස්සුත බවක් ලබා ඇත. රාජ රාජ මහාමාත්‍යවරු භජනය කරත්, මේ කරුණුවලින් කිසිවෙක් තාදි ගුණයෙන් යුක්ත වෙමි. එහෙත් මම එසේ නොවෙමි. මෛත්‍රී භාවනාව තාදි භාවයට කරුණු වෙයි. තාදි භාවයට කරුණු දැක්වීම පිණිස මෙත්තං රාහුලා යනාදි දේශනාව ආරම්භ කළ සේක.

එහි භාවයතො උපචාරයට හෝ අර්පණාවට පමුණුවන්නහුට යනුයි. යො බ්‍යාපාදො, යම් සත්ත්වයන් කෙරෙහි කෝපයක් ඇද්ද, එය දුරු කරන්නේය යනුයි. විහෙසා, අත් ආදියෙන් සත්ත්වයන්ට හිංසා කිරීමයි. අරති, වනයෙහි දුරසෙනසුන්හි ද අධිකුසල ධර්මයෙහි ද කලකිරුණු. පටිඝො යම්තැනක හැපෙන කෙලේසයයි. අසුභං, උද්ධුමාතකාදීන්හි උපචාර අර්පණාවන්ට පැමිණීමයි. රාගො, පඤ්චකාම ගුණික රාගයයි. අනිච්ච සඤ්ඤා අනිච්ච සඤ්ඤාව හා එකට උපන් එම සඤ්ඤාව ඇති, විදර්ශනා හෝ වෙයි. මේ විදර්ශනාවමයි. සඤ්ඤා නාමයෙන් මෙසේ කියන ලදී. අස්මිමානො, යනු රූපාදීන්හි මම වෙමි යන මානයයි. දැන් තෙරුන් විසින් අසන ලද ප්‍රශ්නය විස්තර කරන්නේ ආනාපාන සති ආදිය වදාළහ. එහි මේ කර්මස්ථානය ද පාලි අර්ථය ද ආනාපාන සති කර්මස්ථානයෙහි විස්තර වශයෙන් එයි. භාග්‍යවතුන් වහන්සේ මෙම දේශනාව නෙය්‍ය පුද්ගල වශයෙන් නිමකොට වදාළ සේක.

මහා රාහුලෝවාද සූත්‍ර වර්ණනාව
නිමි.

# 71.

ධම්ම විහාරී සුත්තෙ ධම්ම විහාරී සූත්‍රයෙහි,

රිඤ්චති පටිසල්ලානං. (පටිසල්ලානය හරියි) එකී භාව අතහරියි. නානුයුඤ්ජති අජ්ඣත්තං චෙතොසමථං තම සන්තානයෙහි සමාධි නොවඩයි. සමථ කර්මස්ථානයෙහි නොයෙදුනේ යයි කියන ලද්දේ වෙයි. අනුකම්පං උපාදාය අනුකම්පාව සිතා පිළිගෙන, ඇසුරුකොට යයි කියන ලද්දේ වෙයි. කතං වො තං මයා (ශාස්තෲවරයෙකු විසින් අනුකම්පාවෙන් කළයුතු දෙයක් වේද, එය මා විසින් තොපට කරන ලදී.) එය මා විසින් මේ පුද්ගලයන් දේසනා කිරීමෙන් ඔබලාට කරන ලදී. අනුකම්පක වූ ශාස්තෲන්ගේ කෘත්‍යය මෙපමණකි. යම් මේ අවිපරීත වූ ධර්මදේශනාවයි. මින් මතු ප්‍රතිපත්ති පිරීම ශ්‍රාවකයන්ගේ කෘත්‍යයයි. එහෙයින් වදාළහ. එතානි රුක්ඛමූලානි, ආදිය.

එහි රුක්ඛමූලානි, මෙයින් රුක්මුල් සෙනසුන දක්වයි. සුඤ්ඤාගාරානි මෙයින් ජනශූන්‍ය ස්ථානයක් දක්වයි. මෙම සෙනසුන් දෙකෙන්ම යෝගයට අනුරූප වූ සෙනසුනක් ප්‍රකාශ කෙරේ. දායාදය පවරා දෙයි. ඣායථ, අරමුණ අනුව ධ්‍යාන වැඩීමට අටතිස් අරමුණු ද, ලක්ෂණ අනුව මෙනෙහි කිරීමට අනිච්චාදි වශයෙන් ඛන්ධ, ආයතන ආදිය නැවත නැවත සිහිපත් කරයි. සමථ විපස්සනා දෙක වඩව් යයි කියන ලද්දේ වේ. මා පමාදත්ථ, පමා නොවව්. මා විප්පටිසාරිනො අහුවත්ථ (පසුව විපිළිසර නොවව්) යමෙක් පෙර දහර කාලයෙහි නීරෝග කාලයෙහි, ආහාර සප්පායම් ආදියෙන් යුතු සම්පත්ති කාලයෙහි, ශාස්තෲන් වහන්සේ සම්මුඛ කාලයෙහි යෝනිසො මනසිකාරයෙන් තොරවූයේ, දිවා රෑ මකුණන්ට බත් වෙමින් සෙය්‍යසුඛ මිද්ධසුඛයෙහි යෙදෙමින් පමා වෙත්.

ඔවුහු පසුව ජරාමරණ කාලයෙහි රෝගී කාලයෙහි, විපත්ති කාලයෙහි ශාස්තෲන් වහන්සේ පිරිනිවි කල්හි පෙර පමාද විහරණය සිහි කරමින් පටිසන්ධි සහිත කාලක්‍රියාවේ භයානක කම සලකමින් විපිළිසර වෙත්. තොපි වනාහි එවන්නෝ නොවව් යයි දක්වමින් වදාළහ. මා පච්ඡා විප්පටිසාරිනො අහුවත්ථ යනුවෙන් අයං වො අම්හාකං අනුසාසනී මේ අප හමුවේ ඣායථ, මා පමාදත්ථ යනු තොපට කරන අනුසාසනයයි.

අවවාදයයි. මෙසේ බහුශ්‍රැත භික්ෂූහු විපස්සනා කම්මිකො, සොතාපනෙනා, සකදාගාමී අනාගාමී, ඛීණාසව යන පස්කොටස ධම්මවිහාරී යයි දතයුත්තාහුය.

ධම්මවිහාරී සූත්‍ර වර්ණනාව නිමි.

# 72.

රාහුල සුත්තං, රාහුල සූත්‍රය.

කච්චි අභිණ්හ සංවාසා යනු රාහුල සූත්‍රයයි. උත්පත්තිය කවරීද, භාග්‍යවතුන් වහන්සේ සම්‍යග් සම්බෝධියට පැමිණ බෝමැඩින් නික්ම පිළිවෙළින් කපිලවස්තු පුරයට ගොස් එහිදී රාහුල කුමරු විසින් ශ්‍රමණයන් වහන්ස, මට දායාදය දෙවයි දායාදය ඉල්වන ලද්දේ සැරියුත් තෙරුන්ට පැවරීය. රාහුල කුමරු පැවිදි කිරීම පිළිබඳ සියල්ල ඛන්ධක අටුවාවේ කී පරිදි ගතයුත්තේය. මෙසේ පැවිදි කළ රාහුල කුමරු වැඩිවියට පැමිණි කල්හි සැරියුත් තෙරණුවෝම ඔහුව උපසම්පදා කළහ. මුගලන් තෙරණුවෝ ඔහුගේ කර්මාචාර්ය වූහ. භාග්‍යවතුන් වහන්සේ රාහුල තෙරුන් සම්බන්ධව 'මේ කුමාරතෙම ජාති සම්පන්නය. හෙතෙම, ජාති-ගෝත්‍ර කුල - රූප සම්පත්තිය මේ ආදිය නිසා මානයක් හෝ මදයක් හෝ නොකෙරේවායි දහර කාලයෙහි පටන් රහත්වන තුරු අවවාද කරන්නේ, නිතර මෙම සූත්‍රය වදාළ සේක. එබැවින් සූත්‍ර අවසානයෙහි 'ඉත්ථං සුදං භගවා ආයසමන්තං රාහුලං අභිණ්හං ඔවදති ඉති. මෙසේ භාග්‍යවතුන් වහන්සේ ආයුෂ්මත් රාහුල හට මේ ගාථාවලින් නිතර අවවාද කරන සේක යනුවෙන් දැක්වේ.

එහි ප්‍රථම ගාථාවෙහි මේ කෙටි අර්ථයයි. රාහුල ඔබ කිසිවක් නිතර එකට විසීම හේතුවෙන්, ජාති ආදි අන්‍යතර වස්තුවකින් පණ්ඩිත වූ සාරිපුත්‍රයනට පරිභව නොකරව, ධාරණ හේතුවෙන් ඥාණය පහනක් වූ ද ධර්මදේශනා ප්‍රදීපයක් වූ ද, උක්කාධරො මනුස්සානං කච්චි අපචිතො, (මිනිසුනට නැණ පහන දල්වන්නේ කිම තොප විසින් පුදන ලදුයේ ද)

නිත්‍යයෙන් පුදන ලදුයේ තව තයා යනුයි. ආයුෂ්මත් සාරිපුත්‍රයන් සඳහා වැටෙයි. මෙසේ කී කල්හි, ආයුෂ්මත් රාහුල තෙම, භාග්‍යවතුන් වහන්ස, මම නීච පුරුෂයෙකු මෙන් එකට විසීමේ හේතුවෙන් මානයක් හෝ මදයක් හෝ නොකරමි යයි දක්වන්නේ මේ ගාථාව කීහ. නාහං අභිණ්හ සංවාසා යනාදී, ඕ ප්‍රකට අර්ථයම වන්නීය. අනතුරුව භාග්‍යවතුන් වහන්සේ මත්තෙහි අවවාද කරනසේක්, පඤ්චකාම ගුණෙ ආදී වූ අවශේෂ ගාථාවන් වදාළහ.

එහි යම් හෙයකින් පඤ්චකාම ගුණයෝ සත්ත්වයන්ගේ ප්‍රියරූපයෝය. ප්‍රිය ජාතිකය. අතිශයින්ම සත්ත්වයන් විසින් කැමතිවන ලද්දාහුය. ප්‍රාර්ථනා කරන ලද්දාහුය. ඔවුන්ගේ සිත් එහි රමණය කෙරෙති. ආයුෂ්මත් රාහුලතෙම ඒවා අතහැර සැදැහැ සිතින් ගිහිගෙයින් නික්මුණේය. රජුන් විසින් නොපමුණුවන ලද්දේය. සොරුන් විසින් නොපමුණුවන ලද්දේය. නය හේතුවෙන් නොපැමිණියේය. ජීවත්වීමේ හේතුවෙන් නොපැමිණියේය. එබැවින් ඔහුට භාග්‍යවතුන් වහන්සේ 'පඤ්චකාම ගුණෙ හිත්වා පියරූපෙ මනොරමෙ සද්ධා ඝන නික්ඛමමං (ප්‍රිය ස්වරූප වූ මනරම් පස්කම් ගුණ හැරපියා සැදැහැයෙන් ගිහිගෙයින් නික්ම) තියුණුකොට මේ නෙක්ඛම්මයට ප්‍රතිරූප වූ ප්‍රතිපත්තියෙහි නියෝජනය කරමින් වදාළහ. දුක්ඛස්සන්තක කරො භව (දුක් කෙළවර කරන්නෙක් ම වී) මෙහිදී දායාදය පතන්නා වූ රාහුලයන් බලහත්කාරයෙන් පැවිදි කරවූයේ නොවේද? එබැවින් භාග්‍යවතුන් වහන්සේ කුමක් හෙයින් භාග්‍යවතුන් වහන්සේ සද්ධාය ඝරා නික්ඛමම කියා වදාළේද? ගෙයින් නික්මීම නිශ්චය කළ බැවිනැයි (පෙරුම් පුරා ඇති බැවිනැයි) කියනු ලැබේ. මේ ආයුෂ්මත් තෙම නෙක්ඛම්ම අධිමුත්ත කෙනෙකි.

පදුමුත්තර බුදුරදුන්ගේ පුත් වූ 'උපරේවත' සාමණේරයන් දැක සංඛපාල නාගරාජයෙක්ව සත් දවසක් දන් දී එවැනි කෙනෙකු වීමට ප්‍රාර්ථනා කොට අභිනීහාර සම්පන්නව, කල්ප ලක්‍ෂයක් පෙරුම් පුරා අන්තිම භවයෙහි උපන්නේ, මෙසේ නෙක්ඛම්මාභිමුත්ත බව භාග්‍යවතුන් වහන්සේ දන්නා සේක. තථාගත බලයෙහි අඤ්ඤතර වූවකි. මෙම ඤාණය. එහෙයින් වදාළහ. සද්ධාය ඝරා නික්ඛමම යනාදිය නැතහොත් සසර බොහෝ කලක් සැදැහැයෙන් ගිහිගෙයින් නික්ම දැන් දුක්ඛස්සන්තකරො භව, (දුක් කෙළවර කරන්නෙක් වවු) යනු මෙහි අදහසයි.

දැන් ඔහුට ආදියෙහි පටන් සසර දුක නැතිකිරීම පිණිස ප්‍රතිපත්ති දක්වන්ට, **මිත්තෙ කළ්‍යාණෙ** යනාදිය වදාළහ. එහි සීලාදියෙන් අධික වූවෝ කළ්‍යාණ මිත්‍රයෝ නම් වෙත්. ඔවුන් ඇසුරු කරන්නේ හිමවතෙහි වැඩෙන මහාසාල වෘක්ෂයක් මුල්වලින් වැඩෙන්නාක් මෙන් සීලාදියෙන් වැඩෙත්. එහෙයින් කීහ. **මිත්තෙ භජස්සු කළ්‍යාණෙ පන්තඤ්ච සයනාසනං විවිත්තං අප්ප නිග්ඝොසං,** යම් සෙනසුනක් පන්තං දුරද විවිත්තං ආකීර්ණ නොවේද, අප්පනිග්ඝොසං යම් තැනෙක්හි, මිග සූකර ආදීන්ගේ ශබ්දයෙන් අරඤ්ඤ යන සඤ්ඤාව උපදී. එබඳු සයනාසන ද භජනය කරව. **මත්තඤ්ඤූ හොහි භොජනෙ,** පිළිගැනීමෙහි ද පමණ දැනගන්න. වැළඳීමෙහි ද පමණ දැනගන්න යන අර්ථයි.

එහි පටිග්ගහන මත්තඤ්ඤුතාව නම්, දෙය්‍ය ධර්මය අල්ප කල්හි, දායකයා ද ස්වල්පයක් දෙනු කැමැති කල්හි, ස්වල්පයක්ම ගතයුතුය. දියයුතු දේ බොහෝ ඇතිකල්හි දායකයා ස්වල්පයක් දෙනු කැමති කල්හි ස්වල්පයක්ම ගතයුතුය. දිය යුතු දේ බහුලව ඇතිකල්හි, දායකයා ද බොහෝකොට දෙනු කැමති කල්හි තමාගේ බලය දැන ගත යුතුය. නමුත් භාග්‍යවතුන් වහන්සේ මාත්‍රයම වර්ණනා කරන ලදී. පරිභෝග මාත්‍රඥතාව වූ කලී පුත්තමංස උපමාව මෙන් ද, ඇසේ ගල්වන දෙයක් මෙන් ද නුවණින් මෙනෙහිකොට භෝජනය වැළඳිය යුතුයයි දතයුතු.

මෙසේ මෙම ගාථාවෙන් බ්‍රහ්ම චර්යාවට උපකාර භූත වූ කළ්‍යාණ මිත්‍ර සේවනය පිණිස නියෝජනය කරවා සෙනසුන් පරිභෝග මුඛයෙන් ද පච්චය පරිභෝග චතුපාරිසුද්ධි සීලයෙහි සමාදන් කරවා, දැන් යම් ආකාරයකින් චීවරාදියෙහි තණ්හා නම් වූ මිථ්‍යාජීවය වෙයි. එබැවින් එය වලක්වා ආජීව පාරිසුද්ධි සීලයෙහි සමාදන් කරවන්නේ, චීවරෙ, පිණ්ඩපාතෙච මේ ගාථාවන් වදාළහ. එහි පච්චයෙ, ගිලාන ප්‍රත්‍යයෙහි **එතෙසු** චීවරාදි මෙම භික්ෂූන්ගේ තණ්හාව උපදවන වස්තු හතරෙහි **තණ්හං මාකාසි,** හිරිකොපීන පටිච්ඡාදනා දී අර්ථයන් සඳහාම වෙයි. මේ සතර ප්‍රත්‍යයෝ නිත්‍යයෙන්ම ආතුර වූ පුරුෂයන්ට ප්‍රතිකාරයක් වැනි වූ දිරාගිය ගෙයක් වැනි වූ ඉතා දුර්වල කයට උපකාර භූත වූ, මේ ආදි ක්‍රමයෙන් ආදිනව බලන්නේ තණ්හාව නො උපදවයි. ජනිත නොකරවන්නේ උප්පාද නය නොකරන්නේ, වාසය කරවයි කියන ලද්දේ වෙයි. කුමක් හෙයින්ද?

මා ලොකං පුනරාගමි, මෙවා පිළිබඳ තෘෂ්ණාව කරන්නෙර්, තණ්හාවෙන් ඇදගනු ලබන්නේ නැවත මේ ලෝකයට එන්නේය. ඒ ඔබ මේවායේ තණ්හාව නොකරව, එසේ ඇතිකල්හි නැවත මේ ලෝකයට නොම එන්නේය. මෙසේ කී කල්හි ආයුෂ්මත් රාහුල චීවර පිළිබඳ තණ්හාව දුරුකරන්ට යයි භාග්‍යවතුන් වහන්සේ මට වදාළහයි චීවර පිළිබඳ වූ ධූතාංග දෙක සමාදන් විය. පාංසුකූලිකංගය, තෙචීවරිකංගය යන දෙකයි. පිණ්ඩපාතයෙහි තණ්හාව දුරුකරවයි භාග්‍යවතුන් වහන්සේ මට වදාළහයි, පිණ්ඩපාතය පිළිබඳ වූ පංච ධූතාංගයන් සමාදන් විය. පිණ්ඩපාතිකංගය, සපදානිකංගය, එකාසනිකංගය, පත්තපිණ්ඩිකංගය ඛලුපච්ඡාභත්තිකංගය යන පසයි. සෙනසුන්හි තණ්හාව දුරුකරවයි භාග්‍යවතුන් වහන්සේ මට වදාළහයි, සෙනසුන් පිළිබඳ වූ ධූතාංග හය සමාදන් විය. අරඤ්ඤ - යථාසනතථ - අබ්භොකාස - රුක්ඛමූල - සොසාන - නෙසජ්ජිකංග යන සය, ගිලන්පසෙහි තණ්හාව දුරුකරවයි භාග්‍යවතුන් වහන්සේ මට වදාළහයි, සියලු ප්‍රත්‍යයන් පිළිබඳ, යථාලාභ - යථාබල - යථාසාරුප්ප යන තුන් සන්තෝෂයන්ගෙන් සන්තුට්ඨ විය. යම් සේ ඒ සුවච කුලපුත්‍ර තෙම අනුසාසනා මනාකොට පිළිගන්නා ලද්දේ විය.

මෙසේ භාග්‍යවතුන් වහන්සේ ආජීව පාරිසුද්ධ සීලයෙහි සමාදන් කරවා දැන් අවශේෂ සීලයන්හි ද සමථ විපස්සනාවන්හි ද සමාදන් කරවීමට සංවුතො පාතිමොක්ඛස්මිං භවස්සු යන සෙසු පාඨයකි. භව අනාත්ම පදය සමග සම්බන්ධ කළ යුතුය. එසේම දෙවන පාදයෙහි, මෙසේ මේ වචන දෙකෙන් ප්‍රාතිමෝක්ෂ සංවර සීලයෙහි ද ඉන්ද්‍රිය සංවර සීලයෙහි ද, සමාදන් කරවයි ප්‍රකට වශයෙන් මෙහි දී පංච ඉන්ද්‍රියන් කියන ලද්දාහු වෙත්. ලක්ෂණ වශයෙන් හයවැන්න ද කියන ලද්දේම මෙයයි දතයුතුය. සති කායගතා ත්‍යත්‍ථු (තොප සිත්හි කායගතා සතිය වේවා) මෙසේ චතුපාරිසුද්ධි සීලයෙහි පිහිටි තොප තුල චතුධාතු වවත්‍ථාන, චතු සම්පජඤ්ඤ ආනාපානසති, ආහාරෙ පටික්කූල සඤ්ඤා ආදි භේද ඇති කායගතා සතිය අත්‍ථු වේවා. වඩව යන අර්ථයි. නිබ්බිදා බහුලො භව. සසරෙහි කලකිරීම් බහුල වූයේ සියලු ලොවෙහි අනභිරත සඤ්ඤී වේවයි යන අර්ථයි.

මෙපමණකින් නිබ්බෙධභාගීය උපචාර භූමිය දක්වා දැන අප්පණා භූමිය දක්වන්නේ නිමිත්තං පරිවජ්ජෙහි, ආදිය වදාළහ. එහි නිමිත්තං රාගයට හේතු වූ ශුභ නිමිත්තයි. එම නිමිත්තෙන්ම අන්‍යයන්

වෙසෙසන්නේ මෙසේ වදාළහ. සුභං රාගූපසංහිතං යනුවෙන් පරිවජ්ජෙහි, (එම නිමිත්ත) මෙනෙහි නොකරව. අත්හරින්න, අසුභාය චිත්තං භාවෙහි, (සිතින් අසුභ භාවනාව වඩව) යම්සේ සවිඤ්ඤාණක වූ හෝ අවිඤ්ඤාණක වූ හෝ කයෙහි අසුභ භාවනාව සමෘද්ධ වෙයි. මෙසේ සිත වඩව. එකග්ගං සුසමාහිතං (අසුභ භාවනාවෙහි එකඟ වූ මොනවට පිහිටි සිත වඩව) උපචාර සමාධියෙන් එකඟ වූ අප්පණා සමාධියෙන් සුසමාහිත වූ යම්හෙයකින් ඔබට මෙබඳු සිතක් වේද, එසේ එය වඩව යන අර්ථයි. මෙසේ ඔහුට අප්පණා භූමිය දක්වා විදර්ශනාව දක්වන්ට, අනිමිත්තං යනාදිය වදාළහ. එහි අනිමිත්තඤ්ච භාවෙහි (නිත්‍ය නිමිති නැති බැවින් අනිමිත්ත වූ විදර්ශනා භාවනාව වඩව) මෙසේ නිබ්බෙදභාගී සමාහිත සිතින් විදර්ශනා වඩවයි කියන ලද්දේ වෙයි. විදර්ශනාව වූ කලී අනිච්චානු පස්සනා ඤාණයයි. නිත්‍ය නිමිත්තෙන් වෙන්වූයේනුයි අනිමිත්ත විමොක්ෂ යයි ආදි නයින් රාග නිමිති ආදිය නොගැනීමෙන් අනිමිත්ත වෝහාරය ලබයි. මානානුසය මුජ්ජහා, (මානානුසය දුරලව) මෙම අනිමිත්ත භාවනාවෙන් අනිත්‍ය සඤ්ඤාව ලැබ, අනිත්‍ය සඤ්ඤාවෝ අනත්ත සඤ්ඤාවට පිහිට වෙයි. අනත්ත සඤ්ඤා ඇත්තේ අසම්මානය සහමුලින් විනාසයට පමුණුවයි. මේ ආදි ක්‍රමයෙන් මානානුසය, උජ්ජහ, දුරුකරව, අත්හරිවු යන අර්ථයි. තතො මානාභිසමයා උපසන්තො චරිස්ස සි. (ඉක්බිති මානයාගේ ව්‍යපශමනයෙන් උපශාන්ත වූයේ හැසිරෙව.) අනතුරුව මෙසේ ආර්ය මාර්ගයෙන් මානයාගේ අභිසමයා ප්‍රහාණයෙන් දුරු කිරීමෙන් උපසන්තො නිවුනේ, සිසිල් වූයේ සියලු කෙලෙස් දරථ, පරිළාහ, රහිත වූයේ, යම්තාක් අනුපාදිසෙස නිර්වාණ ධාතුවෙන් පිරිනිවේ ද, ඒතාක් සුඤ්ඤත, අනිමිත්ත, අප්පනිහිත යන විමොක්ෂ මුඛයන් අතුරෙන් එක්තරා ඵලසමාපත්ති විහරණයෙන් චරිස්සසි වාසය කරවයි, රහත් ඵල කුළුගන්වා දේශනාව නිමකළ සේක.

ඉත්ථං සුදං භගවා යනු සංගීති කාරක වචනයි. ඉත්ථ සු ඉදං මේ මේ අයුරින් යයි කියන ලද්දේ වෙයි. මෙසේ අවවාද කරන ලබන්නා වූ ආයුෂ්මත් රාහුල තෙමේ විමුත්ති පරිපාක ධර්මයන් මුහුකුරා ගිය කල්හි චූල රාහුලොවාද සූත්‍ර අවසානයෙහි අනෙක දහස් ගණන් දෙවියන් සමග රහත්බැවිහි පිහිටියේය.

**රාහුල සූත්‍ර වර්ණනාව නිමි.**

# 73.

වරං වා යදි වා කිටයනකි යනු නන්දා සූත්‍රයයි. (විජය) කාය විච්ඡන්දනික සූත්‍රයයි ද කියනු ලැබේ. උත්පත්ති කවරී ද යත්, මෙම සූත්‍රය ස්ථාන දෙකකදී වදාරණ ලදී. එබැවින් මෙහි උත්පත්ති කථාව දෙවැදෑරුම් වන්නීය. එහි භාග්‍යවතුන් වහන්සේ කපිල වස්තුවට වැඩ ශාක්‍යයන් හික්මවා, නන්ද ආදීන් පැවිදි කරවා මාගමුන්ට පැවිද්ද අනුමත කල කල්හි, අනඳ තෙරුන්ගේ භගිනිය වූ නන්දා ද, ඛෙමක නම් ශාක්‍ය රජුගේ දුහිතෘව වූ අභිරූප නන්දා ද, ජනපද කළ්‍යාණී වූ නන්දා දැයි (නන්දා නම් ඇති) තිදෙනෙක් පැවිදි වූවාහුය.

එසමයෙහි භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර වැඩවසති. අභිරූප නන්දා රූපත් වූවාහුය. දැකුම්කළුය. පැහැපත්ය. ජනපද කළ්‍යාණී නන්දා රූපයෙන් තමා සමාන කෙනෙකු නොම දකියි. ඒ දෙදෙනාම රූප මදයෙන් මත් වූවාහු, භාග්‍යවතුන් වහන්සේ රූපයෙහි අගුණ කියන්නේ යයි ගරහන්නේ යයි, නොයෙක් අයුරින් රූපයෙහි ආදීනව දක්වන්නේ යයි, භාග්‍යවතුන් වහන්සේට උපස්ථාන සඳහා නොඑළඹෙති. දකින්ටද නොකැමති වෙත්. මෙසේ අප්‍රසන්න වූවත් කුමක් හෙයින් පැවිදි කළේ ද යත් ඇයව වැලැක්වූ දිනයෙහිම ඇයගේ ස්වාමියා වූ සච්ච කුමාරතෙම මළේය. අනතුරුව මව්පියන් අකමැත්තෙන් සිටියදී පැවිදි වූවාහුය.

ජනපද කළ්‍යාණී නන්දා තොමෝ ද ආයුෂ්මත් නන්ද රහත් වූ කල්හි, ආසාව දුරුකොට 'මගේ ස්වාමියා ද, මව වූ මහා පජාපතී ගෝතමිය ද අනිත් නෑයෝ ද, පැවිදි වූවාහු යයි ඤාතීන්ගෙන් තොරව ගිහිගෙයි ආස්වාදයක් නොලබන්නී පැවිදි වූවාහුය. සද්ධාවෙන් නොවේ. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ ඔවුන්ගේ නුවණ මුහුකුරා ගියකල්හි, මහාපජාපතී ගෝතමියට අණ කළාය. සියලුම භික්ෂුණීහු අවවාද සඳහා තමා වෙත පිළිවෙළින් පැමිණිය යුතුයයි කියා, ඇය තම වාරයෙහි අනිත් තැනැත්තියක් යවවයි අනතුරුව භාග්‍යවතුන් වහන්සේ පැමිණි වාරයෙහි තමාම පැමිණිය යුතු බවත් අනික් තැනැත්තියක් නො එවිය යුතු බව් වදාළහ. ඉක්බිති එක් දිනක් අභිරූප නන්දා ඒ සඳහා ගියාය. භාග්‍යවතුන් වහන්සේ ඇයට නිම්මිත රූපයෙහි සංවේග උපදවා 'අට්ඨීනං නගරං කතං' යනාදී ධම්මපද ගාථාවෙන් ධර්මදේශනා කළ සේක. අනතුරුව මේ ගාථාවන් වදාළහ.

ආතුරං අසුචිං පූතිං පසස නන්දෙ සමුස්සයං
උග්ඝරන්තං පග්ඝරන්තං බාලානං අභිපත්ථිතං

අනිමිත්තඤ්ච භාවෙහි, මානානුසය මුජ්ජහ
තතො මානාභිසමයා, උපසන්තා චරිස්සති

"නන්දාවෙනි, ජරා ආදියෙන් අබලන් වූ දෙතිස් කුණප වශයෙන් අපවිත්‍ර වූ නවදොරින් කුණු වැහෙන මේ සිරුර නුවණින් බලව. එසේ දැක, එකග වූ සමාධිගත වූ සිත අශුභ භාවනාව පිණිස යොදව."

"අනිමිත්ත වශයෙන් භාවනා කරව. අනුසය සහිත මානය දුරුකරව. එසේ මාන ප්‍රහාණයෙන් කෙලෙසුන්ගෙන් සංසිඳී හැසිරෙව."

මෙම ථෙරි ගාථා දේසනා කිරීමෙන් පිළිවෙළින් රහත් බැව්හි පිහිටියේය.

ඉක්බිති එක්දිනක් සැවැත්නුවර වැසියෝ පෙරවරු කාලයෙහි දන් දී සමාදන් වූ පෙහෙවස් ඇත්තේ මනාව හැඳ පොරවා, සුවඳ මල් ආදිය ගෙන බණ ඇසීම සඳහා දෙව්රම් වෙහෙරට ගොස් බණ ඇසීමේ කෙළවර භාග්‍යවතුන් වහන්සේ වැඩ නගරයට පිවිසෙත්. භික්ෂුණී සංඝයා ධර්ම ශ්‍රවණය කොට භික්ෂුණී ආශ්‍රමයට යයි. ඒ මිනිස්සු ද භික්ෂුණීහු ද සියලු තන්හි, නන් අයුරින් බුදුරදුන් වර්ණනා කරති. එය අසා ජනපද කළ්‍යාණී නන්දා භාග්‍යවතුන් වහන්සේ දකිනු කැමැත්තී භික්ෂුණීන්ට දැන්වීය. භික්ෂුණීහු ඇය ගෙන භාග්‍යවතුන් වහන්සේ වෙත එළඹියාහුය. භාග්‍යවතුන් වහන්සේ කල් ඇතිවම ඇයගේ ගමන දැන, කටුවෙන් කටුව ඇණයෙන් ඇණය ඉවත් කරනු කැමති මිනිසෙකු මෙන් රූපයෙන්ම රූප මදය දුරුකරන්ට, තමන්ගේ ඉද්ධි බලයෙන් පසලොස් සොලොස් වයසැති දර්ශනීය වූ ස්ත්‍රී රූපයක් පසෙකින් සිට පවන් සලන ආකාරයෙන් මැවිය.

නන්දාවෝ භික්ෂුණීන් සමග පැමිණ භාග්‍යවතුන් වහන්සේ වැඳ, භික්ෂුණී සංඝයා අතර සිට, පාද තලයෙහි පටන් කේසාන්තය දක්වා භාග්‍යවතුන් වහන්සේගේ රූප සම්පත්තිය දැක එසේම නැවත, භාග්‍යවතුන් වහන්සේ පසෙකින් එම නිර්මිත රූපය දැක මෙම ස්ත්‍රිය බොහොම රූපවත්ය යි තමාගේ රූපමදය දුරුකොට එම රූපයෙහි ඇළුණු බවක් දැක්වීය. එකල්හි භාග්‍යවතුන් වහන්සේ එම ස්ත්‍රිය විසිවයස් පමණ කොට

දැක්වීය. ස්ත්‍රීහු සොළොස් වයස් කාලයෙහිම හොබනේය. ඉන් මත්තෙහි නැත. ඉක්බිති ඇයගේ රූප පරිහානිය දැක්වේ. එම රූපයෙහි ඡන්දරාගය තුනී විය. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ නොවැදූ මහා ස්ත්‍රියකගේ පටන් අවුරුදු සියය දක්වා වයස් ඇති, නැමූ දණ්ඩපරායණ වූ තල කැලලි ඇති ශරීරයක් කොට, ඇයගේ මරණය ද, උද්ධුමාතක ආදී භේද ද කපුටු ආදීන් පිරිවරා කනු ලබන දුගඳ හමන පිළිකුල්භාවය දැක්වීය. එය දැක නන්දාට, මෙසේ මෙම කය මට ද අන්‍යයන්ට ද සාධාරණ යයි අනිච්ච සඤ්ඤාවෙහි පිහිටියේය. තදනුසාරයෙන් දුක්ඛ සඤ්ඤාව ද පිහිටියේය. තුන් භවයම ඇවිල ගත්තාක් මෙන් ද, ගිහිගෙය පිහිටක් නැති තැනක් කොට වැටහින. නන්දාවගේ සිට කමටහනින් පැනයායි සිතා ඇයට උපකාර වශයෙන් මේ ගාථාවන් වදාළහ.

ආතුරං අසුචිං පූතිං පස්ස නන්දෙ සමුස්සයං
උග්ඝරන්තං පග්ඝරන්තං බාලානං අභිපත්ථිතං

යථා ඉදං තථා එතං යථා එතං තථා ඉදං
ධාතුතො සුඤ්ඤතො පස්ස මා ලොකං පුනරාගමා
භවෙ ඡන්දං විරාජෙත්වා උපසන්තා චරිස්ස සි

ගාථා දේසනා අවසන්හි නන්දා සෝතාපත්ති ඵලයෙහි පිහිටියේය. අනතුරුව ඇයට උපරි මාර්ගාවබෝධය සඳහා සුඤ්ඤතාව පිරිවර කොට ඇති විපස්සනා කර්මස්ථානය දේසනා කරන්නේ මෙම සූත්‍රය දේසනා කළ සේක. මේ එම සූත්‍රයෙහි එක් උත්පත්ති කථාවකි.

භාග්‍යවතුන් වහන්සේ රජගහ නුවර වැඩවසන කල්හි යම් ඒ සාලවතී ගණිකාවගේ දුවනිය වූ ජීවකගේ කණිටු සිරිමාවෝ මවගේ ඇවෑමෙන් එම තනතුර ලැබ, අක්කොධෙන ජිනෙ කොධං අක්‍රෝධයෙන් ක්‍රෝධය දිනන්නේය යන මේ ගාථාවෙහි වස්තුවෙහි පුණ්ණ සිටු දියණියට අවමන් කොට, භාග්‍යවතුන් වහන්සේ ක්ෂමා කරවන්නේ ධර්මදේශනාව අසා සෝවාන් වී නිත්‍ය බත් අටක් පැවැත්විය. එය අරබයා එක්තරා භික්ෂුවක් තුන් යොදුනක් පමණ දුර විහාරයකින් පැමිණ ඇයගේ ගෙදර සංඝභෝජ්‍යව බත් අටක් ලැබ ඊයේ උපන් රෝගයකින් ගිලන්ව ඇයගේ රූප සම්පත්තිය දැක රාගය උපදවා අනුභව කරන්ට විහාරයට ගොස් හොත්තේය. එදවසම සිරිමා කලුරියකොට යාම දෙවියන් අතර යමගේ

දේවිය වූවාය. ඉක්බිති ඇයව භාග්‍යවතුන් වහන්සේගේ වචනයෙන් නොදවා නොපුළුස්සා අමුසොහොනෙහි දමන ලදී. සිරුර හතරවන දවසෙහි ඉදිමුණේ නව වන මුඛයකින් නික්මෙන පණුවන් දකිනු පිණිස භාග්‍යවතුන් වහන්සේ සිවුපිරිස පිරිවරාගෙන නික්මුනේය. ඒ භික්ෂුව ද, හතරවන දිනයෙහි කිසිවෙකුගේ වචනය පිළිනොගෙන නිරාහාර වූයේ ද ශාස්තෘන් වහන්සේ සිරිමාව දකිත් යයි ඔබද යන්නෙහි දැයි ඇසූ කල්හි වහා නැගිට ගියේය. රජතුමා දහයේ පටන් වෙන්දේසි කරන්නේ නිකන්වත් කිසිවෙක් නොගන්නා දැක, මහණෙනි, බලව්, මහජනතාවට පියමනාප මාගමක් දහසක් ගෙවා එක දවසකට ලැබූහ. දැන් නිකන්වත් ගන්නා කෙනෙක් නැතැයි, බය-වය දෙකට පැමිණි මෙවන් රූපය බලව් මහණෙනි, ආත්මභාවය ආතුර යයි පවසා එම භික්ෂුවට අවවාද පිණිස

පස්ස චිත්තකතං බිම්බං අරුකායං සමුස්සිතං
ආතුරං බහු සංකප්පං යස්ස නත්ථි ධුවං ඨිති

"යම් ශරීරයක්හුගේ, ස්ථිර පැවැත්මක් නැද්ද, ව්‍රණ සමූහයක් වූ තුන්සියයක් ඇටවලින් නගා සිටුවන ලද, ගිලන් වූ බොහෝ දෙනා විසින් මනා යයි සලකන ලද වස්ත්‍රාභරණ ආදියෙන් විසිතුරු කරන ලද්දා වූ සිරුර බලව."

එහි පැමිණි පිරිසට ධර්මදේශනා සඳහා මෙම ධම්මපද ගාථාව ද මෙම සූත්‍රයද දේශනා කළ සේක. සිරිමා දේව කන්‍යාවද පන්සියයක් රථ පිරිවරාගෙන එහි පැමිණියාය. මේ එහි දෙවන උත්පත්ති කථාවයි.

එහි චරං වා සියලු රූපකායයාගේ යායුතු දිසාභිමුඛව බලාපොරොත්තුවෙන් යන්නේ හෝ, යදිවා තිට්ඨං එහිම එසවීම් නොමැති බැවින් සිටින්නේ හෝ, නිසින්නො උදවා සයං (හුන්නේ හෝ හෝනේ හෝ) එහිම යට කොටස හැකිලීම උඩ කොටස එසවීමෙන් හුන්නේ හෝ හරහට පසාරණය කිරීමෙන් නිදන්නේ හෝ සම්මිඤ්ජති, පසාරෙති, (අත් පා හකුලනු හෝ විදහනු වේ.) ඒ ඒ පබ්බයන් (කොටස්) එසා සියල්ල මේ සවිඤ්ඤාණක වූ කායස්ස ඉඤ්ජනා (ශරීරයාගේ) චලනයයි එනැනයයි. මෙහි කිසිවෙක් ඇවිදින්නේ හෝ -පෙ- පසාරණය කරන්නේ හෝ නොවේ.

යම් යයි සිතක් උපන් කල්හි එය ඇතිකරවන වායෝ ධාතුව

සිරුරෙහි පැතිරෙයි. යායුතු දිසාව අභිමුඛව ඉදිරියට ගැනීම වෙයි. දේසාන්තරයෙහි රූපන්තරභාවය වෙයි. එයින් චරන්ති යයි කියනු ලැබේ. එසේම සිටිමි යයි සිතක් ඇතිවූ කල්හි එය ඇතිකරවන වායෝ ධාතුව සිරුරෙහි පැතිරෙයි. එයින් ඔහු මවනු ලබන්නේ වෙයි. මත්තෙහි කුහක රූපයන්ගේ පහලවීම වෙයි. එහෙයින් තිට්ඨන්තියයි කියනු ලැබේ. මෙසේ නිසී දන සයන ආදියෙහිද ක්‍රමය දතයුතුය. මෙසේ යම්කිසි සත්ත්වයෙක් හෝ පුද්ගලයෙක් හෝ ජීවියෙක් හෝ හැසිරෙන්නේ හෝ සිටින්නේ හෝ තමන් හෝ හකුලන්නේ හෝ පසාරණය කරන්නේ හෝ නොවේ. (එවන් සත්ත්වයෙක් නැත.) හුදෙක් ජවන චිත්තයන්ගේ නානත්වයට පැමිණ වායෝ ධාතු නානත්වය වේ. වායෝධාතු නානත්වය හේතුවෙන් ශරීරයාගේ සෙලවීම් නානාප්‍රකාර වේ. මේ මෙහි පරමාර්ථයයි. මෙසේ මෙම ගාථාවෙන් භාග්‍යවතුන් වහන්සේ යම්හෙයකින් එකම ඉරියව්වෙන් බොහෝ වේලාවක් සිටීමෙන් කයේ පෙලීමක් ඇතිවෙයි. එය දුරුකිරීම පිණිස ඉරියව් පරිවර්තනය කරයි. එබැවින් චරංවා යනාදියෙන් සැඟවුන දුක්ඛ ලක්‍ෂණය පෙන්නුම් කරයි. එසේම ඇවිදින කල්හි ඨානාදීන්ගේ අභාව හේතුවෙන් මේ සියල්ල චරණ භේදයි. එසා කායසස ඉඤ්ජනා යනුවෙන් කියන්නේ, සනතතියෙන් වැසුන අනිත්‍ය ලක්‍ෂණය පෙන්නුම් කරයි. කාය ප්‍රත්‍යය සාමාග්‍රියෙන් පැවැති මෝ තොමෝ කායයාගේ කම්පාවීම් යනුවෙන් සත්ත්ව සඤ්ඤාව ප්‍රතික්ෂේප කිරීමෙන් කියන්නේ අතත සූන්‍ය වූ සතයෙන් වැසුන අනතත ලක්‍ෂණය දක්වයි.

මෙසේ ලක්‍ෂණත්‍රය දැක්වීමෙන් සූන්‍යතා කර්ම ස්ථානය ප්‍රකාශ කොට නැවත අවිඤ්ඤාණක සවිඤ්ඤාණක අශුභ දැක්වීමට අට්ඨි නහාරු සංයුතෙතා යනුවෙන් ආරම්භ කළ සේක. එහි අර්ථය මේ කායයාගේ සෙලවීම් සිදුවන්නේ තුන්සිය හැටක් ඇටවලින් ද නවසියයක් නහරවලින් ද සංයුත්ත බැවිනි. එබැවින් අට්ඨිනහාරු සංයුත්ත නම් වේ. අගපාද අංගුලි හමින් ද සියයක් ප්‍රභේද ඇති මාංස පේසීන්ගෙන් ද කම්පා නොවන බැවිනි. තච මංසාව ලෙපනො ඒ ජවිය, මධ්‍ය ප්‍රමාණ පුරුෂයෙකුගේ සියලු ශරීරයෙන් උපුටාගන්නා ලද්දේ ඩෙබර ඇටයක් පමණ වේ. මැසි පිහාටුවක් බඳු සියුම් සිවිය, නීලාදි රංග ජාතියක් ගලවන ලද ගෙබිත්තියක් මෙන් වේ. පැනස නොමැති බාල පුහුදුන්ට එය තක් වූ පරිදි නොපෙනේ. හමේ පැහැයෙන් යුතු පරම ජෙගුච්ඡ පටික්කූල චමම නාම්ව තචය, හමින් වෙලන ලද යන්ත්‍රයකි. ප්‍රභේද වශයෙන්

නවපෙසි සතා මංසා, අවලිත්තා කලෙබරං
නානා කිමිකුලාකිණ්ණං මීළ්හංඨානංච පූතිකං

"මංසපේසි නවසියයක් ගල්වන ලද සිරුර නොයෙක් පණු කුලයන්ගෙන් ආකීර්ණ වූ දුගඳ හමන අශුචි වලකි."

මෙසේ කියන ලද නවසියයක් මස්පිඩු මාංසයන්ගෙන් ආකල්ප කරන ලද යම් කලේබරයක් වේද, එය,

නව නහාරූ සතාහොනති, බ්‍යාමමත්තෙ කලෙබරෙ
බන්ධනති අට්ඨිසංඝාටං අගාරම්ව වලලියා

"බඹයක් පමණ වූ මෙම සිරුරේ නවසියයක් නහරයෝ වෙත්. වරිච්චි බිත්තියක් වැල්වලින් බඳින්නාක් මෙන් ඇටගොඩ එකට බැඳ ඇත."

එහි නහරවලින් වැළඳ ගත්තා වූ, පිළිවෙළින් සිටියා වූ කුණු වූ දුගඳ හමන (මස්පිඩු නිසා) තුන්සියයක් ඇට තත්වූ පරිදි නොපෙනෙත්. මෙසේ ජව් රාගයෙන් ඇලුණහුට හමින් වෙලාගත් වට කරගත් බැවින් සියලු ලෝකයාට අප්‍රකට වූ පරම දුර්ගන්ධ වූ පිළිකුල් කටයුතු වූ අභ්‍යන්තර කුණපයන්, ඒවා පැන ඇසින් අවබෝධ කර ප්‍රකාශ කළ යුතුයයි දක්වන්නේ අනතපූරො යන ගාථා දෙක වදාළහ.

එහි අනතසස පූරො අනතපූරො, බඩවැලින් පිරුනේ අනතපූර නම් වේ. උදරස්ස පූරෙ, උදරපූරො, උදරයෙහි පිරුනේ උදරපූර නම් වේ. නොපැසුණු අහරයි. උදරං යනු උදරියං යන්නට අධිවචනයකි. එය ස්ථාන නාමයෙන් උදර යයි කියන ලදී. යකපෙලසස යකන පිණ්ඩයේ (අක්මාව හා එකට බැඳි මස් පටල දෙකේ) වත්ථිනො මුත්‍රවල ඨාන උපචාර වශයෙන් එය වත්ථී යයි කියන ලදී. පූරො, යනුවෙන් වූ පූරො යන පදය අධිකාර බලයක් ඇති බැවින් අනිත් සඳහා සම්බන්ධ කළයුතුය. යකපෙලසස පූරො යනු විසිනි. මේ ආදී ක්‍රමයෙන් යෙදිය යුතුය. අනතාදී වූ මේ සියල්ල, වණ්ණ-සණ්ඨාන දිසා ඔකාස පරිච්ඡෙද භේදයෙන් අබ්‍යාපාර න්‍යායෙන් කායානුපස්සනා සතිපට්ඨාන, චතුධාතු වවත්ථාන ආදියෙහි කියන ලද ආකාරයෙන් දතයුතුය.

මෙසේ භාග්‍යවතුන් වහන්සේ මෙහි ගතයුතුව මුතු හෝ මැණික් හෝ කිසිවක් නැත. ඒකාන්තයෙන් අසූචියෙන් පිරී ඇත. යමෙක් මේ කයයයි අභ්‍යන්තර කුණපය දක්වා දැන් එම අභ්‍යන්තර කුණපයම පිටත නික්මෙන කුණපයෙන් ප්‍රකට කොට දක්වන්නේ, කලින් කියන ලද ඒවාද නොකියන ලද ඒවාද, සංග්‍රහකොට, අථසස නවහි සොතෙහි, ගාථා දෙක වදාළ සේක.

අථසස නවහි සොතෙහි - අසූචි සවති සබබදා
අකඛිමහි අකඛි ගුථකො - කණණමහ කණහ ගුථකො

එහි අථ යනු පරියාය අන්තර නිදර්ශනයයි. අතිකුද්‍ර පරියායකින් අසූචි භාවය බලවයි කියන ලද්දේ වෙයි. අසස මේ කයේ නවහි සොතෙහි නවදොරින්, ඇස් සිදුරුදෙක, කන්සිදුරු දෙක, නාස සිදුරු දෙක, මුඛ මගග, මූත්‍ර මග, වර්චස් මග යන නව මගකන්, අසූචි සමති, අසූචිම ගලයි වැගිරෙයි. අන්කිසි අගරු චන්‍දන ජාතයක් හෝ මණි මුත්තාදී රත්නයක් හෝ ප්‍රසව නොකරයි. සබබදා එය වනාහි හැමදා දිවා රාත්‍රී, පෙරවරු පස්වරු සිටිනවිට ගමන්කරන විට කිම එම අසූචිම මුදන්නේ නොවේද? අකඛිමහා අකඛිගුථකො, ආදී වශයෙන් ඇස් සිදුරු දෙකින් නික්මෙන තව මංස සමාන වූ අකඛිගුථ නම් වූ කබද, කන් සිදුරුවලින් රජො ජලල = දූවිලි හා දැලි සමාන කණණගුථ නම් වූ කලාදුරුද නාසා සිදුරුවලින් සැරව සමාන සොටු ද වැගිරෙයි. කිසිදිනක පිත කුපිත වේද, මෙසේ වන්නේ, එවිටයයි අදහස් කෙරේ. සෙමහඤච හුදෙක් පිත පමණක් නොවේ. යම් උදර පටලයෙහි එක් පතක් පමණ සෙම ඇත. එයද එක්දිනක වමනය කෙරේ. එයද වර්ණ ආදි වශයෙන් දතයුතුය. සෙමහඤච යන මෙහි ච ශබ්දයෙන් අන්‍ය වූ ද, මෙවැනි උදරිය, ලෝහිත ආදි අශුචි නික්මේයයි දක්වති. මෙසේ සත් දොරකින් අශුචි නික්මීම දක්වා කල් දන්නා වූ පුද්ගලයන් දන්නා වූ පිරිස් දන්නා වූ භාග්‍යවතුන් වහන්සේ මත්තෙහි දොරටු දෙකක් විශේෂ වචනයෙන් නොදක්වා පරියාය වශයෙන් සියලුම කය පිළිබඳව අශුචි ශ්‍රවණය දක්වන්නේ මෙසේ වදාළහ.
කායමහ, සෙද ජලලිකා යනුවෙන්,

එහි සෙදජලලිකා, යනුවෙන් දහදිය ද ලොණපටයෙහි මලභේදයක් වූ ජලලිකා (දැලි) ද කයේ සවති සබබදා යනු මේ සමග සම්බන්ධය මෙසේ භාග්‍යවතුන් වහන්සේ බත පැසෙන කල්හි සහල්වල ඇති මලද ජලයේ ඇති මලද පෙණ සමග නැඟී උදුන් මුඛය තවරමින් පිටත ගලයි.

එසේ කෑම බීම ආදී ප්‍රභේද වූ ආහාරයෙහි කර්මජ තේජසින් පැසෙන කල්හි යම් කෑම ආදියෙහි මලක් නැගී අක්ඛිම්හා අක්ඛිගූථකො, ආදි වශයෙන් ඇස් ආදියෙහි තවරමින් පිටත ගලයි. මේ ආදි වශයෙන් මේ කායයාගේ අසුචිභාවය දක්වා දැන් යම්හෙයකින් ලෝකයේ උත්තමාංගයයි සම්මත වූ හිසින්, අති විශිෂ්ඨභාව හේතුවෙන් අතිශයින් වැඳිය යුත්තන් වන්දනය කරති. එහි නිසරු බැවින්ද, අශුචි බැවින් ද, අශුචිභාව දක්වන්නේ අථසස සුසිරං සීසං යනාදි ගාථාව වදාළහ.

එහි, සුසිරං සිද්‍රර, සුභතො නං මඤ්ඤති බාලො, නානා කුණපයන්ගෙන් හරිත වූ එම කය වැරදි ලෙස සිතන බාලයා සුභ වශයෙන් හඟී. සුභයයි, සුචි යයි තණ්හා, දිට්ඨි-මාන යන ත්‍රිවිධ මඤ්ඤනාවන්ගෙන් බලයි. අවිජ්ජාය පුරක්ඛතො, සිවුසස් වසන මෝහයෙන් පුරක්ඛතො (පෙරටු කරන ලද) මෙහෙයවන ලද්දේ මෙසේ පිවිස ගන්න, හඟින්න යයි ගන්නා ලද්දේය යන අදහසයි බලන්න. අවිජ්ජාව කෙතරම් අහිතකරදැයි.

මෙසේ සවිඤ්ඤාණක වසයෙන් අසුභය දක්වා අවිඤ්ඤාණ වශයෙන් දක්වන්ට යම්සේ චක්‍රවර්ති රජතුමාගේ ද කය ඉහත සඳහන් පරිදි කුණපයෙන්ම පිරුණේ වෙයි. එබැවින් සර්වප්‍රකාරයෙන් සම්පත්ති භවයෙහි අශුභ දක්වා දැන් විපත්ති භවයෙහි දක්වන්ට

යදාච සො මතො සෙති, උද්ධුමාතො විනීලකො
අපවිද්ධො සුසානස්මිං අනපෙක්ඛා හොනති ඤාතයො

යනාදි ගාථාව වදාළ සේක. එහි අර්ථයඃ- යම් මේ මෙවන් කාය යම්කලෙක්හි, ආයුෂ, උණුසුම, විඤ්ඤාණය පහව යාමෙන් මළේ වේ. අනතුරුව වාතය පිරුණු හම් පසුම්බියක් මෙන් ඉදිමුණේ වර්ණය වෙනස් වීමෙන් විනීලක වූයේ සොහොනෙහි වැඩකට නැති පිලිස්සී ගිය දරකඩක් මෙන් අත්හැර දමන ලද බැවින් විසිකරන ලද්දේ හොවී. නැවත ඔහුගේ නැගී සිටීමක් නොවේ යයි, අනපෙක්ඛා හොනති ඤාතයො (නෑයෝ අපේක්ෂා රහිත වූවාහු වෙති.) එහි මතො යනුවෙන් අනිත්‍යතාවය දක්වයි. සෙති නොසෙල්වෙන තත්වයට පත්වූයේ, මේ දෙඅයුරින්ම ජීවිත මද බල මදයෙන් ප්‍රහාණ කිරීමෙහි නියොජෙති නියෝජනය කෙරෙයි. උද්ධුමාතො, සණ්ඨාන විපත්තිය දක්වයි. විනීලකො ඡවිරාග විපත්තිය,

මේ දෙ අයුරින් ම රූපමද ප්‍රහාණයෙහි රූප සම්පත්තියාගේ මාන ප්‍රහාණයෙහි නියෝජනය කරයි. අපවිද්ධා යනුවෙන් නොගත යුතු බව දක්වයි. සුසානසමිං ඇතුලත ඉවසීමට නොසුදුසු පිළිකුල බව ද ඒ දෙකින්ම මගේ යයි ගැනීම් සංඛ්‍යාත සුභ සඤ්ඤාව ප්‍රහානයෙහි නියෝජනය කෙරෙයි. අනපෙකඛා හොනති ඤාතයො ප්‍රතික්‍රියාවන්ගේ අභාවය දක්වයි. එයින් පරිවාර මදයෙහි ප්‍රහානය නියෝජනය කෙරෙයි.

මෙසේ අපරිභින්න විඤ්ඤාණ වශයෙන් අසුභය දක්වා දැන් පරිභින්න විඤ්ඤාණ වශයෙන් ද දක්වන්ට

බාදනති නං සුවාණ ච සිගාලාච වකා කිම
කාකා ගිජ්ඣා ච බාදනති යෙ චඤ්ඤෙ සනනිපාණි නො

යන ගාථාව වදාළහ. එහි යෙ චඤ්ඤෙ ඒ අන්‍ය වූ ද කාක කුලාල ආදි කුණප අනුභව කරන ප්‍රාණීහු වෙත්. ඔවුහු ද එය කති. මෙසේ නිත්‍ය සුඛ ආත්මභාව, සූන්‍ය වූ ඒකාන්ත අසුභයෙහි ද බාලයාගේ පැවැත්ම ප්‍රකාශකොට අවිජ්ජා ද්වාරයෙන් වට්ටය (සසර දුක) දක්වා දැන් ඒ පණ්ඩිතයන් පැවැත්ම පරිඤ්ඤා ද්වාරයෙන් විවට්ටය (සසරින් එතරවීම) දක්වන්ට

සුත්වාන බුද්ධ වචනං - භිකඛු පඤ්ඤාණවා ඉධ
සො ඛො නං පරිජානාති - යථා භූතං හි පසසති

යන ගාථාව ආරම්භ කළ සේක. එහි සුත්වාන නුවණින් යුතුව අසා බුද්ධ වචනං කයෙහි ඡන්දරාගය දුරුකරන බුද්ධ වචනය. භිකඛු සේඛ වූ හෝ පුහුදුන් වූ හෝ පඤ්ඤාණවා, විපස්සනාවට පඤ්ඤාණ යයි කියනු ලැබේ. අනිත්‍ය ප්‍රකට කරන අයුරින් පවත්නා හෙයින් එයින් යුක්ත වූයේය යන අර්ථයි. ඉධ ශාසනයෙහි සො ඛො නං පරිජානාති, හෙතෙම මෙම සිරුර ත්‍රිවිධ පරිඤ්ඤාවන්ගෙන් දැන ගනී.

කෙසේද යත්, යම්සේ දක්‍ෂ වූ වෙළෙන්දෙක්, මේ මේ යයි භාණ්ඩ බලා මේ ගණනට ගතහොත් මෙපමණ ලාභ වෙති යි තුලනය කොට එසේ කොට ලාභ සහිත මුදල ගන්නේ ඒ භාණ්ඩ අත්හරී. එසේම මේ ඇටනහර ආදි මේ කෙස් ලෝම ආදියයි හෝ වේයයි ඤාණ නැමති

ඇසින් බලන්නේ ඤාත පරිඤ්ඤාවෙන් බලන්නේ නම් වෙයි. මේ ධර්මයෝ අනිත්‍යහ. දුක්ඛයහයි තුලනය කරන්නේ තීරණ පරිඤ්ඤාවෙන් දැනගන්නේ නම් වෙයි. මෙසේ තීරණය කොට ආර්ය මාර්ගයට පැමිණෙන්නේ එහි ඡන්දරාගය ප්‍රහාණය කිරීමෙන් පහාන පරිඤ්ඤාවෙන් දැනගනී.

සවිඤ්ඤාණක අවිඤ්ඤාණක ධර්මයන් අශුභ වශයෙන් හෝ බලන්නේ ඤාත පරිඤ්ඤාවෙන් දැනගත්තේ වේ. ඒවා අනිත්‍යාදී වශයෙන් දකින්නේ තීරණ පරිඤ්ඤාවෙන් දැනගත්තේ වේ. රහත් මගින් ඡන්දරාගය ඉවත්කොට එය දුරුකරන්නේ පහාන පරිඤ්ඤාවෙන් දැනගත්තේ වේ. කුමක් හෙයින් මෙසේ දකී ද යත්? යථාභූත අත්දමින් යම්සේ දකී ද, එබැවිනි. පඤ්ඤාණවා යනුවෙන් මෙසේ මෙම අර්ථය සිද්ධ වූ කල්හි ද, යම්හෙකින් බුද්ධවචනය අසාම, 'පඤ්ඤාණවා' වෙයි. ආසාව දැනගැනීම කළ හැකිය. මෙයින් බාහිර ක්‍රමයකින් මෙසේ දැකීමට නොහැකිය. එබැවින් සුත්වාන බුද්ධවචනං යනුවෙන් වදාළහ. නන්දා භික්ඛුනිය ද, එම භික්ෂුව ද යන දෙදෙනාම සඳහා දේශනාව පවත්වන ලදී. අග්‍ර පිරිස බැවින් ද, පටිපත්තියෙන් යුක්ත බැවින් ද භික්ඛුභාව දර්ශන වශයෙන් භික්ඛු යනුවෙන් වදාළහ.

දැන් යම්සේ බලන්නේ (යථාභූතං) තත් වූ පරිදි දකී යයි කියන ලද්දේ ද? එය දක්වන්ට වදාළහ. යථා ඉදං එහි අර්ථය, මේ සවිඤ්ඤාණක අශුභය යම්සේ ද, ආයුෂ, උෂ්ණත්‍වය, විඤ්ඤාණය පහ නොවූ කල්හි හැසිරෙයි. සිටියි. හිඳියි. සයකි. තථා එතං දැන් සොහොනෙහි සයනය කරන අවිඤ්ඤාණක කයද පෙර එම ධර්මතාවන්ගෙන් පහ නොවූයේම විය. යථා ච එතං මෙකල්හි මෘත ශරීරය ඒ ධර්මයන්ගෙන් පහවූ බැවින් නොහැසිරෙයි. නොසිටියි. නොහිඳියි. නොනිදයි. තථා ඉදං සවිඤ්ඤාණක සුභය ද ඒ ධර්මයන්ගේ පහවූයේ වන්නේය. යම්සේ මේ සවිඤ්ඤාණක කය මෙකල්හි මළේ සොහොනෙහි සයනය නොකරයි. උද්ධුමාතක ආදි භාවයන්ට නොපැමිණෙයි. එසේ මේ මෘතශරීරයද පෙර එබඳු විය. යම් හෙයකින් මෙය මෙකල්හි අවිඤ්ඤාණක අශුභය මළේ සොහොනෙහි සයන කෙරේ ද, උද්ධුමාතක ආදි භාවයට පැමිණියේ ද, මෙම සවිඤ්ඤාණ කය ද එසේ වන්නේය.

යථා ඉදං තථා එතං (මේ සවිඤ්ඤාණක අශුභය යම්සේද, කෙල අවිඤ්ඤාණක අශුභය ද එබඳු වෙයි.) තමා මෘත ශරීරයට සමානකොට

බලන්නේ බාහිර වශයෙන් පැමිණෙන දොස් දුරුකරයි. යථා එතං තථා ඉදං (තෙල අවිඤ්ඤාණක අශුභය යම් බඳු ද මේ සවිඤ්ඤාණක අශුභයද එබඳු වෙයි. මෘත ශරීරය හා තමා සමාන කරන්නේ ආධ්‍යාත්මික රාගය දුරුකරයි. යම් අයුරකින් (අවිඤ්ඤාණක සවිඤ්ඤාණක දෙකම) සමාන කර බලන්නේ, එය දැනගන්නේ, අවිඤ්ඤාණක - සවිඤ්ඤාණක දෙකෙහිම මෝහය දුරුකරයි. මෙසේ යථාභූත දර්ශනයෙහි පූර්ව භාගයෙහිම අකුසල ප්‍රහාණයෙන් පිරිසිදුව යම්හෙයකින් මෙසේ පිළිපන් භික්ෂුව පිළිවෙළින් රහත්මගට පැමිණ සියලු රාගය නැතිකිරීමට සමර්ථ වෙයි. එහෙයින් වදාළහ. අජ්ඣත්තං ච බහිද්ධා ච මෙසේ පිළිපන් භික්ෂුව. අනුපුබ්බෙ යනුවෙන් සෙසු පාඨයකි. මෙසේ සෙඛ භූමිය දක්වා අසෙඛ භූමිය දක්වන්නේ මෙසේ වදාළහ.

ඡන්දරාග විරත්තො සො - භික්ඛු පඤ්ඤාණවා ඉධ,
අජ්ඣගා අමතං සන්තිං - නිබ්බාන පද මච්චුතං

ඡන්දරාග විරත්තො සො, එහි අර්ථය :- යම් භික්ෂුවක් අර්හත් මාර්ග ඥානයෙන් නැණවත් වූයේ මාර්ගයට අනතුරුව ඵලයට පැමිණෙයි. සර්වප්‍රකාරයෙන්ම ඡන්දරාගය ප්‍රහීන බැවින් ඡන්දරාග විරත්තො කියාද යම් නිර්වාණ දෙයක් මරණයාගේ අභාවයෙන් ප්‍රණීත අර්ථයෙන් 'අමත' කියාද, සියලු සංස්කාරයන්ගේ ව්‍යුපසම හේතුවෙන් සන්ති කියා ද තණ්හා නම් වූ වානය අභාවයෙන් නිබ්බාන කියා ද චුතවීමක් නොමැති වීමෙන් 'අච්චුත' කියා ද, වර්ණනා කරන ලද, එය අවබෝධ කරන ලද්දේ යයි කියනු ලැබේ. නැතහොත් ඒ භික්ෂුව, රහත්මග නැණින් ප්‍රඥාවත් වූයේ මගට අනතුරුව ඵලයෙහි පිහිටියේ ඡන්දරාග විරත්ත නම් වේ. කියන ලද ආකාර පදයන් අවබෝධ කරන ලද්දේ යයි දතයුත්තාහුය. එහෙයින් මෙය ප්‍රහීණ කළේය. ඒ හේතුවෙන් මෙය ලැබුවේ යයි දක්වයි.

මෙසේ සවිඤ්ඤාණක අවිඤ්ඤාණක වශයෙන් අශුභ කම්මට්ඨානය උපන්නත් සමග කියා නැවත සංඛෙපප දේසනා වශයෙන් මෙසේ මහත් වූ ආනිසංසට අන්තරාය කරවූ පමාද විහරණයට ගරහන්නේ දිපාදකොයං යන ගාථා දෙක වදාළහ.

දිපාදකො යං අසුචි දුග්ගන්ධො පරිහාරති
නානා කුණප පරිපූරො විස්සවන්තො තතො තතො

**එතාදිසෙන කායෙන**
**යොමඤ්ඤෙ උණ්ණමෙතවෙ**
**පරංවා අවජානෙය්‍ය**
**කිමඤ්ඤත්‍ර අදස්සනා**

සමහරවිට සමහර සත්ත්ව මාංශ ලුණු ආදිය යොදා මිනිසුන්ගේ ආහාරයට ද ගනිත්. මිනිස් කය එසේ නොගන්නේය. එබැවින් අශුචිතර දැක්වීමට දිපාදකො යනුවෙන් කීහ. එහි අයං යනුවෙන් මිනිස් කය දක්වයි. **දුග්ගන්ධො පරිහීරති** දුගඳ හමන මේ කය මල් සුවඳ ආදිය යොදා පරිහරණය කරයි. **නානා කුණප පූරො** කේසාදි අනේකප්‍රකාර කුණපයෙන් පිරුණු, **විස්සවන්තො තතො තතො** පුෂ්පාදියෙන් වැසීමට ගැටෙන්නා වූ ඔහුද එම උත්සාහය නිෂ්ඵල කොට නවදොරකින් බෙල-සිංඝානිකා ආදිය ද ලෝමකූපයන්ගෙන් සෙවද ජලලිකා ද මුදන්නේ වගුරුවන්නේම වෙයි. එහි දැන් බලව. **එතාදිසෙන කායෙන සො,** පුරිසයෙක් හෝ ස්ත්‍රියක් හෝ කිසියම් බාලයෙක් හෝ **මඤ්ඤෙ උනනමෙ තවෙ,** තණ්හා-දිට්ඨි-මාන-මඤ්ඤනාවන්ගෙන් මම කියා හෝ මගේ කියා හෝ නිත්‍ය කියා හෝ ආදි ක්‍රමයෙන් උසස් තන්හි තැබීමට හඟින්නේ ද, අනුන් හෝ ජාති ආදියෙන් තම උසස් තන්හි තබන්නේ නින්දා කරන්නේ ද **කිමඤ්ඤත්‍ර අදස්සනා** අරිය මාර්ගයෙන් හැර අරියසච්ච දර්ශනයක් නැත. අන්‍ය වූ උන්නමන අවජානන කාරණා කිම වන්නේද?

දේශනා අවසානයෙහි නන්දා භික්ෂුණිය සංවේගයට පැමිණියාය. අහෝ ඒකාන්තයෙන් මම බාලයෙක. මා අරභයාම මෙවන් ධර්මදේශනාවක් පවත්වන්නා වූ භාග්‍යවතුන් වහන්සේට උපස්ථාන සඳහා මම නොගියෙමි. සංවේගයට පැමිණියා එම ධර්මදේශනාවම ගෙන එය කර්මස්ථානය වශයෙන් ගෙන දින කිහිපයක් ඇතුලත රහත් බවට පැමිණියාය. දෙවන කාරණය වශයෙන් මෙම ධර්ම දේශනාවසානයෙහි අසූහාර දහසක් ප්‍රාණීන්ට ධර්මාභිසමය විය. සිරිමා දෙවධීතා අනාගාමි ඵලයට පැමිණියාය. එම භික්ෂුව ද සෝවාන් ඵලයෙහි පිහිටියේය.

**නන්දා සූත්‍ර වර්ණනාව**
**නිමි.**

# 74.

පූචඡාමිතං යනු තුවටක සූත්‍රයෙහි

උත්පත්ති කථාව කවරේද යත්? භාග්‍යවතුන් වහන්සේ ඥාතීන්ගේ කළහ සංසිඳුවා පන්සියයක් ශාක්‍ය කෝලිය රාජකුමාරයන් පැවිදිකොට මහාවනයෙහි වාසය කරන්නේ පොසොන් මස උපෝසථ දිනයෙහි සවස් භාගයෙහි එදින රහත් වූ ඒ භික්ෂූන් පිරිවරා භාග්‍යවතුන් වහන්සේ වැඩසිටි සේක. අසඤ්ඤසත්ත, අරූපී බ්‍රහ්ම ලෝකවල සත්ත්වයන් හැර සියලු ලක්ෂයක් සක්වල අවසේස දෙවියෝ මංගල සූත්‍රය ඇසීමට පැමිණි ආකාරයෙන් සියුම් අත්බැව් මවාගෙන පිරිවරා ගත්තාහුය. විචිත්‍ර පටිභාන ධර්ම දේසනාවක් අසන්නෙමු යයි කියා. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ දෙව් පිරිස බලා මහාසමය සූත්‍රය දේසිත අයුරින් භික්ෂූන්ට දැන්විය. ඉක්බිති දෙව් පිරිස භබ්බ - අභබ්බ වශයෙන් කොටස් දෙකකට බෙදා නැවත භව්‍ය පුද්ගලයන් චරියා වශයෙන් කොටස් හයකට බෙදා මෙපමණ රාග චරිතයෝය. මෙපමණ දෝස-මෝහ-විතක්ක-සද්ධා බුද්ධි චරිතයෝයි.

ඉක්බිති ඔවුන්ට කෙබඳු ධර්මදේශනාවක් සපපාය වේදැයි ධර්ම කථා තෝරාගෙන, නැවත එම පිළිබඳව සලකා බැලීය. පරජ්ඣාය වශයෙන් දැන ගන්නේ නම් නිර්මිත බුදුකෙනෙකු මම විමසන්නෙමියි සියලු අඟපසඟින් යුත් පාසිවුරු දරණ, ආලෝකිත විලෝකිත ඉරියව් සම්පන්න නිර්මිත බුදුකෙනෙකු ඍද්ධියෙන් මැවීය. හෙතෙම පෙරදිග ලෝකධාතුවෙන් පැමිණ භාග්‍යවතුන් වහන්සේට සමාන ආසනයෙහි හුන්නේය. භාග්‍යවතුන් වහන්සේ ඒ සමාගමෙහි චරියා වශයෙන් යම් ඒ සූත්‍ර හයක් දේශනා කළ සේක්ද? ඒ කවරේද යත්, රාග චරිතයන්ට සම්මා පරිබ්බාජනීය සූත්‍රයද, දෝස චරිතයන්ට කළහ විවාද සූත්‍රය ද, මෝහ චරිතයන්ට මහාබ්‍යුහ සූත්‍රයද විතක්ක චරිතයන්ට චූලබ්‍යුහ සූත්‍රයද සද්ධා චරිතයන්ට තුවටක සූත්‍රය ද බුද්ධි චරිතයන්ට පුරාභේද සූත්‍රය දැයි (දේශනා කළහ.) ඔවුන් අතුරෙන් සද්ධා චරිත දෙවියන්ට රහත්බව ප්‍රතිපත්ති කවරේදැයි උපන් සිත්වලට සපපාය වශයෙන් මෙම සූත්‍රය පවත්වනු පිණිස ප්‍රශ්න විචාරන්නේ, පුචඡාමි තං ආදිච්ච බන්ධුං යයි ගාථාව වදාළහ.

එහි, ආදිච්චබන්ධුං ආදිච්ච ගෝත්‍ර වශයෙන් බන්ධු වූ. ආදිච්චවංශික ගෝතම තෙම ගෝත්‍රයෙන් ගෝතම නම් වේ. භාග්‍යවතුන් වහන්සේ

ගෝත්‍රයෙන් ගෝතම නම් වේ. විවේකං, කාය-චිත්ත-උපධි විවේකයෝය. එහි කාය විවේකය නම්, එකෙක් සිටියි. එකෙක් හිඳියි. එකෙක් නිදයි. මෙසේ කියන ලද, විවිධ කායික ඉරියව් ඇති බවයි. චිත්ත විවේකය නම්, නීවරණ-විතක්ක-විචාර ආදීන්ගෙන් වෙන්වූ බැවින්, ඣාන, මග්ග, ඵල චිත්තයෝය. උපධිවිවේක නම :- කාම කෙලෙස් කඳින් ද සංඛාර නම් වූ උපධීන්ගෙන් ද වෙන් වූ බැවින් අමත නම් වූ සමණයි. සන්ති පදං, සන්ති එම පදං සන්ති පදං = ශාන්තියම පද වූයේ ශාන්ති පදයයි. නිවණයි. සන්තියා වා පදං, ශාන්තියට පද වූයේ ශාන්ති පදයයි. අධිගමයට උපාය වූ සත්තිස් බෝධිපාක්ෂික ධර්මයෝය. කථං දිස්වා (කවර කරුණකින් දැක) කෙසේනම් පැවැති දර්ශනයකින් යුක්තව සිට නිබ්බාති, සබ්බකිලෙස සංසිඳුවත්ද, අනුපාදියානො ලොකස්මිං කිඤ්චි (කායාදි ලොකයෙහි රූපාදි කිසි ධර්මයකුත් උපාදාන වශයෙන් නො ගනිමින් රාගාදි කෙලෙසුන් සංසිඳුවන්නේ ද?) ඛන්ධාදී ලෝකයෙහි සතර උපාදානයන්ගෙන් රූප වේදනාදී කිසිදු සංඛාර ධර්මයක් පරාමර්ශනය නොකරන්නේ සංසිඳුවන්නේය.

අනතුරුව භාග්‍යවතුන් වහන්සේ යම්සේ දකින්නේ ද කෙලෙස් වලක්වයි. එසේ දැක එසේ පැවැති දැකුමෙන් යුතුව පිරිනිවේ. එබැවින් එම කරුණ ප්‍රකට කරන්නේ නොයෙක් අයුරින් දෙව් පිරිස් කෙලෙස් ප්‍රහාණයෙහි යොදවන්නේ මූලං පපඤ්ච සංඛා යාති ආරභිත්වා පඤ්ච ගාථා අභාසි. එහි ආදි ගාථාවෙහි පළමුකොට මූලං පපඤ්ච සංඛාය, සත්ත්වයා සසර නැවත නැවත චුති පටිසන්ධි වශයෙන් පමා කරවන බැවින් තණ්හා දෘෂ්ටීහු පපඤ්ච නම් වෙති. පපඤ්චයෝම කොට්ඨාස භාවයෙන් පපඤ්ච සංඛා නම් වේ. පපඤ්චයන්ගේ මූලය අවිජ්ජා අයොනිසො මනසිකාරෙය, අසම්මානය, අහිරිකය, අනොත්තප්පය, උද්ධච්චය යන මේවා වෙති. භගවා යනුවෙන් ප්‍රශ්න විසඳන බුදුරදුන් පෙන්වත් යයි ධර්ම සංග්‍රහක තෙරවරු දක්වති. භගවා ඉති භගවා යන්න විස්සජ්ජෙති යන්න හා සම්බන්ධ වේ.

මන්තා අස්මිති සබ්බමුපරුන්ධෙති (දෘෂ්ටි මානය ප්‍රඥාවෙන් දැන සියල්ල වලහන්නේයි පපඤ්චයන්ගේ අවිද්‍යා ආදී මූලයන්ද, 'මම වෙමි' අයුරින් පැවැති සියලු නවවිධ මානය ද, මන්තාය, ප්‍රඥාවෙන් උපරුන්ධෙය්‍ය, නිරෝධය කරන්නේය ව්‍යපසමනය කරන්නේය. යා කාචි තණ්හා අජ්ඣත්තං අධ්‍යාත්මයෙහි හටගත් රූප තණ්හා ආදි යම්කිසි

තෘෂ්ණාවක් උපදින්නාහුද, තාසං විනයා සදා සතො සිකෙඛති, සදා ප්‍රථම වයස මධ්‍යම වයස පශ්චිම වයස, පෙරබත් සමය පසුබත් සමය, පූර්ව යාමය, මධ්‍යම යාමය, පශ්චිමයාමය යන සියලු කල්හි එළඹ සිටි සිහියෙන් යුක්ත වූයේ. තාසඤ්ච තෘෂ්ණාවන්ගේ විනයාය සිකෙඛය්‍ය, ත්‍රිවිධ ශික්‍ෂාවන් සම්පූර්ණ කරන්නේය. සමාදන් වී පවත්වා ගෙන යන්නේය. මෙසේ ත්‍රිවිධ ශික්‍ෂාවෙන් යුක්ත වූ දේසනාව රහත් බව කුළුගන්වා දක්වා නැවත මානය දුරුකිරීම් වශයෙන් යං කිඤ්චි යන ගාථාව වදාළ සේක.

යං කිඤ්චි ධමම මභිජඤ්ඤා - අජ්ඣත්තං අථවාපි බහිද්ධා
න තෙන මානං කුබෙබථ - න හි සා නිබ්බුති සතංවුත්තා

එහි අර්ථය :- යං කිඤ්චි අජ්ඣත්තං ධම්මං යම්කිසි කුලීනතා ආදි ගුණයක් හෝ දන්නේ නම් තෙන ඒ කරුණෙන් මානය නකුබෙබථ නො කරන්නේ ය. න උපදවන්නේ ය. සතං බුද්ධාදී සත්පුරුෂයන් විසින්, න වුත්තා හි, යම්හෙයකින් නො කියන ලද්දේ ද එහෙයින් මානය නො කරන්නේ ය.

සෙය්‍යො න තෙන මඤ්ඤෙන
නීචෙය්‍යාහ අථවාපි සරිකෙඛා
ඵුට්ඨො අනෙක රූපෙහි
නාතුමානං විපකපයං තිට්ඨෙ

යන ගාථාව වදාළහ. එහි මානයෙන් මම ශ්‍රේෂ්ඨ වෙමි. පහත් වෙමි. නැතහොත් සමාන වේමය නොහඟනේය. තෙන ඒ අධ්‍යාත්මික, බාහිර ගුණ හේතුවෙන් මම ශ්‍රේෂ්ඨ වෙමි. මම නීච වෙමි. මම සදෘශ වෙමියි හෝ නොහඟින්නේය. අතිමානය හෝ හීනමානය හෝ සදිසමානය හෝ නො උපදවන්නේය. අනෙකරූපෙහි උසස් කුලීන බව ආදි වූ ගුණයන්ගෙන් ඵුට්ඨො යුක්ත වූයේ මම උසස් කුලයකින් පැවිදි වූයේ යයි ආදි ක්‍රමවලින් ආතුමාගං තමා විකල්පනය කරමින් නොසිටිනේය.

දැන් සියලු කෙලෙස් උපසමනය වශයෙන් දක්වන්නට අජ්ඣත්තමෙව ගාථාව වදාළහ.

**අජ්ඣත්තමෙව උපසමෙ - න අඤ්ඤතො භික්ඛු සන්තිමෙසෙය්‍ය**
**අජ්ඣත්තං උපසන්තස්ස - නත්ථි අත්තා කුතො නිරත්තාවා**

එහි අජ්ඣත්ත මෙව උපසමෙති තමා කෙරෙහි වූ රාග ආදි සියලු කෙලෙස් ව්‍යුපසමනය කරන්නේ ය. නාඤ්ඤතො භික්ඛු සන්ති මෙසෙය්‍ය සතිපට්ඨානාදිය හැර අන්‍ය උපායකින් මිථ්‍යා පටිපදාවකින් සන්තිං නිවීම සොයන්නේ ය. අජ්ඣත්තං තමා කෙරෙහි වූ රාගාදි කෙලේසයන් උපසන්තස්ස අත්තා (අධ්‍යාත්මයෙහි රාග ආදිය සංසිඳුන මහණහට ආත්මදෘෂ්ටිය) නත්ථි නැත. නිරත්තං උච්ඡෙද දෘෂ්ටිය කුතො නො වන්නේ ම ය. නැත්තේය යන අදහසයි.

දැන් මෙසේ අධ්‍යාත්මය උපසාන්ත වූ රහතන් වහන්සේගේ තාදිභාවය දක්වන්නේ මජ්ඣෙ යථා යනාදි ගාථාව වදාළහ.

**මජ්ඣෙ යථා සමුද්දස්ස ඌමි නො ජායතො ඨිතො හොති**
**එවං ඨිතො අනෙජස්ස උස්සදං භික්ඛු න කරෙය්‍ය කුහිඤ්චි**

එහි යම්සේ අසූසාර දහසක් යොදුන් ගැඹුර ඇති මහා සමුද්‍රයාගේ යට සතලිස්දහසක් යොදුන් පමණ ජලය මස් කැසුබු ආදීන් විසින් කම්පනය කෙරේ. මත්තෙහි සතලිස් දහසක් යොදුන් පමණ ජලය වාතයෙන් කම්පාවෙයි. මධ්‍යයෙහි යොදුන් හාරදහසක් පමණ ජලය කම්පා නොවේ. එහි දියසුලි හටගනී. පර්වත හතක් මැද අතර පිහිටි සමුද්‍රයාගේ දියසුලි හට නොගනී. ඕතොම 'සො හොති අවිකම්පමානො' කම්පා නොවී සිටියේම වෙයි. මෙසේ එජා නම් වූ තෘෂ්ණාව නැති කිරීමෙන් අනෙජො එනම් වූ ක්ෂීණාශ්‍රව තෙම සිටියේ වෙයි. ලාභ ආදි අටලෝ දහම්හි නොසෙල්වෙන්නේ වේ. එවැනි භික්ෂුව රාග-දෝස-මෝහ-මාන-දිට්ඨි කිලෙස කම්මභෙද සංඛ්‍යාත වූ උස්සදං කුහිඤ්චි කිසි අධ්‍යාත්ම වූ හෝ බාහිර වූ හෝ න කරෙය්‍ය කෙලෙස් උස්සදයෝ නො උපදවන්නාහුය.

දැන් මේ රහත්බව කුළුගන්වා දේසනා කරන ලද ධර්ම දේශනාව අනුමෝදන් වන්නේ, ඒ රහත් භාවයාගේ ආදි පටිපදාව විමසන්නේ නිර්මිත බුදුහු අකිත්තයී යන ගාථාව වදාළහ.

**අකිත්තයී විවට චක්ඛු - සක්ඛි ධම්මං පරිස්සය විනයං**
**පටිපදං වදෙහි භද්දන්ත - පාතිමොක්ඛං අථවාපි සමාධිං**

එහි අකිත්තයි යනු ප්‍රකාශ කළේය. විවටචක්ඛු, විවට වූ අනාවරණ වූ මංසචක්ඛු - දිබ්බ චක්ඛු - පඤ්ඤා චක්ඛු - බුද්ධ චක්ඛු - සමන්ත චක්ඛු යන පස් ඇසකින් සමන්විත වූ සක්ඛිධම්මං තමා විසින් අභිඥඥාත වූ, තමා විසින් ප්‍රත්‍යක්‍ෂ කළ නිර්වාණ ධර්මය පරිස්සය විනයං ප්‍රකට වූ එසේම පටිවජ්ජනන වූ උපද්‍රවයන්ගේ, විනයං, ප්‍රහානය පටිපදං, සීලසංවර ආදී වූ සම්මා පටිපදාව, භද්දමෙන්ත (පින්වතුන් වහන්ස) ඔබට යහපතක් වේවා. භද්‍ර වූ හෝ සොඳුරු වූ හෝ සුදුසු වූ, වදෙහි පාතිමොක්ඛං අථවාසමාධිං (පාමොක් හා සමාධිය වදාළ මැනව.) එම පටිපදා බිඳ විමසයි. පටිපදං මෙයින් මාර්ගය විමසයි. අනිත් කරුණුවලින් සීල සමාධිය විමසයි. යම්හෙයකින් ඉන්ද්‍රිය සංවරය සීලයාගේ ආරක්ෂාව පිණිස වේ. යම්හෙයකින් හෝ මේ පිළිවෙළින් දෙසන ලබන දේසනා ඒ දේවතාවන්ට සප්පාය (යෝග්‍ය) වූවාය. එබැවින් ඉන්ද්‍රිය සංවරයෙහි පටන් පටිපදාව දක්වන්නේ චක්ඛුහි යනාදිය වදාළහ.

චක්ඛූහි නෙව ලොලස්ස
ගාමකථාය ආවරෙය්‍ය සොතං
රසෙච නානුගිජ්ඣෙය්‍ය
න ච මමායෙථ කිඤ්චිං ලොකස්මිං

එහි චක්ඛූහි නෙව ලොලස්ස (ඇසින් රූ දැක්මට ලොල් නො වන්නේ ය.) චක්ඛුලෝල පුද්ගල තෙම 'නොදුටු දෙය දැකිය යුතු යයි ද දුටු දෙය ඉක්මවිය යුතුයයි ද, ආරාමයෙන් ආරාමයට උයනින් උයනට, ගමින් ගමට නොනැවතී චාරිකාවෙහි යෙදුනේ වාසය කරයි. ඇතුල් ගමට පිවිසියේ හෝ වීථියට පැමිණියේ අසංවරව පැමිණේ. ඇත්, අස්, රථ, සෙනග, ගැහැණු, පිරිමි, බාලයන්, බාලිකාවන් බලමින් වෙළෙඳපලේ උඩ යට දිසා විදිසා බලමින් යයි. මෙම භික්‍ෂුව මෙවැනි ලෝල භික්‍ෂුවක් නොවන්නේ ය. චක්ඛු ඉන්ද්‍රිය සංවරයෙන් යුතුව වාසය කෙරේ යයි අදහස් කෙරේ. ගාම කථාය ආවරෙය්‍ය සොතං (ග්‍රාම්‍ය කථාවෙන් කන් වළහන්නේය.) දෙතිස් තිරිසන් කථාවන්ගෙන් කන වළහන්නේය. වලක්වන්නේය සංවර කරන්නේය. අප්පිච්ඡ කථා - සන්තුට්ඨි කථා - පවිවෙක කථා - අසංසග්ග කථා - විරියාරම්භ කථා - සීල කථා - සමාධි කථා - පඤ්ඤා කථා - විමුත්ති කථා - විමුත්තිඤාණ දස්සන කථා යන දසකථා වස්තූන් ඇසුරු කෙරේ යයි අදහස් කෙරේ. රසෙසු නානුගිජ්ඣෙය්‍ය (රසාදියෙහි ගිජු නොවන්නේය) මූලරසාදි රසයන්හි න

අනුගිජ්ඣෙය්‍ය, අනුගිද්ධිය නොකරත්තේය. න ච මමායෙථ කිඤ්චි ලොකසමිං (ලොවැ රූපාදි කිසිවක් තෘෂ්ණා-දෘෂ්ටි-මාන වශයෙන් නොගන්නේය.) ස්කන්ධ ආදි ලෝකයෙහි චක්ඛු ආදි කිසි සංඛාරයක්, තණ්හා මමත්වයෙන් හෝ දිට්ඨි මමත්වයෙන් හෝ මමායනය නො කරන්නේ ය. එම මමායන දෙකම දුරුකළ යුත්තේ යයි කියන ලද්දේ වෙයි.

එසෙසන යදා ඵුට්ඨස්ස - පරිදෙවං භික්ඛු න කරෙය්‍ය කුහිඤ්චි
භවංච නාභි ජප්පෙය්‍ය - භෙරවෙසුච න සම්පවෙධෙය්‍ය

අන්න න මථො පානානං - ඛාදනීයානං අථොපි වත්ථානං
ලද්ධා න සන්නිධිං කයිරා - නච පරිත්තසෙ තානි අලභමානො

එසෙසන ඇස්රෝග ආදි රෝගයන්ගෙන් පහස්නා ලද වේනම්, ඵුටෙඨා රෝගාදියෙන් පෙළුනේ වෙයි. පරිදෙවං භික්ඛු න කරෙය්‍ය කුහිඤ්චි කිසිතැනෙක්හි අධ්‍යාත්මික වූ හෝ බාහිර වූ හෝ පරිදේවනාවක් නො කරන්නේ ය. භවඤ්ච නාභි ජප්පෙය්‍ය, ඒ එසසයාගේ දුරුකිරීම පිණිස කාම භව ආදී භවයන් ද නො පතන්නේ ය. භෙරවෙසු ච එම ස්පර්ශය ප්‍රත්‍ය වූ සීහ, ව්‍යාඝ්‍ර ආදි භයජනක අරමුණුවලදී කම්පා නො වන්නේ ය. කලින් ඉන්ද්‍රිය සංවරය දක්වා මෙයින් ආරණ්‍යයෙහි වසන්නහු විසින් භයජනක අරමුණු දැක හෝ අසා හෝ කම්පා නොවිය යුතුයයි දක්වයි. ලද්ධා න සන්නිධිං කයිරා, ඔවුන්ට ආහාර ආදි යම් කිසිවක දැහැමින් ලැබ ආරණ්‍ය සෙනසුනෙහි දුර්ලභයයි සිතා තැන්පත් කර තැබීමක් නොකරන්නේය. නච පරිත්තසෙ තානි අලභමානො එම ආහාර ආදිය නොලබන්නේ, ආහාරයක් හෝ යසසක් හෝ නොලබමි යයි නො තැවෙන්නේ ය. සන්ත්‍රාසයට නො පැමිණෙන්නේ ය.

ඣායී න පාද ලොලස්ස - විරම කුක්කුච්චං නප්ප මජ්ජෙය්‍ය
අථ ආසනෙසු සයනෙසු - අප්පසද්දෙසු භික්ඛු විහරෙය්‍ය

ඣායී ධ්‍යානයෙහි ඇලුනේ, න පාදලොලස්සා අහේතුකව කරුණක් නොමැතිව ආරාමයෙන් ආරාමයට, පිරිවෙණෙන් පිරිවෙණට යයි පාදලෝල භාවයෙන් වෙන්වූයේ. විරමෙ කුක්කුච්චං (කුකුසින් දුරුවන්නේය.) හත්ථ කුක්කුච්චයද පාද කුක්කුච්චය ද අකැප දෙයෙහි කැපයයි යන

කුකකුච්චයද දුරු කරන්නේ ය. න පපමජ්ජෙය්‍ය සකසා වැඩකරන, සාකච්ඡාකොට කටයුතු කරන අර්ථ දැන කටයුතු කරන නොසැගවුන පැවතුම් ඇති අත්නොහල වීර්ය ඇති, කුසල් දහම් අප්‍රමාදී වූ 'කවදා මම සම්පූර්ණ නොකළ සිල් සම්පූර්ණ කරන්නේ ද, පරිපූර්ණ කරන ලද ප්‍රඥාවෙන් අනුග්‍රහ කරන්නේ හෝ වේද, අපරිඥාඥාතම දුකඛ සත්‍යය අවබෝධ කරන්නේ හෝ වේදැයි පමා නො වන්නේ ය. නිද්දං න බහුලං කරෙය්‍ය, දිවා රාත්‍රී කොටස් හයකට බෙදා කොටස් පහක් නිදි වරනේය. එක්කොටසක් හෝනේය. ජාගරියං භජෙය්‍ය, ජාගරසස කමමං ජාගරියං නිදි වැරීමේ ක්‍රියාව ජාගරිය නම් වේ. එය භජනය කරන්නේය. කෙසේද? දිවා කාලයෙහි සක්මනෙහි යෙදී, ආවරණීය ධර්මයන්ගෙන් සිත පිරිසිදු කරන්නේය. පළමුවන යාමයද පශ්චිම යාමයද එසේය. මජ්ඣිම යාමයේදී දකුණුපසට ඇලවී සිංහ සෙය්‍යාවෙන් සයනය කරන්නේය. ආතාපි කෙලෙස් තවන බැවින් ආතාප යයි කියනු ලැබේ. වීර්යයයි. එයින් යුක්ත වූයේ ආතාපි නම් වේ. කෙසේද යත්?

ගමනක් ඇතිකල්හි ගමනේදීම කෙලෙසුන් වීර්යයෙන් විනෝදනය දුරුකිරීම කෙරෙයි. සිටීමේදී ද, හිඳීමේදී ද, නිදීමේදී ද එසේමය. තන්දි ආදී තන්හි තන්දිය නම් අලස බවයි. මායා යනු කෙළවරද සඟවන්නා වූ කායික වාචසික රැවටීමේ ක්‍රියාවයි. හසසං යනු බොහෝ වේලා දත් විරිත්තා සිනාසීමයි. ඛිඩ්ඩා කායික වාචසික ක්‍රීඩා, මෙථුනං එනම ග්‍රාම ධර්මයයි. සවිභූසං විභූසනය සමග පැවිද්දන්ගේ විභූසනය නම් සිවුරු අලංකාර කිරීම සෙනසුන් කාය පරික්ඛාර ආදිය මණ්ඩනය කිරීමයි.

ආථබ්බණං ආදියෙන් අථර්වන් වේදයෙහි එන සුපිනං ස්වප්න ශාස්ත්‍රය, මණිලකඛණ ආදි ලක්ඛණ ශාස්ත්‍රය නොවිදහෙ නො හැසිරෙන්නේ ය. ඒව ඉගෙන ඒ අනුව නො පවතින්නේ ය. නකඛත්තං නක්ෂත්‍රයෙහි ද මෘග ආදීන්ගේ විරුත (මෘගවාක්‍ය) ආවි විරුත ශාස්ත්‍රයද ගබ්භ කරණං, ගැබ් පිහිටවීම් ආදි කර්ම ද තිකිච්ඡං පඤ්ච තිකිච්ඡා ශාස්ත්‍රය සලාකිය සල්ලකත්තිය, කායතිකිච්ඡා, භූතිය, කොමාරභච්ච යනුයි. මේවා සේවනය නොකරන්නේය. මාමකො, බුද්ධමාමක, ධම්ම මාමක, සංඝ මාමක, බුද්ධශ්‍රාවක තෙම න සෙවෙය්‍ය, ඉගෙන නො ගන්නේ ය. ධාරණය නො කරන්නේ ය. නින්දාය නපපවෙධෙය්‍ය ජාති ගෝත්‍ර ආදි නින්දා වචනයෙන් නො සැලෙන්නේ ය. නො කියන්නේ ය. න උනනමෙය්‍ය පසංසිතො, ජාති ගෝත්‍ර ආදියෙන් ස්තුති කරන කල්හි

එයින් න උනනමෙයා, උඩඟු බවක් නො කරන්නේ ය. එය හිස්මුදුනින් පිළිගත්තෙක් නො වන්නේ ය. සහමච්ඡරියෙන, ආවාස මච්ඡරිය ආදි පංච මාත්සර්ය සමග පෙසුණියං ලෝභය, ක්‍රෝධය හා පිසුණු බස් පණුදෙයා හැර පියන්නේ ය.

කය වික්කයෙ න තිටෙඨ්‍යා, යම කයවික්කය දෙකෙක් විනයෙහි ප්‍රතික්‍ෂෙප කරන ලද්දේද, එය මෙහි අදහස් නොකරන ලදී. මෙහි ආපත්ති කර නොවේද, පස් සහ දැමියන් සමග යම්කිසි පාත්‍රයක් හෝ චීවරයක් හෝ වංචා සහිතව තමාට වැඩි ප්‍රයෝජන ඇතුව, මාරු කරන්නේද, එසේ පැවති පරිෂ්කාර හුවමාරුව මෙහි අදහස් කෙරේ. එවැනි දෙයෙහි නො පිහිටන්නේ ය. කය විකතය දුරුකරන්නේ යයි කියන ලද්දේ වෙයි. උපවාදං භික්ඛු න කරෙයා කුහිඤ්චි කිසි තැනෙක්හි අධ්‍යාත්මිකව හෝ බාහිරව හෝ සමණ බ්‍රාහ්මණයන් සමග උපවාද නො කරන්නේ ය. ඕලාරික වූ හෝ මධ්‍යම වූ හෝ සියුම් වූ හෝ කෙලෙස් ඇතිකර නොගත්තේය. නොඋපදවන්නා දුරුකරන්න. එහි ඔලාරික ක්ලේශයෝ නම්:- කාය - වචී - මනෝ දුශ්චරිතයෝය. මැදුම් ප්‍රමාණයේ කෙලෙසයෝ නම්, කාම- ව්‍යාපාද - විහිංසා විතක්කයෝය. සියුම් කිලේශයෝ නම්, ඤාති විතක්ක, ජනපද විතක්ක, අමරවිතක්ක, පරානුද්දයතා පටිසංයුත්ත විතක්ක, ලාභ සත්කාර, සිලොක පටිසංයුත්ත විතක්ක, අනවඤ්ඤතති පටිසංයුත්ත විතක්ක යනුයි. ගාමෙ ච නාභි සජ්ජෙයා, (ගමෙහිදු නො ඇගෙන්නේය.) ගමෙහි ඇලීම නම්, ගිහියන් සමග සතුට සහ සොකී භාවයන්ගෙන් මිශ්‍රව ගමෙහි හෝ ඒ ඒ තන්හි රාගාදි වශයෙන් ඇලීමයි. බැඳීමයි. මේ මහණ එසේ ගමෙහි නාභිසජ්ජෙයා, නො බැඳෙන්නේ ය. ගිජු නොවූයේ, පහවූ ගේධ ඇත්තේ, බ්‍රහ්මභූත වූ (ශ්‍රේෂ්ඨ වූ) තමා විසින් වාසය කරනු ලබන්නේ යයි අදහස් කෙරේ.

ලාභකම්‍යතා ජනං න ලාපයෙයා (ලාභ අපේක්‍ෂාවෙන් ජනයා හට ලපනය නොකරන්න.) ලාභ අපේක්‍ෂාවෙන් කථා කිරීම දෙකරුණකින් වේ. කෙසේද? ලාභ හේතුවෙන් ලාභ කාරනයෙන් තම පහත් තන්හි තබන්නේ අනුන් උසස් තන්හි තබන්නේ ජනයාට කථා කරයි. තොපි මට බොහෝ උපකාර කළාහුය. මම තොපි නිසා චීවර -පෙ- පරික්ඛාර ලබමි. තමා උසස් කොට තබා අනුන් පහත් තන්හි තබා ජනතාවට කථා කරයි. මම තොපට බොහෝ උපකාර ඇත්තෙක් වෙමි. තොප මා වෙත පැමිණ බුදුන් සරණ ගියාහුය. දහම් සරණ ගියාහුය. සංඝ සරණ ගියාහුය.

ප්‍රාණඝාතයෙන් වෙන් වූවාහු -පෙ- රහමෙර පානය කිරීමෙන් වෙන් වූවාහුය. මම තොපට උදෙසීම කරමි. සාකච්ඡා දෙමි. උපොසථය දන්වමි. නව කර්මයන්හි පිහිටුවමි. නමු තොපි මා අතහැර වෙනත් අයට සත්කාර කරවුද? මේ භික්ෂු තෙම මෙසේ ලාභ බලාපොරොත්තුවෙන් **ජනං න ලාපයෙය්‍ය,** මෙවන් ලාපනය දුරුකරන්නේය.

**න විකත්‍ථිතා,** (ආත්ම වර්ණනා නොකරන්න.) සීලවන්ත ගෝත්‍රාදියෙන් ආත්ම වර්ණනා නොවන්නේය. ආත්ම වර්ණනා නොකරන්නේය. **න වාචං පයුත්තං භාසෙය්‍ය** (සියුපසය සඳහා ද යොදන ලද බස් ද නොකියන්නේය. චීවර ආදි හේතුවෙන් යොදන ලද ඒ අර්ථය සඳහා හෝ යෙදුන වචන, සත්‍යය හෝ බොරු හෝ නොකියන්නේය. යටත් පිරිසෙන් අහෝ මගේ ධර්ම අසත්වා. අසා පහදිත්වා. පැහැදුනහු පැහැදුනු ආකාරය කරත්වා යනුවෙන් ධර්මදේශනා වචන නිසා උපන් වචනවලින් මිශ්‍ර වචන නොකියන්නේ ය. **පාගබ්භියං න සික්ඛෙය්‍ය** (උඩගු බැව්හි නො හික්මෙන්නේ ය.) අටතැනක කයෙහි උඩගු බවද, හතර තැනක වචනයෙහි උඩගු බවද නොයෙක් තැන්හි වනයෙහි උඩගු බවද **න සික්ඛෙය්‍ය,** නො හික්මෙන්නේය. දුරුකරවයි කියන ලද්දේ වෙයි.

එහි අටතැනක කයෙහි පාගබ්භිය (උඩගු) කමනම්, සංඝ-ගණ-පුග්ගල-භොජනශාලා-ජන්තාඝර-නහානතිත්‍ථ-භික්ඛාචාර මග්ග ඇතුලුගමට පිවිසෙන තැන, යන මේ තැන්වලදී කයින් නො සුදුසු දේ කිරීම. ඒ කවරේද යත්? මෙහි ඇතැම් භික්ෂුවක් සඟ මැද පල්ලැකියක හෝ හිඳගෙන, කකුලක් උඩ කකුලක් දමාගෙන සිටීද, මේ ආදි දෙයද, එසේ ගණයා මැද සිවුපිරිස එකතුවන තැන, වැඩිහිටි පුද්ගලයන් සිටින තැන, (යන තැන්වල උඩගුකමින් කටයුතු නොකල යුතුය.) භෝජන සාලාවෙහි වැඩිහිටියන්ට අසුනක් නොදේ ද, නවකයන් වලක්වයි. එසේම ජන්තා ඝරයෙහි වැඩිහිටියන් නොවිමසා ගිනි දැල්වීම් ආදිය කෙරේද, නහන තොටෙහි යම් වතක් වේද, දහරය වැඩිහිටිය යයි පමාණ නොකොට ආ පිළිවෙළින් ස්නානය කළයුතු යයි කියන ලදී. එය නොසලකන්නේ පසුව අවුත් දියට බැස වැඩිහිටියන්ද නවකයන්ද ඉවත් කෙරේද, පිඬුසිඟා යන මගෙහිද අග්‍රොදකය අග්‍රපිණ්ඩය, පිණිස වෘද්ධයන් ඉදිරියෙන් ඉදිරියෙන් වේද බාහුවෙන් බාහුව පහරමින් ඇතුල්ගමට පිවිසීමේදී වැඩිහිටියන්ට ප්‍රථමයෙන් පිවිසේද, දහරයන් සමග කායික ක්‍රීඩා ආදිය කෙරේද, මේ ආදියයි. හතරවෙනුව වචී පාගබ්භිය නම්:- සංඝ-ගණ -

පුග්ගල අන්තරසර ආදි ඉදිරියෙහි නො සුදුසු වචන කීම, ඒ කවරේද යත්? මෙහි ඇතැමෙක් සඟ මැද, නොවිමසා ධර්මදේශනා කෙරේද, එසේම ගුණයා අතරද වැඩිහිටියන් අතරද, කෙරේද, ඇතුල්ගමෙහි, මෙනම් ඇති කුමක් තිබේද? කැඳද? නැතහොත් කැවිලි ද, ආහාරද, කිම ඒව මට පෙන්වනවාද? මේ ආදි අයුරින් කථා කිරීමයි. නොයෙක් තන්හි සිදුවන මනෝ පාගබ්භිය නම්:- ඒ ඒ තැන්වල මනසින් පමණක් මනෝ විතර්කාදියෙන් නොසුදුසු දේ කිරීම. කථං විග්ගාහිතං න කථෙය්‍ය (කලහයට හේතුවන කථා නොකියන්නේය.) ඔබ මේ ධර්ම විනය දන්නේ නැත. මේ ආදි කලහයට හේතුවන කථා නො කියන්නේ ය.

මොසවජ්ජෙ න නීයෙථ (බොරු කීමෙහි නො යෙදෙන්නේය.) මුසාවාදයෙහි න නියෙ නො යොදන්නේය. සම්පජානො සඨානි න කයිරා මනා ප්‍රඥාවෙන් යුතු භික්ෂුව කපටිකම් නොකරන්නේය. 'සඨ' නම් නැතිගුණ පෙන්වීමයි. එය කෛරාටික කමකි. අථ ජීවිතෙන පඤ්ඤාය. සීලබ්බතෙනඤ්ඤං මති මඤ්ඤෙ (යලි දිවිපැවැත්මෙන් ප්‍රඥාවෙන් හා සීල ව්‍රතයෙන් අන්‍යයන් ඉක්මවා නොසිතන්නේය.) ඇතැමෙක් රූක්ෂ වූ පැවතුම් ඇත්තේ ප්‍රණීත වූ දිවි පැවතුම් ඇති අනුන් ඉක්මවා සිතයි. කෙසේද යත්? කිම මොහු බොහෝකල් ජීවත් වන්නේ සියල්ල අනුභව කෙරෙත්දැයි. ඇතැමෙක් ප්‍රණීතව ජීවත් වන්නේ රූක්ෂ ජීවිතයක් ගත කරන්නවුන් ගැන කෙසේනම් ඉක්මවා සිතත්ද යත්? කිම මෙතෙම අල්ප පුණ්‍ය ඇත්තේ, අල්පේශාක්‍ය වූයේ, චීවර-පිණ්ඩපාත-සේනාසන-ගිලාන පච්චය-භෙසජ්ජ-පරික්ඛාර නොලබන්නේ වෙයි. (මෙසේ සිතයි) ඇතැම් කෙනෙක් ප්‍රඥාසම්පන්න වූයේ අසන අසන ප්‍රශ්න විසඳ ද ඔහුට මෙබඳු අදහසක් ඇතිවෙයි. 'මම ප්‍රඥාසම්පන්න වෙමි. මේ අන්‍යයෝ ප්‍රඥා සම්පන්න නොවේ. ඇතැම් කෙනෙක් සීලසම්පන්න වේ. ඔහුට මෙබඳු අදහසක් වෙයි. 'මම සීලසම්පන්න වෙමි. මේ අනිත් භික්ෂූහු දුශ්ශීලයෝය. පවිටු දහම් ඇත්තේය. ඇතැම් භික්ෂුවක් වත්ත සම්පන්න වේ. ආරඤ්ඤික හෝ පිණ්ඩපාතික හෝ, පාංශුකූලික හෝ වෙයි. ඔහුට මෙබඳු අදහසක් ඇතිවෙයි. 'මම වත්ත සම්පන්න වෙමි. මේ අන්‍යයෝ වත්ත සම්පන්න නොවෙති. එම වත්ත සම්පදායෙන් අන්‍යයන් ඉක්මවා සිතයි. මෙම භික්ෂුව වූ කලී, රූක්ෂ ජීවිකාවෙන් හෝ ප්‍රණීත ජීවිකාවක් හෝ ප්‍රඥා සම්ප්‍රදායක් සීල සම්ප්‍රදායක් හෝ (පරං) මෙරමා නාතිමඤ්ඤෙය්‍ය අවමානයට ලක් නොකරන්නේය. මානය හෝ නො උපදවන්නේය.

**සුත්වා දුසිතො බහුංවාචං සමණානං වා පුථුජ්ජනා නං** (මහණුන්ගේ හෝ ක්ෂත්‍රියාදීන්ගේ අනිටු බොහෝ බස් අසා ගැටුනේ) අනුන් විසින් දූෂිත කරන ලද ආක්‍රොශ කරණ ලද, ගර්හා කරන ලද ඒ ශ්‍රමණයන්ගේ හෝ ක්ෂත්‍රය ආදී නොයෙක් ජනයන්ගේ හෝ බොහෝ ආක්‍රෝසයන් පරිභාසනයන් අනිටු වචන අසා **ඵරුසෙන න පටිවජ්ජා ඵරුෂ** වචනයන් පෙරලා නො කියන්නේ ය. ආක්‍රොස කරන්නවුන්ට පෙරලා ආක්‍රොස නො කරන්නේ ය. බණින්නවුන්ට පෙරලා නො බණින්නේ යයි කියන ලද්දේ වෙයි. ඉදින් කිනම් කාරණා නිසාද යත්? **නහිසනෙතා පටි සෙනිං කරොනති** (රාගාදි කෙලෙස් ප්‍රහීණ කළාහු ප්‍රතිපක්ෂභාවයක් නොකෙරෙත් මැයි.) රාගාදීනං සනතතතා = **සනෙතා** රාගාදියෙන් ශාන්ත වූ බැවින් 'සනෙතා' නම් වේ. ශාන්ත වූ තැනැත්තේ = **පටියෙනිං** පිලිමල් බවක් ප්‍රතිපක්ෂ බවක් **න කරොනති** නො උපදවත්. **එතඤච ධමම මඤඤාය.** මේ සියලු ධර්මය වදාළ පරිදි දැන. නැතහොත්, මේ ප්‍රතිපදාවයි. සීලයන්ගෙන් සම්පූර්ණ වීම වසන ලද ඉඳුරන් ඇති බව. භෝජනයෙහි පමණ දන්නා බව, ජාගරියානු යොගය. සති සම්පජඤඤය, සතර සතිපට්ඨාන ධර්ම සතර සම්‍යප්‍රධාන, සතර ඍද්ධිපාද පංච ඉන්‍ද්‍රිය, පංච බල, සතත බොජ්ඣංග, ආරිය අෂ්ටාංගික මාර්ගය නිවන ද, නිර්වාගාමිනි පටිපදාවද යන ධර්ම අඤඤාය දැන. **විචිනං** විමසමින්, තුලනය කරමින් ප්‍රකට කරමින් 'සියලු සංස්කාරයෝ අනිත්‍යයෝය. සියලු සංස්කාරයෝ දුක්ඛයහ. මේ දුකයි. මේ දුක්ඛ සමුදයයි. මේ දුක්ඛ නිරෝධයයි. මේ දුක්ඛ නිරෝධගාමිනි ප්‍රතිපදාවයි. **සනති නිබබුතිං ඤත්වා,** රාගාදීන්ගේ නිවීම සාන්තිය යයි දැන කුමක් හෙයින් **න පමජෙජය්‍ය,** ඉදින් කුමක් හෙයින් පමා නොවන්නේද යත් එයට කරුණු දක්වන්නේ අභිභූ යන ගාථාව වදාළහ.

**අභිභූ** කෙලේස උපතට කරුණු නොමැති බැවින් රූප ශබ්ද ආදිය මැඩලූ, **අනභිභූතො** කෙලෙසුන් විසින් අනභිභූත වූ ඒ භාග්‍යවතුන් වහන්සේ **සකඛිධමමං අනීතිහ මදසසි** (ආත්ම ප්‍රත්‍යක්ෂ ධර්මය දුටු සේක.) මෙසේ තුන් අයුරකින් විතර්ක රහිත වූ ආත්ම ප්‍රත්‍යක්ෂ වූ ධර්මය දුටුවේය. **සදා නමසස මනු සිකෙබති,** (හැමකල්හි තිදොරින් බුදුන් වදිමින් ත්‍රිශික්ෂාවෙහි හික්මෙන්නේය.) **සදා** සියලු කල්හි. කය, වචන මනස යන තිදොරින් වදින්නේ අර්ථයට අනුව ප්‍රතිපත්තියෙන් යුක්තව හෝ වදින්නේ පූජා කරන්නේ, ත්‍රිවිධ ශික්ෂාවෙහි හික්මෙන්නේය. ආචරණය කරන්නේය. සමාදන්ව පවත්නේය. **මෙහි චකඛුහි නෙව ලොලසස** ආදියෙන් ඉන්‍ද්‍රිය

සංවරය පැවසේ. අනනාන මරො පානානං ආදියෙන් සන්නිධිය ප්‍රතික්ෂේප මුඛයෙන් පච්චය සන්නිස්සිත සීලය දැක්වේ. මෛථුනය මුසාවාදය පිසුණුබත් කීම යන මෙයින් ප්‍රාතිමොක්ෂ සංවර සීලය අදහස් කෙරේ. ආථබ්බණ, සුපින ලක්ෂණාදියෙන් ආජීව පාරිසුද්ධි සීලය දැක්වේ.

ඣායී අසස මෙයින් සමාධිය ද, විචිනං භිකඛු මෙයින් ප්‍රඥාවද, සදාසතො සිකෙඛති යනුවෙන් සැකෙවින් ත්‍රිවිධ ශික්ෂාවද, අථාසනෙස යනුවෙන් සීල-සමාධි-ප්‍රඥාවන් උපකාරක ස්ථානයද කියන ලද්දේ වෙයි. මෙසේ භාග්‍යවතුන් වහන්සේ නිර්මිත බුදුරදුන්ට ප්‍රතිපදාව කියා අරහතත නිකූටෙන රහත් බව කුළුගන්වා දේශනාව නිමකළ සේක. දේශනාවසානයෙහි කොටි ලක්ෂයක් දේවතාවුන්ට රහත්බව ලැබුනේය. සෝවාන් වූවන්ගේ ප්‍රමාණයෙක් නැත්තේය.

තුවටක සූත්‍ර වර්ණනාව නිමි.

# 75.

අනතත සුතෙත (පඤචවගගිය) සූත්‍රයයි.

පඤ්ච වගගියෙ, අඤඤා කොණ්ඩඤ්ඤ, භද්දිය, වප්ප, මහානාම, අස්සජි. පූරාණ උපස්ථායක වූ තෙරහු පස්දෙන, ආමනෙතසි, ඇසළ පොහෝදින දම්සක් සූත්‍රය දෙසීමේ සිට අනුක්‍රමයෙන් සෝවාන් ඵලයෙහි පිහිටි අඤඤාකොණ්ඩඤඤතෙරුන් ප්‍රමුඛ පස්වග මහණුන්ට, 'දැන් මොවුනට ආසවයන් නැතිකිරීම සඳහා දහම් දෙසමි' යයි පංචමී පක්ෂයෙහි ඔවුන් ඇමතීය. එතදවොච, එතං රූපං භිකඛවෙ අනතතා ති ආදි නයින් පැවැත්වූ 'අනතත ලකඛණ සූත්‍රය' වදාළහ.

අනතතා වසයෙහි නොපවත්නා අර්ථයෙන් ද, අස්වාමික අර්ථයෙන් ද, සූන්‍ය අර්ථයෙන් ද, අතත යන්නට ප්‍රතිපක්ෂ අර්ථයෙන් ද යන මේ සතර කරුණින් අනාත්ම නම් වේ. එහි උපන් රූපය අවස්ථා හතරකට නො පැමිණේවා. එසේ රූපය නො දිරාවා. ජරාවට පත් රූපය

නොබිඳේවායි ඇතිවීම නැතිවීම දෙකෙහි වෙහෙසට පත් නොවේ යයි යනාදි වශයෙන් මෙහි කිසිවෙකු වශයෙහි පවත්නා බවක් මේ වශයෙහි නොපවත්නා අර්ථයයි. ස්වාමී වූ කිසිවෙකු නැති බව අස්වාමිකාර්ථයයි. නිවාසිකාරක, වෙදක, අධිට්ඨායක, විරහභාවය, ශූන්‍යාර්ථය නම් වේ. පරිපරිකප්පිත, අත්තභාව අභාවය ආත්ම ප්‍රතික්ෂෙපාර්ථය නම් වේ.

දැන් රූපයාගේ අනාත්ම භාවය ප්‍රකට කිරීමට රූපඤ්ච හිදං භික්ඛවෙ, යනාදිය වදාළහ. එහි **අත්තා අභවිස්ස** යනුවෙන් කාරකයෙක් වේදකයෙක් තමා වසඟයෙහි පවත්නෙක් යන මෙවන් ආත්මයක් නොවේය යන අදහසයි. මෙසේ ඇතිකල්හි රූපයාගේ ආබාධ පිණිස පැවැත්ම නොසුදුසු වන්නේය. රූපයාගේ වසඟයෙහි පවත්නා බවද එසේ වන්නේය. **යස්මා ච ඛො භික්ඛවෙ රූපං අනත්තා, තස්මා රූපං ආබාධාය සංවත්තති,** (යම් හෙයකින් රූපය අනාත්මද, එහෙයින් රූපය ආබාධ පිණිස පවත්නේය.) මෙයින් රූපයාගේ අනාත්මතාවයද දුක්ඛතාවයද ප්‍රකට කරන ලද්දක් මෙන් පෙනේ. එසේම යම්හෙයකින් රූපය, ආබාධ පිණිස පවතීද, එබැවින් අනත්තතාවයද වේ. ප්‍රකට වූ ආබාධතාවයෙන් රූපයාගේ ඇතුලත අසාර බවද, ප්‍රකට කරන ලද්දේය. ඒ නිසාම, නච ලබ්භති රූපෙ එවං මේ රූපං හොතු එවං මෙ රූපං අහොසි යනුවෙන් රූපයෙහි කිසිවෙකුගේ ඊශ්වර බවක් නැති බව, ඔහුගේ වසඟයෙහි නොපවත්නා ආකාරයද දක්වන ලද්දේය. වේදනාදියෙහි ද මේ ක්‍රමයමැයි.

**තං කිං මඤ්ඤථ භික්ඛවෙ,** මෙය කුමක් හෙයින් අරඹන ලද්දේද? මෙපමණ කරුණුවලින් අනත්ත ලක්ෂණයම කියන ලදී. අනිච්ච, දුක්ඛ ලක්ෂණ නොකියන ලදී. ඉදානි දැන් ඒවා සියල්ල ගලපා තුන් ලක්ෂණයන් දැක්වීමට මෙය ආරම්භ කරන ලදැයි දතයුතුය. **අනිච්චං භන්තෙ** යම් හෙයකින් පෙර නොවූවක් ප්‍රත්‍ය සාමාග්‍රියෙන් ඉපිද නැවත භංගත්වයට පැමිණීමෙන් නැතිවේ. එබැවින් නිත්‍ය නොවේ. එබැවින් අනිත්‍ය නම් වේ. නිත්‍ය නොවේ යන අදහසයි. නැතහොත් උදය වය දෙකින් යුක්ත බැවින්ද, තාවකාලික බැවින්ද විපරිණාමය කෙළවරකොට ඇති බැවින්ද, නිත්‍යබවට විරුද්ධ බැවින් ද, ප්‍රතිපක්ෂ බැවින්ද අනිත්‍ය නම් වේ. මෙහිද මොහොතක් මොහොතක් පාසා ඉපදීම් වශයෙන් ද නිරුද්ධවීම් වශයෙන්ද පවත්නා බැවින් ද උප්පාද - වය දෙකින් යුත් බැවින් ද එකෙණෙහි ඇතිවෙන බැවින් තාවකාලික බැවින් ද විපරිණාමය පත්වන බැවින්ද, විනාසයට පත්වන බැවින්ද, විපරිණාමය කෙළවරකොට ඇති නිත්‍ය

බවක් නැති බැවින් නිත්‍යබවට ප්‍රතිවිරුද්ධ බැවින් ද ධර්මයෙන් අනිත්‍ය වෙති. එම අනිත්‍ය භාවයෙන්ම තමන්ගේ නිත්‍ය බව ප්‍රතික්ෂෙප කරත්.

**දුක්ඛං** භනෙත නිතර පීඩාකිරීම් ආකාරයෙන් දුක්ඛ නම් වේ. උත්පාද භංග වශයෙන් ජරාව රූපයට නිතර බාධා ඇතිකරයි. නැතහොත් සන්තාප අරුතින් දුක්ඛ අරුතින්, දුක්ඛවත්ථු අර්ථයෙන් සුඛ ප්‍රතික්ෂෙප කරන අර්ථයෙන් යන සතර කරුණින් දුක්ඛ නම් වේ. මෙහි සන්තාපය නම්, දුක්ඛදුක්ඛතා ආදි සන්තාපනයයි. එම දුක ඉවසීම, දුකින් යුක්ත වීම තෙවදෑරුම් දුක්ඛයන් සංසාර දුකටද අයත් බැවින් දුක්ඛ වත්ථුකතාවයයි. සුඛභාවයාගේ ම නැති බව සුඛ පටිකෙඛප නම් වේ. **විපරිණාම ධම්මං** ජරා මරණයන්ගේ විපරිණාම ස්වභාවයයි. **කල්ලනනු, සුදුසුද?** තං මෙසේ අනිච්ච දුක්ඛ විපරිණාම ධර්මයන් වූ රූපය. **එතං මම** (මම යයි) තෘෂ්ණාවෙන් ගැනීමයි. මමංකාර භාවයයි. **එසොහමස්මි** මානයෙන් ගැනීමය. අහංකාර භාවයයි. **එසො මෙ අත්තා** දිට්ඨියෙන් ගැනීමයි. අත්ත ගාහයට විරුද්ධ බැවිනි. මෙහි අට්ඨ සත තණ්හා විචරිත වශයෙන් තෘෂ්ණා ග්‍රහණයයි. නවවිධ මාන වශයෙන් මාන ග්‍රහණයයි. දෙසැට දෘෂ්ටි වශයෙන් දෘෂ්ටි ග්‍රහණයයි දතයුතුය.

මෙසේ භාග්‍යවතුන් වහන්සේ අනිච්ච දුක්ඛ වශයෙන් අනත්ත ලක්ඛණයම දැක්වූ සේක. භාග්‍යවතුන් වහන්සේ කිසිතැනෙක්හි අනිච්ච වශයෙන් අනත්ත ලක්ඛණය දක්වයි. කිසිතැනෙක්හි දුක්ඛ වශයෙන් කිසිතැනෙක්හි, අනිච්ච, දුක්ඛ (උභය) වශයෙන් ද අනාත්ම ලක්‍ෂණය දක්වයි. ඒ එසේමැයි. 'ඇස' ආත්මය යයි, යමෙක් කියන්නේ ද, එය නො උපදී. ඇසෙහි ඉපදීම ද ගෙවීම ද (වය) ප්‍රකට වේ. -පෙ- මෙසේ චක්ඛුව අනත්ත යයි **සච්චක සූත්‍රයෙහි** අනිච්ච වශයෙන් අනාත්මතාවය දැක්විය. 'මහණෙනි, මේ රූපය ආත්මය වීනම් මේ රූපය ආබාධ පිණිස නොපවත්නේ. රූපයෙහි ලා 'මගේ රූපය මෙසේ වේවා. මගේ රූපය මෙසේ නොවේ යයි මෙම **සූත්‍රයෙහි** දුක්ඛ වශයෙන් අනාත්මතාවය දැක්විය. **යම්පනා නිච්චං දුක්ඛං විපරිණංච ධම්මං -පෙ- එසො මෙ අත්තා (යමක් වූ කලී අනිත්‍යයද දුක්ද පෙරලෙන ස්වභාව ඇත්තේ ද තෙල මගේය, මම වෙමි. තෙල මගේ ආත්මයයි දක්නට සුදුසුද?) මේ ස්ථානයේ අනිච්ච, දුක්ඛ වශයෙන්ම ආත්මය දැක්විය. කුමක් හෙයින්ද යත්? අනිත්‍ය, දුක්ඛ දෙක ප්‍රකටය. පරිභෝග භාජනාදිය බිඳීමෙන් ද, ගෙඩි පිලිකා ආදිය ඇතිවීමෙන් ද 'අහො අනිච්චං, අහෝ දුක්ඛං' යයි කියත්. අනාත්මයයි**

කියන්නේ නම් නැත. අනතත ලක්‍ෂණය වූ කලී අප්‍රකටය. දැකීම දුෂ්කරය. දුකසේ පැනවිය යුත්තකි. එබැවින් එය අනිත්‍ය වශයෙන් හෝ දුක්ඛ වශයෙන් හෝ එම දෙඅයුරින්ම හෝ දක්වයි.

තසමාහිතිහ මෙහි තිකාර හකාරයෝ නිපාතයෝය. යම්හෙයකින් පංචස්කන්ධය අනිත්‍යද, දුක්ඛ ද, එය තස්මා යන්නෙහි අර්ථයයි. යං කිඤචි අනවසේස පරියායක් ගැනීමෙහි වචනයෙකි. (අතිප්පසංග) බොහෝ යෙදීම් වැලැක්වීම සඳහා රූපං රූප යයි කියන ලදී. නැවත අතීත ආදි විභාග ආරම්භ කරයි. අතීතානාගත පච්චුප්පනනං යනාදියෙන් එහි කිසියම් අතීතයක් කිසියම් අනාගත භේදයක් ද ඇත. එහි අතීතය නම්:- අද්ධාන- සනතති - සමය - ඛණ වශයෙන් සතරාකාර වේ. අනාගත පච්චුප්පනන දෙකද එසේමය. එහි පළමුකොට අද්ධාන වශයෙන් යනු, එකෙකු සම්බන්ධ එක් භවයකදී පටිසන්ධියට පෙර, අතීත නම් වේ. චුතියෙන් පසු අනාගතයයි. අතීත අනාගත අතර (පච්චුප්පනන) වර්තමානයයි සන්තති වශයෙන් සභාග, ඒක උතු, ඒක ආහාර, සමුට්ඨාන පූර්වාපර වශයෙන් පවත්නේ ද පච්චුප්පනනයයි. ඊට පෙර, විසභාග, උතු ආහාර, සමුට්ඨාන, අතීතයයි. ඉන්පසු අනාගතයයි. චිත්තජ, එකවීථි, එකජවන, එක සමාපත්ති සමුට්ඨාන වර්තමාන නම් වේ. ඉන් පෙර අතීතයයි. පසු අනාගතයයි. කමම සමුට්ඨානයන්ට වෙන් වෙන්වූ සනතති වශයෙන් අතීතාදි භේද නැත. උතු-ආහාර චිතත සමුට්ඨානයන්ට උපත්ථම්භක වශයෙන් අතීතාදී භාවයන් දතයුතුයැ. සමය වශයෙන්, එක මොහොතක් පුබ්බණ්හ, සායණ්හ, රෑ දහවල් ආදියෙහි යෙදෙයි. සනතාන වශයෙන් පවත්නා වූ ඒ සමයට අයත් රූපය වර්තමාන නම්. එයින් පෙර අතීතයයි. (පච්ඡා) පසුව අනාගතයයි. ඛණ වශයෙන් උත්පාද ආදි ක්‍ෂණත්‍රයට අයත් වූයේ වර්තමාන නම්. ඉන් පෙර අතීතයයි. පසුව අනාගතයයි. මේ නිෂ්පරියාය කථාය ඉතිරි ඒවා.

අජ්ඣතතං වා බහිද්ධා වා චකඛු ආදි පංචවිධ ආත්මභාවය අධික (ප්‍රධාන) කෘත්‍යයන්හි යෙදෙන බැවින් අජ්ඣතත නම් වේ. සෙසු ඒවා බාහිරය. තමා අයත් වූයේ හෝ මෙහි අජ්ඣතත නම්. පර පුද්ගලයන් අයත් වූයේ බාහිර යයි දතයුතුය. ආපෝ ධාතුවෙන් තොර පසාද විසය නම් වූ දොළොස් රූප ගැටීම් වශයෙන් ගැනීමේ දී ඕළාරික වේ. සෙසු රූප ඊට විපරීත බැවින් සුඛුමරූප නම් වේ. හීනපනීත භාවය පරියාය නිප්පරියාය වශයෙන් දතයුතුය. එහි අකනිට්ඨා බඹලොව රූපයන් අතුරෙන්,

සුදස්සී රූප හීනය. සුදස්සීගේ රූපයන් අතුරෙන් ප්‍රණීතය. මෙ පරිද්දෙන් නේරයික සත්ත්වයන්ගේ රූප ඔවුන්ගේ පර්යාය වශයෙන් හීන හා ප්‍රණීත වේයයි දතයුතුය. නිපපරියාය වශයෙන් යමක් අරමුණුකොට අකුසල විපාකයක් උපදීද එය හීන නම් වේ. අනිට්ඨ බව ඇතිකරන බැවිනි. යමක් අරමුණුකොට කුසල විපාකයක් උපදී ද, එය පණීත නම් වේ. ඉට්ඨ බවක් ඇතිකරන බැවිනි. යම් රූපයක් සියුම් ද, අවබෝධ දුෂ්කර බැවින් 'දූරෙ' නම් වේ. අනික පහසුවෙන් අවබෝධ කටයුතු හැකිවන බැවින් සනතිකෙ නම් වේ. මෙහි අවකාශ වශයෙන් ද දැඩි ලෙස ගනිමින් දූර සන්තිකභාවය දතයුත්තාහුය. සම්මප්පඤ්ඤාය. විපස්සනාව සමග මාර්ග ප්‍රඥාව.

යා කාචි වේදනා, ආදියෙහි සනතති වශයෙන් ද ක්ෂණ වශයෙන් අතීතාදි භාවය දතයුතුය. එහි සන්තති වශයෙන් ඒක වීථි-ඒකජවන ඒක සමාපත්ති පරියාපන්න වූ, ඒකවිධ විෂයක මනාව යෙදී පවත්නා වූද, දවස පුරා බුද්ධරූපයක් බලන්නහුගේ, බණ අසන්නහුගේ පැවැති සද්ධා සහිත වේදනාව (පච්චුපනන) වර්තමාන නම් වේ. ඉන්පෙර අතීතයයි. පසුව අනාගතයයි. ක්ෂණ කථාව පැහැදිළිය. අධ්‍යාත්මික බාහිර භේදය තම අධ්‍යාත්මය වශයෙන් දතයුතුය. ඕලාරික සුඛුම භේදය විභංගයෙහි පැවසෙන අයුරින්, ජාති ස්වභාව - පුද්ගල - ලෞකික ලෝකෝත්තර වශයෙන් දතයුතුය. කෙසේද? සාවද්‍ය ආදි බව විසින් අකුසල වේදනාව ඕලාරිකය. එයින් තොර බැවින් ඉතුරු වේදනා දෙක සුඛුම වේ. සව්‍යාපාරාදි භාවය හේතුවෙන් කුසලා කුසල වේදනා ඕලාරික නම් වේ. ආස්වාද රහිත බැවින් දුක්ඛ වේදනාව ඕලාරික වේ. ඉතිරි වේදනා දෙක සුඛුම වේ. පැතිරීම් සහිත බැවින් සුඛ-දුක්ඛ වේදනා ඕලාරික වේ. උපෙක්ඛා වේදනාව සුඛුම වේ. නොයෙක් අරමුණුවල විසුරුණු බැවින් එකඟ නොවූ සිත් ඇත්තහුගේ වේදනාව ඕලාරික වේ. එකඟ වූ සිත් ඇත්තහුගේ වේදනාව සුඛුම වේ. ලෞකික ආදි භාවයන් නිසා ආසව සහිත වේදනාව ඔලාරික වේ. ආසව රහිත වේදනාව සුඛුම වේ. එහි මෙසේ කියන්නහු විසින් ජාති ආදි වශයෙන් භේදයන් පරිහරණය කළයුතුය. අකුසල විපාකයක් වූ දුක්ඛ වේදනාව ජාති වශයෙන් අබ්‍යාකත බැවින් සුඛුම බවට සමාන වූයේ, ස්වභාවාදි වශයෙන් ඕලාරික වේ. එබැවින් යම්සේ ජාති ආදි වශයෙන් යම් භේදයක් නොවේද, එසේ වේදනාදීන්ගේ ඕලාරික සුඛුමතා දතයුත්තාහුය.

මෙහි මෙම නයයි :- කාමාවචර කුසල් නම් වූ වේදනාව ඖලාරික වේ. කාමාවචර කුසල විපාක වේදනාව සියුම් වේ. රූප-අරූප ලෝකෝත්තර කුසල වේදනාව ඖලාරික වේ. රූප අරූප ලෝකෝත්තර විපාක වේදනාව සියුම් වේ.

මේ අයුරින් කියන්නේ නොබිඳෙන්නේ නම් වෙයි. නමුත් ඒ ඒ වේදනාව ගනිමින් වේදනාවේ ඖලාරික සුඛුම භාවය දතයුත්තේය. හීන ප්‍රණීත භේදයෙහි වනාහි යම් වේදනාවක් ඖලාරික වන්නී ද ඕ හීන වන්නීය. යම් වේදනාවක් සුඛුම වන්නීද ඕ පණීතයයි දත යුත්තීය. දූර සන්තික භේදයෙහි වනාහි, විසභාග බැවින්ද මිශ්‍ර නොවූ බැවින්ද, සමාන නොවූ බැවින්ද, අකුසල වේදනා, කුසල අබ්‍යාකත වේදනා දූරෙ වේදනා නම්. එසේම කුසල් අව්‍යාකයෝ අකුසල් වූවොත් දූරෙ නම් වේ. අකුසල වේදනාවෝ වනාහි ස්වභාවයෙන්ම සමාන බැවින්ද, අකුසලය සමීපයේය. සියලු වාරයන්හි මේ නයමැයි. ඒ ඒ වේදනා සම්පයුත්ත භාවයෙන් ද, සඤ්ඤාදීන්ද මේ අයුරින් දතයුත්තේය.

සුතවා, ආගම අධිගම සංඛ්‍යාත බහුශ්‍රැත භාවයෙන් යුක්ත වූයේ සුතවා නම් වේ. නිබ්බින්දති කලකිරෙයි. මෙයින් වුට්ඨානගාමිනී විදර්ශනාව අදහස් කරන ලද්දීය. නිබ්බින්දං විරජ්ජති, මෙහි විරාග වශයෙන් සතර මාර්ගයෝ කියන ලද්දාහුය. විරාගා විමුච්චති, හේතුභූත වූ මාර්ගයෙන් පටිපස්සද්ධි විමුත්ති වශයෙන් මිදුනේය. මෙයින් සතර සාමඤ්ඤඵලයෝ කියන ලද්දාහුය. විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති මෙයින් ප්‍රත්‍යවේක්ෂා ඤාණය කියන ලද්දේ වෙයි. ඛීණා ජාති ආදියෙන් ඔහුගේ භූමිය දක්වයි. එම ඤාණයෙන් ආර්යශ්‍රාවක තෙම 'මාර්ගය නොවැඩූ බැවින් එකවෝකාර, චතුවෝකාර - පඤ්චවෝකාර භවයන්හි, එකු-චතු-පඤ්ච, පඤ්චක්ඛන්ධ ප්‍රභේද වූ ජාතිවල උපදින්නේය. එය මාර්ග භාවනාවෙන් ප්‍රහීණ කළ කෙලෙස් ප්‍රත්‍යවේක්ෂා කොට කිලේසයන්ගේ අභාවය ඇති කල්හි කර්මය ආයති භවයක ප්‍රතිසන්ධිය නොදෙන්නේ යයි දන්නේ 'ඛීණා මෙ ජාති' මගේ ජාතිය ප්‍රහීණ වීයයි දැනගනී. වුසිතං වසන ලදි. සම්පූර්ණයෙන් වසන ලදී. වැස නිමවන ලදී. නිමකරන ලද්දේය යන අර්ථයයි. බ්‍රහ්මචරියං මාර්ග බ්‍රහ්මචරියාවයි. පෘථග්ජන කල්‍යාණයා සමග සත්ත සේඛයෝ බඹසර වසන්නාහු නම් වෙති. ඛීණාසව තෙමේ වැස නිමවන ලදී. එබැවින් හෙතෙම තම බ්‍රහ්මචරිය වාසය ප්‍රත්‍යවේක්ෂා කොට වුසිතං බ්‍රහ්ම චරියං, බඹසර වැස නිමකරන ලද්දේ

යයි දැනගනී. කතං කරණීයං සතර සත්‍යයන්හි සතර මගින් පරිඥා-පහාන-සච්ඡිකිරියා-භාවනා වශයෙන් සොළසාකාර කෘත්‍යයන් කරන ලද්දේය. නිමවන ලද්දේය යන අර්ථයි. පුථුජ්ජන කල්‍යාණ ආදීහු එම කෘත්‍යය කරත්. ඛීණාසව තෙම කතකරණීය වේ. කෘත්‍ය කර නිමකරන ලද්දේ වේ. එබැවින් හෙතෙම ප්‍රත්‍යවේක්ෂා කරන්නේ මෙසේ දැනගනී.

නාපරං ඉත්ථත්තාය, (මේ රහත්බව සඳහා කළයුතු අතිකක් නැත.) දැන් නැවත මේ රහත් බව සඳහා සොළස කෘත්‍ය පිළිබඳව, කෙලෙස් නැතිකළ බැවින් හෝ මගග භාවනාවෙන් කළයුතු කෘත්‍යයක් මට නැත යයි දැනගනී. නැතහොත් ඉත්ථත්තාය, මේ භාවය, මේ පඤ්ච ස්කන්ධයෙන් මේ අයුරු වූ වර්තමාන ඛන්ධපඤ්චකය හැර වෙනත් ඛන්ධ සන්තානයක් මට නැත. (වර්තමාන) පඤ්චස්කන්ධය වූ කලී පිරිසිඳ දැනගැනීමෙන් අනතුරුව පවතී. මුල සිඳ දමන ලද ගසක් මෙනි. ස්කන්ධයෝ අන්තිම විඥානයාගේ නිරෝධයෙන් උපාදාන රහිත වූ ජාතවේදය මෙන් නිවී යන්නේ යයි දැනගනී. අත්තමනා සතුටු සිත් ඇත්තේ තුටුවූ සිත් ඇත්තේ ප්‍රීති සොම්නසින් යුක්තව භගවතො භාසිතං අභිනන්‍දුං කුරවි කෙවිල්ලන්ගේ හඬ මෙන් කණට මිහිරි වූ, පණ්ඩිත ජනයන්ගේ හෘදයට අමතාභිෂේකයක් බඳු වූ බ්‍රහ්ම ස්වරයෙන් වදාරන්නා වූ භාග්‍යවතුන් වහන්සේගේ වචනය 'මනාව වදාරන ලදහ. මනාව දෙසන ලදහ. එය එසේය භාග්‍යවතුන් වහන්ස, එය එසේය. සුගතයන් වහන්ස, යයි' මුදුනින් පිළිගනිමින් අනුමෝදන් වූහ. පිළිගත්තේය යන අර්ථයි. අනුපාදාය ආසවෙහි චිත්තානි විමුච්චිංසු. (පස්වග මහණුන්ගේ සිත් උපාදාන වශයෙන් නොගෙන මිදුනේය.) අනුත්පාද නිරෝධයෙන් නිරුද්ධ වන්නේ ආසවෙහි අනුපාදාය, මම ය මාගේ යයි කිසි ධර්මයක් නොගෙන සිත් මිදුනාහුය.

**අනත්ත සූත්‍ර වර්ණනාව**
**නිමි.**

# 76.

චූල රාහුලෝවාද සූත්‍රයෙහි,

**විමුත්ති පරිපාචනීයා**, (විමුත්තිය මුහුකුරා යාම හිතවත් වූ ධර්මයෝ) විමුත්තිය මුහුකුරා යාමට පසළොස් ධර්මයෝ, ඒ සද්ධින්ද්‍රියාදීන්ගේ විසුද්ධි කාරණ වශයෙන් දතයුත්තාහුය. මෙය මෙසේ කියන ලද්දේය. අශ්‍රද්ධා පුද්ගලයන් දුරු කිරීමෙන් ද, සැදැහැවත් පුද්ගලයන් සේවනය කිරීමෙන් භජනය කිරීමෙන් පයුරුපාසනය කිරීමෙන් ද, පාසාදනීය සූත්‍රය ප්‍රත්‍යවේක්ෂා කිරීමෙන් ද, මේ තුන් ආකාරයෙන් සද්ධින්ද්‍රිය පිරිසිදු වේ. කුසීත පුද්ගලයන් දුරුකිරීමෙන් ද, ආරද්ධවිරිය පුද්ගලයන් සේවන, භජන-පයුරුපාසනය කිරීමෙන් ද සම්‍යග්ප්‍රධාන ධර්මයන් ප්‍රත්‍යවේක්ෂා කිරීමෙන්ද, මේ තුන් ආකාරයෙන් විරිය ඉන්ද්‍රිය පිරිසිදු වේ. මුළා වූ සිහි ඇති පුද්ගලයන් වර්ජනය කිරීමෙන් ද, එළඹ සිටි සිහි ඇති පුද්ගලයන් -පෙ- සතිපට්ඨානය -පෙ- අසමාහිත -පෙ- සමාහිත -පෙ- ඤාණවිමොක්ඛ -පෙ- දුප්පඤ්ඤ පුද්ගලයන් -පෙ- පඤ්ඤාවන්ත පුද්ගලයන් -පෙ- ගැඹුරු ඤාණ චරියා ඇති පුද්ගලයන් ප්‍රත්‍යවේක්ෂා කිරීමෙන් ද යන මේ තුන් ආකාරයෙන් පඤ්ඤින්ද්‍රිය පිරිසිදු වේ. මෙසේ පඤ්ච පුද්ගලයන් දුරුකිරීමෙන් ද, පඤ්ච පුද්ගලයන් සේවන භජන පයුරුපාසන කිරීමෙන් ද පඤ්ච සූත්‍රාන්ත ධර්මයන් ප්‍රත්‍යවේක්ෂා කිරීමෙන් ද යන මේ පසළොස් අයුරකින් මේ පංච ඉන්ද්‍රිය ධර්ම පිරිසිදු වෙයි.

අනිකුදු පසළොස් ධර්ම කෙනෙක් විමුත්ති පරිපාචනීය ධර්ම නම් වෙති. සද්ධාදි මේ පංච ඉන්ද්‍රියෝ ද, අනිත්‍ය සංඥා, අනිත්‍යයෙහි දුක්ඛ සංඥා දුක්ඛයෙහි අනත්ත සංඥා, පහාණ සංඥා, විරාග සංඥා යන මේ පස් නිබ්බෙධ භාගිය සංඥා, 'මෙඝිය' තෙරුන්ට කියන ලද කල්‍යාණ මිත්‍රතාව සීල සම්පත්තිය, අප්පිච්ඡ කථා ආදි දසකථා, ආරද්ධ විරිය කථා, උදයත්ථගාමිනී ප්‍රඥා යන පංච ධර්මයෝය.

එවැනි අවස්ථාවෙහි අලුයම් වේලෙහි ලෝකය බලන්නා වූ භාග්‍යවතුන් වහන්සේට මෙබඳු අදහසක් විය. අනෙකානි දෙවතා සහසසානි ආයුෂ්මත් රාහුල විසින් පදුමුත්තර බුදුරදුන්ගේ පාද මූලයේ දී පඨවින්ධර නාගරාජ කාලයෙහි ප්‍රාර්ථනා තබන ලද්දා වූම, දේවතාවෝම,

ඔවුන් අතුරෙන් සමහරෙක් භුම්‍යස්ථ දෙවියෝය, සමහරෙක් අන්තලික්ඛ දෙවියොය්. සමහරෙක් චාතුර්මහා රාජිකයෝය. සමහරෙක් දිව්‍යලෝකයෙහි සමහරෙක් බ්‍රහ්මලෝකයෙහි උපන්නාහුය. මෙම දවසෙහි සියල්ලෝ එකතැනකට අන්ධ වනයට රැස්වූවාහු වෙති. අජ්ඣා ගහෙත්වා, ඇතුලට පිවිස ධම්මං චක්ඛුං උපාලි ඔවාද දීඝනඛ සූත්‍රයේදී ප්‍රථම මාර්ගය ද, එයටද ධම්ම චක්ඛු යයි කියනු ලැබේ. බ්‍රහ්මායු සූත්‍රය දේශනා කරනු ලබන කල්හි තුන්ඵලයෝ ද, මෙම සූත්‍රයේ දී සතර මාර්ගද, සතර සාමඤ්ඤඵලද ධම්මචක්ඛු යයි දතයුත්තාහුය. එහි දී සමහර දේවතාවෝ සෝවාන් වූවාහු වෙති. කිසිවෙක් සකෘදාගාමි, කිසිවෙක් අනාගාමි කිසිවෙක් රහත් වූවාහුය. එම දෙවියන්ගේ මෙපමණයයි ගණන් පිරිසිඳීමක් නැත්තේය. සෙස්ස ප්‍රකට වේමය.

චූල රාහුලෝවාද සූත්‍ර වර්ණනාව නිමි.

## 77.

අජ්ඣත්තික සුත්තෙත (පඨම සෙඛපුත්තත) අජ්ඣත්ති සූත්‍රයෙහි,

සෙඛසස මෙහි කිනම් අර්ථයකින් සේඛ නම් වේද? සේඛධම්ම ප්‍රතිලාභය ඇති බැවින් සේඛ නම් වේ. එය මෙසේ කියන ලදී. 'ස්වාමීනි, කොපමණකින් සේඛයෙක් වේද? සේඛ වූ සම්මා දිට්ඨියෙන් යුක්ත වූයේ වේද, -පෙ- සේඛ වූ සම්මා සමාධියෙන් යුක්ත වූයේ වේද, මෙපමණකින් භික්ෂුව සේඛ නම් වේ. යලිදු සික්ඛතීති සෙකෙඛා, හික්මේනුයි සෙඛ නම් වේ. මෙසේ කියන ලදීඃ- කුමක් සඳහා හික්මේ ද, අධිසීල පිලිබඳව හික්මෙයි. අධිචිත්තය සඳහා හික්මෙයි. අධි ප්‍රඥාව සඳහා හික්මෙයි. යම්කිසි කල්‍යාණ පුහුදුන් කෙනෙක් අනුලොම් ප්‍රතිපදාව පුරන්නේ සීල සම්පන්න වූයේ, වසන ලද ඉඳුරන් ඇත්තේ, භෝජනයෙහි පමණ දන්නේ ජාගරියානුයෝගයෙහි යෙදුනේ පූර්ව රාත්‍රිය, අපර රාත්‍රිය, බෝධි පාක්ෂික

ධර්මයන් පිළිබඳව භාවනානුයෝගයෙහි යෙදුණේ වාසය කරයි. අද හෝ හෙට හෝ මෙම අර්ථයෙහි හික්මේ යයි අදහස් කරන ලද්දේය.

'අප්පමත්තං' මානසං සෙනාති' අප්පමත්ත මානසො, අප්‍රමාදී වූ මනසක් යමෙකුට ද හෙතෙම 'අප්පමත්ත මානසො' නම් වේ. මානසං යනුවෙන් ද, කාමාදි බැම්වැනි නිදහස් වීම රහත් බවම අදහස් කරන ලදී. පත්ථය මානසස ප්‍රාර්ථනාවෝ දෙකකි. තණ්හා පත්ථනා, ඡන්ද පත්ථනා යනුයි. එහි කත්තුකම්‍යතා කුසලච්ඡන්ද පත්ථනාව මෙහි අදහස් කරන ලදී. යෝගක්ඛේමය කත්තු කම්පනා කුසල ඡන්දයට නැමුනේ අවනත වූයේ අභිමුඛ වූයේ වෙයි යන අර්ථයි.

අජ්ඣත්තිකං ස්වකීය අධ්‍යාත්ම නම් වූ අජ්ඣත්තෙත භවං අජ්ඣත්තිකං, අධ්‍යාත්මයෙහි වූ බව අජ්ඣත්තික නම් වේ. අංගං යනු කාරණයයි. ඉති කරිත්වා මෙසේ කොට, යොනිසො මනසිකරෝ, උපාය මනසිකාරය පථ මනසිකාරය, අනිච්චාදි දෙය අනිච්චාදි වශයෙන් මෙනෙහි කිරීම අනිත්‍යාදියට අනුලොම් වශයෙන් හෝ චිත්තයාගේ පෙරළීම අනුව පෙරළීම ආභොගය, (ආවර්ජනය) යොමුකිරීම මෙනෙහි කිරීම නම් වේ. යොනිසො මනසිකරොනෙතා මේ දුක්ඛ ආර්ය සත්‍යයයි. මේ සමුදය ආර්ය සත්‍යයයි. මේ දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යයයි. මේ දුක්ඛ නිරෝධගාමිනී ප්‍රතිපදා ආර්ය සත්‍යයයි. චතුරාර්ය සත්‍ය ධර්මයන් විෂයෙහි යොනිසො මනසිකාරය පවත්වන්නේ යනුයි.

මේ එහි අර්ථ විභාවනාවයි. ඉදින් මෙම සූත්‍රය අවිශේෂයෙන් සේඛ පුද්ගලයන්ගේ වශයෙන් ආවේය. සතර මාර්ගයන්ට සාධාරණ වශයෙන් සැකෙවින් කර්මස්ථානය ප්‍රකාශ කරන්නෙමි. යම් චතුසච්ච කම්මට්ඨානික යෝගාවචරයෙක් තෘෂ්ණාව හැර තෛභූමක ඛන්ධයෝ දුක්ඛ සත්‍ය වේ. තණ්හා තොමෝ දුක්ඛ සමුදය වන්නීය. එම සත්‍ය දෙකේම නො පැවැත්ම නිරෝධ සත්‍ය නම් වේ. නිරෝධයට පමුණුවන මගයයි මෙසේ පෙර ඇදුරු හමුවෙහි උගත් චතුසච්ච කම්මට්ඨානය වෙයි. එය පසුකලෙක විදර්ශනා මගට බැසගත්තේ තෛභූමක ඛන්ධ ධර්මයන් මේ දුකයයි නුවණින් මෙනෙහි කරයි. උපායෙන් ද පථයෙන් ද යොමුවීමෙන් විශේෂයෙන් දකියි. යම් මේ ඒ දුකට සමුට්ඨාන වූ තණ්හාව මේ දුක්ඛ සමුදය යයි නුවණින් මෙනෙහි කරයි. යම්හෙයකින් මේ දුක ද මේ දුක් සමුදය ද මේ තැනට පැමිණ නිරුද්ධ වේ. නොපවතී. එබැවින්

එය නිබ්බාන නම් වේ. මෙය දුක් නිරෝධය යයි නුවණින් මෙනෙහි කරයි. නිරෝධයට පමුණුවන්නා වූ අරිඅටඟි මග දුක් නැති කිරීමේ පටිපදාව යයි නුවණින් මෙනෙහි කරයි. එහි මේ උපායයයි.

හෙතෙම මේ කයෙහි පඨවි ධාතු, ආපෝ ධාතු ආදී නයින් සතර මහාභූතයන් ද, තදනුසාරයෙන් උපාදාය රූපද ගෙන, මේ රූප ස්කන්ධ යයි නියම කෙරෙයි. එම නියම කිරීමෙන් උපන් තදාරම්මණ චිත්ත චෛතසික ධර්මයන් මේ සතර අරූප ස්කන්ධ යයි නියම කෙරෙයි. අනතුරුව මේ පඤ්චස්කන්ධ ධර්මයෝ දුක යයි නියම කෙරෙයි. ඔවුහු වනාහි සැකෙවින් නාමරූප යයි කොටස් දෙකක් වෙති. මේ නාම-රූපද සහේතුක සපපච්චයම උපදියි. ඔහුගේ මේ අවිජ්ජා භවතණ්හා ආදි වූ හේතු, මේ ආහාර ආදි ප්‍රත්‍යයයි හේතුප්‍රත්‍යයන් නියම කෙරෙයි. හෙතෙම එම පච්චය පච්චයුප්පන්න ධර්මයන්ගේ ලක්‍ෂණයන් ඇති සැටියෙන් නියම කෙරෙයි. 'මේ ධර්මයෝ නොවී ඇති වෙත්. මේ ධර්මයෝ ඇතිවී නිරුද්ධ වෙත්. එබැවින් අනිත්‍යයයි අනිත්‍ය ලක්‍ෂණයට නගයි. උදයබ්බය දෙකින් පෙලෙන බැවින් දුක යයි දුක්ඛ ලක්‍ෂණයට නගයි. වසඟයෙහි නොපවත්නා බැවින් අනත්ත යයි අනත්ත ලක්‍ෂණයට නගයි.

මෙසේ ත්‍රිලක්‍ෂණයට නගා විපස්සනා වඩන්නේ උදයබ්බය ඥාණය උපන් කල්හි, ඔභාස ආදි විපස්සනා උපක්ලෙශයන්, 'මේ නොමගයි. උදයබ්බය ඥාණයම ආර්යමාර්ගයට උපායභූත, පූර්වභාග මාර්ගය යයි. මග නොමග නියම කෙරෙයි. නැවත උදයබ්බය ඥාණයට පිළිවෙළින් භංගඥාණාදියද උපදවන්නේ සෝතාපත්ති මාර්ගාදියට පැමිණෙයි. එකෙණෙහි සතර ආර්ය සත්‍යය එකම පටිවෙධ ඥාණයෙන් අවබෝධ කෙරේ. ඒකාභිසමයෙන් අභිසමය කෙරෙයි. එහි දුක්ඛ පරිඥා පටිවේධයෙන් පටිවේධ කරන්නේ සමුදය පහාන පටිවේධයෙන් පටිවේධ කරන්නේ සියලු අකුසල දුරුකරයි. නිරෝධය සච්ඡිකිරියා පටිවේධයෙන් පටිවේධ කරන්නේ මාර්ගය භාවනා පටිවේධයෙන් පටිවේධ කරන්නේ සියලු කුසලයන් වඩයි. ආර්ය මාර්ගය නිප්පරියාය වශයෙන් කුච්ඡිත දෙය කම්පා කරන අර්ථයෙන් කුසල නම් වේ. එය භාවිත කළ කල්හි සියලු කුසල් නිවැරදි, බෝධිපාක්‍ෂික ධර්මයෝ භාවනාවෝ පරිපූර්ණ භාවයට පැමිණෙත්. මෙසේ යෝනිසෝ මනසිකාරයෙන් මෙනෙහි කරන්නේ, අකුසල් දුරුකරයි. කුසල් වඩයි. එහෙයින් වදාරණ ලදී.

'ඉදං දුක්ඛන්ති යොනිසො මනසි කරොති
අයං දුක්ඛ සමුදයොති යොනිසො මනසි කරොති'

'මේ දුකයයි නුවණින් මෙනෙහි කරයි. මේ දුක්ඛ සමුදය යයි නුවණින් මෙනෙහි කරයි යනාදිය. අතිකකුදු වදාරන ලදී.

'යොනිසො මනසිකාර සම්පන්න සෙසතං භික්ඛවෙ
භික්ඛුනො පාටිකංඛං අරියං අට්ඨංගිකං මග්ගං භාවෙස්සති
අරියං අඩඨංගිකං මග්ගං බහුලී කරිස්සතී ති'

'මහණෙනි, යොනිසො මනසිකාර සම්පන්න භික්ෂුවට අරිඅටඟි මග වඩන්නේය යන්න කැමතිවිය යුතුය. අරිඅටඟි මග බහුල වශයෙන් වඩන්නේය යනුයි.'

යොනිසො මනසිකාරො ධම්මො - සෙඛස්ස භික්ඛුනො
නාඤ්ඤො එවං බහුකාරො - උත්තමත්ථස්ස පත්තියා
යොනිසො පදහං භික්ඛු - ඛයං දුක්ඛස්ස පාපුණෙ

ගාථාවෙහි උත්තමත්ථස්ස පත්තියා රහත්බව අධිගමය පිණිස, යොනිසො පදහං උපාය, පථ මනසිකාරයෙන් ද, සතර වැදෑරුම් සම්‍යප්පධානයෙන් ද වීර්යය කරන්නේ ඛයං දුක්ඛස්ස පාපුණෙති වටට දුකඛයාගේ නැතිකිරීම, අවසානය වූ නිවනට පැමිණෙන්නේය. එබැවින් යොනිසො මනසිකාරය බොහෝ උපකාර ඇත්තේ යයි යෙදිය යුත්තේය.

අජ්ඣත්තිකංග සූත්‍ර වර්ණනාව නිමි.[1]

## 78.

බාහිරංග සුත්තන (දුතියෙඛ) සූත්‍රයෙහි,

බාහිරං, අධ්‍යාත්මික සන්තානයෙන් බාහිර බව කල්‍යාණ මිත්තතො යමෙක් සීලාදි ගුණ, සම්පන්නද, විපතේ දී පියා වැනිද, හිතවත් බැවින්

1. අජ්ඣත්තිකංග සූත්‍ර වර්ණනාව

බ්‍රහ්මයා වැනිද හේ සර්වප්‍රකාරයෙන්ම උපකාර වූ මිත්‍රයා වෙයි. ඒ කල්‍යාණ මිත්‍ර තෙම ඔහුගේ ස්වභාවය කල්‍යාණ මිත්තතා නම් වේ. මේ කල්‍යාණ මිත්‍රයාගේ ලක්‍ෂණයයි.

පියොච ගරුභාවනියො, වත්තාච වචනක්ඛමො
ගම්භිරඤ්ච කථං කත්තා, නොචට්ඨානෙ නියොජයෙ

(සැමට ප්‍රිය වූ, ගුරු වූ සම්භාවනීය වූ ධර්මය කියන්නා වූ විශ්වාසනීය තෙපුල් ඇත්තා වූ කථාව ගැඹුරු වූ අස්ථානයෙහි නියෝජනය නොවූ භික්‍ෂුව කලණ මිතුරෙකි.)

කල්‍යාණ මිත්තො අකුසලං පජහති කුසලං භාවෙති කලණ මිතුරන් ඇති පුද්ගල තෙම කලණ මිතුරන් නිසා කම්මස්සකතා ඤාණය උපදවා ගනී. උපන් සද්ධාව දියුණුකර ගනියි. හටගත් සද්ධා ඇත්තේ, එළඹෙයි. එළඹුනේ බණ අසයි. ඒ ධර්මය අසා තථාගතයන් වහන්සේ පිළිබඳව ශ්‍රද්ධාව ලබයි. එම ශ්‍රද්ධාව ලැබීමෙන් ගිහිගෙය හැර පැවිදි වෙයි. චතු පාරිශුද්ධි සීලය සම්පාදනය කෙරෙයි. ශක්ති පමණ ධුතාංග සමාදන්ව පවතී. දශකථා වත්ථුලාභියෙක් වෙයි. පටන්ගත් වීර්යය ඇත්තේ වාසය කරයි. එළඹ සිටි සිහි ඇත්තේ, මනාව දැන ගත්තේ පුබ්බරත්ත - පරරත්ත දෙක්හි බෝධිපාක්‍ෂීය ධර්මයන් පිළිබඳව භාවනානුයෝගයෙහි යෙදුනේ නොබෝ කලකින් විදර්ශනාවෙහි උත්සුකව ආර්යමාර්ගාධිගමයෙන් සියලු අකුසලයන් මුල්සිඳ දමයි. සියලු කුසලයන් භාවනා වශයෙන් වඩයි.

කල්‍යාණ මිත්තො යො භික්ඛු - සප්පතිස්සො සගාරවො
කරං මිත්තානං වචනං - සම්පජානො පතිස්සතො
පාපුණෙ අනුපුබ්බෙන - සබ්බ සංයොජනක්ඛයං

ගාථාවෙහි සප්පතිස්සො (එළඹ සිටි සිහි ඇත්තේ) පතිස්සව සංඛාතෙන පතිස්සෙන සහා - සප්පතිස්සො කලණ මිතුරාගේ අවවාද හිසින් පිළිගන්නේ සුවච යන අර්ථයි. නැතහොත් හිතසුඛෙ පතිට්ඨාපනෙන පටිපත්තිං ඊසෙතීති - පතිස්සො අවවාද දෙන්නා. තෙන පතිස්සෙන සහ වත්තතීති සප්පතිස්සො, සගාරවො සවැදෑරුම් ගෞරවයෙන් යුක්ත වූයේ. කරං මිත්තාන වචනං, කලණ මිතුරන්ගේ අවවාද පරිදි කටයුතු කරන්නේ අවවාද පරිදි පිළිපදින්නේ සම්පජානො හත්ආකාර වූ ද අටආකාර වූ ද

සම්පජඤ්ඤ ධර්මයන්ගෙන් සමන්විත වූයේ. **පතිස්සතො**, කර්මස්ථානයන් කිරීමට සමත් සතිය පතිස්සත නම් වේ. සිහියෙන් යුතුව කටයුතු කරන්නේ. අනුපුබ්බෙන, සීලාදි විසුද්ධි පිළිවෙළින් ද මාර්ග පිළිවෙළින් ද, **සබ්බ සංයොජනක්ඛයං** කාමරාගාදී සියලු සංයෝජන ධර්මයන් ප්‍රහීණ කිරීමෙන් සියලු සංයෝජනයන් නැතිකිරීම් සංඛ්‍යාත ආර්යමාර්ගයාගේ අවසානය වූ රහත්බවට ද ඊට අරමුණු වූ නිවනට ද පැමිණෙන්නේ ය.

**බාහිරංග (දුතියසේඛ) සූත්‍ර වර්ණනාව නිමි.**

# 79.

**පිණ්ඩියාලොප සුත්ත** (ජීවිකා) සූත්‍රයෙහි.

අර්ථෝත්පත්ති වශයෙන් මෙය දේශනා කරන ලදී. එක් සමයෙක්හි භාග්‍යවතුන් වහන්සේ කිඹුල්වත්පුර නිග්‍රෝධාරාමයෙහි වැඩවසන සමයෙහි භික්ෂූහු ආගන්තුක භික්ෂූන්ට සෙනසුන් පනවන්නාහු පාසිවුරු තැන්පත්කොට තබන්නාහු සාමණේරවරු ද ආහාර බෙදන තැනට පැමිණ ආහාර ලබන්නාහු මහත් හඬින් ශබ්ද කළාහුය. එය ඇසූ භාග්‍යවතුන් වහන්සේ එම භික්ෂූන් නෙරපූහ. ඔවුන් සියල්ලෝම නවකයෝය. මෙම සසුනට අළුතින් ඇතුල්වූවාහු වෙති. එය දැන මහාබ්‍රහ්මතෙම පැමිණ 'ස්වාමීනි, භාග්‍යවතුන් වහන්සේ භික්ෂු සංඝයාට සතුටුවන සේක්වා' කියා එම නෙරපන ලද භික්ෂූන්ට අනුග්‍රහ කරන ලෙස ඉල්ලා නික්ම ගියේය. අනතුරුව භාග්‍යවතුන් වහන්සේ ආනන්ද තෙරුන්ට නෙරපූ භික්ෂූන් නැවත කැඳවන ආකාරය දැක්වීය. තෙරුන් විසින් කැඳවනු ලැබූ ඒ භික්ෂූහු කෙලෙස් සහිත ස්වරූප ඇත්තේ, භාග්‍යවතුන් වහන්සේ වෙත එළඹ එකත්පසෙක සිටියාහුය. භාග්‍යවතුන් වහන්සේ ආමිස හේතුවෙන් නෙරපනු ලැබූ මොවුන්ට පිණ්ඩියාලොප ධර්ම දේශනාව සුදුසුයයි සිතා **අනනමිදං භික්ඛවෙ** යනුවෙන් මෙම ධර්මදේශනය කළ සේක. මෙම ජීවිතය ජීවිතයන්ගේ කෙළවර ලාමකය. සියල්ල පහත්ය. **යදි දං පිණ්ඩොලෙපං** යම් මේ පිඩු සෙවීමෙන් ජීවිතය ගෙන යන්නහුගේ ජීවිකාව **අභිසාපොති** අක්‍රෝශ කිරීමක් වේ. රෙදිකඩක් පොරවාගෙන කබලක්

අතේ ඇතිව පිඬු සොයමින් හැසිරෙන්නෙහි ද ආක්‍රෝශ කෙරෙත් ද, ආක්‍රොශ කෙරෙත්. 'කිම තොපට නොකළ යුත්තක් ඇත්ද? යම්බඳු ඔබ මෙසේ බලයෙන් හා වීර්යයෙන් යුක්ත වූයේ හිරිඔතප් දුරුකොට දිළිඳු වූ පිඬුසිඟීමෙහි අතේ බඳුනක් ඇතිව හැසිරෙන්නෙහි යයි මෙසේ හෝ ආක්‍රෝශ කරයි. කඤ්ච බො එතං, මෙබඳු ආක්‍රොශ ඇති පිඬුසිඟීමෙන් කරණ ජීවිකාවට යම් හේතුවක් නිසා කුලපුත්‍රයෝ එළඹෙත් ද? උපෙනති අත්ථවසිකා, මගේ ශාසනයෙහි ජාති කුලපුත්‍රයෝ ද, ආචාර කුල පුත්‍රයෝ ද එම කරුණම වසහට කාරණා වශයෙන් සලකා එය එළඹෙත්.

රාජාභිනීතා, (රජුන් විසින් පලවා හරින ලද්දාහු නොවෙත්. මේ පිඬුසිඟන භික්ෂූහු) යමෙක් රජු සන්තක දෙය අනුභවකොට රජු විසින් බන්ධනාගාරයෙහි තබන ලද්ද පලා අවුත් පැවිදි වෙති. ඔවුහු රජු විසින් බන්ධනාගාර ගතකරන ලද හෙයින් රාජාභිනීතා නම් වෙති. යමෙක්හු සොරුන් විසින් කැලයට ගෙනගොස් ඇතැම් පිරිස් මරනු ලබන කල්හි සමහරෙක් 'අපි ස්වාමිනි, තොප විසින් මුදනු ලබන්නාහ. ගෙදර නොගොස් පැවිදි වන්නෙමු. එහි යම් යම් බුද්ධපූජා ආදි පින් කරන්නෙමු. එයින් තොපට ද පින්දෙමි යයි කියා ඔවුන්ගෙන් මිදී පැවිදි වෙති. ඔවුහු චොරාභිනීතා නම් වෙති. සොරුන් විසින් මරනු පිණිස ගෙනයනු ලැබුවාහු ණයක් ගෙන ඔවුන් දී මිදීමට නොහැක්කේ පලාගොස් පැවිදි වෙති. ඔවුහු 'ඉණට්ට' නම් වෙත්. ණයින් මැඩුණු බැවින් පෙළුණු බැවින් යම්කෙනෙක් ජීවත්විය නොහැක්කේ මහණ වෙති. ඔවුහු ආජීවිකාපකතා නම් වෙත්. ජීවත්වීම පිණිස මහණ වූවාහු වෙත්.

ඔතිණ්ණාමහා යනු ඔතිණ්ණ අමහ ජාති ආදින්ගේ පළමු හටගැනීම ජාති නම් වේ. මුහුකුරා යාම ජරා නම් වේ. බිඳීයාම මරණ නම් වේ. ඤාති-භෝග-රෝග-භෝග-සීල-දිට්ඨි-ව්‍යසන ආදීන්ගෙන් ස්පර්ශ කරන ලදුව ඇතුලත දැවීම සෝක නම් වේ. එයින් ස්පර්ශ කරන ලදුව වචී 'ප්‍රලාප' 'පරිදෙව' නම් වේ. අනිටු වූ ස්පර්ශයන්ගෙන් පෙළනු ලැබූ කායයාගේ කායික පීඩාව දුක්ඛ නම් වේ. අසාත වස්තූන්ගෙන් පහරදෙන ලැබූ චිත්තයාගේ 'පීඩා' දෝමනස්ස නම් වේ. ඤාති ඛ්‍යසන ආදියෙන් ස්පර්ශ කරන ලදුව වැලපී ඉවසන්ට අසමත් වූවහුගේ චිත්ත සන්තාපයෙන් හටගත් මහත් වූ ආයාසය උපායාස නම් වේ. දුකෙබා තිණෙණා, (දුකට බැසගත්තෝ වෙමු.) ජාති ආදි දුක්ඛයන්ගෙන් ඇතුලට නොපිවිසියේ, දුකඛ පරෙතා දුකින් පෙලෙන ලද්දෝ වෙමු.) එම දුකින්ම මැඩෙන

ලද්දාහු. අප්පෙව පඤ්ඤායෙථ (මේ සියලු දුක් රාශියෙන් කෙලවර කිරීමක් පෙනේනම් ඉතා යෙහෙක) (පිඬු සිඟීම මෙම අර්ථය සඳහා බැව් මෙම සූත්‍රයෙන් අවධාරණය කෙරේ.) මෙය වැටහෙන්නේ නම් මැනවි.

සොච හොති අභිජ්ඣාලු, මෙය යම් කුලපුත්‍රයෙක් දුක් කෙළවර කරන්නෙමැයි පෙර සිතක් උපදවා පැවිදි වූයේ අපර භාගයෙහි එම පැවිද්ද එසේ කරන්ට නොහැකි වෙත්. එය දැක්වීම සඳහා කියන ලදී. එහි අභිජ්ඣාලු, අනුන්ගේ වස්තූන් පිළිබඳව දැඩිසේ ලෝභ වූයේ. තිබ්බසරාගො, 'වස්තුකාම ක්ලේශ කාමයන්හි' තියුණු ආසා ඇත්තේ. බ්‍යාපන්න චිත්තො, ව්‍යාපාදයෙන් කුණුවූ බැවින් විපරීත සිත් ඇත්තේ. පදුට්ඨමන සංකප්පො (දූෂිත සිත් ඇත්තේ) තියුණු අං ඇති සැඩ ගොනෙකු මෙන් උපඝාතන වශයෙන් දූෂිත වූ සිත් ඇත්තේ. මුට්ඨස්සති, (මුලා සිහි ඇති) බත් සැඟවූ කපුටෙකු මෙන් ද මස් සැඟවූ සුනඛයෙකු මෙන් ද නටුවා වූ සිත් ඇත්තේ. මෙහිද කළ දෙය එහිදී සිහි නොවෙයි. අසම්පජානො (සම්‍යග් ප්‍රඥා රහිත වූයේ) ප්‍රඥා රහිත වූයේ ස්කන්ධාදීන්ගේ පරිච්ඡේද ඥානයෙන් තොර වූයේ. අසමාහිතො (එකඟ නොවූ සිත් ඇත්තේ) සැඩ දියපහරක බඳින ලද නැවක් මෙන් මනාව නො පිහිටන්නේ.

විබ්භන්ත චිත්තො (තැති ගත් සිත් ඇත්තේ) එළිමහනකට පැමිණි මුවෙකු මෙන් කැළඹුණු සිත් ඇත්තේ පාකතින්ද්‍රියො, (ප්‍රකෘති ඉඳුරන් ඇත්තේ අසංවර වූයේ) යම්සේ ගිහි සංවරභාවයෙන් අල්ලාගත් බැසගත් පරිජනයන්ව අසංවර ඉන්ද්‍රිය ඇත්තාහු යයි බලත් ද, මෙසේ අසංවර වූ ඉන්ද්‍රිය ඇත්තේ වෙයි. ඡවාලාතං (සොහොන පෙණෙල්ලක්) සොහොනෙහි දැවුනු තැන ගිණිපෙනෙල්ල. උභතො පදිත්තං මජ්ඣෙ ගූථ ගතං ප්‍රමාණයෙන් අටඟුලක් පමණ වූ දෙකොණ ඇවිලගත්, මැද අශුචි තැවරුන. නෙව ගාමෙ, ඉදින් එය යුගනංගල - වියගස හා නගුල, ගොපානසී - ගොනැස්ස, වක්වූ යටලීය, පක්ඛපාසක, කොටසක් පූට්ටු කිරීමට යොදන පාසයක් මේ ආදිය සඳහා ගැනීමට හැකි වුවත් ගමෙහි දර සඳහා හෝ ඵරෙය්‍ය - සිද්ධ කරන්නේ ද එසේ නොවේ. ඵරති සාධනය කරයි. න අරඤ්ඤෙ කැලයේ වතිථම්භ, (වැටට කණුවක්) වලලිථම්භ - වැල්වලට කණුවක් ආදි වශයෙන් ගතහැකි වුවත් එසේ නොකෙරේ. ගිහිභොගා පරිහීණො, ගිහි ගෙයි වසන්නහු විසින් පරිභෝග කළයුතු කාම වස්තූහු ශ්‍රමණ භාවයෙහි සිටි බැවින් පරිභෝග නොකළ යුතු බැවින් පිරිහුනේ වෙයි. සාමඤ්ඤත්ථඤ්ච න පරිපූරෙති රහත්ඵල නම් වූ ශ්‍රමණ භාවයේ

අර්ථයන් ද, සීල සංවර ආදිය සම්පූර්ණ නො කිරීමේ හේතුවෙන් න පරිපූරෙති සම්පූර්ණ නො කෙරෙත්.

ගිහී භොගාච පරිහීනො - සාමඤ්ඤඤ්ච දුබහංගො
පරිධංසමානො පකිරෙති - ඡවාලා තං ච නසසති

කාසාවකණ්ඨා බහවො - පාපධම්මා අසඤ්ඤතා
පාපා පාපෙහි කම්මෙහි - නිරයං තෙ උප පජ්ජරෙ

සෙය්‍යො අයොගුළො භුත්තො - තත්තො අග්ගි සිඛූපමො
යඤ්ච භුඤ්ජෙය්‍ය දුසසීලො - රට්ඨපිණ්ඩං අසඤ්ඤතො

ගාථාවන්ගෙන්, සාමඤ්ඤඤ්ච න පරිපූරෙති. (ශ්‍රමණාර්ථයන් ද සම්පූර්ණ නොකරන්නා වූ) යනු යෙදීමයි. උභතො පරිධංසමානො (දෙපසින්ම පරිබාහිර වූයේ) පකිරෙති සංවර භාවයක් නොමැති බැවින් ඒ ඒ අරමුණු ඉක්මවීම් වශයෙන් ශීලාදි ගුණයන් ඉක්මවමින් හැසිරෙයි. නසසති සීල - සමාධි - පඤ්ඤා - ධ්‍යාන - සමාපත්ති මගග - ඵල ආදි ගුණ විශේෂයන්ගෙන් නැසෙයි. සෙය්‍යො අයොගුලො භුත්තො මෙහි ගින්නෙන් තත්තො රත් වූ අඟුරු පැතිරීමෙන් ගිනිසිළු සමාන දුසිල් පුද්ගලයා විසින් ඒවා අනුභව කිරීම මැනවි. කුමක් හෙයින් ද යත්, එය එක් ආත්ම භාවයක මරණයට හෝ මරණය සමාන දුකකට පත්වන්නේය. පරලෝකයේ දී නොවෙයි. රටවැසියන්ගේ පිණ්ඩාහාරය භුඤ්ජෙය්‍ය අසඤ්ඤතො සංයමයෙන් තොර දුසිල් පුද්ගලතෙම යම් රට්ඨ පිණ්ඩයක් අනුභව කරන්නේ රත් වූ, යකඩ ගුලි ගිලීම මැනවි. කුමක් හෙයින්ද යත්? මෙහිදීම ගැරහීම් ආදී දුකට භාජනය වෙයි. මරණින් මතු නරක - තිරිසන් - ප්‍රේත ලෝකවල දුකට භාජනය වෙති. ඒ එසේමැ ලක්ඛණ සංයුත්තයෙහි මෙසේ එයි. 'කයද ගිනිගෙන දිලියෙන්නේ වේ. සඟල සිවුරද ගිනිගෙන දිලියෙන්නේ වෙයි. මේ අයුරින් සමණපේත තෙම කියන ලද්දේ වෙයි. මෙවන් පුද්ගල තෙම බුදුරදුන් හමුවේ සිටියේ නමුදු බුද්ධ දර්ශනයේ දුරුවූයේ වෙයි. සිවුරු කෙලවරින් ගෙන භික්ෂූහු දෙදෙනෙක් මා පිටිපසින් ලුහුබැන්දේ පාදයෙන් පාදය තැබූයේ නමුදු හෙතෙම තද මසුරුකමින් යුක්ත වේද, -පෙ- පාකතින්ද්‍රිය නොවඩන ලද ඉඳුරන් ඇති තැනැත්තේ, මගෙන් ඈත් වූයේම වේ. මම ද ඔහුගෙන් දුරින්ම දුරුවූයේ වෙමි. එයට හේතු කවරේද යත්? 'ධම්මං හි සො භික්ඛවෙ භික්ඛු න

පසසති ධමමං අපසසනෙතා මං න පසසති' 'මහණෙනි, භික්‍ෂුව ධර්මය නොදකීද, ධර්මය නොදකින්නේ මාද නොදකී. යොදුන් සියයක් ඈත භික්‍ෂුව වසන්නේ ද, හෙතෙම විසම ලෝභයෙන් තොර වූයේ වේද, -පෙ- සංවර වූ ඉන්ද්‍රිය ඇත්තේ ද, ඉක්බිති හෙතෙම මා සමීපයේය. මම ද ඔහු සමීපයේ වෙමි. එයට හේතු කවරේද යත්, 'ධමමං හි යො භිකඛවෙ භිකඛු පසසති, ධමමං පසනෙතා මං පසසති'

පිණ්ඩියාලොප සූත්‍ර වර්ණනාව නිමි.[1]

# 80.

ආරද්ධවිරිය සුතෙත (චර සුතත) සූත්‍රයෙහි

චරතො, යන්නහුගේ හෝ සක්මන් කරන්නහුගේ කාම විතකක ආදියෙහි කිලේස කාම පටිසංයුත්ත වූ විතකකය (සිතිවිල්ලක්) කාම විතක්ක නම් වේ. ක්‍රෝධය නිමිතිකොට බ්‍යාපාද පටිසංයුත්ත විතර්කය (සිතිවිල්ල) ව්‍යාපාද විතක්ක නම් වේ. අනුන්ට හිංසා කිරීම් සංඛ්‍යාත, විහිංසා පටිසංයුත්ත විතර්කය විහිංසා විතක්ක නම් වේ. එහි කාම විතර්කය ප්‍රියමනාප වූ සත්ත්වයන් කෙරෙහි හෝ සංඛාර කෙරෙහි හෝ කල්පනා කරන්නහුට උපදී. ව්‍යාපාද විතක්කය දස ආඝාත වස්තු විෂයෙහි ද සත්ත සංඛාරයන් කෙරෙහි ද ආඝාතය සිතන කල්හි උපදී. විහිංසා විතර්කය, අත්, ගල්දඬු, ආවුධ ආදියෙන් සත්ත්වයන්ට හිංසා පමුණුවන කල්හි උපදී. අධිවාසෙති මට මෙනම් විතර්කයක් උපන්නේය. එය වනාහි මෙසේ හෙයින් පව්ටුය. මෙසේ හෙයින් අකුසලය. මෙසේ හෙයින් වැරදි සහිතය. එය වනාහි තමා පෙළීම පිණිස පවතී. අනුන් පෙළීම පිණිස පවතී යයි මේ ආදි ක්‍රමයෙන් ප්‍රත්‍යවේක්‍ෂා නොකිරීම හේතුවෙන් අධිවාසෙති තමාගේ සිතට නගාගෙන වාසය කරයි. ඉවසන්නේ ම න පජහති තදංග ආදි ප්‍රහාණයන්ගෙන් අත් නොහරියි. ඒ නිසාම න විනොදෙති, තම චිත්ත සන්තානයෙන් දුරු නොකරයි. නොඅත්හරියි. දුරු නොකිරීමෙන් න බ්‍යනති කරොති, දුරුකිරීමක් නොකරයි. යම්සේ ඔවුන් ඇතුලත යටත් පිරිසෙන් භංග මාත්‍රයකුදු ඉතිරි නොකරයි. එසේ නොකරයි. කුමක් හෙයින් එසේ නොකරයි ද? න අනභාවං ගමෙති,

1. පෙළ - ජීවිකා සූත්‍රය

අනුව අභාවයට නො පමුණුවයි. දුරු නොකරයි. විනෝදනය නො කරයි ආදි ක්‍රමයෙන් ශබ්දයන් යෙදිය යුත්තේය.

චරං ඇවිදින්නේ. එවං භූතො ආදියෙහි මෙසේ කාම විතක්ක ආදියෙන් යුතු කෙලෙසයන්ගේ ආතාපනය, පරිතාපනය කරන්නා වූ වීර්යයාගේ අභාවයෙන් අනාතාපි, පවට භයවීම් ලක්‍ෂණකොට ඇති ඔත්තප්පයාගේ අභාවයෙන් අනොත්තපපි වූයේ වෙයි. සතතං සියලු කාලය, සමිතං, නිරන්තර, කුසලයන්ගෙන් පිරිහී. අකුසල පක්‍ෂයෙහි ලාමක බැවිහි ගිලාබැස ඇති බැවින් කුසීත භාවයෙන් යුත් බැවින් කුසීතං නම් වේ. සම්‍යප්‍රධාන වීර්යයෙන් බැහැර වූ බැවින් හීනවිරියො නම් වේ. වීර්ය රහිත යයි කියනු ලැබේ. සයන (නිදන) ඉරියාපථයෙන් යුක්ත වූවහුට යම් කලෙක්හි විතර්කයෝ හටගනිත් ද, එය දක්වන්ට ජාගරසස යයි කියන ලදී.

කුසල පක්‍ෂයෙහි තඤ්ඤෙව භික්ඛු නාධිවාසෙති පටන්ගත් වීර්යයෙන් යුක්තව වාසය කිරීමෙන් අනාදිමත් සංසාරයෙහි බොහෝ කලක් පැවැත්මේ හේතුවෙන් එවන් හේතු ප්‍රත්‍යයන්ගේ එක්වීමෙන් සිහි මුළාවීමෙන් හෝ කාම විතක්ක ආදිය උපදින්නේමය. එවමභූතො, යන ආදියෙහි මෙසේ කාම විතක්ක ආදිය නො ඉවසීම් සංඛ්‍යාත පිරිසිදු අදහසින් යුක්ත වූයේ එම ආසය සම්පත්තියෙන් ද එය නැමීමේ පයෝග සම්පත්තියෙන් ද, පිරිසිදු සිල් ඇත්තේ, වසන ලද ඉඳුරන් ඇත්තේ, භෝජනයෙහි පමණ දන්නේ සති සම්පජඤ්ඤයෙන් යුක්ත වූයේ නිදිවැරීමෙහි යෙදුනේ තදංගාදි වශයෙන් කෙලෙසුන්ගේ කෙලෙස් තැවීම ලකුණු කොට ඇති වීර්යයෙන් යුත් බැවින් ආතාපි නම් වේ. සර්වප්‍රකාරයෙන් පවට භයවීම් ලකුණුකොට ඇති ඔත්තප්පයෙන් යුත් බැවින් ඔත්තපපී නම් වේ. සතතං දිවා රාත්‍රී, සමිතං නිතර සමථ-විපස්සනා භාවනානුයෝග වශයෙන් චතුර්විධ සම්‍යප්‍රධාන වීර්ය සිද්ධියෙන් ආරද්ධවිරිය නම් වේ. පහිතත්තො නිවන් සඳහා මෙහෙයවන ලද සිත් ඇත්තේ යයි කියනු ලැබේ.

යදිවා තිට්ඨං සිටින්නේ හෝ නිසින්නො උදවා සයං හුන්නේ හෝ නිදන්නේ, ගෙහ නිස්සිතං ගෙවැසියන් විසින් අත්නොහරින ලද බැවින් ද ගෙවැසියන්ගේ ස්වභාවය වූ බැවින් ද, ගෙවැසියන්ගේ ධර්මයක් වූ බැවින් ද ගෙය හා බැඳුන බැවින් ද කෙලෙස් කාමයන්ට වාසස්ථාන වන බැවින් ද ගෙහං යනුවෙන් කියනු ලැබේ. වස්තුකාමය එයට වස්තු බැවින්

කාම විතක්ක ආදිය ගෙහ නිස්සිත නම් වේ. **පාපකං ගෙහ නිසසිතං** යන මෙයින්, කාම විතක්ක, ව්‍යාපාද විතක්ක, විහිංසා විතක්ක, ඤාති විතක්ක, ජනපද විතක්ක, අමර විතක්ක, අනවඤ්ඤ පටිසංයුත්ත විතක්ක, ලාභ-සත්කාර-සිලෝක (ප්‍රශංසා) පටිසංයුත්ත විතක්ක, පරානුද්දයතා පටිසංයුත්ත විතක්ක යන මෙසේ නවවිධ ගේහ නිස්සිත අකුසල විතක්කයන් සංග්‍රහ කරන ලද්දාහුය.

එහි කාම විතක්කාදී විතක්ක තුන කියන ලද්දාහුය. සෙසු විතර්කයන් අතර 'මගේ නෑයෝ සමෘද්ධිමත් වූවාහුය. බොහෝ ධන ධාන්‍යාදිය ඇත්තාහුය. මේ ආදි ක්‍රමයෙන් ගෙහසිත වශයෙන් ඤාති ජනයා ගැන කල්පනා කිරීම **ඤාති විතකක** නම් වේ. 'මගේ නෑයෝ ඛය-වය දෙකට පත් වූවාහුය. අහෝ සියලු සංස්කාරයෝ ඒකාන්තයෙන් අනිත්‍යයෝ යයි මෙසේ පවත්නා විතර්කයෝනොවෙති. මෙම ජනපදයෙහි ස්ත්‍රී පුරුෂයෝ සෝභනයහ. අලංකාර ආභාරණාදියෙන් සම්පූර්ණ වූවෝය. මේ ආදි ගේහසිත වශයෙන් ජනපදවාසී ජනතාව ගැන සිතීම **ජනපද විතකක** නම් වේ. මේ ජනපදයේ ජනතාව අනිත්‍යතාවයට පත් වීර්යය මෙසේ පවත්නා ජනපද විතර්කයක් නොවේ. අමර භාවය පිණිස පවත්නා විතර්කය, 'අමරො වා විතකෙකා' අමරණීය විතර්කය හෝ **අමර විතකක** නම් වේ. 'උක්කුටිකව සිටීම් ආදියෙන් දුක් ගෙවූ කල්හි මතු ආත්මභාවය සැපවත් වේය අමරණීය වේයයි මෙසේ දුෂ්කරක්‍රියා පටිසංයුත්ත විතර්කය අමර භාවය පිණිස පවත්නා විතර්කය අමර විතර්කයයි.

ලෝකය ශාස්වත දැයි විචාරන ලද්දේ මට එසේත් නොවේ යයි කියයි. ලෝකය අසාස්වත ද මට එසේත් නොවෙයි. ලෝක සාස්වත අසාස්වත දෙපරිද්දෙන් හැර වෙනත් අයුරකින් වේද, මට එය රිද්දෙනුත් නොවෙයි. මෙසේ ප්‍රතික්‍ෂෙප කරන දෘෂ්ටිගතික විසින් ඉදිරිපත් කළ පටිසයෙන් යුත් විතර්කය අමර නම් (ආඳ) මත්ස්‍යයා මෙන් එක පක්‍ෂයක නොපිහිටා ඔබිමොබ හැරෙන්නෝ වේ. **න මරති** අමරො නාම නොමැරේනුයි අමර නම් වේ. ප්‍රකාශනයක දැන්වීමක් නොමැති තමන්ගේ ද අනුන්ගේ ද මැඩපැවැත්වීමකින් තොර සම්භාවනාව කැමැති පැවතුම් ඇති එම අනවඥා පටිසංයුක්ත වූ මිශ්‍ර වූ, එම අනවගාම අරමුණු කොට පැවැති විතර්කය අනවඥා පටිසංයුත්ත විතක්කය නම් වේ. කෙසේ නම් මා ගිහියෝ ද පැවිද්දෝ ද පහත් ලෙස නොදවන්නාහු නම් මැනවයි සම්භාවනා කැමැතිවීම නම් තත්ත්වයෙහි සිට පැවැති

විතර්කයට මෙය අධිවචනයකි. **ලාභ සක්කාර සිලෝක පටිසංයුත්තා** ලාභ-සත්කාර-සිලෝක (කීර්ති ප්‍රශංසා) පටිසංයුත්ත වූ චීවර ලාභයෙන් මෙන්ම සත්කාරයන්ගෙන් ද කීර්ති ශබ්දයන් ද සමග ඒවා අරමුණු කිරීම් වශයෙන් පටිසංයුත්ත වූ විතර්කයයි. **පරානුද්දයතා පටිසංයුත්ත** අනුන්ට දයාව දැක්වීමේ ස්වරූපයෙන් ඇතිවන ගෙහසිත ප්‍රේමයෙන් යුක්ත (විතර්කයයි) යමක් සඳහා කියන ලදද, එනම් රජුන් සමග රාජමහාමාත්‍යයන් සමග බ්‍රාහ්මණ ගෘහපතියන් සමග එක්ව වාසය කෙරේද, සතුටින් ශෝකයෙන් සැපවත් වූවන් අතර සැපවත් වූයේ දුක්ඛිත වූවන් අතර දුක්ඛිත වූයේ කටයුත්තක් උපන් කල්හී එය කිරීම සඳහා තමන් හෝ අනුන් හෝ එක්වීමට පැමිණේ යයි කියන ලදද මෙයයි.

**කුමමගගං පටිපනෙනා,** (නින්දිත මාර්ගයට බැසගත්තා වූ) ආර්ය මාර්ගයට විරුද්ධ බැවින් අභිජ්ඣා ආදිය කුමමගග නම් වේ. කාම විතර්ක ආදිය බහුල වූයේ නින්දිත මාර්ගයට බැසගත්තේ වේ. **මොහ නෙයොඎසු මුචඡිතො,** මෝහය පිණිස පවතින රූපාදි අරමුණුවල **මුචඡිතො,** මූලා වූ, **ඵුටඨුං සමෙබාධිං** ආර්ය මාර්ගඥානය ස්පර්ශ කිරීමට එයට පැමිණීමට, **අභබෙබා,** අසමර්ථ වේ. එවන් මිථ්‍යා සංකල්පයන්ගෙන් කිසිකලෙක සම්බොධියට නොපැමිණේ යන අරුති. **විතකකං සමයිත්‍වාන,** (විතර්කයන් සංසිඳුවා) 'මහණෙනි, කාම විතර්කය අන්ධ කරයි. ඇස් නැත්තෙක් කරයි. අඥානයෙකු කරන්නේය. ප්‍රඥාව නිරුද්ධ කෙරෙයි. විඝාත පාක්ෂික වෙයි. නිවන් පිණිස පවතින්නේ නොවෙයි යනුවෙන් වදාළහ. මෙසේ කාම විතක්කාදීන්ගේ ආදීනව ප්‍රත්‍යවේක්ෂා කිරීමෙන් ආනාපාන සති භාවනාවෙන් මිථ්‍යා විතර්කයන් ව්‍යපසමනය කොට, කියන ලද්දේ වෙයි. ආනාපානසති භාවනාව වැඩිය යුත්තාහුය. විතර්ක නැතිකිරීම පිණිස, **විතකෙකාප සමෙ රතො** නවවිධ විතර්කයන්ගේ අත්‍යන්තයෙන් ව්‍යපසමනය හේතු වූ රහත්මග නිවනෙහි හෝ අදහස් වශයෙන් **රතො** ඇලුනේ **භබෙබා සො තාදිසො,** වේනම්, **භබෙබා සො තාදිසො** හෙතෙම කියන ලද පරිදි මනාලෙස පිළිවෙතෙහි යෙදුනේ පූර්ව භාගයෙහි සමථ විපස්සනා බලයෙන් සියලු විතර්කයන් තදංග වශයෙන් යටපත් කොට විදර්ශනාවේ උත්සාහවත් වූයේ මාර්ග පිළිවෙළින් රහත්මග නම් වූ අනුත්තර වූ සම්බෝධිය ඵුටඨුං අධිගමනය කිරීමට සමර්ථ වෙයි.

ආරද්ධවිරිය සූත්‍ර වර්ණනාව නිමි.

# 81.

ජාගරණ (ජාගරිය, සුතෙත) සූත්‍රයෙහි

ජාගරො, පහ වූ නින්ද ඇත්තේ නිදිවැරීමෙන් යුක්ත වූයේ දිවා රාත්‍රී දෙකෙහි කමටහන් මෙනෙහි කරමින් සිටියේය යන අර්ථයි. ච ශබ්දයෙන් සති ආදිභාවය සම්පිණ්ඩනය කෙරෙයි. සතො, හැමතැන හැමදා කමටහන අත් නොහරින වශයෙන් සති අවිප්පවාසයෙන් (සිහිය අත්නොහැරීමෙන්) සති නම් වේ. සමපජානො, සත් අට තැනකද, යමෙකුගේ හතරවැදෑරුම් වූද සම්පජඤ්ඤ වශයෙන් සිහි ඇත්තේ සමාහිතො උපචාර සමාධියෙන් ද, අර්පනා සමාධියෙන් ද සමාහිතො එකඟ වූ සිත් ඇත්තේ. මුදිතො, ප්‍රතිපත්තියෙන් ආනිසංස දැක්වීමෙන් මතුමත්තෙහි, විශේෂ අධිගමයෙන් ද, පටන් ගන්නා ලද වීර්යයෙන් ද අමොඝභාව දර්ශනයෙන් ප්‍රමුදිත වූයේ සතුට බහුල වූයේ වෙයි. විප්පසනෙනා එයින්ම ප්‍රතිපත්ති සංඛ්‍යාත ප්‍රතිපත්තිදෙසක ශාස්තෲන් වහන්සේ කෙරෙහි සද්ධාබහුල භාවයෙන් මනාව පැහැදුනේ. තතථ කාලවිපසසී කුසලෙසු ධමෙමසු, (කුසලධර්ම විදර්ශනායෙහි කාලානුරූපම යෙදී වාසය කරන්නේ) එම කාලයෙහි එම කර්මස්ථාන යෝගයෙහි හෝ කාලවිපසසී කාලානුරූප වූ නිවැරදි බෝධිපාක්ෂික ධර්මයන්හි යෙදෙමින් කාලානුරූප විදර්ශනා වඩන්න.

කුමක් කියන ලද්දේ වේද? විදර්ශනාවෙහි පිහිටුවා කලාප සම්මර්ශන ආදි වශයෙන් සම්මර්ශනය කරන්නේ ආවාස ආදි සත්ත අසප්පාය ධර්මයන් වෙන්ව, සප්පාය වූ දෙය සේවනය කිරීමෙන් අතරෙහි අවසානයකට නොපැමිණ ආත්ම හැඟීම් දුරුකොට චිත්තයාගේ සන්සුන් ආකාරය සලකන්නේ සකසා නිතර අනිච්චානු පස්සනාදිය පවත්වන්නේ, යම්කලක විපස්සනා සිත සැගවුනේ වේද, එකල විපස්සනා චිත්තයාගේ ග්‍රහණය පිණිස ධම්මවිචය, විරිය, පීති සංඛ්‍යාත බොජ්ඣංගයන්ද, යම්කලෙක චිත්තය උද්ධාත (නොසන්සුන්) වේද එකල විපස්සනා චිත්තයාගේ නිග්‍රහය පිණිස, පස්සද්ධි-සමාධි-උපෙක්ඛා නම් වූ කුසලෙසු. නිවැරදි වූ බෝධිපාක්ෂික ධමෙමසු (ධර්මයන්හි) කාලානුරූපව විපස්සනාව වඩයි. මෙසේ ඒ ඒ කාලයන්හි කුසල ධර්මයන්හි විපස්සනා වඩන්නේය. එහි හෝ එම කමමටඨානුයෝගයෙහි කාලානුරූපව පගගහ - නිගගහ කරන්නේ කුසල ධර්මයන් විෂයෙහි විදර්ශනා වඩන්නේය. මෙතෙකින්

භාග්‍යවතුන් වහන්සේ පටන්ගන්නා ලද විදර්ශනා ඇති භික්‍ෂුවට පුද්ගල අධිට්ඨාන දේශනාවෙන් නිදිවැරීම දක්වා යම් ධර්මයකින් ජාගරියානුයෝගය සමෘද්ධ වේද, සැකෙවින් එයට උපකාර වූ ධර්මයන් සමග සම්මර්ශනාකාර දක්වා දැන් එසේ පිලිපදින්නහුගේ ප්‍රතිපත්තියෙහි නොවඳ බව දක්වන්නේ **ජාගරසස භිකඛවෙ**, ආදිය වදාළහ.

එහි මෙසේ දිවා රාත්‍රී කම්මට්ඨාන නම් වූ නිදිවැරීමෙහි යෙදුනේ, භික්‍ෂුවට සති සමපජඤඤ සමාධියෙන් කාලානුරූප විපස්සනාව ද පිරිවරාගත් විපස්සනා ඤාණය ගැබ්ගෙන මුහුකුරා ගොස් වීර්‍යයට පිලිපන් තියුණු සූරබවක් උසුලන්නා වූ යෝගීහු හට ප්‍රීති ප්‍රමෝදය ද ප්‍රසාදනීය ශ්‍රද්ධාව ද එළවයි. හෙතෙම කම්මට්ඨානයාගේ මතුමත්තෙහි විශේෂයෙන් දක්නේ, ඒ භාග්‍යවතුන් වහන්සේ, සම්මා සම්බුද්ධය. යමෙක් මෙවන් නිවැරදි ධම්මානුධම්ම පටිපදාවක් දේසනා කළ සේක් ද, ඒ භාග්‍යවතුන් වහන්සේගේ ප්‍රතිපත්ති ධර්මය ස්වාක්ඛාතය යමෙක් මෙවන් විශේෂතා ගෙනදෙන නිර්වාණගාමී මාර්ගයක් වදාළ සේක් ද, සුපටිපන්නය යමෙක් මෙවන් නිබ්බානගාමී මාර්ගයක් වූ කම්මට්ඨානයක යෙදුනේද, දැන්මම ජරාමරණ මගින් මිදුනේ වන්නෙමැයි, මෙසේ සද්ධාව ද පාමොජ්ජය ද ලබා විශේෂ අධිගමයක හමුවේමය. පිළිවෙළින් දෙපලයන්ගෙන් (රහත්-අනාගාමි) එක් ඵලයකට පැමිණෙන්නේ ය.
මෙසේ කියන ලදී :-

**යතො යතො සමමසති ඛනධානං උදයබබයං**
**ලභති පීති පාමොජජං අමතං තං විජානතං**
**පාමුජ්ජ බහුලො භිකඛු පසනෙනා බුදධසාසනෙ**
**අධිගචෙඡ පදං සනතං සංඛාරූප සමං සුඛං**

'යම් කලෙක රූපාදි ස්කන්ධයන්ගේ උදය-ව්‍යය දෙක සම්මර්ශනය කෙරේද, එකල්හි යම් ධර්ම ප්‍රීතියක් ධර්ම ප්‍රමෝදයක් ලබාද, එය නුවණැත්තවුන් (අමා මහ නිවන් පමුණුවන හෙයින්) අමා නම් වේ.'

'ප්‍රකෘතියෙන්ම බුදුරදුන් කෙරෙහි සතුට බහුල වූ බුදු සස්නෙහි පහන් වූ මහණ තෙම එහෙයින්ම ඒකාන්ත සුඛ වූ ශාන්ත පදයට පැමිණෙන්නේය.'

**දව්නනං ඵලානං** අනාගාමි රහත් ඵලයන්ට **පාටි කංඛං,** කැමතිවිය යුතුය. අවශ්‍යයෙන්ම වන්නේය. **අඤ්ඤා** රහත්බව, එය වනාහි හෙටඨම මාර්ගඥානයාගේ සීමාව නොඉක්මවා දැනීමෙන් මත්තෙහි ජානන කෘත්‍ය නොමැති බැවින් අඤ්ඤා යයි කියනු ලැබේ. **සති වා උපාදි සෙසෙ,** (කෙලෙස් උපාදිශේෂය ඇතිකල්හි) කෙලෙස් උපාදිශේෂයන් ප්‍රහාණයට නොහැකි කල්හි ඥානය මුහුකුරා නොගිය බැවින් සතියෙහි කෙලෙස් අභිසංඛාරයන් සිටිත්මය.

**ජාගරනතා සුණාථෙතං** මේ මාගේ වචනය ඒකාන්තයෙන් පමාද නිද්‍රාවෙන් නිදන්නවුන් ප්‍රබෝධ කිරීම පිණිස, සති සමපජඤ්ඤ ධර්මයන්ගේ සමායෝගයෙන් නිදිවර්ජිත කිරීමෙහි යෙදුනාහු අසවු. **යෙ සුතතා තෙ පබුජඣථ,** යමෙක් කියන ලද නිද්‍රාවෙන් **සුතතා** නින්දට වැටුනාහුද, ඒ තොපි, නිදිවැරීමේ යෝග වශයෙන් ඉන්‍ද්‍රිය බල, බොජඣංග ධර්මයන් සම්බන්ධ කරගෙන විපස්සනාවෙහි උස්සුක කරවා අප්‍රමාද ප්‍රතිපත්තියෙන් එයින් නැගී සිටිමු. **සුතතා ජාගරිතං සෙයො** (නිදීමට වඩා නිදිවැරීම ශ්‍රේෂ්ඨය.) මේ ප්‍රබෝධ කිරීමට හේතුවන වචනයි. යම්හෙයකින් **සුතතා** කියන ලද ආකාර නින්දට වඩා **ජාගරිතං** නිදිවැරීම වැඩ කැමති කුල පුත්‍රයාට **සෙයො,** ප්‍රශංසා කළයුතුය. හිතසුව ගෙන දෙන්නේය. එබැවින් පිබිදී සිටිවු යයි යෝජනා කෙරේ. **නත්ථි ජාගරතො භයං** මේ එහි ආනිසංස දැක්වීමයි. යමෙක් සද්ධා ඉන්‍ද්‍රිය ආදි ජාගර ධර්මයන්ගෙන් යුත් බැවින් නිදි වරන්නේ නම් වේ. ඔහුට අතතානුවාද භයද පරානුවාද භයද දණ්ඩ භයද, දුගති භයද, ජාති ආදි නිමිත්තෙන් ඇතිවන සියලු සංසාර භයද නැත්තේය.

**කාලෙන** ආවාස සප්පාය ආදිය ලද සුදුසු කාලයෙහි. **සො** යනු නිපාත මාත්‍රයකි. **සමමා ධමමං පරිවීමංස මානො,** විපස්සනාවට අරමුණු ත්‍රෛභූමක ධර්මයන් **සමමා** සත්‍ය මාර්ගයෙන් යම්සේ නිබ්බිඳන විරජ්ජන ආදිය ලැබෙත් ද, මෙසේ හාත්පසින් විමසන්නේ සර්වප්‍රකාරයෙන් විමසන්නේය යන අර්ථයයි. **එකොදිභූතො,** එකෙක් ශ්‍රේෂ්ඨ වී උදා කෙරෙත්නුයි එකොදි නම් වේ. සමාධියයි. එය වූයේ උපන්නේ මොහුට වේනුයි එකොදීභූත නම් වේ. මෙහි මගග සමාධිය අපේක්ෂා කෙරේ. **සමාහිතො,** මෙහි වූ කලී පාදකධ්‍යාන සමාධිය සමග විපසසනා සමාධියයි. නැතහොත් **කාලෙන** මගග පටිවේධ කාලයෙහි **සමමා** මනාකොට **ධමමං** චතුරාර්ය සත්‍ය ධර්ම පරිඤ්ඤාභිසමයාදි වශයෙන් විමසන්නේ එකම

අවබෝධයෙන් අවබෝධ කරන්නේ විහනෙ තමං සො (ශ්‍රහතෙම මොහඳුර නසන්නේ වේ.) මෙවැනි එම ආර්යශ්‍රාවක තෙම රහත් මගින් අවිජ්ජා නමැති අඳුර ඉතිරි නොකොට නසන්නේය. සිඳදමන්නේය.

මෙසේ භාග්‍යවතුන් වහන්සේ ප්‍රතිපත්තියේ අමොඝ භාවය දක්වා, දැන් එහි දැඩිලෙස යොදවන්නේ තසමා හවෙ යන අවසාන ගාථාව වදාළහ.

**තසමා හවෙ ජාගරියං භජෙථ - ආතාපී භික්ඛූ නිපකො ඣානලාභී**
**සංයොජනං ජාතිජරාය ඡෙත්වා - ඉධෙව සම්බොධිං මනුත්තරං ඵුසෙ**

තසමා යනු යම්හෙයකින් නිදිවරන්නේ ද, සමථ-විපස්සනා භාවනාව සම්පූර්ණ භාවයට පැමිණෙයි. අනුක්‍රමයෙන් ආර්යමාර්ගය පහලවෙයි. එයින් ඔහුට සියලු සසර භය නැත. එබැවින් හවෙ ඒකාන්තයෙන් දැඩිව හෝ භජෙථ භජනය කරන්නේය. මෙසේ නිදිවැරීමෙහි යෙදෙන භික්ෂුව ආතාප (කෙලෙස් තැවීම්) ආදි ගුණයෙන් යුක්ත වූයේ. ජාති ජරාය ජාති ජරාවන්ට හේතුවූ සංයොජනං ඡෙත්වා (සංයෝජනයන් නසා අරහත්ඵල සංඛ්‍යාත අනුත්තරං සම්බොධිං ඵුසෙ, (නිරුත්තර වූ සම්‍යග් සම්බෝධිය ස්පර්ශ කරන්නේය. එය පැමිණෙන්නේය.)

**ජාගරණ සූත්‍ර වර්ණනාව නිමි.**

# 82.

සලල (දුතිය වෙදනා) සුත්තෙත සූත්‍රයෙහි,

වෙදනා, ආරම්මණ රසං වෙදියන්ති, අනුභවන්තීති = වෙදනා, අරමුණු රසය විඳිත්. අනුභව කෙරෙත්නුයි වේදනා නම් වේ. එම වේදනාවන්හි ඉෂ්ටාරම්මණ අරමුණ ලකුණුකොට ඇත්තේ සැප වේදනා වේ. අනිෂ්ට අරමුණු අනුභව කිරීම ලකුණුකොට ඇත්තේ දුකඛ වෙදනා

නම් වේ. මෙම දෙවැදෑරුම් වේදනාවන්ගේ වෙන්වූයේ **අදුකඛමසුඛ** වෙදනා වේ. සුඛ-දුකඛ-වේදනාවන්ගේ උපත ප්‍රකටය. අදුකඛමසුඛ වේදනාව එසේ නොවේ. යම්කලෙක්හි සුඛ වේදනාවක් උපදී ද, එකල මුළු සිරුර කලඹමින් පැතිරෙන්නා වූ සියක්වරක් ධොවනය කරන ලද ගිතෙල් කවන්නාක් මෙන් ද, සියක් වරක් පිසින ලද තෙලක් ගල්වන්නාක් මෙන් ද, දියකළ දහසකින් දාහය නිවන්නාක් මෙන්ද, අහො සුඛං, අහො සුඛං යන වචන පිටකරන්නාක් මෙන් උපදී. යම් කලෙක් දුකක් උපදීද, එකල මුළු සිරුර කළඹවමින් මඩිමින් පැතිරෙන්නා වූ, රත්වූ කපාලයක් (කටුවක්) ප්‍රවේශ කරන්නාක් මෙන් ද, කකාරවන ලද තඹ ලෝහයක් ඉසින්නාක් මෙන් ද, අහෝ දුක්ඛං, අහෝ දුක්ඛං යනුවෙන් විලාප නගමින් උපදී. **අදුකඛමසුඛ** වේදනාව දැනීම දුෂ්කරය. පැහැදිලි කිරීම අපහසුය. අන්ධකාරය මෙන් අප්‍රකට වූවකි. එම වේදනාතොමෝ සැප-දුක් වේදනා පහව යාමෙන් සැප දුක් දෙකට ප්‍රතිපක්ෂ වශයෙන් මධ්‍යස්ථ වූ, මාර්ගය මැද, ගල් තලාවක් මත ගියාවූ අඩිපාරක් මෙන් නය වශයෙන් සලකනවිට ප්‍රකට වෙයි. මෙවැනි අරුත් සඳහා මෙම වේදනාව සුඛාදි වශයෙන් තුන් අයුරකින් දේශනා කරන ලද්දේ වෙයි.

කිසියම් සූත්‍රයක වේදනාව පරියාය වශයෙන් දක්වන ලදී. 'යම් සේ මා විසින් ආනන්දය, වේදනාව පරියාය වශයෙන් දක්වන ලදී. සුඛ වේදනා දුක්ඛ වේදනා යනුවෙන් කිසි සූත්‍රයෙක්හි වෙන් වෙන් වශයෙන් සුඛ-දුක්ඛ-අදුක්ඛමසුඛ වශයෙන් දක්වන ලදී. සැප වේදනාව ඨිති සුඛයයි. එහි විපරිණාමය දුකඛයයි දුක් වේදනාව ඨිති දුක්ඛයයි. එහි විපරිණාමය සුඛයයි අදුකඛමසුඛ වේදනාව ඤාණ (දැනීම) සැපයයි. නොදැනීම දුකයි. කිසිතැනක දුකඛභාවයෙන් '**යං කිඤ්චි වෙදයිතං සබ්බං තං දුකඛස්මින්ති වදාමි**' යම්කිසි වේදයිතයක් වේ. ඒ සියල්ල දුකයයි වදාරමි යනුවෙන් වදාළහ. මෙය ඔවුන් පරියාය භාවය බව දතයුත්තාහුය.

අදුකඛමසුඛ වේදනාව සාන්ත පැවැත්මකි. මෙසේ එය සැපයයි පැවසීම එක් පරියායකි. සුඛා අදුකඛමසුඛා මේ දෙදෙන නිෂ්පරියාය වශයෙන් දුක්ඛභාවයක් නැත. වෛනෙය්‍ය ජනතාවට ඔවුන් විෂයෙහි විරාගය දැනවීම් වශයෙන් සංඛාර දුක්ඛභාවය විපරිණාම දුක්ඛභාවය දුකට හේතුභූත වූ අනේකවිධ දුක්ඛ ධර්මයන්ගෙන් බැඳුන බැවින් පරියාය වශයෙන් දුක්ඛභාවය වදාරණ ලදී. භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරණ ලදී. **සංඛාරානිච්චතං ආනන්ද, මයා සන්ධාය සංඛාර විපරිණාමතං යං**

කිඤ්චි වෙදයිතං සබ්බතං දුක්ඛස්මින්ති වදාමීති (ආනන්දය, මවිසින් සංඛාරයන්ගේ අනිත්‍යතාව සංඛාරයන්ගේ විපරිණාමය නිසා පවසන ලදී. වේදයිත වූ සියල්ල දුක්යයි පවසමි.) සැපවේදනාව ඨිතිසුඛය යයි යන තන්හි සුඛ වේදනාවේ ඇතිබව සුඛයයි, නැතිබව දුකයි. දුකෙහි ඇති බව දුකයි. නැති බව සුඛයයි. අදුක්ඛ අසුඛ වේදනාව දන්නා බව සුඛයයි නොදන්නා බව දුකයයි යනු එහි අර්ථයයි. මෙහිදී නිෂ්පරියාය වශයෙන් අඤ්ඤමඤ්ඤ පටිපක්ඛභාවය වවත්ථිත ලක්‍ෂණ වශයෙන් තුන් වේදනාවක් දේශනා කරන ලදී. එය වූ කලී විපස්සනා කමටහන් වඩන යෝගාවචරයන්ගේ 'වේදනා' මුඛයෙන් අරූප කමටහන දැක්වීම පිණිස කරන ලදී.

කම්මට්ඨානයෝ දුවිධ වෙති. රූප කම්මට්ඨාන අරූප කම්මට්ඨාන යනුවෙනි. එහිදී භාග්‍යවතුන් වහන්සේ රූප කම්මට්ඨානය දේසනා කරන සේක්, සංඛෙප මනසිකාර වශයෙන් හෝ විස්තාර මනසිකාර වශයෙන් හෝ, චතුධාතු වවත්ථාන වශයෙන් හෝ ප්‍රකාශ කරයි.

අරූප කමටහන වදාරන්නේ ඵස්ස වශයෙන් හෝ වේදනා වශයෙන් හෝ විඤ්ඤාණ වශයෙන් හෝ ප්‍රකාශ කෙරෙයි. ඇතැමෙකුට ආපාථගත වූ අරමුණු ආවර්ජනා කිරීමෙන් චිත්ත චෛතසිකයන්ගේ පඨම අභිනිපාතය ඵස්සයයි. එය අරමුණ ස්පර්ශ කරමින් උපදනා වේදනාව ප්‍රකටය. සමහරෙකුට එම අරමුණ හැඳින ගනිමින් උපදින විඤ්ඤාණය ප්‍රකට වෙයි. මෙසේ පුද්ගලයන්ගේ අධ්‍යාසය වශයෙන් යම්සේ ප්‍රකට වේද ඵස්සය ප්‍රධානකොට තෙ වැදෑරුම් අරූප කර්මස්ථානයෝ වදාළහ.

එහි යමෙකුට ඵස්සය ප්‍රකට වේද, එය හුදෙක් ඵස්ස පමණක් නො උපදියි. එය සමග එම අරමුණම අනුභව කරමින් වේදනාව ද උපදී. හැඳිනීම් කෘත්‍ය කරමින් සඤ්ඤාව ද, සිතන්නේ චේතනාදී, විජානනය කරමින් විඤ්ඤාණය ද උපදියි. ඵස්ස පස්වැනි කොට ඇති ධර්මයන්ම හාත්පසින් ගනියි. යමෙකුට වේදනාව ප්‍රකට වේද, හෙතෙම වේදනාවම නොඋපදවයි. එය සමග ස්පර්ශය කරමින් ඵස්සය ද උපදී. සඤ්ජානනා කෘත්‍ය කරමින් සඤ්ඤාව ද චේතනා කෘත්‍ය කරමින් චේතනාව ද විජානන කෘත්‍ය කරමින් විඤ්ඤාණය ද උපදී. මෙසේ ඵස්ස පංචමක ධර්මයන්ම හාත්පසින් ගනියි. යමෙකුට විඤ්ඤාණය ප්‍රකට වේද, හෙතෙමේ ද මෙසේම ඵස්ස පංචමක ධර්මයන්ම හාත්පසින් ගනියි.

හෙතෙම මේ ඵසස පංචමක ධර්මයෝ කුමක් ඇසුරු කරන ලද්දාහු ද යත්? සලකා බලන්නේ හදය වස්තුව ඇසුරුකොට යයි දැනගනියි. වස්තුව වූ කලී කරජකාය ඇසුරකොටය. යමක් සඳහා කියන ලද්දේ ද, මේ විඤ්ඤාණය මෙහි යෙදුනේ මෙහි බැඳුනේ වෙයි. හෙතෙම අර්ථ වශයෙන් භූත රූපයන් ද උපාදාය රූපයන් ද, මෙසේ මෙහි වස්තුරූප ඵසස පංචමක යයි නාමරූප මාත්‍රයම දකියි. මෙහි රූපය රූපස්කන්ධයයි. නාමය සතර අරූප ස්කන්ධයෝය යයි පංචස්කන්ධ මාත්‍රයම වෙයි. නාමරූපයන්ගෙන් විමුක්ත වූ පංචස්කන්ධයන්ද විමුක්ත වූ පංචස්කන්ධ නාමරූපයකුදු නැත. හෙතෙම මේ පංචස්කන්ධය, කුමක් හේතුකොට පවතින්නේ දැයි බලන්නේ අවිජ්ජා හේතුක යයි දකියි. ඉක්බිති පච්චය ද පච්චයුප්පන්න ධර්මයන් ද මෙයින් අන්‍ය වූ සත්ත්වයෙක් පුද්ගලයෙක් නැත. පිරිසිදු සංස්කාර ගොඩක් පමණයයි, සප්පච්චය වූ නාමරූප ධර්මයන් වශයෙන් ත්‍රි ලක්‍ෂණයට නගා විදර්ශනා පටිපාටියෙන් අනිත්‍ය දුක්ඛ අනාත්ම යයි. මෙනෙහි කරමින් හැසිරෙයි. හෙතෙම අද අදම ප්‍රතිවේධය බලාපොරොත්තු වන්නේ එවැනි සමයක, උතුසප්පාය පුග්ගල සප්පාය, භෝජන සප්පාය, ධම්ම සවණ සප්පාය හෝ ලැබ, එක පලගෙහිම හුන්නේ විපස්සනාව මුදුන් පමුණුවා රහත් බැව්හි පිහිටන්නේය. මෙසේ මේ පුද්ගලයන් තුන්දෙනාට රහත් බව දක්වා කර්මස්ථාන යයි දතයුතුය. මෙහිදී භාග්‍යවතුන් වහන්සේ වේදනා වශයෙන් අවබෝධ කරන්නවුන්ගේ අජ්ඣාසය වශයෙන් සුදුසු කර්මස්ථානයක් දේශනා කරන්නේ වේදනා වශයෙන් වදාළ සේක.

අනතුරුව භාග්‍යවතුන් වහන්සේ වේදනාවන්හි සම්මර්ශනය කරන ආකාරය දක්වන සේක්, සුඛා භික්ඛවෙ වෙදනා දුක්ඛතො දට්ඨබ්බා ආදිය වදාළහ. මෙහි සුඛ වේදනාව, විපරිණාම දුක්ඛතාවයෙන් ද, උදය වය දෙකින් පෙළෙන බැවින් ද, දුක්ඛ වස්තුක බැවින් ද, දුක්ඛයකැයි නුවණැසින් දැක්ක යුත්තාහුය. සුඛ වේදනාව විස මිශ්‍ර භෝජනයක් මෙන් අනුභව කරන කාලයෙහි ආස්වාදය ගෙන දෙමින් විපරිණාම කාලයෙහි දුක් ඇතිවීමට හේතු වන්නේම ය. ඒ සැප වේදනාව ද ඉපදීම නැතිවීම ලකුණුකොට ඇත්තේය. එම පුද්ගලයා උත්පාද-වය දෙකින් පෙළෙයි. තෙමේ ද එයින් පෙළේ. අප්‍රමාණ වූ දුක්ඛ ධර්මයන්ට හේතුවෙයි. එහෙයින් එහි විරාගය, දුකයයි දතයුත්තාහුය. යම්සේ වනාහි උලක් සිරුරට පිවිසෙන්නේ පෙලන්නේමය. උදරා දමන්නේද පෙලන්නේමය. දුකසේ ඉවත් කළ යුතුයැ.

මෙසේ දුක්ඛ වේදනාව ඉපදෙන්නා වූ ඨිති ප්‍රාප්ත වූවාද, බිඳෙන්නාහු ද බාධා කෙරේමය. උපදින්නේ අධිර දුර්වල පුද්ගලයන් විසින් දුකසේ ඉවත්කරනු ලැබේ. එබැවින් සලලතො සලලයක් වශයෙන් බැලිය යුතුය. අදුකඛම සුඛා වී අභාවයට යන බැවින් ද, උදය වය දෙකින් යුක්ත බැවින් ද තාවකාලික බැවින් ද, නිතර ප්‍රතික්‍ෂෙප වන බැවින් ද අනිත්‍ය යයි බැලිය යුතුය. ඒකාන්තයෙන් මෙහි සියලු වේදනාවෝ අනිත්‍ය වශයෙන් බැලිය යුත්තාහුමය. අනිත්‍ය දර්ශනයෙන් අතිශය විරාග නිමිත්තක් වුවද දුකයයි දකින්නේ වේ. එබැවින් සුඛ වේදනාවෙන් සුඛයෙහි බැසගත්තා වූ පුද්ගලයන්ට එහි නිර්වේදය ඉපදවීම සඳහා සුඛා දුකඛතො සැප දුක් වශයෙන් බැලිය යුත්තාහු යයි කියන ලද්දේ වේ. මෙසේ කියාද සැපය පළමුකොට එබඳුද ? කෙබඳුද? දුක්ඛය? සිතන්නවුන්ට දුක්ඛ දුක්ඛය සලලයක් වශයෙන් දැක්ක යුත්තාහු යයි කියන ලද්දාහුය. ඉතිරිවා වනාහි සංඛාර දුක්ඛතාවයෙන්ම දුක්ඛ යයි දක්වන්නේ අදුකඛමසුඛා වෙදනා අනිච්චතො දටඨබ්බා යනුවෙන් වදාළහ. යදනිච්චං තං දුකඛං යන වචනයෙන් මෙහි සැප වේදනාව දුකඛතො දුක් වශයෙන් දතයුත්තාහු යනුවෙන් මෙයින් රාගයාගේ උපුටා දැමීමේ උපාය දක්වන ලද්දේය. දුකඛා වෙදනා සලලතො යනුවෙන් ද්වේෂයාගේ ද, අදුකඛ මසුඛා වෙදනා අනිච්චතො යනුවෙන් මෝහයාගේ ද (නැතිකිරීමේ උපාය දක්වන ලද්දේය.) සුඛ වේදනාවේදී රාගානුසය අනුසෙති (අනුව සයනය කෙරෙයි.) දුක්ඛ වේදනාවෙන් පටිඝානුසයද අදුකඛමසුඛ වේදනාවෙන් අවිජ්ජානුසයද (අනුයෙති) අනුව නිදයි.

යතො යම්කලෙක්හි යම්හෙයකින් හෝ, අරියො, කෙලේසයන්ගෙන් දුරුව සිටියේ, සමමදසො සියලු වේදනාවන්ගේ ද, චතුරාර්ය සත්‍ය ධර්මයන්ගේ ද සම්‍යක් දර්ශීයැ. අවෙච්ඡි තණ්හං වේදනා මූලක වූ තණ්හාව අග මගින් සින්දේය. ඉතිරි නොකොට සමූලඝාතනය කළේය. විවටටයී සංයොජනං දසවිධ සංයෝජන ධර්මයන් පෙරලා දැමීය. මුල් නැති කළේය. සමමා සහේතුකව සකාරණව, මානාභිසමයා මානයාගේ දර්ශනාභි සමය පහාණාභි සමය රහත්මග වනාහි කෘත්‍ය වශයෙන් මානය දකී. ඒ ඔහුගේ දර්ශනාභිසමයයි. එයින් දුටුවේ හෙතෙම එකෙණෙහි ම ප්‍රහීණ වෙයි. දිටඨි පසනම් සර්ප විසෙන් දුටු සත්ත්වයාගේ ජීවිතය මෙන් මේ මානයාගේ ප්‍රහාණ සමය වෙයි. අදදකඛි දැක්කේය. සනතං නොදුක් නොසැප වූ ශාන්ත වූ වේදනාව යතො තතො විමුච්චති. එබැවින් තතො එහි වේදනාව හා එය හා බැඳුන ඡන්දරාගයාගේ ප්‍රහාණයෙන්, සමුච්ඡෙද

වශයෙන් මිදෙයි. නැතහොත් යතො කය-වචන මනස යන තිදොරින් සංවර බැවින් යත්න කෙරේ. උත්සාහ කෙරේනුයි. යතො නම් වේ. අභිඤ්ඤා වොසිතො, වෙදනා මුඛයෙන් චතුරාර්ය සත්‍ය කර්මස්ථානය වඩා, ච අභිඥා සංඛ්‍යාත විශිෂ්ඨ ඥානයෙන් දැක නිමවන ලද කෘත්‍ය ඇති. යොගාතිගො, කාමාදි චතුර්විධ යෝගයන් ඉක්මවූයේ. මෙලොව පිණිසද පරලොව පිණිසද අත්තහිත පරහිත අවබෝධ කෙරේනුයි මුනි නම් වේ. (ඉධ ලොකත්‍ථං, පරලොකත්‍ථං අත්තහිතං පරිහතඤ්ච මුනාතීති - මුනි) කල්‍යාණ පෘථග්ජනයාගේ සිට සත්ත සේඛයෝ මෙහි රහතුන් වශයෙන් අදහස් කරන ලද්දේය.

සලල (දුතියවෙදනා) සූත්‍ර වර්ණනාව නිමි.

## 83.

හිදුර සුතෙත සූත්‍රයෙහි

හිදුරායං භික්ඛවෙ කායො, හිදුරො, මේ චාතුර්මහා භූතික රූපකාය බිඳීම ස්වභාවකොට ඇත්තේය. විනාසවීම ස්වභාවය කොට ඇත්තේය. එය චනාහි කේසාදි අංග ප්‍රත්‍යංගයෝ සමූහ අර්ථයෙන් කාය නම් වේ. නින්දිත වූ කේසාදීන්ගේ ඉපදීම උප්පත්ති ප්‍රදේශය කාය නම් වේ. විරාග ධම්මං නැසෙනසුළු ධර්මයකි. බිඳෙනසුළු ස්වභාව ඇත්තේය. සබ්බ උපධි ඛන්ධ උපධි - කිලෙස උපධි - අභිසංඛාර උපධි - පංචකාම උපධි යන සියලු උපධීහු උපධීයකි. එත්ථ දුක්ඛනති = උපධි දුකට හේතුවේනුයි උපධි නම් වේ. මෙය කියන ලද්දේ වෙයි. සියලු උපාදානක්ඛන්ධ, කිලේස, අභිසංඛාර, පංචකාම ගුණ ධර්මයෝ මේවායෙහි පිහිටා අභාවයට යන හෙයින් අනිච්ච යයි ද උදය - වය දෙකින් පෙලෙන බැවින් දුක්ඛ යයිද ජරා මරණ යන දෙ අයුරකින් විපරිණාමය යන ස්වභාව ඇති බැවින් ප්‍රකෘතිය අත්හරින අර්ථයෙන් විපරිණාම ධම්ම නම් වේ. මෙසේ මෙහි අනිච්චානුපස්සනා වශයෙන් රූපකාය මුඛයෙන් රූප කම්මට්ඨානය ද විඤ්ඤාණ මුඛයෙන් අරූප කම්මඨානයද යයි රූප අරූප කම්මට්ඨාන දෙක දක්වා.

නැවත සියලුම ත්‍රෛභූමක ධර්මයන් උපධීහු යයි එකතු කොටගෙන අනිත්‍ය දුක්ඛ අනුපස්සනා වශයෙන් එසේ අවබෝධ කරන්නවුන්ගේ අදහස් විමසන ආකාරයෙන් කියන ලද්දේ වෙයි.

මේ එහි සැකෙවින් සම්මසනාකාරයයි. මෙම යෝගාවචර තෙම තමාගේ රූපකය ආවර්ජනා කොට මේ මගේ කය රූපවත් වූයේ සතරමහා භූතයන්ගෙන් හටගත්තේ මව්පිය දෙදෙනාගෙන් සම්භව වූයේ සතර මහාභූතයෝ ද සතර මහාභූතයන්ගේ උපාදාය රූපයෝම වේ. මේ රූපය රූප මෙපමණය. මීට වැඩිය නොමැත. රූපාරූපයන්ම ලක්‍ෂණාදි වශයෙන් ව්‍යවස්ථානය කොට ඒ අනුසාරයෙන් විඤ්ඤාණ මුඛයෙන් නාම ව්‍යවස්ථානය කොට ඉදං රූපං, මේ රූපයයි ඉදං නාමං. මේ නාමයයි නාමරූප පමණක් ම දකී. මෙය නාමරූප මාත්‍රයකි. අන්‍ය වූ සත්ත්වයෙක් හෝ පුද්ගලයෙක් හෝ නැතැයි දැක අනතුරුව අවිජ්ජා ආදි හේතුප්‍රත්‍යයන් පරිග්‍රහණය කොට සප්පච්ච වූ නාමරූපයන් කෙරෙහි හිදූරායං කායො විඤ්ඤාණං විරාගධම්මං අනිත්‍ය ලක්‍ෂණයට නගා විපස්සනා පටිපාටියෙන් රහත්බවට පැමිණෙයි. මේ එක් විමසා බැලීමේ ආකාරයකි.

අනික් කෙනෙක් වනාහි උපධි වශයෙන් මෙසේ නාමරූප ධර්මයන් ව්‍යවස්ථානය කෙරෙයි. සියලු උපධීහු ඛන්ධ-කිලෙස-අභිසංඛාර කාමගුණ වශයෙන් සිව්වැදෑරුම් වෙත්. එහි ඛන්ධ උපධීහු නම් පංච උපාදාන ස්කන්ධයෝය. කිලෙස උපධි නම් ලෝභාදී දශ ක්ලේශයෝය. අභිසංඛාර උපධි නම් ත්‍රෛභූමක කුසලාකුසල චේතනාවෝය. දෙකම සංඛාරඛන්ධ පරියාපන්න වේ. කාමගුණ උපධීහු නම් පංචකාම පංචකාම ගුණයෝය. ඔවුහු රූපක්ඛන්ධ පරියාපන්න වෙති. මෙසේ සියලුම උපධීහු නම් පංචස්කන්ධයෝමය. එහි රූප ස්කන්ධය රූප නම්. සෙසු හතර අරූප ස්කන්ධයෝ වෙති. නාමරූප මාත්‍රයකැයි නාමරූපයෙන් ව්‍යවස්ථානය කොට අනතුරුව ඔහුගේ අවිජ්ජා ආදි හේතුප්‍රත්‍යයන් ද පරිග්‍රහණය කොට අනතුරුව සබ්බෙ උපධි අනිච්චා දුක්ඛා විපරිණාම ධම්මා යනුවෙන් අනිත්‍ය දුක්ඛ ලක්‍ෂණයන්ට නගා විපස්සනා පිළිවෙළින් රහත්බවට පැමිණේ.

මෙසේ මෙහි භාග්‍යවතුන් වහන්සේ වෛනෙය්‍ය ජනයාගේ අධ්‍යාසය අනුව විමසීමේ ක්‍රමය දෙආකාර වශයෙන් දේසනා කරන ලද්දේය. ඒකාන්තයෙන් මෙහි ලක්‍ෂණ දෙකම පෙලෙහි ආවේ වෙයි. 'යදනිච්චං තං දුක්ඛං යං දුක්ඛං තදනත්තා' යනුවෙනි. යමක් අනිත්‍යද එය දුකයි.

යමක් දුකද එය අනාත්මයයි. වචනවලින් වනාහි අනිත්‍ය ලක්‍ෂණයෙන් දුක්ඛ ලක්‍ෂණයද, දුක්ඛ ලක්‍ෂණයෙන් අනත්ත ලක්‍ෂණයද දක්වන ලද්දේ යයි දතයුතුය. උපධීසු භයං දිස්වා උපධීන්හි භයතුපට්ඨාන ඤාණ වශයෙන් භය දැක, ඒවාට භයවිය යුතු බව දැන, මෙයින් බලවත් වූ විදර්ශනාව දක්වයි. ජාති මරණ අච්චගා, මෙසේ සම්මර්ශනය කරන්නේ විපස්සනා ඤාණය මගින් මාර්ග පරම්පරාවෙන් රහත්බවට පැමිණියේ ජාති මරණ ඉක්මවූයේ වෙයි. සමපත්වා පරමං සන්තිං යනුවෙන් උතුම් වූ අනුත්තර වූ සන්තිං සබ්බ සංඛාර උපසමය වූ නිවනට පැමිණ මෙවැනි සතර ආර්ය මාර්ගයන්ගේ වශයෙන් භාවනාහි සමයෙන් නිපන් භාවිත කාය ඇත්තේ සීල සමාධි පඤ්ඤාවන්ගෙන් වඩන ලද ආත්ම භාව ඇත්තේ භාවිතත්තො මරණයද ජීවිතය ද අභිනන්දනය නොකරන්නේ හුදෙක් තමාගේ ස්කන්ධ පරිනිර්වාණ කාලය බලපොරොත්තු වෙයි.

හිදුර සූත්‍ර වර්ණනාව නිමි.

# 84.

දසධම්ම සුත්තෙ දසධම්ම සූත්‍රයෙහි,

පබ්බජිතෙන ගිහිගෙය අතහැර සසුනෙහි පැවිදි වූවහු විසින්, අභිණ්හං නිතර නැවත නැවත පච්චවෙක්ඛිතබ්බා බැලිය යුතුය, සැලකිය යුතුය. වෙවණ්ණියං යනු විරූපභාවයයි විවර්ණ භාවයයි. එය දෙවැදෑරුම් වේ. ශරීර වෛවර්ණභාවය හා පරිෂ්කාර වෛර්ණ භාවයයි. එහි හිස රැවුල් බෑමෙන් ශරීර විවර්ණභාවය දතයුතුය. කලින් නානාවර්ණයෙන් යුත් සියුම් වස්ත්‍ර පොරොවා නොයෙක් අග්‍රරසයෙන් යුත් භොජුන් රන්රිදී භාජනවල අනුභවකොට උතුම් සයනාසනයන්හි වැතිර හිඳ ගිතෙල් නවනීත ආදි බෙහෙත් කොට ද, පැවිදි කාලයෙහි පටන් කසට රස පෙවීමෙන් පීතවර්ණ වූ සිවුරු පෙරවිය යුතුය. යකඩ පාත්‍රයෙහි හෝ මැටි පාත්‍රයෙහි හෝ මිශ්‍ර ආහාර අනුභව කළයුතුය. රුක්ඛමූලාදි සෙනසුන්හි

ඇඳන්වල තණ ඇතිරිලිවල නිදිය යුතුය. සම්කඩ කුඩා පැදුරු ආදියෙහි හිඳගත යුතුය. පූතිමුත්ත භෙසජ්ජ ආදිය අනුභව කළයුතුය. මෙසේ මෙහි පරිෂ්කාරයන්ගේ විවර්ණභාවය දතයුතුය. මෙසේ ප්‍රත්‍යවේක්‍ෂා කිරීමෙන් කෝපයද මානයද දුරුවෙයි.

පරපටි බද්ධා මෙ ජීවිකා මගේ සතර පසයෙන් දිවි පැවැත්වීම අනුන් පිළිබඳ වූවක් යයි මෙසේ ප්‍රත්‍යවේක්‍ෂා කරන කල්හි ආජීවය පිරිසිදු වෙයි. පිණ්ඩපාතයෙන් පුදන ලද්දේ වෙයි. සිවුපසය විෂයෙහි ප්‍රත්‍යවේක්‍ෂා කරන ලද පරිභෝගය වෙයි. අඤ්ඤො මෙ ආකප්පො කරණියො ගිහියන්ගේ පපුව ඉදිරියට දමා බෙල්ල දිගුකොට-උස්කොට ලලිත ආකාරයෙන් අනියත වූ පදවීතිහාරයෙන් ගමනාකල්ප වෙයි. එයින් අන්‍ය වූ ආකල්පයක් මා විසින් කළයුතුය. ශාන්ත ඉන්ද්‍රියන්ගෙන් යුතුව ශාන්ත වූ මනසින් යුතුව වියදණ්ඩක් පමණ ඉදිරිය බලා ජලයෙන් ගැල්වලින් බිඳුනු විසම ස්ථානයන් ප්‍රත්‍යවේක්‍ෂාවෙන් යුතුව පදවීතිහාරයෙන් යායුතුය. මෙසේ ප්‍රත්‍යවේක්‍ෂා කරන්නේ ඉරියව් සුදුසු වෙයි. තෙවැදෑරුම් ශික්‍ෂාවන් සම්පූර්ණ කෙරෙත්.

කච්චි නුඛො, සිතා බැලීමේ නිපාත සමුදායකි. අත්තා, සිතයි. සීලතො න උපවදති, ඔබේ සීලය අපිරිසිදුයයි සීල හේතුවෙන් උපවාද නොකෙරෙයි. මෙසේ ප්‍රත්‍යවෙක්‍ෂා කිරීමෙන් අධ්‍යාත්මක හිරිය ඇතිවෙයි. ඕ තොමෝ තුන්වරෙක්හි සංවරය ඇතිකරයි. චතුපාරිශුද්ධි සීලය වෙයි. චතුපාරිශුද්ධි ශීලයෙහි සිට විදසුන් වඩා රහත් බව ලබාගනියි. අනුවිච්ච විඤ්ඤූ සබ්‍රහමචාරි, පණ්ඩිත වූ සබ්‍රහ්මචාරීන් සලකා බලා න උපවදනති ගර්හා නොකරත්. මෙසේ ප්‍රත්‍යවේක්‍ෂා කරන්නේ බාහිර ඔත්තප්පය නැතිකරයි. එය තුන්දොර සංවරය සාධනය කෙරෙයි යයි අනන්තර නය වශයෙන් දතයුතුය. නානා භාවො විනාභාවො, ජාතියෙන් නානාභාවයද, මරණයෙන් විනාභාවය වේ. මෙසේ ප්‍රත්‍යවේක්‍ෂා කරන්නේ දොරෙහි ප්‍රමාදයෙක් නොවේ. මරණ සතිය මනාව ඉදිරිපත්ව සිටියේ වෙයි.

කම්මස්සකො මහි ආදියෙහි කර්මය මගේය ස්වකීය වේ. ස්වකීය වේ. තමා සන්තක වේ. කම්මස්සකො කර්මයෙන් දියයුතු ඵලය, පරිත්‍යාගය කම්මස්ස දායාද නම් වේ. ඒ ආදි යමක් වේද, ඒ කම්මදායාද නම් වේ. කර්මය යෝනිකොට ඇත්තෙම්. කර්මය උපකරණකොට ඇත්තෙම්. කම්මයොනි නම් වේ. කර්මය නෑකොට ඇත්තෙම්. කම්මබන්ධු නම් වේ.

කර්මය පිළිසරණ කොට ඇත්තෙමි. පිහිටයි. **කම්ම පටිසරණ** නම් වේ. **තස්ස දායාදො භවිස්සාමි,** ඒ කර්මය දායාදකොට ඇත්තේ වෙමි. එයින් දෙන ලද ඵලය පිළිගන්නා කෙනෙක් වන්නෙමි යයි, මෙසේ කම්මස්සකත භාවය ප්‍රත්‍යවේක්ෂා කරන්නේ පවි කිරීමක් නම් නොවේ. **කථම්භූතස්ස මෙ රත්තින්දිවා වීතිපතන්ති** (කෙසේ වූ මට රෑදාවල් ඉක්මේදෝ හෝයි) කිමෙක්ද වත් පිළිවෙත් කරන්නා වූ මට, නැතහොත් නොකරන්නා වූ මට බුද්ධ වචනය සජ්ඣායනය කරන්නා වූ මට නැතහොත් නොකරන්නා වූ මට යෝනිසො මනසිකාරයෙන් කටයුතු කරන්නා වූ මට නැතහොත් නොකරන්නා වූ කෙසේ වූ මට රෑදාවල් ඉක්මෙන්නේදැයි පරිවර්තනය වන්නේය යන අර්ථයි. මෙසේ ප්‍රත්‍යවේක්ෂා කරන්නේ අප්පමාදය පරිපූරණය කරයි.

**සුඤ්ඤාගාරෙ අභිරමාමි** ජනයන්ගෙන් සිස්වූ පියයෙහි සියලු ඉරියව්වන්හි හුදෙකලා වී කෙසේ නම් අභිරමණය කෙරෙම්දැයි යන අරුති. මෙසේ ප්‍රත්‍යවේක්ෂා කරන්නේ කාය විවේකය පරිපූරණය කරයි. **උත්තරි මනුස්ස ධම්මා** උත්තර මනුෂ්‍යයන්ගේ උත්කෘෂ්ට මනුෂ්‍යයන්ගේ ධ්‍යාන වඩන්නන්ගේ ද ආර්යයන්ගේ ද ධ්‍යානාදි ධර්මයෝ උත්තරී මනුස්ස ධම්ම වේ. දසකුසල පථ සංඛ්‍යාත මනුස්ස ධර්මයට වඩා උත්තරීතර විශිෂ්ඨතර ධර්මයෝයි. මෙ මාගේ සන්තානයේ **අත්ථිනුඛො** ඇත්තේ දෝ නොහ් යි යන අරුති. **අලමරිය ඤාණදස්සන විසෙසො,** මහත්ගත ලෝකෝත්තර ප්‍රඥාව, පජානනාර්ථයෙන් ඤාණං නම් වේ. ඇසින් දුටු ධර්මය ප්‍රත්‍යවේක්ෂා කිරීමන් දර්ශනාර්ථයෙන් දස්සන යයිද, ඤාණදස්සන යයිද **අරියං විසුද්ධං උත්තමං ඤාණදස්සනන්ති අරිය ඤාණ දස්සනං** (ආර්ය වූ විසුද්ධ වූ, උත්තම වූ) ඤාණදස්සනය අරියඤාණ දස්සන නම් වේ. **අලං පරියත්ත** = අවසන්කොට ඇති. කෙලෙස් දුරුකිරීමට සමර්ථ වූ අරියඤාණ දස්සනය මෙහි මොහුට වේනුයි. **අලමරියඤාණ දස්සන** නම් වේ. ධ්‍යානාදී ප්‍රභේද වූ උත්තරී මනුස්ස ධර්මයි. අලමරිය ඤාණ දස්සනොව සො විසෙසො චාති = **අලමරිය ඤාණ දස්සන විසෙසො.** නැතහොත් එම කෙලෙස් විද්ධංසනයට සමර්ථ වූ විසුද්ධ වූ ඤාණ දස්සනයම විසෙස වේනුයි **අලමරියඤාණ දස්සන විසෙසො, අධිගතො** මට ලැබී ඇත්දැයි **සොහං** ඒ පටිලද්ධ ගුණවිශේෂ ඇති මම. **පච්ඡිමෙ කාලෙ,** මරණ මංචකයෙහි හොත් කල්හි **පුට්ඨො** සබ්‍රහ්මචාරීන් විසින් අධිගත ගුණ විශේෂය, විචාරණ ලද්දෙම් **න මංකු භවිස්සාමි,** අධොමුඛව

වැටුන කඳ ඇතිව තේජසින් තොරව නොවන්නෙමි යි ප්‍රත්‍යවේක්‍ෂා කරන්නහුට හිස් වූ කාලක්‍රියාවක් නොවෙයි.

දසධම්ම සූත්‍ර වර්ණනාව නිමි.

# 85.

ආරඤ්ඤක (පඨම අනාගත භය) සුත්ත

අනාගත භයානි තමාට අනාගත කාලයෙහි උපදින්නා වූ භයයෝ වෙති. ජීවිත අන්තරාය හේතුභූය. ආරඤ්ඤිකෙන, ආරණ්‍ය වාසීන්ගේ, අපපත්තසය ඣාන, විපස්සනා, මාර්ගඵල භේද විශේෂ්‍යන්ට තමාගේ සන්තානයෙහි, ඉපදීම් වශයෙන් නො පැමිණියා වූ සො මමසස අනතරායො, මගේ ඒ ජීවිත අන්තරායද බ්‍රහ්මචරිය අන්තරාය ද පෘථග්ජන වශයෙන් කාලක්‍රියා කරන්නහුට, ස්වර්ග අන්තරායද වන්නේය.

වීරියං ආරභාමි, දෙවැදෑරුම් වීර්යයක් කරමි. බ්‍යාපජ්ජෙය්‍ය, (වැලදූබත) (අජීර්ණ වශයෙන් විකෘතියට පත්වන්නේය.) මනාව ආහාර නොදිරවූ බැවින් සූල උලින් අනින කලක මෙන් ඇතිකරන වාතය. විසූචික විසූචික අධික වූ වමනය හා විරේකය ආදි නානාවිධ ආබාධයෝ උපදිත්. පිත්තං වා මෙ කුපෙපය්‍ය, බැඳුන පිතද, නොබැඳුන පිතද, කිපෙන්නේය. සත්ථකා වාතා, ආවුධවලින් මෙන් සන්ධි බන්ධන සිඳින්නා වූ වාතය, වාලෙහි කර්කශ වූ, මාණවෙහි සොරුන් විසින් කත කමෙමහි වා අකත කමෙමහි වා, කරන ලද සොරකම් ඇති සොරු, එයින් නිපත් බෙල්ලෙන් වැගිරෙන ලේ ගෙන දේවපූජා කරත්. එසේ චෝර කර්මයට පත්නොවූයේ මට ද මෙවන් කර්මයක් වන්නේ යයි ඊට පෙර (අධිගමය) සඳහා වෙහෙසෙන ලද සිත් ඇතිව වීර්යය කරත්.

ආරඤ්ඤික සූත්‍ර වර්ණනාව නිමි.

# 86.

දසබල සුත්තෙන දසබල සූත්‍රයෙහි,

මෙම සූත්‍රයාගේ අත්තජ්ඣායය සූත්‍ර නික්ෂේපය වෙයි. භාග්‍යවතුන් වහන්සේ සැදැහැයෙන් සසුන් වන් කුලපුත්‍රයන් රහත් කරවීමෙහි සීල සංවරාදියට හේතු වූ වීර්යාරම්භයෙහි යොදවනු කැමැත්තේ මේ සූත්‍රය වදාළ සේක. යම්හෙයකින් විශේෂ ගුණයකින් යුක්ත වූ ශාස්තෲන් වහන්සේගේම අවවාදය කළයුත්තේ වෙයි. අනුශාසනා ලැබිය යුත්තා වූ ශ්‍රාවකයෝ ද එහි ශ්‍රද්ධාව උපදවා සුදුසු පරිදි පිළිපැද පිළිවෙළින් රහත් බවට පැමිණෙත්. එබැවින් මහා කාරුණික තථාගතයන් වහන්සේ, විරියාරම්භයෙහි නියෝජනය කරනු සමත් වූ තමාගේ යථාභූත ගුණය, දසබල සමන්නාගතො ආදී වූ පංච පදයකින් දක්වයි.

එහි දසබල සමන්නාගතොති මෙහි බලය යන්න දෙවැදෑරුම් වෙයි. කාය බලය හා ඤාණබලය යනුවෙනි. ඔවුන් අතුරෙහි තථාගතයන් වහන්සේගේ කාය බලය හස්තිකුල අනුසාරයෙන් දතයුතුය කියන ලදී.

> කාලාවකඤ්ච ගංගෙය්‍යං පණ්ඩරං තම්බ පිංගලං
> ගන්ධ, මංගල හෙමඤ්ච, උපොසථ ඡද්දනති මෙ දසා

(කාලාවක, ගංගෙය්‍ය, පණ්ඩර, තම්බ, පිංගල, ගන්ධ, මංගල, හේමවත උපෝසථ - ඡද්දන්ත යනු ඇත්කුල දසයයි.)

එහි කාලාමක යනු පියවි ඇත් කුලයයි. පියවි මිනිසුන් දස දෙනෙකුගේ ශක්තිය කාය බලය කාලාවක හස්තියෙකුට ඇත. කාලවක ඇතුන් දස දෙනෙකුගේ කාය බලය එක ගංගෙය්‍ය කුලයෙහි ඇතෙකුට ඇත. ගංගෙය්‍ය කුලයෙහි ඇතුන් දසදෙනෙකුගේ කායබලය එක පණ්ඩර කුලයෙහි ඇතෙකුට ඇත. පණ්ඩර කුලයෙහි ඇතුන් දශ දෙනෙකුගේ කාය බලය තම්බ කුලයෙහි එක් ඇතෙකුට ඇත. තම්බ කුලයෙහි ඇතුන් දසදෙනෙකුගේ කාය බලය එක පිංගල කුලයෙහි ඇතෙකුට ඇත. පිංගල කුලයෙහි ඇතුන් දසදෙනෙකුගේ කාය බලය එක ගන්ධ කුලයෙහි ඇතෙකුට ඇත. ගන්ධ කුලයෙහි ඇතුන් දසදෙනෙකුගේ කායබලය මංගල කුලයෙහි ඇතෙකුට ඇත. මංගල කුලයෙහි ඇතුන් දසදෙනෙකුගේ කායබලය හේම කුලයෙහි එක ඇතෙකුට ඇත. හේම කුලයෙහි ඇතුන්

දසදෙනෙකුගේ කායබලය එක උපෝසථ කුලයෙහි එක ඇතෙකුට ඇත. උපෝසථ කුලයෙහි ඇතුන් දසදෙනෙකුගේ කායබලය ඡද්දන්ත කුලයෙහි එක ඇතෙකුට ඇත. ඡද්දන්ත කුලයෙහි ඇතුන් දසදෙනෙකුගේ කායබලය එක් තථාගත කෙනෙකුට ඇත. මෙයට නාරායණ නම් බලයයිද කියනු ලැබේ. මෙය ප්‍රකෘති හස්තීන්ගේ ගණනින් කෝටි දහසක් ඇතුන්ගේද පුරිස ගණනින් පුරිසකොටි දස දහසක බලයකි. මෙය තථාගතයන් වහන්සේගේ කාය බලයයි. දසබල සමන්නාගතො යන්නෙහි මෙය සංග්‍රහය යෙයි. මෙය වනාහි බාහිර ලාමක තිරිසන්ගත වූ සිංහාදීන්ට ද වෙයි. මෙයින් දුක්ඛ පරිඥඥාවක් හෝ සමුදය ප්‍රහාණයක් හෝ මාර්ග භාවනාවක් හෝ මාර්ගඵල අවබෝධයක් හෝ නොවේ. අන්‍ය වූ දස තැනෙක්හි කම්පානොවන අර්ථයෙන් උපකාර වන අර්ථයෙන් දසවිධ ඤාණබලයක් ඇත්තේය. ඒ සඳහා කියන ලදී. දසබල සමන්නාගතො, යනුවෙන් එය කවරේද යත් :-

තැන තැන වශයෙන් ද නොතැන නොතැන වශයෙන් ද දැනීම, (ඒ ඒ දෙය ඒ ඒ ලෙසින් වන්නට කරුණු මෙය නොවන්නට කරුණු වේයයි ඒ ඒ දෙයට කරුණු නොකරුණු පිරිසිඳ දන්නා නුවණ පළමුවන බලයයි.

අතීත, අනාගත, වර්තමාන කර්මයන්ගේ ගැනීම ඨාන වශයෙන් හේතු වශයෙන් තත්වූ පරිදි විපාක දන්නා නුවණ. (කර්ම විපාක ඥානයයි. තුන්කල්හි කර්මයන්ගේ නානාවිධ කර්ම විපාකයන් තතු වූ පරිදි දන්නා නුවණ.)

සබ්බත්‍ථ ගාමිනී පටිපදා ඤාණය (ප්‍රගති දුගති හැම තන්හි ප්‍රතිසන්ධි වශයෙන් යන පිළිවෙත් (මාර්ගය) දන්නා නුවණ.)

'අනේකධාතු නානාධාතු දැනීමේ නුවණ එකකි. පර සත්ත්වයන්ගේ නානාධිමුත්ති බව දන්නා නුවණ (සත්ත්වයන්ගේ ඔවුනොවුන්ට වෙනස් විසිතුරු පැවතුම් ඇති ආශයානුසය චරිතාධිමුත්තින් වෙසෙසා දන්නා නුවණ)

ඒ සත්ත්වයන්ගේම ඉන්ද්‍රිය පරෝ පරියත්ත ඤාණය (ඔවුන්ගේම ශ්‍රද්ධා ආදි ඉන්ද්‍රියන්ගේ මුහුකළ නොකළ උසස් පහත් තරම් දන්නා නුවණ)

ධ්‍යාන, විමොක්ෂ, සමාධි, සමාපත්ති මේවායේ අපිරිසිදුවීම, පිරිසිදුවීම් නැගී සිටීම් දන්නා නුවණ

පෙර විසූ කඳපිළිවෙල දන්නා නුවණ.

සත්ත්වයන්ගේ ච්‍යුති, උත්පත්ති දන්නා නුවණ.

ආසවක්ඛ ඥාණය යනුවෙන් මේ ඥාණ බල දහය යි.

එය මෙසේ කියන ලදී. (මතක තබාගැනීම සඳහා සංග්‍රහ ගාථා)

ඨානා ඨානෙ විපාකෙච - ඥාණං පටිපදාය ච
නානාච ධාතු ලොකම්හි - සත්තාං අධිමුත්තියං

ඣානාදීන සංකිලෙස - වොදානෙච පරොපරෙ,
පුබ්බෙනිවාස ඥාණඤ්ච දිබ්බචක්ඛා සවක්ඛයං

මේවායේ විස්තර කථාව විභංග අට්ඨකථාවෙහි කියන ලද්දේය. චතූහි චෙව වෙසාරජ්ජෙහි, මෙහි සාරජ්ජයට ප්‍රතිපක්ෂ වූයේ වෙසාරජ්ජ නම් වේ. හතර තැනක විසාරද බව ප්‍රත්‍යවෙක්ෂා කරන්නහුට උපන් සෝමනස්සමය ඥාණයට මෙය නමකි.

මේ එහි පාලියයි.

"මහණෙනි, සම්‍යක් සම්බුද්ධ යයි පිළිණ කරන තොප විසින් මේ ධර්මයෝ අනභි සම්බුද්ධයහයි ඔවුන් කියන එම කරුණෙහි ලා මහණෙක් හෝ බමුණෙක් හෝ දෙවියෙක් හෝ මරෙක් හෝ බඹෙක් හෝ ලොව අන් කිසිවෙක් හෝ සකාරණයෙන් වට චෝදනා කරන්නේ යයි මෙබඳු පුද්ගලයකු නොදක්මි. මහණෙනි, මම ක්ෂේමයට පැමිණියෙමි. අභයට පැමිණියෙමි. විසාරද බවට පැමිණියෙමි."

"මහණෙනි, ක්ෂීණාශ්‍රව යම්හ යයි පිළිණකරණ තොප විසින් මේ ආශ්‍රවයෝ අපරික්ෂීණහයි එකරුණෙහි ලා මහණෙක් හෝ බමුණෙක් හෝ දෙවියෙක් හෝ මරෙක් හෝ බඹෙක් හෝ ලොව අන් කිසිවෙක් හෝ සකාරණයෙන් මට චෝදනා කරන්නේ යයි මෙබඳු පුද්ගලයෙකු

නොදක්මි. මහණෙනි, මම මෙබඳු පුද්ගලයෙකු නොදක්නෙමි. ක්ෂේමයට පැමිණියෙමි. අභයට පැමිණියෙමි. විසාරද බවට පැමිණියේ වෙමි."

"මහණෙනි, තොප විසින් මෙම අන්තරායකර ධර්ම කෙනෙක් වදාරණ ලද්දාහුද? ධර්මය සෙවුනා හට අන්තරාය පිණිස, අසමර්ථයහයි එකරුණෙහි ලා මහණෙක් හෝ බමුණෙක් හේ දෙවියෙක් හෝ මරෙක් හෝ බඹෙක් හෝ ලොව අන්කිසිවෙක් හෝ සකාරණ වචනයන් මට චෝදනා කරන්නේ යයි, මෙබඳු පුද්ගලයෙකු නොදක්මි. මහණෙනි, මම මෙබඳු පුද්ගලයෙකු නොදක්නෙම් ක්ෂේමයට පැමිණියෙම් අභයට පැමිණියෙම්, විශාරද බවට පැමිණියෙම් වෙමි."

"මහණෙනි, තොප විසින් යම් අර්ථයක් සඳහා දහම් දෙසන ලදද, ඒ දහම් සපුරන්නහුට මොනවට දුක් නසනු පිණිස, නොයෙති යි, එකරුණෙහි ලා මහණෙක් හෝ බමුණෙක් හෝ දෙවියෙක් හෝ මරෙක් හෝ බඹෙක් හෝ ලොව අන් කවරෙක් හෝ සාකාරණ වචනයෙන් මට චෝදනා කරන්නේ යයි මෙබඳු පුද්ගලයෙකු නොදකිමි. මහණෙනි, මම මෙබඳු පුද්ගලයෙකු නොදක්නේ ක්ෂේමයට පැමිණියෙම් අභයට පැමිණියෙම් විසාරද බවට පැමිණියෙම් වාසය කරමි."

ආසභට්ඨානං, ශ්‍රේෂ්ට තැනකට උතුම් තැනකට ආසභයෝ හෝ පෙර බුදුවරයෝ, ඔවුන්ගේ තැන යන අර්ථයි. නැවත ද, ගවයන් සියයකට නායක වෘෂභ නම් වේ. ගවයන් දහසකට නායක වසභ නම් වේ. ගැල් සියයකට දෙටු ගම තෙම හෝ උසභ වේ. ගැන් දහසකට නායක ගවතෙම වසභ නම් වේ. සියලු ගව ගණයාට ජ්‍යෙෂ්ඨ වූ සියලු උවදුරු උසුලන්නා වූ සුදු වූ පැහැපත් වූ මහත් බර උසුලන්නා වූ සියගණන් අසනි ශබ්දයෙනුදු කම්පා නොවන්නා වූ නිසභ තෙමේ හෙතෙම මෙහි උසභය යයි අදහස් කෙරේ. මෙයද ඔහුට පරියාය වචනයකි. උසභසස ඉදං ආසභං මෙය උසභයාගේනුයි ආසභ නම් වේ. ඨානං, සතර පසින් පොලොව මැඩ නිසලව සිටී. ඉදමපන ආසභං වියාකි 'ආසභං' මෙහි ආසභයෙකු මෙනැයි ආසභ නම්. යම්සේ නිසභ නම් වූ උසභ තෙම උසභ බලයෙන් යුක්ත වූයේ සතර පසින් පොළොව මැඩ නොසෙල්වී සිටී. මෙසේ තථාගතයන් වහන්සේ ද දසවැදෑරුම් තථාගත බලයෙන් යුක්ත වූයේ චතුවෙසාරජ්ජ නමැති පාදවලින් පොළොව මැඩ නොසෙල්වී සිටියි.

මෙසේ තථාගතයන් දසවිධ තථාගත බලයෙන් යුක්ත වූයේ, චතුවෙසාරජ්ජ ඤාණ නමැති පාදවලින් අටඨපරිස නම් වූ පොළොව මැඩ දෙවියන් සහිත ලෝකයෙහි කිසියම් විරුද්ධකරුවෙකු සතුරෙකු විසින් කම්පානොකළ හැකි අචලත්වයෙන් සිටී. එසේ සිටින්නේ එම ශ්‍රේෂ්ඨ කරුණ තත්ත්වය ප්‍රකට කරයි. එයට එළඹෙයි. විරුද්ධව කථා නොකරයි. තමා කෙරෙහි ආරෝපනය කෙරෙයි. එබැවින් කියන ලදී. ආසභටඨානං පටිජානාති ශ්‍රේෂ්ඨ ස්ථානයට පැමිණෙයි.

පරිසාසු, ක්‍ෂත්‍රිය, බ්‍රාහ්මණ, ගෘහපති, ශ්‍රමණ, චාතුර්මහාරාජික, තාවතිංස, මාර, බ්‍රහ්ම නම් වූ අට පිරිසෙහි සීහ නාදං නදති ශ්‍රේෂ්ඨ නාදය අභීත නාදය කෙරෙයි. සිංහ නාදය සමාන වූ නාදයක් කරයි. මේ අර්ථය සිංහනාද සූත්‍රයෙන් ප්‍රකට කළ යුත්තේය.

යම්සේ සිංහතෙම ඉවසන බැවින් ද නසන බැවින් ද සිංහනම් වේයයි කියනු ලැබේ. එසේම තථාගත තෙමේ ලෝක ධර්මයන් ඉවසන බැවින් පරුපවාද නසන බැවින් ද සීහ යයි කියනු ලැබේ. මෙසේ කියන ලද සිංහයාගේ නාදය සීහනාද නම් වේ. එහි යම්සේ සිංහ බලයෙන් යුක්ත වූයේ සියලු තන්හි විසාරද වූයේ පහවූ ලොමු දහගැනීම් ඇත්තේ, සිංහනාදය කරයි. මෙසේ තථාගත සීහ තෙමේද තථාගත බලයෙන් සමන්විත වූයේ අට පිරිස් මැද විසාරද වූයේ, පහවූ ලොමුඩැහැ ගැනීම් ඇත්තේ ඉති රූපනති ආදී නයින් නානාවිධ දේශනා විලාසයන්ගෙන් සම්පූර්ණ වූයේ සිංහනාද කරයි. බ්‍රහම චකකං පවතතති මෙහි බ්‍රහ්ම යනු, ශ්‍රේෂ්ඨ උත්තම විශිෂ්ඨ යන අරුත් වේ. චක්කවත්ති, ධර්මචක්‍රයට මෙය අධි වචනයකි. එම ධර්මචක්‍රය දෙවැදෑරුම් වේ. ප්‍රතිවෙධ ඤාණය හා දේසනා ඤාණය යනුවෙනි. එහි ප්‍රඥාවෙන් ප්‍රභාවිත වූ, තමාට ආර්යඵලය ගෙන දෙන්නා වූ ප්‍රතිවේධ ඤාණය කරුණාවෙන් ප්‍රභාවිත වූ ශ්‍රාවකයන්ට ආර්යඵලය ගෙනදෙන්නා වූ දේසනා ඤාණයයි.

එහි පටිවෙධ ඤාණය ඉපදෙන්නේ, ඉපදුනේ යනුවෙන් දුවිධ වේ. එහි අභිනිෂ්ක්‍රමණයෙහි පටන් රහත්මග දක්වා උපපජජමාන නම් වේ. ඵල ක්‍ෂණයෙහි උපපනනං නම් වේ. තුසිත භවනයෙහි සිට බෝමැඩ දක්වා රහත්මග 'උපපනන' නම් වේ. ඵලක්‍ෂණයෙහි 'උපපනනං' නම් වේ. දීපංකර විවරණයෙහි පටන් රහත්මග දක්වා 'උපපජජමානං' නම්. ඵල ක්‍ෂණයෙහි 'උපපනන' නම් වේ. දේසනා ඤාණය ද පවත්තමාන,

පවත්වන (පවත්වන්නා වූ, පැවැත්වූ) යනුයෙන් දුවිධ වේ. එහි අඤ්ඤා කොණ්ඩඤ්ඤ තෙරුන්ගේ සෝතාපත්ති මාර්ගය දක්වා පවත්තමාන නම් වේ. ඵලක්ෂණයෙහි 'පවත්ත' නම් වේ. ඔවුන් අතුරෙහි පටිවෙධ ඤාණය ලොකුත්තර නම්. දේසනා ඤාණය ලෞකිකයි. මෙම ඤාණ දෙකම අන්‍යයන් හා අසාධාරණය. බුදුරදුන්ගේම ඖරස ඥානයයි. දැන් යම් මේ ඤාණබලයෙන් යුක්ත වූයේ සිංහනාද කරයි. එය දක්වන්ට ඉතිරූපං යනාදිය වදාළහ.

එහි ඉති රූපනති ඉදං රූප මෙපමණය. මීට වඩා රූප නැත. රූපපන ස්වභාවය ද, භූත උපාදාය භේද ද ආදියෙහි පටන් ලකඛණ-රස-පච්චුපට්ඨාන-පදට්ඨාන වශයෙන් ඉතිරි නොකොට රූප පරිග්‍රහය කියන ලද්දේය. ඉති රූපසස සමුදයො මෙසේ ඒ රූපයාගේ සමුදය වෙයි. මෙයින් රූප සමුදය කියන ලද්දේ වෙයි. එහි විස්තර අවිජ්ජා සමුදයා - තණ්හා සමුදයා - කම්ම සමුදයා - ආහාර සමුදයා - (මේ හේතුන්ගෙන්) රූප සමුදය වේ. නිබබනති ලක්ෂණය බලන්නේ රූපයාගේ උදය දකියි යයි මෙසේ දතයුතුයැ. අත්‍ථංගමයේ ද, "අවිජ්ජා නිරොධා - තණ්හා - කම්ම - ආහාර යන මේවායේ නිරෝධයෙන් රූප නිරෝධය වේ. විපරිණාම ලක්ෂණය බලන්නේ ද නිරෝධය දකියි. මේ විස්තර කථාවයි.

ඉතිවෙදනා, ආදියෙහි ද මේ වේදනාව, මෙපමණ වේදනාය. මෙයින් වේදනා නැත යයි වේදයිත සඤ්ජානන, අභිසංඛරණ - විජානන ආදි ස්වභාව ඇත්තාහු ද, සුඛ ආදි, රූපසඤ්ඤා ආදි ඵසස ආදි චකඛු විඤ්ඤාණ ආදි භේදද, ආදි කොට ලක්ඛණ - රස - පච්චුපට්ඨාන පදට්ඨාන වශයෙන් ඉතිරි නොකොට වෙදනා - සඤ්ඤා - සංඛාර විඤ්ඤාණ පරිග්‍රහය කියන ලද්දේය. ඉති වෙදනාය සමුදයො, ආදියෙන් මෙසේ ගත්තා ලද, වෙදනා-සඤ්ඤා සංඛාර, විඤ්ඤාණයන්ගේ සමුදය කියන ලද්දේය. ඔවුන්ගේ විස්තරය :- අවිජ්ජා සමුදයා, වෙදනා සමුදයො යනුවෙන් රූපය පිළිබඳව කියන ලද නයින්ම දතයුත්තේය. මේ වනාහි විශේෂයකි. වෙදනා-සඤ්ඤා සංඛාර යන තුන් ස්කන්ධයන් පිළිබඳව ආහාර සමුදයා යන් හා නොකියා ඵසස සමුදයා යනුවෙන් කිවයුතුය. විඤ්ඤාණය පිළිබඳව නාමරූප සමුදයා යනුවෙන් කිවයුතුය. අත්‍ථංගම පදයද, මේ වූ ආකාරයෙන් යෙදිය යුතුය. මේ සැකෙවිනි. විස්තර වශයෙන් දිට්ඨි විසුද්ධි කථාවේදී කියන ලද්දේය.

ඉමසමිං සති ඉදං හොති මෙයද අනිකුත් සිංහනාදයකි. මෙම

අවිජ්ජා ආදි ප්‍රත්‍යයන් ඇතිකල්හි සංඛාර ආදි ඵලය වෙයි. ඉමසස උපපාදා ඉදං උපපජ්ජති, මෙම අවිජ්ජා ආදි ප්‍රත්‍යයාගේ ඇතිවීම මේ සංඛාර ආදි ඵලයන්ගේ ඉපදීමයි. ඉමසමිං අසති ඉදං න හොති. අවිජ්ජා ආදි ප්‍රත්‍යයන් නැති කල්හි මේ සංඛාර නම් වූ පලය නොවේ. ඉමසස නිරොධා ඉදං නිරුජ්ඣති මෙම අවිජ්ජා ආදි ප්‍රත්‍යයන්ගේ නිරෝධයෙන් මේ සංඛාර ආදි ඵලයෝ ද නිරුද්ධ වෙති. දැන් එය විස්තර වශයෙන් දක්වන්නේ, යදිදං අවිජ්ජා පච්චයා සංඛාරා යනුවෙන් වදාළහ. තත්‍ථ අවිජ්ජා ච සා පච්චයො චාති, අවිජ්ජ පච්චයෙ, (එහි අවිජ්ජාව ද පච්චය ද එයමනුයි අවිජ්ජා පච්චය නම් වේ. එබැවින් අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංස්කාර වෙත් යයි මේ නයින් අරුත් දතයුත්තේය. අවිජ්ජා යතෙබව, අවිජ්ජාවගේම අසෙස විරාග නිරොධා යනුවෙන් විරාග නම් වූ මාර්ගයෙන් අසෙස නිරෝධයෙන් සංඛාර නිරොධො, සංඛාරයන්ගේ අනුත්පාද නිරෝධය වේ. කෙවලසස සියලු සුද්ධ වූ හෝ සත්ත්ව විරහිත වූ හෝ යන අර්ථයි.

දුකඛකඛන්ධසස දුක් රාශියේ, නිරොධො අනුත්පාද නිරෝධයයි. මෙසේ භාග්‍යවතුන් වහන්සේ අනුලෝම වශයෙන් දොලොස් පදයකින්ද වට්ටකථාව (සංසාර) කථාව දක්වා එම වට්ටය පෙරලා දමන්නා වූ පටිලෝම වශයෙන් දොලොස් පදයකින් ද විවට්ට කථාව (සසරින් මිදීමේ කථාව) කළේය. දැන් යම් ධර්මයක් සම්පාදනයෙහි වීර්ය ද, උත්සාහය ද උපදවයි. එයම ත්‍රිවිධ ශික්‍ෂා සංග්‍රහ ධර්මය. පස් පදයකින් වර්ණනා කරන්නේ සවාකඛාතො, ආදිය වදාළහ.

එහි, එවං සවාකඛාතො, මෙසේ පංචස්කන්ධයාගේ බෙදීම් වශයෙන් මනා ලෙස ප්‍රකාශ කළේ මනා ලෙස කියන ලද්දේ වෙයි. ධම්මො, පංච ස්කන්ධ පච්චයාකාර ධර්ම. උත්තානො, නොවැසුනේ විවරිතො විවෘත කොට තබන ලද්දේ. පකාසිතො දීපනය කරන ලද්දේ ඡිනන පිලොතිකො සිඳුන බිඳුනු තැනින් තැන වසන ලද ගැටගසන ලද ඡින්න වූ වස්ත්‍රයයි. යමෙකුට එය නැද්ද මෙතෙම අටරියන් හෝ නවරියන් හෝ අළුත් වස්ත්‍රයක් හැන්දේ ද ඡිනන පිලොතික නම් වේ. මේ ධර්මය එබඳුය. කුහක වශයෙන් ගන්නා ලද සිඳුනු බිඳුනු මසන ලද, ගැටගසන ලද භාවයක් නැත.

නමුත්, කුඩා සාටකයට 'පිලොතිකා' යයි කියනු ලැබේ. එය යමෙකුට නැත්ද, අටරියන් නවරියන් මහා වස්ත්‍රයක් ඇත්ද එයද ඡිනන

පිලොතික යන අර්ථය ලබයි. මේ ධර්මය එසේ නොවේ. යම්සේ හතර රියන් සාටකය ලැබ පරිහරණය කරන පුද්ගලයා ඔබ මොබ වසන්නේ වෙහෙසට පැමිණෙයි. මෙසේ බාහිර සමයන්හි පැවිද්දෝ තමාගේ ස්වල්ප වූ ධර්මය මෙසේ ඇතිකල්හි මෙසේ වන්නේ යයි සිතා මතා වැඩිකරන්නේ වෙහෙසට පැමිණෙයි. යම්සේ අටරියන් නවරියන් වස්ත්‍රයක් පරිග්‍රහණය කරන්නේ, වෙහෙසට කැමති පරිදි පොරවන්නේ වෙහෙසට නොපැමිණෙයි. හැඳ වසා වැඩිකිරීමේ කෘත්‍යයක් නැත. මෙසේ මෙම ධර්මයෙහි හැඳ පොරවා විභජන කෘත්‍යයක් ඇත. ඒ ඒ කරුණින් මා විසින්ම මෙම ධර්මය මනාව බෙදන ලද්දේය. මනා ලෙස විස්තර කරන ලද්දේය. මේ සඳහා ජිනනපිලොතිකා යනුවෙන් වදාළහ. නමුත් කචවර පිලොතිකා යයි ද කියනු ලැබේ. මේ සාසනයෙහි ශ්‍රමණ කචවර තෙමේ පිහිටක් නොලබයි.
එහෙයින් වදාළහ.

කාරණ්ඩවං නිද්ධමථ, කසම්බුං අවකස්සථ
තතො පලාපෙ වාහෙථ අස්සමණෙ සමණ මානිනො

නිද්ධමිත්වාන පාපිච්ඡෙ, පාප ආචාර ගොචරෙ
සුද්ධා සුද්ධෙහි සංවාසං කප්පයව්හො පතිස්සතා
තතො සමග්ගා නිපකා දුක්ඛස්සන්තං කරිස්සථ

"ශ්‍රමණ කාරණ්ඩවයා නෙරපව. ශ්‍රමණ කසලයා දුරුකරව. අශ්‍රවණ වූ ශ්‍රමණමානි වූ ශ්‍රමණ ප්‍රලාපයන් බැහැර ලවු."

"පාප ආචාර ගෝචර ඇති පාපීන් නෙරපා එළඹ සිටි සිහි ඇත්තාහු ශ්‍රද්ධා ඇත්තාහු පිරිසිදු සඟුන් හා සමග වාසය කරම්. අනතුරුව සමගි වූවාහු - නෙපක්ක නම් ප්‍රඥාවෙන් යුක්ත වූවාහු දුක් කෙළවර කරන්නාහුය."

මෙසේ ශ්‍රමණ කචවරයාගේ බිඳුනු බැවින් මේ ධර්මය ජිනන පිලොතික නම් වේ.

දැන් විරියාරම්භයෙහි නියෝජනය කරන්නේ අලමෙව යනාදිය කීහ. එහි අලමෙව යනු සුදුසුමය. කුලපුත්තෙන යනුවෙන් කුලපුත්‍රයෝ දෙදෙනෙකි. ආචාර කුලපුත්ත ජාතිකුල පුත්ත යනුයි. යමෙක් යම්කිසි

කුලයකින් පැවිදිව සීලාදිය පරිපූරණය කෙරේ ද මේ ආචාර කුලපුත්ත නම් වේ. යමෙක් යසකුල පුත්‍රාදීන් මෙන් ජාති සම්පන්න කුලවලින් පැවිදි වූවෝ ජාති කුලපුත්‍රයෝ නම් වෙති. ඔවුන් අතුරෙන් මෙහි ආචාර කුලපුත්‍ර අදහස් කෙරේ.

ඉදින් ජාතිකුලපුත්‍රතෙම ආචාරවත් වේද, මෙතෙම උත්තම වේ. විරියං ආරභිතං චතුරංග සමනනාගතං විර්ය කරන්ට කාමං තචො ච ආදියෙන් චතුරංග සමන්නාගත වීර්ය කරන අයුරු දැක්වේ. මෙහි තචො යනු එක අංගයකි. නහාරු එක් අංගයකි. අට්ඨි එක් අංගයකි. මංස ලොහිතං යනු එකකි. මෙම චතුරංග සමනනාගත වීර්යයෙන් අධිෂ්ඨාන කරන්නාහු විසින් නවාතැනක සමොධානය පැවැත්විය යුතුය. පුරෙභත්ති කාලය, පච්ඡාභනත කාලය, පෙරයම, මැදුම් යම, පැසුළු යම, ගමනෙහි සිටීමෙහි හිඳීමෙහි නිදීමෙහි යනුයි. නැවත වීරියාරම්භයෙහි නියෝජනය කරනු පිණිස කුසීත භාවයෙහි ආදිනවද ආරද්ධ වීර්යයෙහි ආනිසංස ද දක්වන්නේ දුක්ඛං භික්ඛවෙ කුසීතො ආදිය වදාළහ.

එහි අර්ථය නම්:- යමෙක් මේ සසුනෙහි කුසීත පුද්ගලයෙක් වේද, හෙතෙම මෙලොවද පරලොව ද දුකින් වසන්නේය. බාහිර සමයන්හි වනාහි යමෙක් කුසීත ද හෙතෙම සැපසේ වසයි. කසුප් බුදුරදුන්ගේ සසුනෙහි වනාහි භික්ෂු, භික්ෂුණීහු සික්ඛමාන, සාමණේර සාමණේරී යන මොවුහු කුසීතවූවාහු ලෝකයා සැදැහැයෙන් දෙන සිවුපසය වළඳ කාය, වචී ද්වාරයන්හි සංවර නොවූවාහු බිඳුන ආජීව ඇත්තේ විසිතුරු කෙලිදෙලෙන් යුතුව සිට එයින් චුතව බුද්ධාන්තරයක් නිරයේ පැසී. ප්‍රේතලොව උපන් බැවින් ප්‍රේත ලෝකයෙහි උපදින්නාහු භික්ෂු - භික්ෂුනී - සික්ඛමාන - සාමණේර සාමණේරී යන මොවුන්ට සමාන වූ ආත්ම භාවයන්ගෙන් යුතුව උපන්නාහුය.

වොකිණ්ණො ගැවසුනේ මිශ්‍ර වූයේ සදත්ථං සෝභන වූ අර්ථය තමාගේ හෝ අර්ථය. මේ දෙ අරුතින්ම රහත්බව අපේක්ෂා කෙරේ. පරිහාපෙති නොපැමිණෙයි. කුසීත පුද්ගලයාගේ වනාහි ඡද්වාරයෙන් වැසුනාහු වෙත්. කුත්කර්මයෝ අපිරිසිදු වූවාහු වෙති. ආජීව අට්ඨමක සීලයද අපිරිසිදුය. බිඳුන ආජීව ඇත්තේ කුලූපග වූයේ වෙයි. හෙතෙම බ්‍රහ්මචාරීන්ගේ ඇසෙහි වැටුන කුණක් දූවිල්ලක් මෙන් ගැටීම් ඇතිකරන්නේ දුකසේ වාසය කරයි. ශාස්තෘන් වහන්සේගේ අදහස ගැනීමට නොහැක්කේ

වෙයි. දුර්ලභ වූ මොහොත ක්‍ෂණය වරද්දවා ගනී. භාග්‍යවතුන් වහන්සේ විසින් වදාරණ ලදී.

අංගුත්තං චක්ඛු සොතසම්ං ඉන්‍ද්‍රියෙසු අසංවුත
තං මක්ඛිකානුපතිසසනති සංකපපා රාග නිසසිතා

කටු විය කතො භික්ඛු ආමගන්ධා අවසසුතො
ආරකා හොති නිබ්බාණා විඝාතසෙසව භාගවා

'චක්ඛු - සෝත දෙකෙහි ගෝපනය නොකළ, ඉන්‍ද්‍රියයන් අසංවර වූ මහණහු රාග නිශ්‍රිත සංකල්ප නම් වූ මැස්සෝ ලුහුබැඳ ගනිත්.'

'කෙලෙස් නම් වූ ආමගන්ධයෙන් තෙත්ව සිටින්නා වූ එයම ඉඳුල් කළ මහණ නිවණින් ඈත්වෙයි. සංසාර දුකට කොටස්කරුවෙක් වෙයි.

ආරද්ධවිරියෝ උපන්නා වූ ද නොඋපන්නා වූ ද කෙලෙසුන්ගේ විනෝදන වශයෙන් ඔසවා තබන ලද වීර්යය එහි ලක්‍ෂණය ආරද්ධ විරිය සූත්‍රයෙහි කියන ලද ආකාරයෙන් දතයුතුය. පවිවිතෙතා වියුත්ත වූ, ආරද්ධ වීර්යයෙහි ඇත්තහුගේ සදොර මනාලෙස වසන ලද්දේ වෙත්. තුන් කර්මයෝ සුපරිසුද්ධ වෙති. ආජීව අෂ්ටමක සීලය පිරිසිදු වේ. සබ්‍රහ්මචාරීන්ගේ ඇස්හි ගල්වන ලද අඳුනක් මෙනි. බාහුවෙහි වූ චන්‍දයක් මෙන් මනාප වී සැපසේ වාසය කරයි.
කියන ලද්දේ විය.

යෙච සීලෙන සමපනනා පඤ්ඤායූප සමෙ රතා
උපසනතා සුඛං සෙනති නාසයිත්වාන මක්ඛිකා

(යම් මහණ කෙනෙක් සීල සම්පන්න වෙත්ද, ප්‍රඥාවෙන් කෙලෙස් ව්‍යපසමනය කිරීමෙහි නිරත වෙත්ද, උපශාන්ත වූ ඒ මහණහු කෙලෙස් මැස්සන් නසාපියා සැපසේ වෙසෙත්.)

"මහණෙනි, ශ්‍රමණ සුඛයෝ පස්දෙනෙක් වෙති. මෙහි මහණ තෙම සිවුරෙන් සතුටුවෙයි. පිණ්ඩපාත, සේනාසන, ගිලානපච්චය භෙසජ්ජ පරික්ඛාරයෙන් සතුටු වෙයි. බඹසර ඇලුමෙන් වාසය කරයි. පංචවිධ ධන ධාන්‍ය පිළිගැනීමක් නැති බව නිවැරදි වූ පිණ්ඩය සොයන බව, නිවුන

පිණ්ඩය වළඳන බව, රට පෙලා ධනසාරය හෝ කහවණු ආදිය හෝ ගන්නා වූ රජකුලයන්හි නො ඇලුණු බව, උපකරණයන්හි ඡන්දරාගයක් නොමැති බව, චෞර විලෝපනයන්හි භය නැති බව රාජ රාජ මහාමාත්‍යාදීන් ඇසුරු නොකරන බව, සතර දිසාවන්හි අප්පටිහත භාවය යනුවෙන් අටවැදෑරුම් ශ්‍රමණ සුඛයක් කියන ලද්දාහුය.

හෙතෙම ශාස්තෲන් වහන්සේගේ අදහස ගැනීමට හැක්කේ වෙයි. ශාස්තෲන් වහන්සේ 'මහාවීරයන් වහන්ස, බොහෝ කාලයක් ජීවත් වන්න, මුනීන්ද්‍රයන් වහන්ස, කල්පයක් වැඩසිටින්න යනුවෙන් මෙසේ ගෞතමිය බුදුරදුන් වැන්දකල්හි ගෞතමිය තථාගත වන්දනාව මෙසේ නොවැඳිය යුතුයයි ප්‍රතික්ෂෙප කළ කල්හි ඇයගේ ඉල්ලීම පරිදි තථාගතයන් වඳිනා ආකාරය මෙසේ වදාළහ.

ආරද්ධ විරියෙ පහිතතෙත නිච්චං දළ්හ පරකකමෙ
සමගෙග සාසනෙ පසස එසා බුද්ධාන වන්දනා

'පටන් ගන්නා ලද වීර්ය ඇති, නිවන අරමුණු කළ සිත් ඇතිව නිතර දැඩි වීර්යයෙන් යුතුව සසුනෙහි සාමාගියෙන් යුතුව වෙසේ ද, මෙය බුද්ධ වන්දනාව වශයෙන් දකින්න.'

මෙසේ පටන්ගත් වීර්යය ඇත්තේ බුදුරදුන්ගේ අදහස් ගැනීමට හැකි වෙයි. දුර්ලභ වූ ක්ෂණය නොවලක්වයි. මෙම බුද්ධෝත්පාද කාලය තෙම ධර්ම දේශනා ද සංඝයාගේ මනා ප්‍රතිපත්තිය සඵල වෙයි. වැඩ සහිත වෙයි. ඔහු විසින් වළඳන ලද පිණ්ඩාහාරය ද මහත්ඵල වෙයි. දැන් හික්මෙන ජනයාගේ අදහස් පිළිබඳව දක්ෂ වූ දේශනා විලාසයකට පැමිණියා වූ භාග්‍යවතුන් වහන්සේ විරියාරම්භය අනුව යෙදවීමට ඒ ඒ උපාය දක්වන්නේ න හිනෙන අගගසස යනුවෙන් වදාළහ.

එහි හීනෙන, හීන වූ ප්‍රතිපත්තියෙන් හීන වූ ශ්‍රද්ධාවෙන්, හීන වූ වීර්යයෙන්, හීන වූ සතියෙන්, හීන වූ සමාධියෙන්, හීන වූ ප්‍රඥාවෙන්, අග්‍ර වූ අර්හත් ඵල ප්‍රාප්තිය නොවෙයි. හීන වූ ශ්‍රද්ධාදී ධර්ම ඇති පුද්ගල තෙමේ ලාභ-යස-සුඛ-පසංසා-කුල-ගණ-උපට්ඨාක ආදීන් කෙරෙහි අපේක්ෂා සහිත වී සමථ-විපස්සනා භාවනාවන්ගේ ඇතිබවද නොසලකා ප්‍රාතිමෝක්ෂ සංවර සීලය ද පිරිසිදු කිරීමට නොහැකි වෙයි. ගිහි-සාමණේර

දහර භික්ෂූන් සමඟ ගැටෙන්නේ තිරිසන් කථාවන්ගෙන් දවස ගතකරන්නේද එය නොසලකයි. ඉර පායනතුරු මුලු රාත්‍රිය මකුණන්ට බත් වෙමින් නිදයි. ඔහු රහත් බවට පැමිණීමක් නම් කොයින් ද?

සබ්බරත්තිං සුපිත්වාන දිවා සංගණිකෙ රතො
කදාසුනාම දුම්මෙධො දුක්ඛස්සන්තං කරිස්සති

(මුළු රෑ නිදා දිවා ගණ සංගණිකාවෙහි ඇලුන, බාල වූ මෙවැනි තැනැත්තේ කවර දිනක දුක් කෙළවර කරන්නේ ද?)

අගෙගන බො, උසස් ලෙස ශ්‍රද්ධා ආදී ධර්මයන් යුක්ත වූයේ, අග්‍ර වූ අර්හත් ඵල ප්‍රාප්තියට පත්වන්නේය. බලවත් වූ ශ්‍රද්ධාවෙන් යුත් පුද්ගල තෙමේ වනාහි ප්‍රතිපත්ති දේසකයා කෙරෙහි ද ශාස්තෘන් වහන්සේ කෙරෙහි ද, උන්වහන්සේ විසින් වදාළ සීලාදී ප්‍රතිපත්ති ධර්මයෙහි ද ප්‍රතිපත්ති ඵලයෙහි ද එම ප්‍රතිපත්තින් සතුටින් පිළිගෙන සපුරා අර්හත්වයට පත් ආර්ය සංඝයා කෙරෙහි ද ශ්‍රද්ධාව උපදවා. දුගඳ වූද පිළිකුල් වූ ද කුණපයන් බඳු තම ශරීරයෙහි ද අහිත කැඳවන්නා වූ ජීවිතයෙහි ද අපේක්ෂා රහිත වී ශ්‍රද්ධා ධුරය පරිග්‍රහණය කරන්නේ, වීර්ය හා අධිෂ්ඨානය දැඩිකොට, සීල සංවරය ආදි පූර්වභාග ප්‍රතිපදාවද සමථ විපස්සනා භාවනාවන් ද සම්පාදනය කොට පිළිවෙළින් රහත්බවට පැමිණෙයි.

මණ්ඩපෙය්‍ය මිදං (මෙය ප්‍රසන්නයි පානය කරන්න) පසන්න යන අර්ථයෙන් මණ්ඩ නම් වේ. පිය යුතුය යන අර්ථයෙන් පෙය්‍යං යනු වේ. යමක් පානයකොට, විසංඥ වී අන්තර වීථියෙහි වැටුනේ තම වස්ත්‍ර ආදියට ද හිමිකාරයෙක් නොවේ. එවැනි දෙය මිහිරි වුවද පානය නොකළ යුතුය. මෙම පසන්න බව වූ කලී කෙලෙස් මල අභාවයෙන් ද, තමාගේ ද අනුන්ගේ ද පැහැදීම එළවන බැවින් පසන්න වූයේ ද වෙයි. එය ජාති-ව්‍යාධි-මරණ යන මෙහි අභාවය සිදුකරන බැවින් පියයුතුද වේ. කෙලෙස් දරථ, තණ්හා පිපාසයෙන් පෙළුනා වූ කුලපුත්‍රයන්ට බොනු කැමැත්ත උපදවන්නේ මණ්ඩපෙය්‍ය යයි වදාළහ.

මෙහි ත්‍රිවිධ මණ්ඩයකි. දේසනා මණ්ඩ, පටිග්ගහණ මණ්ඩ, බ්‍රහ්මචරිය මණ්ඩ යනුවෙති. එහි දේසනා මණ්ඩ කවරේද යත්? චතුරාර්ය සත්‍ය ධර්මයන්ගේ ප්‍රකාශ කිරීම දේසනා කිරීම - සතර සතිපට්ඨාන -

පෙ- ආර්ය අෂ්ඨාංගික මාර්ගය ප්‍රකාශ කිරීම, දේශනා කිරීම මේ දේශනා මණ්ඩයයි.

පටිග්ගහණ මණ්ඩය කවරේද යත්? භික්ෂුණීහු උපාසක උපාසිකාවෝ දෙවියෝ, මනුෂ්‍යයෝ දැනගනු කැමති අන් අය යන මොවුහු මේ ප්‍රතිග්‍රහණ මණ්ඩනම් වෙති. බ්‍රහ්මචරිය මණ්ඩය යනු කවරේද යත්? මෙම ආර්ය අෂ්ටාංගික මාර්ගය මැයි. ඒ කවරේද? සම්මාදිට්ඨි -පෙ- සම්මා සමාධි මේ බ්‍රහ්ම චරිය මණ්ඩය යයි එහි මේ අදහසයි. මේ මණ්ඩපෙය්‍ය වූ බ්‍රහ්මචරිය මණ්ඩය පටිග්ගහණ මණ්ඩයට අයත් වූ කෙලෙස් කසට විරහිත වූ කුලපුත්‍රයා විසින් දේසනා මණ්ඩ අනුසාරයෙන් පිළිපැද පැමිණිය යුත්තකි. අවබෝධ කළයුත්තකි යනුයි.

යලිදු අධිමොක්ඛ මණ්ඩය, එනම් සද්ධා ඉන්ද්‍රිය යයි. අස්සද්ධා ඉන්ද්‍රිය කසටයි. මෙම බ්‍රහ්මචර්යාව අසද්ධා ඉන්ද්‍රිය නමැති කසට අතහැර සද්ධා ඉන්ද්‍රිය නමැති අධිමොක්ඛය පානය කරයි. ප්‍රතිලාභය පිණිස පවතී යයි. මණ්ඩපෙය්‍යං යන ආදි නයින් මෙහි අර්ථය දතයුත්තේය. **සත්ථා සම්මුඛීභූතො** මෙය මෙහි හේතු අර්ථයෙහි වචනයකි. යම්හෙයකින් ශාස්තෲන් වහන්සේගේ අභිමුඛයෙහි වෙයිද, එබැවින් වීර්යයෙන් ප්‍රයෝග කොට මේ මණ්ඩය බොන්න. බාහිර වූ බෙහෙත් මණ්ඩයද වෙදහුගේ අසම්මුඛයේ බොන්නහුට පමණ හෝ උඩට ඒම යටට යාම (වමනය හෝ මල මගින් පිටවීම) නොදනිමු යයි සැක ඇත්තේ වෙයි. වෙදා හමුවේදී වෙද තෙමේ දැනගනී යයි නිසැකව බොත්. මෙසේම අපගේ ධර්මස්වාමී ශාස්තෲන් වහන්සේ හමුවෙහි යයි වීර්යකොට බොන්න යයි මණ්ඩ පානයෙහි යොදවන්නේ **තසමාතිහ භිකඛවෙ** යනුවෙන් වදාළහ.

එහි අවඣ්‍යා (වඳ නොවූ) නිෂ්ඵල නොවූ **සඵල** ආනිසංස සහිත **සඋද්‍රයා** වැඩීම් සහිත දාන වශයෙන් දෙන ලද සිවුපසය. **අතතත්ථං** තම අර්ථය පිණිස වූ රහත් බව. **සමපාදෙතුං** සියලු කෘත්‍යය කරන්ට **පරත්ථං** ප්‍රත්‍යදායකයන්ට මහත්ඵල ආදිය. එහි ඉදින් යමෙක් කියයි ද? දැන් තථාගතයන් වහන්සේ පිරිනිවන්පා ඇති හෙයින් සම්මුඛීභූත වීමක් හමුවීමක් නැත. හෙතෙම, එසේ නොකියන්න. ශ්‍රමණභාවය කැමැත්තවුන්ට ද ප්‍රතිපත්තියට ද පටිවෙධයට ද අන්තරා නොකරන්න යයි, කියමින් එය ප්‍රතික්ෂේප කළයුතු වේ. එය ප්‍රතික්‍ෂෙප කොට එය

දැනුම්දීම සඳහා පිරිනිවන් සමයෙහි අනඳ තෙරුන්ට භාග්‍යවතුන් වහන්සේ විසින් කියන ලද වචනය ගෙනහැර දැක්විය යුතුය. තුමහාකං පනා නන්ද, එවමසස අතීත සත්‍ථුකං පාවචන. නත්‍ථි නො සත්‍ථාති. නබො පනානන්ද එවං දට්ඨබ්බං සො වො ආනන්ද, මයා ධම්මො ච විනයො ච දෙසිතො පඤ්ඤත්තො සො ධම්මවචයෙන වො සත්‍ථාති

"ආනන්දයෙනි, පාවචනය (පෙළදහම) පිරිනිවන් පෑ ශාස්තෲහු කෙනෙකුගේ එකකැයි ද, අපගේ ශාස්තෲහු නැතැයි යයි ද, තොපට මෙබඳු සිතක් ඇතිවිය හැක්කේමය. ආනන්දයෙනි, එය එසේ දැක්කයුතු නොවෙයි. අනඳයෙනි, මා විසින් යම් ධර්මයකුත් විනයකුත් දේසනා කරන ලද්දේ ද, පණවන ලද්දේ ද, එය මා ඇවෑමෙන් තොපට ශාස්තෲ වෙයි."

එහි අදහස මෙසේය. දැන් මම තොපට හුදෙකලාව අනුශාසනා කරමි. මා පිරිනිවන් පෑවායින් පසු අසූසාර දහසක් ධර්ම ස්කන්ධයෝ ශාස්තෲන් වහන්සේගේ කාර්ය සිද්ධ කරමින් තොපට අනුශාසනා කෙරෙත්. මගේ අවවාදය ද එයමයි. අසූසාර දහසක් ධර්මස්කන්ධයන්ගෙන් වෙන්වූ මගේ අවවාදයෙක් නැත.

**දසබල සූත්‍ර වර්ණනාව නිමි.**

**සුත්ත සංගහට්ඨකථා සිංහල අනුවාදය නිමි.**



THE BO-TREE AT ANARAJAPOORA.

ටෙනන්ට් 1859

භදන්ත බුද්ධඝොෂාචාර්යපාදයන් අනුරාධපුර
ශ්‍රී මහා බෝධිය අසල ප්‍රදේශයෙහි වැඩවසමින්
සිහලට්ඨකථා පාලියට පරිවර්තනය කළ බව
බොහෝදෙනාගේ විශ්වාසයයි



බෞද්ධ සංස්කෘතික මධ්‍යස්ථානය
125, ඇන්ඩර්සන් පාර, නැදිමාල, දෙහිවල.
දුරකථන: 2734256, 2728468, 2726234 ෆැක්ස්: 2736737
විද්‍යුත් තැපැල: bcc456@sltnet.lk, info@buddhistcc.com
www.buddhistcc.com

ISBN 978-